# බල පිරමිඩය සහ ධර්ම චක්‍රය



ඒ. ටී. ආරියරත්න

# පිළිගැන්වීම

අවුරුදු විසි අටක කාලයක් තිස්සේ

සර්වෝදය මග යෑමට මට

අතත් හිතත් හදවතත් දුන් මගේ බිරින්දෑ

**නීතා ධම්මචාරී**

සහ

ඒ මඟම යෑමට දිවි හැඩ ගසාගන්නා

**සාමියා චාරිකා**

**වින්යා ශාන්තිදාස්**

**ජීවන් ධම්මික**

**සදීවා සාමදීපා**

**දියත් සමන්ත**

සහ

**නිම්නා හයන්ති**

යන

මගේ දූ පුතුන් වෙත

ඔවුන් කළ කැප වීමට ප්‍රණාමයක් වශයෙන්

මේ පොත පිළිගැන්වේ.

# පෙරවදන

බල පිරිමිඩය හා ධර්ම චක්‍රය පොතේ පළමුමුද්‍රණය 1988 සැප්තැම්බර් මාසයේදී එළිදැක්වීමි. මේ එහි දෙවැනි මුද්‍රණයයි. එදත් අදත් අතර අවුරුදු 26 ක් ගතවී ඇතත් එහි සඳහන් කරුණු අදත් ශ්‍රී ලාංකික පාඨකයාට වැදගත් වේයැයි සිතන නිසා මෙසේ දෙවන මුද්‍රණයක් ළඟ එන ජනාධිපතිවරණයට දෙසතියකට පෙර හෝ එළිදැක්වීමට හැකි වීම ගැන සතුටු වෙමි.

පළමුවන මුද්‍රණයට මා ලියූ පෙරවදනෙහි මුල් ඡේද දෙක මෙසේය.

ශ්‍රාස්තීය සංග්‍රහයක් ලිවීමට තරම් තව ම මට විවේකයක් ලැබී නැත. එහෙත් විවේකයක් ලැබෙන තුරු නොලියා සිටින්නට තරම් ඉවසීමෙක් ද නැත. ඒ නිසා ශාස්ත්‍රීය කෘතියක් හැටියට නො ව රට-දැය-සමය ගැන වේදනා වක් ඇතියනට කරන ආමන්ත්‍රණයක් හැටියට මේ පොත ලිවීමට අදහස් කළෙමි.

මගේ හිතට ආ අදහස් මම ශබ්දයට නැගුවෙමි. පුෂ්පා වඩිමුණ නංගී හා කාංචන මාලා නංගී ඒවා ලියාගෙන දිවා රෑ නොබලා යතුරුලියනයෙන් පිටපත් කළ හ. මා කුරුටු ගා දුන් චිත්‍ර තේරුමක් ඇති විදියට චන්ද්‍රලාල් මල්ලී ඇඳ දුන්නේ ය. මෙය පාඨකයා අතට පත් කිරීමෙන් ප්‍රයෝජන යෙක් වේ දැයි මහාචාර්ය එදිරිවීර සරත්චන්ද්‍රයනට, ගුණදාස ලියනගේ ශූරීනට සහ මහාකවි අරීසෙන් අහුබුදු වනට අත්පිටපත් දී විමසීමි. ඔවුන් එහි වරදක් නැතැයි පළ කළ අතර, මහාචාර්ය එදිරිවීර සරත්චන්ද්‍රයෝ හැඳින්වීමක් ලියා දීමට තරම් කරුණාවන්ත වූහ."

මෙහි පළවන පසුවදන පමණක් අළුතෙන් එකතු කරන ලදී. එය සම්පාදනය කළේ ආචාර්ය සාමියා චාරිකා මාරසිංහ දියණියන් විසිනි.අපේ පරම්පරාව කෙසේ වෙතත් දෙවැනි, තුන්වැනි පරම්පරා වලදීවත් මෙහි එන සමාජීය, ආර්ථික හා දේශපාලනික වෙනස්කම් අපේ අනාගත පරම්පරාවන් ධර්මදීප, ධාන්‍යාගාර අරමුණට යොමුවීමට මාර්ගෝපදේශනයක් වේවායි මම ප්‍රාර්ථනා කරමි.

මෙහි දෙවැනි මුද්‍රණය සතියකින් පමණ කෙටි කාලයකින් එළිදැක්වීමේ අභියෝගය භාරගත් අපේ විශ්වලේඛා මුද්‍රණාලයේ අධිපති, හේමන්ත ගමගේ මල්ලීට හා ඔහුගේ කාර්ය මණ්ඩලයට විශේෂ ස්තුතියක් පිරිනමමි.

සෝදුපත් කියවීමෙන් උදව් කළ භද්‍රා රොද්‍රිගු සහ වින්සිකා ද සේරම් යන අයටත් මේ පිංකමට දායක වූ අන් සැමටත් ස්තුතිය පුද කර සිටිමි.

**ඒ. ටී. ආරියරත්න**

''විශ්ව සමාධි''
සර්වෝදය මූලස්ථානය, මොරටුව.
2014 දෙසැම්බර් 20

# පටුන

# හැඳින්වීම

අද දවසේ අපේ රට පෙර නුවූ විරූ අභාග්‍යසම්පන්න දසාවකට භාජනය වී ඇති බව කවුරුත් පොදුවේ පිළිගන්නා කරුණක් යැයි සිතමි. මෙසේ ප්‍රකාශ කළ විගසම ඒ තතු නොපිළිගන්නා ජන කොට්ඨාශයකුත් සිටිය හැකි බව මට සිහිවේ. ජනගහනයෙන් ඉතා සුළු සංඛ්‍යාවක් වන මොවුන්, බහුතර ජනතාවගේ අභාග්‍යය තමන්ගේ භාග්‍යය වී ඇති බව සලකන්නාහු සත්‍යයට මුහුණ දීම තමන්ගේ අවාසියට හේතු වන බැවින් එය නොපිළිගත්තාහු වෙති.

එය කෙසේ වෙතත්, ආත්මාර්ථය පමණක් නොසලකා බහුතර ජනතාව ගැනත් සිය රටේ අනාගතය ගැනත් සිතන මානව හිතවාදී දේශප්‍රේමී ස්වල්ප දෙනෙකු හෝ සිටින බව දැනගැනීම අස් වැසීමට කාරණාවකි. ඒ ස්වල්ප දෙනා, අවට පැතිරෙන ගණ අඳුරේ කණාමැදිරි එළියකට සමාන විය හැකිය. එහෙත් ඒ මද එළියෙන් අපට යම් පමණක හෝ හසරක් පෙනේ නම්, අඳුර පවත්නා තෙක් මංමුළා නොවී යා හැකිය.

සර්වෝදය ශ්‍රමදාන ව්‍යාපාරයේ පරමාදර්ශය එහි නායකතුමා විසින් පළමු වරට සවිස්තරව ජනතාවට පෙන්වා දෙන ග්‍රන්ථය මෙයයි හඟිමි. සර්වෝදය ගැන නොයෙක් දුර්මත රටේ පැතිරී ඇති බව මම දනිමි. මේ දුර්මත වලට පිටුපස ඇත්තේ අවංක චේතනාවකැයි කීම උගහටය. බොහෝ දෙනා සත්‍යය සෙවීමට වෙහෙස නොවී යම් දෙයක් තම කනට වැටුණේ ද එය අදහා පුනරුච්චාරණය කරති. ඒ දෙය යම් පුද්ගලයෙකුගේ චරිතයට හානි වන්නක් නම්, නැතහොත් යම් ආයතනයක දෝෂයක් නම් ඔවුහු වඩාත් සතුටින් එය වෙනත් අයට කියති.

අවුරුදු කිහිපයක් මුළුල්ලේ කවර පුරුෂාර්ථ අනුගමනය කරමින්, කවර අර්ථ සිද්ධියක් අපේක්ෂා කරමින් තමා මේ ව්‍යාපාරය අරඹා වර්ධනය කළේද යනු ආචාර්ය්‍ය ආරියරත්න මේ කෘතියෙහි පහදා දෙයි. ඒ පුරුෂාර්ථ වනාහි තථාගත දේශන යෙහි උත්තම මංගල්‍ය ලෙස හඳුන්වා ඇති වූත්, අපේ දේශීය සංස්කෘතියේ මූලස්තම්භ වූත්, ශත වර්ෂ ගණනක් ලාංකික ජනතාව විසින් රැකගෙන එන්නාවූත් ඇගයීම් මාලාව මිස අන් කිසිවක් නොවේ. පරාර්ථචර්‍ය්‍යාව, මෛත්‍රිය, කරුණාව, දානය, අහිංසාව, සමානාත්මතාව, අනතිමානය, ඍජු බව (වංචාවෙන් තොර වීම), ප්‍රිය වචනය, බහුශ්‍රැතභාවය මේ ආදිය බෞද්ධ පමණක් නොව හින්දු, මුස්ලිම්, ක්‍රිස්තියානි වැනි උසස් ආගම ධර්මයන්හි අගය කොට සලකනු ලබන පුරුෂාර්ථය, සර්වෝදය ශ්‍රමදාන ව්‍යාපාරය ද මේ පුරුෂාර්ථ මත පිහිටුවා ඇති බව මේ පොතේ පසක් කොට පැහැදිලි වනු ඇත.

සර්වෝදය ව්‍යාපාරය විසින් සිද්ධ කිරීමට අපේක්ෂා කරනු ලබන පරමාර්ථය පූර්ණ සමාජවාදය බව ආචාර්ය්‍ය ආරියරත්න ඉඳුරාම පවසයි. ධනවාදී සමාජ ක්‍රමයෙහි පුද්ගලයාට සම්පූර්ණ ස්වාධීනත්වය නොලැබේ. එහි පුද්ගලයා වෙනත් පුද්ගලයෙකු තමාගේ වාසිය සඳහා යොදා ගන්නා ආයුධයක් වේ. එහෙත් සමාජවාදයේ ද විවිධ මුහුණුවර තිබේ. එහි පුද්ගලයා විශාල යන්ත්‍රයක අංගයක්

බවට පත් විය හැකිය. මේ බව ආරියරත්න මහතා නොදන්නේ නොවේ. ඔහු කියන්නේ මානුෂික මුහුණුවර ඇති සමාජවාදය ගැනය.

සමාජවාදී සමාජයක් පිහිටුවීමට නොයෙක් මාර්ග තිබේ. කාල් මාක්ස්, ලෙනින් ආදී චින්තකයන් පෙන්වා දුන්නේ විප්ලවීය මාර්ගය යි. බලය හා ධනය උරුමයෙන් හෝ බලයෙන් ලබාගෙන භුක්ති විඳින පන්තිය එය පහසුවෙන් අත් නොහරින බවත්, ඒවා ඔවුන්ගෙන් පැහැර ගත හැක්කේ බලයෙන් බවත් යථෝක්ත චින්තකයෝ පවසති. විප්ලවය අවශ්‍ය වනුයේ ඒ හෙයිනැයි ඔවුහු තර්ක කරති. එහෙත් මහත්මා ගාන්ධි, විනොබා භාවේ වැනි භාරතීය ජන නායකයන්ගේ සෙවනෙහි වැඩුණු ආරියරත්න මහතාට එවැනි හිංසාකාරී මාර්ගයක් රුචි නොවේ. කවර යහපතක් සිද්ධ කිරීමට වත් ප්‍රාණඝාතය, හිංසාව අනුමත කළ නොහැකි බව ඔහු විශ්වාස කරයි. තවද මනුෂ්‍යයා සහජයෙන් දුෂ්ඨ යයි ඔහු නො අදහයි. මනුෂ්‍යයාගේ සිත තුළ දයාව, අනුකම්පාව වැනි සත් ගුණ නෛසර්ගිකව පිහිටා ඇත. අයුක්තිය පෙන්වා දුන් විට කල් යාමෙන් හෝ ඔහු එය පිළිගෙන ඊට අවනත වේ. මනුෂ්‍යයා කෙරෙහි මෙබඳු භක්තියකින්ය ආචාර්ය ආරියරත්න පසුගිය අවුරුදු තිහ මුළුල්ලේ තම සර්වෝදය ව්‍යාපාරය ගෙන ගියේ. එය දීර්ඝ ගමනකි. ක්ෂණික ප්‍රතිඵල එහි නොලැබේ. එහෙත් කල් ගොස් හෝ ලැබෙන ප්‍රතිඵල ස්ථාවරය.

අනාගතය පිළිබඳ සිහින දකින, පරමාර්ථ ගවේෂී පුද්ගලයෝ ස්වල්ප දෙනෙක් හැම යුගයකම පහළ වෙති. ශිෂ්ඨාචාරයෙහි ආරම්භයෙහි පටන් මානව ප්‍රගතිය සිදු වූයේ එබඳු පුද්ගලයන් ගේ සිහින සැබෑ වීමෙන්ය. ඒ.ටී. ආරියරත්න ඒ ස්වල්ප දෙනාගෙන් එක්කෙනෙකි.

**මහාචාර්ය එදිරිවීර සරච්චන්ද්‍ර**

# 1

## මේ පොත ලීවේ ඇයි ?

අවුරුදු 30කට පෙර සර්වෝදය ශ්‍රමදාන ව්‍යාපාරය කොළඹ නාලන්දා විද්‍යාලයයෙන් ආරම්භ වෙද්දී රටේ සියලු ම ප්‍රශ්නවලට අප ළඟ විසඳුමක් ඇතැ යි අපි නොකීවෙමු. විසඳුමක් නොතිබුණ නිසා ම අන් අයට ද රට හැදිය යුත්තේ කෙසේ දැ යි අපි උපදෙස් නොදුන්නෙමු. එහෙත් එක් අතෙකින් අපි අප ගේ ම චිත්තාභ්‍යන්තරයටත් අනික් අතින් අපේ ගම්වල ජීවත්වන සිංහල, දෙමළ, මුස්ලිම් ආදී ගම්වාසීන් ගේ චිත්තාභ්‍යන්තරයටත් සර්වෝදය ශ්‍රමදානය තුළින් ළංවීමු. එහි ප්‍රතිඵලයක් වශයෙන් දශක තුනක් ඇතුළත දී අපේ ම දේශීය චින්තනය පෙරදැරි කැරගෙන ශ්‍රී ලංකා ද්වීපයේ වාසය කරන සමස්ත ජනතාව ම ජාතිය හැටියට සලකා ඔවුනුත් රටත් විමුක්තිය සඳහා යා යුතු මාර්ගයත් ඒමාර්ගයේ ප්‍රායෝගික ව ගමන් කළයුතු ආකාරයත් සොයාගැනීමට මහන්සි වීමු. එම ව්‍යවහාරික චින්තනය සහ ප්‍රායෝගික ක්‍රියාමාර්ගය යි සැකෙවින් මේ පොතින් මා පාඨකයා ඉදිරියේ තබන්නේ.

සර්වෝදය සැලැසුමක් අනුව, ගම් අට දහසෙක ක්‍රියාත්මක වෙයි. ලක්ෂ තිහක් පමණ සාමාන්‍ය ජනතාව විවිධ අන්දමින් එයට සහභාගී වෙති. දස දහස් ගණනක් තරුණ තරුණියෝ පූර්ණකාලීන ව එහි විවිධ වැඩ සටහන් වල යෙදෙති. ගැමි මට්ටමින් සංවිධානය වූ ගැමි ජනතාව ඔවුන් ගේ ජීවන තත්ත්වය ස්වශක්තියෙන් හා සාමූහිකත්වයෙන් නගා සිටුවීම සඳහා නොයෙක් මාදිලියේ ආර්ථික සහ සාමාජික ව්‍යාපෘති දහස් ගණනක් ක්‍රියාත්මක කරති. සංවර්ධනය, සුභසාධනය, සහන සේවා, පුනරුත්ථාපනය, ආර්ථික ව්‍යවසාය, නීතිසහන සේවා, කාන්තා සංසදය, සිඟිති සේවා, සුවසෙත, ශාන්ති සේනා, ප්‍රජාපාදිත සුවසේවා, සාම කටයුතු ආදී නම්වලින් හැඳින්වෙන විවිධ කාර්යයන් සඳහා කැප වුණු සංවර්ධන අධ්‍යාපන ආයතන වැනි භෞතික ව්‍යුහයන් ඇති ස්ථාන සිය ගණනක් දැනට සර්වෝදයෙන් පාලනය වේ. මේ සියල්ල ම සමස්තයක් හැටියට ගෙන එ ම ක්‍රියාදාමයන් විස්තර කිරීම මෙම ග්‍රන්ථයේ පරමාර්ථය නො වේ.

**එසේ නම් මේ පොත ලිවීමේ පරමාර්ථය කිමෙක් ද ?**

වත්මන් ශ්‍රී ලංකාව වැටී ඇති දුර්භාග්‍ය සම්පන්න තත්ත්වය හමුවේ හැමදෙනා ම වාගේ අසරණ වී සිටිති. පැවැතුණ ආණ්ඩුව කෙරෙහි විශ්වාසය කඩ වීම නිසා වත්මන් ආණ්ඩුව ජනතාව විසින් බලයට පත් කරනු ලැබී ය. නීතියේ බලය වෙනුවට බලයේ නීතිය ක්‍රියාත්මක කරන තත්ත්වයට මේ රජය ද අසරණ වී තිබේ. එහෙත් නීතියේ බලය හා බලයේ නීතිය යන දෙක ම ක්‍රියාවට නො නැගිය හැකි තත්ත්වයකට ඉන්දියන් රජය සහ ඉන්දීය හමුදා ඉදිරියෙහි උතුරු නැගෙනහිර පළාත්වල රජය අසරණ වී සිටිති. කැමැත්තෙන් හෝ අකමැත්තෙන් හෝ දැනුවත්ව හෝ නොදැනුවත්ව හෝ තමන් ද ත්‍රස්තවාදය උත්පාදනය කිරීමට හවුල් වූ පිරිසක් බව ආණ්ඩු කැරුවු සහ ආණ්ඩු කරවන අයට අවබෝධ කැරගැනීමට තරම් නිහතමානී කමක් මෙතෙක් ඇති වී නැති නිසා දෝ විශේෂ සන්නද්ධ කණ්ඩායම්

වල ආධාරය නැති ව මහජනයා ඉදිරියට යෑමට නොහැකි තත්ත්වයකට ආණ්ඩුව කරවන්නෝ සහ කරවන්නට බලාපොරොත්තු වන ඇත්තෝ අසරණ ව සිටිති. මෙය අභාග්‍ය සම්පන්න තත්ත්වයෙකි.

රටෙක රජයක් අසරණ වූ විට ජනතාව ද අසරණ වේ. වෙඩි උණ්ඩ, බෝම්බ සහ බලයේ නීතිය හමුවේ අසරණ වූ පොදු ජනතාව ගේ පූර්වතා අවශ්‍යතාව වී තිබෙන්නේ ආහාර, ඇඳුම්-පැළඳුම්, නිවාස හෝ අධ්‍යාපනය හෝ නායකයන් ගේ "බණ දෙසුම්" හෝ නො වේ. ඔවුන් ඉල්ලන්නේ මූලික ජීවිත ආරක්ෂාව යි. විකල්පීය ව රජයක් පිහිටුවීමට ප්‍රජාතාන්ත්‍රික අයිතියක් ලබාගෙන සිටින එහෙත් තවම බලයේ නොමැති දේශපාලන නායකයන්ගේ තත්ත්වය කිමෙක් ද? බලයේ නීතිය ඉදිරියේ ඔවුහු ද අසරණ ව අක්‍රිය ව සිටිති. පෞද්ගලික ආරක්ෂාවට සන්නද්ධ කණ්ඩායම් හදති. රජයත් ජනතාවත් අසරණ බවට පත් කළ සියලු ම වර්ගයේ පක්ෂ දේශපාලකයන් මෙ සේ අසරණ වීම ඉතිහාසය විසින් ඔවුනට එල්ල කරන ලද සරදමෙක් නොවේ ද ?

නිදහසින් පසු ගත වූ අවුරුදු 40 ක කාල පරිච්ඡේදයක් තුළ දී ආධ්‍යාත්මික සහ ආර්ථික විමුක්තියක ආලෝක ධාරාවන් වෙනුවට වහල් චින්තනයෙක සහ පීඩනයෙක අඳුරු වලාකුළු දකින තරුණ පෙළ ද යථෝක්ත නායකයන් ගේ අදූරදර්ශී චින්තන සහ ක්‍රියාමාර්ග තුළින් අපේක්ෂා භංගත්වයට සහ අසරණභාවයට පත් වූහ. යොවුන් පරම්පරා තුනක් නිර්මාණාත්මක ජාතික ක්‍රියාමාර්ගයකට දාර්ශනිකව, තාක්ෂණිකව සහ ව්‍යුහාත්මකව යොමු නො කොට රැවිටිලි මාලාවකට යටත් කරනු ලැබීම නිසා ඔවුන් ගේ අසරණභාවය පරිවර්තනය වී තිබෙන්නේ සරණක් සොයා යන විනාශකාරී හිංසාවාදී ප්‍රතික්‍රියාවක් දෙසට ය. අද එය ඉතා සාර්ථක ව රටපුරාම දියත් වී තිබේ.

මේ තත්ත්වයට වගකිවයුත්තෝ කවුරු ද? සිංහල බෞද්ධයන් යැ යි ඒත්තු ගැන්වූවන් ගේ දේශද්‍රෝහී ප්‍රචාරයන් ගෙන් මුළාවූ උතුරේ සහ නැගෙනහිර තරුණයන් සිංහල විරෝධී ජාතිවාදයක් තුළින් අවි ආයුධ අතට ගෙන තවමත් කරගෙන යන විනාශය ප්‍රතික්‍රියාවක් විස ක්‍රියාවෙක් නො වේ. එහෙත් පවතින අසාධාරණ ස්වභාවයට අසාධාරණ මාර්ගවලින් ම ප්‍රතික්‍රියා සිදුවීම පුදුමයට කරුණෙක් නො වේ. එහි පළමු වන සරණාගතයා රජයවීම ද පුදුමයෙක් නොවේ. රාජ්‍ය තන්ත්‍රය ප්‍රතික්‍රියාවන් ගෙන වැළැකී නිර්මාණාත්මක ක්‍රියාවන්හි යෙදෙන්නේ නම් තරුණ පෙළ ද ප්‍රතික්‍රියාවන් ගෙන් වැළැකී වැඩදායී ක්‍රියාවල යෙදෙනු ඇත. හිංසාවේ හා අසාධාරණයේ විෂම චක්‍රය බිඳිය හැක්කේ සාධාරණයේ හා අහිංසාවේ ධර්ම චක්‍රය පෙරළීමෙනි.

සර්වෝදය ප්‍රතික්‍රියාවක් නොවන බව ආරම්භයේදීම අපි අවධාරණය කරමු. සර්වෝදය ක්‍රියාවෙකි. සමස්ත ජීව ලෝකය දෙස සානුකම්පිකව බලා ප්‍රබලම දේශීය චින්තනය වූ සිංහල බෞද්ධ චින්තනය තුළින් ශ්‍රී ලාංකික ජනතාවට ම සමානත්වයෙන් සහභාගී විය හැකි සේ සිතිවිලි, වදන් සහ ක්‍රියාකාරකම් ප්‍රවේශයක්

අඛණ්ඩව මුදාහළ ජනතා ක්‍රියාදාමයෙකි, සර්වෝදය.

ප්‍රතික්‍රියාවකට වඩා ක්‍රියාවක් තුළ තිබෙන නිරවද්‍යභාවය සර්වෝදය තුළින් අද ප්‍රත්‍යක්ෂ වී තිබේ. අසරණ වී පවතින රජයටත්, විකල්පීය වශයෙන් රජ වන්නට හදන දේශපාලන පක්ෂවලටත්, අසරණ වී සිටින සටන්කාමී තරුණ කණ්ඩායම්වලටත්, මේ සියල්ලට ම මැදි වී සැකෙන් බියෙන් සිටින අසරණ ජනතාවටත් අප ආයාචනය කරන්නේ සාමය, සාධාරණත්වය සහ සංවර්ධනය දෙසට නොවහල්ව ජාතිය ගමන් කැරවීමට තිස් වසරක් තුළ දී සර්වෝදය ගිය මඟ පූර්ව විනිශ්චයෙකින් තොරව අවබෝධ කැරගන්නා ලෙස ය. සමහර විට ඔබ හැම දෙනාමත් මේ ජාතියත් මේ විනාශකාරී මුඛයෙන් බේරා ගැනීමට සර්වෝදය මගෙහි යම් පිළිසරණක් සොයා ගෙන තිබෙන්නට පුළුවන. සර්වෝදයට මෙය තනිව ම කළ හැකි යැ යි අපි නො කියමු. සර්වෝදයත් ඔබත් එකතු වී මෙය කළ හැකි බව අපි කියමු. මේ නිසා මේ පොත මා ලීවේ සර්වෝදය සමඟ වැඩ කරන ජනතාව ගේ වුවමනාවට වඩා සර්වෝදයෙන් බාහිර ව සිටින අය ගේ සිත් සර්වෝදය දෙසට විචාර බුද්ධියෙන් යොමු කැරැවීමට ය.

සර්වෝදය කිසි විටකත් විනාශකාරී විවේචනවලට පිළිතුරු දීමට කාලය හෝ ශ්‍රමය නාස්ති කළේ නැත. මේ රටේ ප්‍රගතිශීලීන් යැ යි හඳුන්වාගත් සමහරු පුන-පුනා සර්වෝදයට සී.අයි.ඒ. ව්‍යාපාරයක් යැයි නම් පට බැන්දෝ ය. අප ඔවුනට පිළිතුරු දුන්නේ නැත. හේතුව අප ක්‍රියාවෙක යෙදෙනවුන් මිස ප්‍රතික්‍රියාවක යෙදෙනවුන් නොවන නිසා ය. හැරත් පුද්ගලයකු ගැන හෝ සංවිධානයක් ගැන හෝ යෝනිසෝ මනසිකාරයෙන් කරුණු නො සොයා බලා ද්වේශය, ඊර්ෂ්‍යාව හෝ නොදැනුවත්කම නිසා විනාශකාරී විවේචනවල යෙදෙනවුනට කළ යුත්තේ අනුකම්පා කොට ඔවුන් අඩුපාඩුකම්වලින් මුදවාගැනීමට උදව් වීම මිස ප්‍රතිවිවේචනය කිරීම නොවේ. හැරත් කාලය විසින් ඔවුනට පිළිතුරු දෙනු ලැබේ. ජාතික නිදහස පාවා දෙන්නටත්, දේශීය සහ විදේශීය ධනේශ්වර ක්‍රමය සහ යටත්විජිතවාදය සමඟ අත්වැල් බැඳගෙන පෑගුණු ජනතාව තවත් පෑගීමට ලක් කරන්නටත්, ප්‍රජාතන්ත්‍රවාදී නිදහස් සහ අයිතිවාසිකම් වළලන්නටත් සර්වෝදය කවරදා වත් හවුල් නො වී ය. එහෙත් සර්වෝදයට චෝදනා කළවුන් දැන් දැන් හැසිරෙන ආකාරය දකින මහජනයා 'සී.අයි.ඒ.' කාරයෝ පමණක් නොව 'කේ.ජී.බී.' කාරයෝ ද කවුරු දැයි දැන් හොඳින් හඳුනති. එහෙත් සාපරාධී ලෙස සර්වෝදය විවේචනයට ලක් කළ, අපේ සේවාවනට අවහිර කළ, ඔවුන් දෙස ද අප බලන්නේ සානුකම්පික ව උපෙක්ෂාසහගතව බව සඳහන් කරනු කැමැත්තෙමු. අපි කවරදා වත් අපේ දොරවල් ඔවුන් ඉදිරියේ නො වැසුවෙමු. තවමත් අපේ දොරවල් ඔවුනට විවෘත ය.

සර්වෝදය අරගලය පුද්ගලයන්ට හෝ කණ්ඩායම්වලට හෝ එරෙහි ව කරන අරගලයෙක් නොවේ. එය ඔවුන් තණ්හාවෙන් ද්වේෂයෙන් මුළාවෙන් බැඳ තබා තිබෙන සංස්ථායී ස්වභාවයත්, තාක්ෂණ විධි හා පරාධීන අදහස් මාලාවන් නිසා ඔවුන් ගෙන් සමාජයට සිදු වන සාවද්‍ය ක්‍රියාදාමයන් මෙන්ම ඔවුන් ද වෙනස් කිරීමට දරන ප්‍රයත්නයෙකි. කරන්නන් හා ක්‍රියාවන් අතර කිට්ටු සබැඳියාවක්

තිබෙන නමුත් විශාල වෙනසක් ද තිබේ. කරන්නා කෙරෙහි උපේක්ෂාසහගත වන අතර ඔවුන් කරන විෂම ක්‍රියාවනට හේතු වූ සාධක පමණක් වෙනස් කිරීමට තැත් කිරීම සර්වෝදය ප්‍රතිපත්තිය යි. වැරදි කරන්නාත් ඔහු ගේ වැරදි ක්‍රියා නිසා දුකට බියට සොවට පත් වන අයත් යන දෙ පාර්ශවයම මුදාගත යුතු ය. වැරැද්දට හරස් නො වී වැරැදි කරන්නාට වෛර කිරීමෙන් වැරැදි නොකරන්නන් තුළට ද වෛරයේ, හිංසාවේ, පළිගැනීමේ, විනාශයේ බීජ ඇතුළු වේ. ප්‍රශ්නය විසඳෙනු වෙනුවට එයින් වන්නේ විෂම චක්‍රයට ඔවුන් අසුව වඩාත් වේගවත්ව ක්‍රියාත්මක වීම යි. අද අප සමාජයට සිදු වී තිබෙන්නේ මේ ව්‍යසනය යි.

සර්වෝදය ක්‍රමය අහිංසාවාදී ක්‍රමයෙකි. සැබෑ ප්‍රජාතන්ත්‍රවාදය ද ජන සහභාගිත්වය ස්ථිර කරන අහිංසාවාදී ජනතා පාලන ක්‍රමයකි. ක්‍රමය කෙතරම් හොඳ වුවත් එය මෙහෙයවන පිරිස ගුණාත්මක බවින් පිරිහී ධර්ම නීතිය උල්ලංඝනය කොට කටයුතු කරත් නම් වැඩි කල් නොගොස් එම ක්‍රමය ද කිළිටි වේ. එහි නෛසර්ගික වටිනාකම් අමතක වී යාන්ත්‍රික ස්වභාවයක් ගනී. 1948 ත් අදත් අතර සිදුවූයේ ප්‍රජාතන්ත්‍රවාදය නමැති ශ්‍රේෂ්ඨ පාලන ක්‍රමය ක්‍රියාත්මක කිරීමට ජනතාව විසින් බලය පවරනු ලැබූ පාලකයන් සිත් පිත් නැති යන්ත්‍ර බවට පිරිහීම නිසා ප්‍රජාතන්ත්‍රවාදය පක්ෂ තන්ත්‍රවාදයකටත්, ඥාති තන්ත්‍රවාදයකටත්, ප්‍රෝඩා තන්ත්‍රවාදයකටත් පෙරළීමෙකි. ප්‍රජාතන්ත්‍රවාදය, සමාජවාදය, ධර්මිෂ්ඨ සමාජය යන වචන තිත්ත වන තරමට අද මහජනයාට එපා වී තිබේ. මහජනයාගේම වේගාත්මක ජන කොට්ඨාශය වූත් බහුතරය වූත් තරුණ පරම්පරාව විසින් ප්‍රතික්ෂේප කරන්නේ ප්‍රජාතන්ත්‍රවාදය හෝ සමාජවාදය හෝ ධර්මිෂ්ඨකම හෝ නො වේ. ඔවුන් විසින් ප්‍රතික්ෂේප කරන්නේ ව්‍යාජත්වය යි.

ධනේශ්වර යටත්විජිතවාදී ආර්ථික-දේශපාලන ක්‍රම උද්දීපනය කොට අපරදිග තාර්කික මනසෙකින් සිතා එ ම ක්‍රමවල නිවැරදි සර්ව සාධාරණ බව ඉස්මතු කරන සමහර ලාංකික උගතුන් වත්මන් තරුණ අරගලය දෙස බලන්නේ වපර ඇසෙකිනි. අධ්‍යාපන අවස්ථා නැති වීම, රැකියා විරහිතය, අදිසි බලවේගයන් විසින් ඔවුන් නොමඟ ට හැරවීම, දස වසරකින් ඡන්දය පාවිච්චි කිරීමට අවස්ථාවක් නොමැතිවීම, විවෘත ආර්ථිකය ආදී විවිධ හේතූන් ඔව්හු ගෙනහැර දක්වති. මේ සියල්ලම මේ තත්ත්වයට හේතු භූතවන්නට ඇත. එහෙත් ඒ සියල්ල අභිබවා යන මූලික හේතුව ඔවුනට අවබෝධ වී ඇති බවෙක් නොපෙනේ. මේ තරුණ තරුණියන් ගේ පෞද්ගලික පෞරුෂ ඔවුන් ජීවත් වන ගමේ රටේ සමස්ත සාමූහික පෞරුෂයන් ගෙන් වෙන් කළ නොහැකි සජීවී කොටස් ය යන හැඟීම ඔවුන්ගේ විඥානයට ඇතුළු කිරීමට පාලක පන්තියට නොහැකි වී ඇත.

මේ නිසා ඔවුහු ඔවුන් ගේ පෞද්ගලික පෞරුෂයෙනුත් ඔවුන්ගේ පවුල් පෞරුෂයෙනුත් ජාතියේ පෞරුෂයෙනුත් වෙන් වී ඒවා අබියස පිටස්තර අමුත්තෝ වූ හ. මේ පරාරෝපණය (දුරස්ථවීම) නිසා පෙනෙන දේ වැනැසීම හැර නොපෙනෙන දෙයක් නිර්මාණය කිරීමට ඔවුන්ට වත්මන් සමාජයෙන් ඉඩක් දී නැත.

හිංසාවාදයට බට වත්මන් උතුරේ සහ දකුණේ තරුණ පිරිස් කරන ක්‍රියාවන් අප විසින් අනුමත කරන බව මෙයින් අදහස් නො කරමු. ඔවුන්ට වෙන කරන්නට දෙයක් පාලකයන් විසින් ඉතිරි කර නොමැති බැව් පමණක් අවධාරණය කරමු. අප මේ අදහස ඉදිරිපත් කරන්නේ සර්වෝදය අත්දැකීම් මත පිහිටා ය.

අහිංසාවාදී ක්‍රමයකින් සමාජ විප්ලවයක් කිරීමට කටයුතු කළ, කරන විශාලම අවි නොගත් තරුණ පෙළක් සිටින සංවිධානය සර්වෝදයය යි. අපේ අහිංසාව නිසා ම සටන්කාමී තරුණ කණ්ඩායම් සමහර විට අප ද වැරැදි සමාජ ක්‍රමයකට ආ වඩන 'ප්‍රතිගාමී' පිරිසක් හැටියට, විශේෂයෙන් අප කලින් සඳහන් කළ විදෙස් ගැතියන්ගේ ප්‍රචාරයන් නිසා, හැඳින්වූහ. පාලකයන් ගන්නා හැම පියවරක් ම අප අනුමත නොකළ නිසා පාලකයෝ ද මේ අවුරුදු තිහේ කිසි ම අවස්ථාවක දී අවංකව අපට සහාය නොදුන් හ. බලවේග දෙකකට මැදි වූ සර්වෝදයට තිබුණු එකම පිහිට "ධම්මො හවෙ රක්ඛති ධර්ම චාරී" යන ධර්ම බලය කෙරෙහි විශ්වාසය තබා කටයුතු කිරීම යි. මේ නිසා මේ දෙපාර්ශවයට ම හිංසාවේ හා අසාධාරණයේ අධර්ම චක්‍රයෙන් මිදී අහිංසාවේ හා සාධාරනත්වයේ ධර්ම චක්‍රයට ඇතුළු වීම සඳහා අපට උදව් විය හැකි ය. මේ පොතේ අවසන් කොටසින් අප එබඳු මගක් යෝජනා කරන්නෙමු.

මේ පොතේ අග භාගය කියවීමට නම් මූල භාගය කියවීම අවශ්‍යයි. අපි භෞතිකවාදීහු නොවෙමු. විඥානවාදීහු ද නොවෙමු. නාම රූප දෙක ම නිරන්තරයෙන් ම එකට බැඳී පවතින බව විශ්වාස කරන නාමරූපවාදීහු වෙමු. හේතුඵලධර්මවාදීහු වෙමු. විභජ්ජවාදීහු වෙමු. ඒ කුමන නමකින් අප හැඳින්වූවත් කමක් නැත. එහෙත් ද්‍රව්‍යවාදීන් හෝ විඥානවාදීන් යැ යි හෝ අප හැඳින්වීම අසාධාරණ ක්‍රියාවක් පමණක් නො ව සාවද්‍ය නිගමනයෙක් ද වේ.

සර්වෝදය දර්ශනය සහ මේ පොතින් ඉදිරිපත් කරන දේශීය චින්තනය ප්‍රධාන වශයෙන් ම තිස් වසරක පමණ කාලයක් තුළ දී සියලුම ජන කොටස්වලට අයත් මිනිසුන් සමඟ ප්‍රයෝජනවත් වූත් සාමූහික වූත් වැඩ රාශියක් කිරීම තුළින් මතු වූ චින්තනයෙකි. ජනතාවගෙන් ඈත්ව සිටිමින් කුරුලු ඇසින් බලමින් වචනයට නඟන ලද ලියවිල්ලෙක් ද නොවේ. ජනතාව සමඟ එකතු වී ක්‍රියාවට පරිවර්තනය චින්තනයෙකි. මෙයින් ඉදිරිපත් කරන්නේ, එය එක වර ම සිතට පහළ වූවෙක් ද නො වේ. ජනතාව තුළ ම දේශීය සම්ප්‍රදායන් රැඳී සැඟැවී තිබුණු චිත්ත ධර්මයකි. ඔවුන් දෛනික ව මුහුණදෙන අභියෝගයනට සාර්ථක ව මුහුණ දීමට ප්‍රවේගයක් දුන් බලවත් අදහස් සමූහයෙක එකතුවෙකි.

මුල් පරිච්ඡේද හයෙන් සර්වෝදය පදමාලාවකට අර්ථ දැක්වීම, සර්වෝදය බිහි වෙද්දී තිබූ ජාතික පරිසරය, සර්වෝදය ක්‍රියාත්මක කරන ගමන් අප කළ ප්‍රකාශ, කළ කතා, ජනප්‍රිය මාධ්‍යයක් වූ සාමූහික ගීයෙන් ජන සිත් පුබුදු කිරීම තුළින් ඔවුන් ගේ යටපත් ව තිබූ සාරධර්ම සහ ජාතික අපේක්ෂාවන් මතු කැරගත් සැටි සහ තිස් වසරක් අප සූදානම් වූ ආකාරය විස්තර වේ.

ඊළඟ පරිච්ඡේදවලින් විස්තර කැරෙන්නේ චින්තනීය විප්ලවයකට අවශ්‍ය රට-දැය-සමය පිළිබඳ සංකල්පනාවන් ඉදිරිපත් කිරීම සහ අවශ්‍ය ආර්ථික, දේශපාලන, තාක්ෂණික සහ ව්‍යුහාත්මක විප්ලවය ගැන අදහස් දැක්වීම යි. අවසානයේ දී පවතින විෂම චක්‍රයෙන් ගැලැවී නැවතත් ධර්ම චක්‍රය ප්‍රවර්තනය කිරීමට අපට විවෘත ව ඇති විකල්පීය මාර්ගයක් විස්තර කර ඇත. මේ සියල්ල ම අප කෙළින් ම සම්බන්ධ කොට ඇත්තේ සර්වෝදය අත්දැකීම් සහ සමාජයේ වෙනත් බාහිර නිර්මාණාත්මක ක්‍රියාදාමයන් සමඟ ය.

මේ ශත වර්ෂයේ අවසාන දශකය වූ වර්ෂ 1990 සිට 2000 දක්වා ක්‍රියාත්මක කළ හැකි දස අවුරුදු සැලැස්මක් සාදාගැනීමට සෑහෙන කරුණු මේ පොතෙන් ඉදිරිපත් කර ඇති බව අපේ විශ්වාසය යි. හිංසාව සහ අසාධාරණත්වය පිටුදැක අහිංසාව සහ සාධාරණත්වය මතු කොට ශ්‍රී ලංකාව නැවත වරක් ධර්මද්වීප ධාන්‍යාගාර අරමුණ දෙසට යොමු කිරීමට කැප වෙන තරුණ - බාල පරපුරකට මේ පොතෙන් සේවයෙක් වේවා යි මගේ පැතුම යි

# 2
# සර්වෝදය වදන්

ශ්‍රී ලංකාවේ සර්වෝදය ශ්‍රමදාන ව්‍යාපාරය ආරම්භ වී ගතවුනු පසුගිය තිස් වසර තුළ දී නිතර නිතර ව්‍යවහාරයට ගැන්වූ වදන් රැසකි.. මින් සමහරක් පැරැණි වචනය. සමහරක් අපගෙන් ව්‍යවහාරයට එකතු වූ අලුත් වචන ය. ඒවා පැරැණි වූවත්, අලුතින් එකතු වූවත් මෙම නිබන්ධනවල ඒවා පාවිච්චි කර තිබෙනුයේ සර්වෝදය ව්‍යාපාරයට සම්බන්ධ විශේෂ අර්ථයක් දීම සඳහා ය. සමහර විට වචනය යෙදූ ස්ථානය අනුව අර්ථ කිහිපයක් තිබීමට ද පුළුවන. විශේෂයෙන් පාඨකයාගේ පහසුව සඳහා මෙම පරිච්ඡේදය වෙන් කර ඇත්තේ එම වචනවලට අර්ථකථනයක් දීම සඳහා ය.

### සර්වෝදය

'සර්වෝදය' වචනය මුලින්ම පාවිච්චි කරන ලද්දේ මහත්මා ගාන්ධිතුමා විසිනි. සර්වම්, උදයම් යන සංස්කෘත වචන දෙක එකතු කොට සර්වෝදය යන වචනය එතුමා ව්‍යවහාරයට ගත්තේ ය. ජෝන් රස්කින් නැමැති දාර්ශනිකයාගේ 'අන්ටු දිස් ලාස්ට්' යන පොත් පිංච දකුණු අප්‍රිකාවේ දී කියවූ මහත්මා ගාන්ධිතුමා, ඒ පොත ගුජරාත් භාෂාවට පරිවර්තනය  කළේ ය. මුලින් 'අන්තිමයා ගේ යහපත සැලසීම' යන අර්ථය දුන් 'අන්තෝදය' යනුවෙන් මේ පොත නම් කළ එතුමා පසුව 'සියලු දෙනා ගේ ම සුබසාධනය සැලසීම' යන අර්ථයෙන් එයට සර්වෝදය යන නම දුන්නේ ය.

ශ්‍රී ලංකාවේ දී සර්වෝදය යන වචනයට අප දුන් අර්ථය මෙයට වඩා ටිකක් වෙනස් ය; ගැඹුරුය. බෞද්ධ දර්ශනයේ ආභාසය අනුව සියල්ලන් ගේ ම සම්පූර්ණ උදාව හෙවත් අවදි වීම යන අර්ථයෙන් අපි මෙ ම වචනය ව්‍යවහාර කළෙමු. පුද්ගලයන් වශයෙනුත්, පවුල් වශයෙනුත්, ගැමි සහ නාගරික ජන කොට්ඨාශ වශයෙනුත්, ජාතීන් වශයෙනුත් ලෝක මනුෂ්‍ය සමාජය වශයෙනුත් සියලු දෙනාම සියලුම අංශවලින් උදාකිරීම සර්වෝදය පරමාර්ථය වශයෙන් අපි සලකමු. අප ගොඩනැංවීමට මහන්සි ගන්නේ එ ම පරමාර්ථය සාක්ෂාත් කරගත හැකි සමාජ ක්‍රමයෙකි. එයට සර්වෝදය සමාජ ක්‍රමය යැ යි අපි කියමු.

සර්වෝදය සෑම අංශයකින් ම අවදි වීමක් හෙවත් උදාවක් බලාපොරොත්තු වන බව අපි පැවසුවෙමු. මෙහි ප්‍රධාන වශයෙන් අංශ හයෙකි. එනම්, ආධ්‍යාත්මික, සදාචාර, සංස්කෘතික, සාමාජික, ආර්ථික සහ දේශපාලනික යන අංශ වේ. මේ අංශ හයෙන් ම සම බර ව සෑම පුද්ගලයකු, සෑම පවුලක්, සෑම ග්‍රාමීය හා නාගරික ජන කොට්ඨාශයක්, සෑම ජාතියක් සහ සමස්ථ ලෝකවාසීන් ම උදා වීමට සැලැසීම සර්වෝදය යි.

සර්වෝදය යන වචනය ව්‍යවහාරයේ දී මේ පුළුල් සහ ගැඹුරු අර්ථය තුළ තවත් තේරුම් කිහිපයක් දෙන ලෙස පාවිච්චි වේ. උදාහරණයක් වශයෙන් 1972 අංක 16 දරන පාර්ලිමේන්තු පනතින් සංස්ථාපිත වූ 'ලංකා ජාතික සර්වෝදය ශ්‍රමදාන සංගමය' නැමැති නීතිගත සංවිධානය 'සර්වෝදය' යනුවෙන් කෙටියෙන් හැඳින්වේ. මෙහි දී සර්වෝදය යන වචනය විශේෂ ආයතනයක් හැඳින්වීමට උපයෝගී කැරගැනේ.

දැන් සංස්ථාපිත සර්වෝදය ආයතනයක් හැටියට තිබෙන්නේ ලංකා ජාතික සර්වෝදය ශ්‍රමදාන සංගමය පමණක් නො වේ. සීමාසහිත සර්වෝදය සුවසෙත සේවා සමිතිය, සීමාසහිත සර්වෝදය කාන්තා පර්ෂදය සහ දහස් ගණනක් වූ විවිධ ගම්වල සීමාසහිත සර්වෝදය ශ්‍රමදාන සමිති ද නීතිගත සර්වෝදය සංස්ථා වේ. මේ අනුව බලන විට සර්වෝදය යන වචනය පොදුවේ ව්‍යවහාරය වන වචනයකි. එක් සංස්ථාපිත ආයතනයක නීතිමය වගකීම ඒ ආයතනයට ම සීමා වන අතර, වෙනත් සංස්ථාපිත සර්වෝදය ආයතනයක් එහි ක්‍රියාකාරකම් පිළිබඳ වගකීම් උසුලන්නේ නැත. බෞද්ධ, හිංදු, ඉස්ලාමීය ආදී විවිධ දර්ශන අනුව නානා මාදිලියේ නීතිගත සංස්ථා ගොඩනැඟී ඇත්තේ යම් සේ ද, සර්වෝදය සංවිධාන ද දාර්ශනික වශයෙන් පොදු දර්ශනයක් සහ ප්‍රතිපත්ති පිළිගනු ලැබූවත්, ඒ ඒ සමිති සංගම් සහ සංවිධාන, නීතිය යටතේ ගැනෙන්නේ ස්වාධීන වූ ආයතන හැටියට යි.

සර්වෝදය සමාජ ක්‍රමය යන වචනය ද බොහෝ විට අපි පාවිච්චි කරමු. මෙයින් අදහස් කරන්නේ විශේෂ සමාජ ක්‍රමයෙකි. ප්‍රජාතන්ත්‍රවාදී සමාජ ක්‍රමය, ඒකාධිපති සමාජ ක්‍රමය, කොමියුනිස්ට් සමාජ ක්‍රමය, සමාජවාදී සමාජ ක්‍රමය යනාදී වශයෙන් විවිධ දර්ශන අනුව යම් යම් සමාජක්‍රම ගොඩනැංවීම සඳහා විවිධ අය වෙහෙසෙන්නෝ ද, එ සේ ම සර්වෝදය සමාජ ක්‍රමයක් ගොඩනැංවීම සඳහා අපි ද වෙහෙසෙමු. වෙනත් සමාජ ක්‍රමවල දක්නට ලැබෙන ලක්ෂණ අඩු වැඩි වශයෙන් සර්වෝදය සමාජ ක්‍රමයේ ද තිබිය හැකි වුවත් සමස්තයක් වශයෙන් ගත් විට එය අපට ම විශේෂ වූ පරමාදර්ශය හැටියට අප තබා ගන්නා සමාජ ක්‍රමය යි. එම සමාජ ක්‍රමයේ ලක්ෂණ පියවරෙන් පියවර අප අවබෝධ කර ගන්නා අතර, ඒවා ප්‍රායෝගිකව ගොඩනැංවීමට ද අපි වෙහෙසෙමු. එහි ලක්ෂණ පිළිබඳ දාර්ශනික අදහසක් අපට ඇතත්, ප්‍රායෝගිකව ඒවා ගොඩනැංවෙන්නේ අප ගේ දර්ශනය ක්‍රියාවට නැංවෙන අතර ය. මේ නිසා සර්වෝදය දර්ශනයත්, සර්වෝදය සමාජ ක්‍රමයත් නිරන්තරයෙන් ම පරිපූර්ණත්වය කරා පරිනාමය වන සජීවී ව්‍යායාමයෝ ය. කාලයත් සමඟ නොවෙනස් වන සනාථන ධර්මයන් ද කාලානුරූපව වෙනස් කර ගන්නා සම්මුති ධර්මයන් ද විසින් සර්වෝදය දර්ශනය සහ සමාජ ක්‍රමය සජීවී වේගාත්මක තත්ත්වයකින් වර්ධනයවීමට උපකාර කෙරෙනු ලැබේ.

ඉහත සඳහන් කරුණු ගැන සලකා බලා සර්වෝදය යන වචනය පාවිච්චි වන අවස්ථාවල දී එ තැනට ගැලපෙන අර්ථය තේරුම් ගැනීමට පාඨකයා සමත් විය යුතුය.

### ශ්‍රමදානය

ශ්‍රමදානය යනු අප විසින් ම භාෂා ව්‍යවහාරයට එකතු කැරුණු වචනයෙකි. මෙහි වචනාර්ථය පමණක් ගත් විට ශ්‍රමය පරිත්‍යාග කිරීම හෙවත් දන් දීම යන අර්ථය ලැබේ. එහෙත් අප මේ වචනය පාවිච්චි කෙළේ එයට වඩා පුළුල් වූත්, ගැඹුරු වූත් අදහසක් දීම සඳහා ය. මෙහි දී ශ්‍රමය යනුවෙන් ශාරීරික හා මානසික ශක්තිය පමණක් නොව හැඟීම්, කාලය, භූමිය, ධනය, සම්පත්, දැනීම, ශිල්පඥානය ආදී යමකු විසින් අන් අයගේ යහපත සඳහා පරිත්‍යාග කළ හැකි සෑම දෙයක්ම අදහස් කළෙමු.

දානය යන වචනයට අප දුන් අර්ථය යහපත්, සාධාරණ, දැහැමි ආකාරයෙකින් ඉහත සඳහන් සම්පත් බෙදා-හදාගැනීමයි. මෙහි දී දානය යනුවෙන් සමහර සංස්කෘත පොත්වල විග්‍රහ වන සංවිභාගය හෙවත් යහපත් අන්දමින් බෙදාගැනීම යන අර්ථයෙන් අපි ආභාසය ලැබුමු.

මේ අනුව සර්වෝදය සමාජ ක්‍රමයක් ගොඩනැංවීම සඳහා යමකු ගේ සිතිවිලි, හැඟීම්, කායික ශක්තිය, ධනය, ඉඩකඩම්, දැනීම, කාලය ආදිය කිසි ම ප්‍රතිලාභයක් බලාපොරොත්තු නො වී පරිත්‍යාග කිරීම හෙවත් බෙදාගැනීම අපි ශ්‍රමදානය යන්නෙන් අහස් කළෙමු.

සර්වෝදය චින්තනය ක්‍රියාවට නැංවෙන එක් මඟෙකි, ශ්‍රමදානය. මුල් අවස්ථාවේ දී සර්වෝදයේ ප්‍රධාන ම ක්‍රියා මාර්ගය ශ්‍රමදාන කඳවුරු පැවැත්වීම නිසා අපේ ව්‍යායාමය ජනප්‍රිය වූයේ සර්වෝදය ශ්‍රමදාන ව්‍යාපාරය යන නමිනි. සර්වෝදය පණිවිඩය ප්‍රජාව අතරට ගෙන යන මාධ්‍යය වූයේ ශ්‍රමදානය යි.

බුද්ධිදානය, ශිල්පදානය, වෛද්‍යදානය, සෞඛ්‍යදානය, සම්පත්දානය, භූමිදානය, ධර්මදානය සහ ජීවිතදානය ආදී විවිධ අන්දමේ පරිත්‍යාගයන් පහසුව සඳහා ශ්‍රමදානය යන වචනය යටතේ අපි වර්ග කළෙමු.

අනාගත වංශටීකාවෙහි සඳහන් පරිදි සමුදන් යන වචනයක් අනුරපුර යුගයෙහි දී භාවිතා වූ බව පසු කලෙක අපට දැන ගන්නට ලැබිණි. සමූහයක් එකතුව ඔවුන් සතු ශ්‍රමය ඇතුළු සම්පත් සාමූහිකව බෙදා ගැනීම මෙයින් අදහස් කැරේ. පැරණි සමාජ ක්‍රමය පිරිහීමට යෑමත් සමඟම ගැඹුරු දර්ශනයෙකින් තොර ව ප්‍රායෝගික ක්‍රියාමාර්ගයන් හැටියට පමණක් මෙම සමාජ ක්‍රියාවලිය ගැනීම නිසා කයිය, අත්තම, රාජකාරිය, ආත්මෝපකාරය ආදී වචන ව්‍යවහාරයට ගෙන තිබූ බව පෙනේ.

ශ්‍රමදානය යන වචනය ව්‍යවහාර කිරීමේ දී එය නොමිලයේ කැරදෙන වැඩක් හැටියට අර්ථ දැක්වීම සර්වෝදය සේවක සේවිකාවන් නොකළ යුතු ය. තුන් සිය හැටහතර දවසක් මහජන සම්පත් විනාශ කොට එක් දිනක් පමණක් නොමිලේ වැඩක් කර දී එය ශ්‍රමදානයක් යයි කියාගන්නා විදියේ වැඩවලට අප හවුල් නොවිය යුතු ය.

අප දේශපාලන පක්ෂග්‍රාහී ව හෝ පෞද්ගලික අභිමතාර්ථයන් පෙරටු කොට හෝ සදාචාර රීති කඩමින් හෝ කරන ඊනියා නොමිලේ වැඩ කඳවුරු ශ්‍රමදාන කඳවුරු හැටියට හැඳින්වීමෙන් වැළකිය යුතු ය.

සර්වෝදය සමාජ ක්‍රමයක් ගොඩනැංවීම සඳහා උපයෝගී කැරගන්නා ප්‍රධානම ශිල්පීය ක්‍රමය හැටියට ශ්‍රමදානය සැලකිය යුතු ය.

## ව්‍යාපාරය

බොහෝ විට සර්වෝදය ශ්‍රමදාන ව්‍යාපාරය යනුවෙන් අප සංවිධානය හඳුන්වනු ලැබේ. ව්‍යාපාරය යන වචනය බෙහෙවින් යෙදෙන්නේ වාණිජ කටයුතුවලට සම්බන්ධ ව නිසා බැවින් සමාජ සුභසාධන, සංවර්ධන හෝ සමාජ විප්ලවීය ක්‍රියාදාමයක් ලෙස හැඳින්වීම නො ගැළපේ. කෙ සේ නමුත් ඉංග්‍රීසියෙන් 'මූව්මන්ට්' යන වචනයේ සිංහල පරිවර්තනය හැටියට ව්‍යාපාරය යන වචනය අප අතර ජනප්‍රිය විය. මෙයට වඩා හොඳ වචනයෙක් නම් "සංසදය" යන්න යි. මෙහි වැඩෙන බවක්, ක්‍රියාකාරී බවක්, චලනකාරී බවක්, ගාමක බවක් ඉස්මතු වේ. ඒ නිසා සර්වෝදය ශ්‍රමදාන සංසදය යනුවෙන් අපේ වැඩ පිළිවෙල හැඳින්වීම සුදුසුතර ය.

මෙහිදී තවත් පැහැදිළි කළයුතු කරුණෙක් වෙයි. එනම්, ව්‍යාපාරය හෙවත් සංසදය සහ සංවිධානය යන වචන අතර තිබෙන වෙනස යි. නීති පද්ධතියකට යටත් ව තීරණය කැරගත් වැඩ පිළිවෙළක් අනුව විවිධ වගකීම් උසුලන අය ගෙන් සමන්විත ව, ක්‍රමවත් ව, එකතු ව ක්‍රියාත්මක වන්නේ සංවිධානය යි. මව් සංගමය ඇතුළු ව මෙ වැනි සංවිධාන රාශියක් සර්වෝදය දර්ශනය පිළිගෙන ක්‍රියාත්මක වේ. මේ සියල්ලම සමස්තයක් හැටියට ගෙන රට පුරා හෝ ලොවපුරා හෝ කැරෙන ක්‍රියාදාමයන් සියල්ලම සමුච්චිත වශයෙන් ගත් කළ සර්වෝදය ශ්‍රමදාන ව්‍යාපාරය හෙවත් සර්වෝදය ශ්‍රමදාන සංසදය වශයෙන් හැඳින්විය හැකි ය.

## පවුල් හමුව

පවුල්හමුව යන වචනය සර්වෝදය ශ්‍රමදාන කටයුතුවල දී නිතර ඇසෙන්නට ලැබේ. පවුල්හමුවත් එක්තරා අන්දමෙක රැස්වීමෙකි. එහෙත් එහි විශේෂත්වයෙක් වෙයි. සර්වෝදය සියලුම මනුෂ්‍යයන් දෙස බලන්නේ එකම පවුලෙක සාමාජික සාමාජිකාවන් වශයෙනි. එම මිනිස් පවුලේ පිරිසක් එකතු වී රැස්වීමක් පවත්වන විට එම රැස්වීම අප හඳුන්වන්නේ පවුල් හමුවක් වශයෙනි.

දෙමව්පිය, දූ-දරු, සහෝදර, සහෝදරියන් ගෙන් යුතු පවුලක් ගැන සිතන්න. පරමාදර්ශී පවුලක සම්පත්, වගකීම්, වරප්‍රසාද, යුතුකම්, හැඟීම්, සිතිවිලි ආදී සියලු දේම ඔවුනොවුන් ගේ අවශ්‍යතා අනුව සාධාරණ ව බෙදාගනු ලබයි. මෙයට අපි දානය යන වචනය පාවිච්චි කරමු. ඒ මෙන්ම පරමාදර්ශී පවුලක් තුළ පාවිච්චි කරන වචන සත්‍යමය වූත්, ලිහිල් සහ තේරුම් ගතහැකි වූත්, කරුණාවන්ත වූත් වදන් වේ. කේළාම්, පරුෂවචන, මුසාවාදය ආදිය යහපත් පවුලෙන කතාබහේ දී මතු නො වේ. ඒ නිසාම පරමාදර්ශී පවුලෙක ප්‍රිය වචන භාවිතය අනිවාර්යයෙන් සිදු වේ.

ඒ මෙන්ම පවුලෙක ප්‍රගතිය සහ සාමය සඳහා ප්‍රයෝජනවත් වැඩවල පමණක් යෙදීම වැදගත් ය. සුරාව, සූදුව, පක්ෂග්‍රාහීත්වය, පෞද්ගලිකත්වය ආදිය පවුලකට නො ගැළැපේ. විනාශකාරී හැසිරීම්වලින් වැළැකී ප්‍රයෝජනවත් චර්යාවන්හි යෙදීම හෙවත් අර්ථ චර්යාව ඒ නිසා පවුලකට වැදගත් ය.

හතර වන ලක්ෂණය සමානාත්මතාව යි. සෑම කෙනකුගේ ම පෞරුෂය වැදගත් බව සලකා පවුලේ සෑම සාමාජිකයකුට ම ගෞරවයෙන්, මෛත්‍රියෙන් හා අනුකම්පාවෙන් සැලකිය යුතු ය. මෙය ගුණාත්මක වූ සමතාවෙකි. ප්‍රමාණාත්මක සමතාවෙක් නො වේ. වැඩිහිටියන් බාලයනට ආදර්ශවත් වීම නිසා බාලයන් වැඩිහිටියනට ගෞරව කිරීම සිදුවේ. බාලයන් වැඩිහිටියනට ගෞරව කිරීම නිසා වැඩිහිටියන් බාලයනට ආදර්ශවත්වීම ද සිදුවේ. සමානාත්මතාවයේ වැදගත්කම වන්නේ මෙ වැනි අන්‍යොන්‍ය ගුණාත්මක සම්බන්ධයක් එය තුළින් පවුලේ සාමාජිකයන් අතර ඇති වන නිසා ය.

සාමාන්‍ය රැස්වීමකත් පවුල්හමුවකත් අතර වෙනස නම් පවුල් හමුවෙක දී මෙ ම සතර සංග්‍රහ වස්තුව ක්‍රියාත්මක වේ යැ යි බලාපොරොත්තු වීම යි.

ශ්‍රමදාන කඳවුරක් පවත්වන අවස්ථාවක දී පුබුදු පවුල්හමුව, දිවා පවුල්හමුව සහ සැඳෑ පවුල්හමුව යනුවෙන් සාමාන්‍යයෙන් තෙ වරක් කඳවුරට සහභාගී වන සැමදෙනාම එකට රැස් වෙති. පවුල් හමුවේ දී සාමාන්‍යයෙන් කවාකාර ව වාඩි වීම සිදු වේ. මෙයින් ද උස් පහත්කමක් නොමැතිව සෑම දෙනාම තිබෙන පහසුකම් සමව බෙදාගෙන පරිහරණය කිරීමක් සිදු වේ. සෑම කෙනකුටම සම ව සහභාගී වීමට අවස්ථාව ලැබේ. සර්වෝදය ශ්‍රමදානයට සම්බන්ධ වෙනත් රැස්වීම් ද මේ අන්දමින්ම සකස් කිරීමෙන් අනවශ්‍ය මුදල් නාස්තිය වළක්වනු ගමන් ම වඩා හොඳ විනයානුකූල බවක් ද ඇති කැර ගැනීමට සමත් වී තිබේ. දේශපාලන සහ වෙනත් අංශ පවත්වනු ලබන රැස්වීම්වල දී බොහෝ විට දක්නට ලැබෙන කලබලකාරී අසංවරතාව සර්වෝදය පවුල්හමුවල දී දක්නට නොලැබෙන්නේ විශේෂ වේදිකාවල එක් කොටසකුත්, ඔවුන් ඉදිරියේ තවත් කොටසකුත් යනුවෙන් සහභාගී වන්නන් කොටස් දෙකකට බෙදී වාඩිවනු වෙනුවට එකම පවුලක් මෙන් කවාකාරව එකට වාඩිවී සහභාගී වන නිසා ය.

### ආත්මහරණය

සහභාගිත්වය යන වචනය සර්වෝදය ශ්‍රමදාන කටයුතුවල දි නිතර ම ව්‍යවහාර කරමු. අප කරන කටයුතුවලට කිසිඳු වැරැදි බලපෑමෙකින් තොරව ජනතාව සහභාගි නොවන්නේ නම් එම කටයුතු අසාර්ථක ය. සාර්ථක වැඩ පිළිවෙලක් ක්‍රියාත්මක වන්නේ අවබෝධයකින් යුතු ව සිය කැමැත්තෙන්ම ඔවුන් සහභාගි වන ප්‍රමාණයට ය. මෙහි දී මුලින් ම ඉටු විය යුත්තේ ආධ්‍යාත්මික අවශ්‍යතාවෙකි. දෙවැනිව ඉටු වන්නේ භෞතික අවශ්‍යතාවෙකි. ආධ්‍යාත්මික ප්‍රබෝධයකින් තොර ව භෞතික ප්‍රයෝජනය පමණක් ලැබෙන සහභාගිත්වය ගැන කතා කරන විට මිනිස් සිත්සතන් ඇතුළත ඇති වන නිස්සරණ ප්‍රීතිය ගැන පළමුවෙන් ම සිතිය යුතු ය.

ආධ්‍යාත්මික පෙළැඹවීම අතර ම සෑම මනුෂ්‍යයකුටම මූලික මානුෂික අවශ්‍යතාවන් තිබෙන බව ද අමතක නොකළ යුතු ය. මූලික අවශ්‍යතාවන් සැපිරී නැති කෙනකුට දිගින් දිගට ම ආධ්‍යාත්මික සුවය ගැන පමණක් සිතා සර්වෝදය ශ්‍රමදාන කටයුතුවලට සහභාගී විය නොහැකි ය. මේ නිසා සහභාගිත්වය අඛන්ඩ

සිදුවීමට නම් සහභාගි වන තැනැත්තා ගේ මූලික අවශ්‍යතා සැපිරීමට කෙ තෙක් දුරට එ ම සහභාගිත්වයෙන් ඉඩකඩ සැලසී තිබේ ද යන්න අප විසින් සොයා බැලිය යුතු ය.

වෙනත් පාර්ශවයක් විසින් ගෙන ඇති තමනට බලපාන තීරණයක්, ක්‍රියාත්මක කිරීමට පමණක්, යමකු සහභාගි කරවා-ගන්නේ නම්, එය ද නියම සහභාගිත්වයක් නොව සහභාගිත්වය සාරවත් වන්නේ සහභාගි වන තැනැත්තනට තීරණ ගැනීමේ දී ක්‍රියාකාරී ව සහභාගිවීමට අවස්ථා ලැබුණොත් පමණෙකි.

සහභාගිත්වය සංවිධානාත්මකව සිදුවිය යුත්තෙකි. විවිධ ප්‍රචාර මාර්ගයෙන් විශාල පිරිසක් යම් කටයුත්තකට එක් තැන් කිරීම පහසු ය. එහෙත්, එයට ජනතා සහභාගිත්වය යැ යි කිව නොහැකි ය. සහභාගි වන ජනතාව සංවිධානාත්මක ව සහභාගී කළහොත් පමණෙකි. දීර්ඝකාලීන ව ඔවුන් ගේ සහභාගිත්වය බලාපොරොත්තු විය හැක්කේ.

මේ නිසා සර්වෝදය කටයුතුවල දී සහභාගිත්වය යන වචනය අප භාවිතා කරන්නේ ආධ්‍යාත්මික ප්‍රබෝධනය, අවශ්‍යතා සැපිරීම, තීරණ ගැනීමට සහභාගිවීම සහ සංවිධානාත්මක වීම යන කරුණු හතර ම සම්පූර්ණ වූ සහභාගිත්වයකට ය.

අධ්‍යාත්මය

අධ්‍යාත්මය, ආධ්‍යාත්මය යන වචන ද නිතරම අපි භාවිත කරමු. අධ්‍යාත්මය යනුවෙන් අප අදහස් කරන්නේ අපගේ සිත-කය-වචනය ක්‍රියා කිරීමට මුල් වන විවිධ බල වේග තේරුම් ගැනීමෙන් අපේ පෞරුෂය තුළ ඇතිවන ශක්තියෙකි. ආත්මාවබෝධය මුල් වූ මෙම ශක්තියේ වැඩීමට ආධ්‍යාත්මික දියුණුව ය යි අපි කියමු.

අපේ සිතට එන සමහර අදහස්, අපේ මුවින් පිට වන සමහර වචන සහ අපේ ශරීරයෙන් සිදු වන සමහර ක්‍රියා ආදියට මුල් වූයේ ලෝභය, තරහව හෝ මුළාව ය යි සිතමු. යමෙක් මෙය තේරුම් ගෙන ඒ වෙනුවට අලෝභය, මෛත්‍රිය හෝ අමෝහය තමා තුළ ක්‍රම-ක්‍රමයෙන් වර්ධනය කර ගන්නේ නම්, ඒ තැනැත්තා ආධ්‍යාත්මිකව දියුණු වන කෙනකු හැටියට අපි සලකමු.

මිනිසකු ගේ, සමුහයක ගේ හෝ සමාජයෙක දියුණුව මැනීමේ දී ඔවුන් ගේ දියුණුව ආධ්‍යාත්මික වශයෙන් ද මැනීම වැදගත් කොට සර්වෝදය සලකයි.

ආධ්‍යාත්මික යන වචනයට Spiritual යන වචනය ඉංග්‍රීසියෙන් යොදනු ලැබේ. එහෙත් අප ඒ වචනයෙන් අදහස් කරන්නේ ඉහත දැක්වූ අර්ථය බව අවධාරණය කරමු.

මිනිසාගේ හෝ මිනිස් සමාජයේ සිදු වන සෑම ප්‍රගතියෙකම පරිපූර්ණත්වය ඇති වන්නේ ආධ්‍යාත්මික පරමාර්ථයක් සම්පූර්ණ වීමෙනි.

නිවන් දැකීම, මෝක්ෂයට යෑම, දෙවියන් හා එක් වීම ආදී වශයෙන් විවිධ ආගමික කොට්ඨාශ මනුෂ්‍ය ජීවිතයට අවසාන ආධ්‍යාත්මික ඉලක්කයක් දී තිබේ. මේ ඉලක්ක ආගමික දෘෂ්ටීන් අනුව විවිධ වේ. එහෙත් එම ඈත ඉලක්ක සාක්ෂාත් කැරගැනීමේ බලාපොරොත්තුව නිසා, ජීවත් වන මේ මොහොතේ දී මිනිසා වඩා නිර්ලෝභී ව, වැඩි මෛත්‍රියකින්, වැඩි ප්‍රඥාවෙකින් ක්‍රියා කරන්නේ නම්, එය සමාජ දියුණුවට හිතකර වේ.

බාහිර වශයෙන් අප යමක් හිතන, කියන, කරන සෑම අවස්ථාවෙක දී එය කෙතෙක් දුරට තමා තුළ තිබෙන ආශාවන්, තරහ සහ මෝඩකම් වර්ධනය වීමට තුඩු දේ ද, නිවීමට තුඩුදේ ද යනුවෙන් සිහියෙන් යුතු ව බලන්නට අප පුරුදු වෙමු නම්, අප තුළ ඇති වන ආධ්‍යාත්මික දියුණුව හෝ පරිහානිය හෝ පිළිබඳව අපට ම ඇගැයීමක් කළ හැකිවේ.

අප එකිනෙකා ගේ අධ්‍යාත්මය පිළිබඳ දන්නෝ අපිම ය. කෙනකු ගේ ආධ්‍යාත්මික දියුණුව හෝ පරිහානිය හෝ ගැන වෙනකකු විසින් විනිශ්චයක් දීමට යෑම හරි ක්‍රියාවෙක් නො වේ. තමා විනිශ්චය දිය යුත්තේ තමා ගේ අධ්‍යාත්මය පිළිබඳ ව තමාටම ය. එවිට තමාටත් එයින් ප්‍රයෝජනයෙක් සිදු වේ.

ආධ්‍යාත්මික ව පිරිහුණු තැනැත්තකු ගේ බාහිර ක්‍රියාමාර්ග පමණ යි අන් අයට පෙනෙන්නේ. ඒ ක්‍රියාමාර්ගවල හරි වැරැදි බව පිළිබඳ ව අපට යම් යම් මත අප ගේ මිනුම්දඬු අනුව ඇති කැරගත හැකි ය.

## සදාචාරය

සර්වෝදය ව්‍යවහාරයේ දී සදාචාරය යන වචනයට අප අර්ථ දක්වන්නේ යහපත අන්දමින් සිදු වන පුද්ගලාන්තර සම්බන්ධතා යනුවෙනි. යම් කෙනකු තවත් කෙනකු හෝ සමූහයක් පිළිබඳ ව පුද්ගලාන්තර සම්බන්ධතා ඇති කැරගැනීම ඔහුගේ සහ අන් අය ගේ ආධ්‍යාත්මික දියුණුවට හෝ පරිහානියට හෝ තුඩු දෙන අන්දමට සිදු විය හැකි ය. ආධ්‍යාත්මික දියුණුවෙක් සිදු වේ නම් ඒ තැන සදාචාරයෙක් ඇත. ආධ්‍යාත්මික පරිහානියක් සිදු වේ නම් ඒ තැන දුරාචාරයෙක් ඇත. මෙහි දී අධ්‍යාත්මය සහ සදාචාරය අතර ඇති සම්බන්ධය අපට මැනවින් පෙනේ.

පස් පව් කිරීම ආධ්‍යාත්මික දියුණුවට තුඩු නොදෙන බව අපි දනිමු. යම් කෙනකු තවත් අය සමග සම්බන්ධ වන්නේ මෙවැනි දේ සඳහා නම්, එම සම්බන්ධකම සදාචාරමය සම්බන්ධකමෙක් නො වේ. එය ඔවුන් සාමූහික ව, ආධ්‍යාත්මික ප්‍රපාතයට හෙළන වැරැදි සම්බන්ධකමෙකි. දෙමව්පියන් සහ දරුවන් අතර, ගුරු දෙගුරුන් අතර, ගුරු සිසුන් අතර, සේවා යෝජකයන් සහ පාලකයන් අතර, ලේඛකයන් සහ පාඨකයන් අතර, කලාකරුවන් සහ රසිකයන් අතර ආදී වශයෙන් සමාජයේ ජීවත් වන විවිධ පුද්ගලයන් ගේ ආධ්‍යාත්මික දියුණුව මත ඔවුන් ගේ සදාචාර දියුණුව ද තීරණය වේ. ආධ්‍යාත්මික ඉලක්කයක් නැති මිනිසුන් වැඩි වූ සමාජයෙක සදාචාර තත්ත්වය ද පිරිහේ. සදාචාර තත්ත්වය පිරිහෙනවිට ආධ්‍යාත්මික තත්ත්වය තව දුරටත් පිරිහේ.

උල්පතෙන් මතු වන ජලය අඩු වන විට ජල දහරාව ද දුර්වල වේ. ජල දහරාව දුර්වල වන විට අවට තිබෙන ගස්කොළන් මැරීයයි. ඒ නිසා තව දුරටත් උල්පතේ ජලය අඩුවේ. ඒ මක්නිසාද යත්, එකක් අනික කෙරෙහි බලපාන නිසා ය.

**සංස්කෘතිය**

ආධ්‍යාත්මික සහ සදාචාර සාරධර්මයන් හෙවත් පුරුෂාර්ථයන් ආරක්ෂා කැරගනිමින් කායික මානසික සහ සාමාජික අවශ්‍යතාවන් ඉටු කැරගැනීම සඳහා ආර්ථික, දේශපාලනික, ආගමික, කලා හා සාහිත්‍යමය ආදී වශයෙන් අප සමාජය විසින් නිෂ්පාදනය කොට පරිභෝජනය කරන ද්‍රව්‍යමය හා අද්‍රව්‍යමය සියල්ල සමස්ථයක් වශයෙන් ගත් කල එයට සංස්කෘතිය යන වචනය සර්වෝදයේ අපි භාවිතා කරමු.

සංස්කෘතිය යනුවෙන් අප අදහස් කරන්නේ යහපත් ජීවන රටාවෙකි. අයහපත් ජීවන රටාවන් සංස්කෘතිය යන වචනයේ අර්ථය තුළට අපි නො ගනිමු. ශ්‍රී ලංකාවේ සිංහල බෞද්ධ ජීවන රටාව සහ ද්‍රවිඩ හින්දු ජීවන රටාවන් පිළිබඳ ව අපි හොඳින් දනිමු. එයට හේතුව අප ඉපදුණේ-හැදුණේ-වැඩුණේ අපේ චින්තනය සකස් කැරගත්තේ මේ රටාව තුළ බැවිනි. සිංහලයා සිංහල බස තුළිනුත්, දෙමළ ජාතිකයා දෙමළ බස තුළිනුත් මේ යහපත් ජීවන රටාවට ඇතුළු විය. මේ ජාතීන් දෙකම සිංහල බෞද්ධ සංස්කෘතිය නමින් පොදුවේ ලොවපුරා ප්‍රසිද්ධ වූ ජීවන රටාව, දේශීය චින්තනය, ජීවන දර්ශනය ගොඩනැංවීමට හවුල් වූ හ.

ඉංග්‍රීසියෙන් සංස්කෘතියට අර්ථකතනය දුන්, කවර දාක වත් එම සංස්කෘතියේ කොටසක් නොවූ, එහි රස උරාබීමට වාසනාව නොලත් ඉංග්‍රීසි කතා කළ වරප්‍රසාද ලත් පිරිසක් විසින් භාෂා බේදයක් ඇති කරන තුරු මේ ජාතීන් දෙක අතර එකම සංස්කෘතියක, එකම ජාතික චින්තනයක උරුමක්කාරයන් යැයි යන හැඟීම තිබුණා විනා ඒවා අතර ගැටුමක් නොපැවැත්තේය. සෑම අවස්ථාවෙකදී ම ජාතික චින්තනයක් වෙනුවට ජාතිවාදී මිථ්‍යා සංකල්පනාවන් ඇති වූයේ දේශපාලන බල ගැටුමෙක දී පමණි. වෙන කවර කලකටත් වඩා වත්මන් යුගයේ දී මේ ගැටුම නිදහසේ ලේ ගංගා ගලායන වියරුවක් බවට පත් වූයේ අවුරුදු දෙදහස් පන්සියයකටත් අධික කලක් පැවැති බෞද්ධ හින්දු ජීවන රටාව වෙනුවට බටහිර ද්‍රව්‍යවාදී අයහපත්, සංස්කෘතික විරෝධී ජීවන රටාවක් කරපින්නා ගෙන එය පොදු ජනතාව තුළට බලයෙන් රිංගවීමට සියලුම නවීන තාක්ෂණික කූට උපක්‍රම යොදාගත් නිදහසෙන් පසු බිහි වූ දින පිරිසක් නිසා ය.

මේ පිරිස දේශපාලන ආර්ථික වශයෙන් පරස්පර විරෝධී දෘෂ්ටීන් පිළිගෙන තුබුණත්, ඔවුන් දේශීය සංස්කෘතිය බැහැර කළ පිරිසක් නිසා පොදු ජන යහපත උදා කෙරෙන ජීවන රටාවක් ගොඩනැංවීමට නායකත්වය දීමට අසමත් වූ හ. එ මෙන් ම එම නායකත්වය දීමට සුදුසුකම් තිබුණු බෞද්ධ භික්ෂූන් වහන්සේ ප්‍රධාන දේශීය නායකත්වයකට ද දේශපාලන ආර්ථික වෙනස්කම්වල දී දාර්ශනික නායකත්වයක්දීමට තිබුණු ඉඩකඩ පවා ඔවුහු සියුම්ව ඇහිරූ හ.

සංස්කෘතිය, සංස්කෘතික දියුණුව යන වචන යෙදෙන විට සර්වෝදය අදහස් කරන්නේ අපේ දීර්ඝ ඉතිහාසයට උරුමකම් කියන සාරධර්ම මැනවින් ගැබ් වුණු යහපත් අහිංසාවාදී ජීවන රටාවෙකි.

### සාමාජික

සාමාජික යන වචනය අප යොදා ඇත්තේ මිනිස් සමාජයේ විශේෂ අංශ කීපයක් ගැන සිතාගෙන ය. එයින් ප්‍රධාන ඒවා නම්, තමන් ජීවත් වන සමාජය පිළිබඳ අවබෝධය හෙවත් ප්‍රජාවබෝධය, තමන් ගේ ජීවන රටාව දියුණු කර ගැනීම සඳහා සහභාගීවීමට ඇති ඉඩ පහසුකම් හෙවත් ප්‍රජා සහභාගීත්වය, ඒ සඳහා සංවිධානයවීමට ඇති හැකියාව හෙවත් ප්‍රජා සංවිධානය, සෑම වයස් සීමාවකට ම අයත් පුරවැසියන් සඳහා තිබෙන අධ්‍යාපන පහසුකම් හෙවත් ප්‍රජා අධ්‍යාපනය, නීතිය ඉදිරියේ සෑම පුරවැසියකුට ම ලැබෙන සමබව හෙවත් ප්‍රජා සමානාත්මතාව, මූලික මානව අයිතිවාසිකම් භුක්තිවිඳීම හා යුතුකම් ඉටු කිරීම, කායික මානසික සහ සාමාජික සෞඛ්‍යය භුක්ති විඳීමේ අයිතිය සහ ශ්‍රී ලංකාවේ දේශ සීමාවන් ඇතුළත ජීවත් වන සියලුම මිනිසුන් ගේ ප්‍රජා විඥානය තුළ පහළ වන දේශීය ඒකාග්‍රතාව පිළිබඳ හැඟීම යන අංශ අට යි. මේ අංශ අටෙන් මිනිසා දියුණු වේ නම් එම දියුණුව සාමාජික දියුණුව යනුවෙන් අපි හඳුන්වමු. සාමාජික සංවර්ධනය ගැන කතා කරන විට අප අදහස් කරන්නේ මේ අංශ අටෙහි ඇති වන දියුණුව යි.

### දේශපාලනය

සර්වෝදය දේශපාලනයෙන් තොර සංවිධානයක් හැටියට බොහෝ විට හැඳින් වේ. එක අතෙකින් බලන විට මෙය සාවද්‍ය අදහසෙකි. කිසිදු  සාමාජික කාර්යයක් දේශපාලනයෙන් තොර ව කළ නොහැකිය. ඒ නිසා අපිදු එක් අතෙකින් දේශපාලනයෙහි යෙදුණු පිරිසක් වෙමු.

එහෙත් සර්වෝදය පක්ෂ සහ බලකාමී දේශපාලනයෙහි නො යෙදේ. වෙනත් විදියකට පැවසුවහොත් ආණ්ඩු බලය අල්ලාගැනීමට හෝ තිබෙන ආණ්ඩුවක් විනාශ කිරීමට හෝ ප්‍රයත්න නො දරයි. ඒ වෙනුවට වත්මන් පක්ෂ හා බලකාමී දේශපාලන ක්‍රමය වෙනුවට ජන සහභාගී දේශපාලන ක්‍රමයක් ගොඩනැංවීමට සර්වෝදය ජනවිඥානය අවදි කරවයි.

වර්තමානයෙහි පවතින්නේ ඉතා සුළු පිරිසක් විසින් පාලනය කරන දේශපාලන තන්ත්‍රයෙකි. මෙයින් පොදු මහජනතාවට වඩා වැඩි ප්‍රයෝජන සැලසෙන්නේ ඒ ඒ යුගවල දී බලය අල්ලාගෙන සිටින උදවියටත්, ඔවුන් ගේ සහචරයන්ටත්, නෑදෑ හිතවතුනටත් පමණෙකි. මෙම දුර්වලකම දිගටම පවත්වාගෙන යෑම සඳහා රටේ සංවිධානය වී තිබෙන පක්ෂ දේශපාලන ක්‍රමය විසින් පසුගිය අවුරුදු හතළිහේ දී අප ජන සමාජයට විශාල අයහපතක් සිදු කරනු ලැබී ය. මේ ක්‍රමය කෙතරම් විෂම ද යත්, මිනිස් සමාජයෙන් මිනිස්කම පවා අතුගෑවී යන තරමට එයින් හානියක් කර තිබේ. අපේ සාරධර්මවලට නොගැළපෙන අපේ දේශීය චින්තනය විනාශ කරන මෙමම දේශපාලන පක්ෂ ක්‍රමය දේශපාලනයකට වඩා දේශ නාශනයකට තුඩු දී ඇත

සර්වෝදය දේශපාලනය යනුවෙන් අදහස් කරන්නේ දේශසාදනයකට තුඩුදෙන ජන සහභාගීත්වක දේශපාලන තීරණ ගැනීමේ සම්මුති ක්‍රමයෙකි. එවැනි සම්මුති දේශපාලන ක්‍රමයක් ගම මට්ටමේ සිට ජාතික දේශපාලන තීරණ ගැනීම දක්වා ගොඩනැංවීම සර්වෝදයේ අභිලාෂය යි.

මේ නිසා සර්වෝදය පක්ෂ සහ බලකාමී දේශපාලනයෙන් තොර ය යි අප සඳහන් කරන විට දේශපාලනයෙන් තොර බවක් නො හැඟිය යුතු ය. අප දේශපාලනය ගැන කතා කරන විට අප අදහස් කරන දේශපාලනය ඉහත විස්තර කළ විදියේ බලකාමීත්වයකින්, පක්ෂග්‍රාහිත්වයකින් තොර ජන සහභාගී සම්මුති දේශපාලන ක්‍රමයක් බව ද මතක තබාගත යුතු ය.

## විප්ලවය

සර්වෝදය අහිංසාවාදී සමාජ විපල්වීය ව්‍යාපාරයක් හැටියට අපි හඳුන්වමු. මෙහිදී විප්ලවය යන වචනයෙන් අප අදහස් කරන්නේ අංශ තුනෙක එක වර ම ඒකාබද්ධ ව සිදු විය යුතු වෙනසෙකි. සමාජයක් යම් තත්ත්වයක පැවතීමට හේතු වන චින්තනයක් ද, තාක්ෂණයක් ද, සංස්ථායී ස්වභාවයක් ද තිබෙන බව අපේ විශ්වාසය යි. විප්ලවයෙක දී මේ අංශ තුනේ ම පැහැදිලි පෙරළියක් සිදු විය යුතු ය. විප්ලවය වනාහී පවතින තත්ත්වය වෙනස් කිරීමට උපයෝගී කැරගන්නා මාධ්‍යයක් මිස අන්තයෙක් නො වේ. මිනිසුන් මෙ තෙක් නිවැරදි යැ යි පිළිගෙන තුබුණු සිතිවිලි හෙවත් චින්තනය, විවිධ සමාජ කටයුතු සඳහා උපයෝගී කැරගන්නා ලද තාක්ෂණය සහ ක්‍රම විද්‍යාවන්, දේශපාලන ආර්ථික ආදී වශයෙන් ගොඩනඟා ගෙන ඇති සංස්ථාවන්, එකිනෙකට බැඳුණා වූත් ඉක්මන් වූත් අන්දමින් වෙනස් කිරීම සර්වෝදයෙන් අපේක්ෂා කැරේ.

අපගේ අන්තය අපේ පරමාර්ථවලින් පැහැදිලි කැර ඇත්තෙමු. ඉතා සංක්ෂිප්තව සඳහන් කළහොත් අපේ රට ධාන්‍යාගාරයක් ධර්මද්වීපයක් බවට පත් කිරීම අපේ පරමාර්ථය යි.

දැනට පවතින සමාජය පොදුවේ මෙහෙයවන දේශීය චින්තනයෙක් නැත්තේ ය. මේ නිසා දේශපාලකයින්, ධනහිමියන්, බහුජාතික සමාගම් සහ ඔවුනට බැළ මෙහෙකම් කරමින් ජීවනෝපායක් සාදාගන්නා පිරිස් ද ඕනෑම වැරදි ක්‍රමයකින් මුදල් ඉපයීම ඔවුන් ගේ එකම චින්තනය බවට පත්කර ඇත්තේ ය. මේ සඳහා රජයේ විවෘත ආර්ථික ප්‍රතිපත්තියෙනුත් වාණිජමය සන්නිවේදන මාධ්‍යවලිනුත් ඔවුනට නොමඳ ව සහාය ලැබේ. අවුරුදු දහස් ගණනක් බෞද්ධ සංස්කෘතියෙන් සංයමය වී ගොඩනැගුණු දේශීය චින්තනයක් ජනතාව තුළ තවමත් පවතින බව සිහි කැර දී වත්මන් ප්‍රශ්නවලට මුහුණ දියහැකි අන්දමින් එම චින්තනය හැඩගැස්වීම සර්වෝදය අවුරුදු තිහක සිට නොකඩවා කරගෙන යයි.

අප රටේ නිෂ්පාදන, පරිභෝජන, අධ්‍යාපන, සෞඛ්‍ය ආදී ක්ෂේත්‍රවල උපයෝගී කැරගන්නා තාක්ෂණය ද මේ වැරදි චින්තනය උඩ සකස් කර ගන්නා ලද ඒවා නිසා පාරිසාරික දූෂණය, සොබා සම්පත් විනාශවීම සහ යටත්විජිත ආර්ථිකයකට වහල්වීම ආදී අභාග්‍ය සම්පන්න ප්‍රතිඵල ඇති කොට තිබේ. සර්වෝදයෙන් මහන්සි ගත්තේ දේශීය චින්තනයට ගැළපෙන විදියේ යෝග්‍ය තාක්ෂණයක් ජනතාව තුළින්ම ගොඩ නැංවීමට යි.

ආර්ථික, දේශපාලනික සහ සාමාජික ක්ෂේත්‍රයන්හි දී විවිධ සංස්ථා ගොඩනැඟී ඇත්තේ ටිකදෙනකුගේ වරප්‍රසාද රැකෙන අන්දමට මිස පොදු ජනතාව ගේ මානව අයිතිවාසිකම් සහ මානසික අවශ්‍යතාවන් සාධාරණ ව ඉටු වන අන්දමට නො වේ. මේවා මුලින් ම වෙනස් කළ යුතු ය. අතලොසෙක පාලනයට යටත් ව තිබෙන විවිධ ආර්ථික, දේශපාලනික, සාමාජික සංස්ථා පොදු ජන අපේක්ෂාවන් ඉටු වන අන්දමේ ජන සහභාගිත්වක ආයතනීය ස්වභාවයකට හැකි ඉක්මනින් පරිවර්තනය කළ යුතු ය. මෙම සංස්ථායී වෙනස්කම් චින්තනීය සහ තාක්ෂණීය වෙනස්කම් සමඟ සම්බන්ධ ව සිදු විය යුතු බව සර්වෝදයේ විශ්වාසය යි.

පසු ගිය තිස් වසර තුළ දී පියවරෙන් පියවර සර්වෝදය ව්‍යාපාරය විසින් මෙම අංශ තුනේ එකිනෙකට බැඳුණු වෙනස්කම් රාශියක් ගැමි ජනතා සංවිධානයේ සිට ජාතික සංවිධානාත්මක මට්ටම දක්වා ඉතා මහන්සියකින් ගොඩනඟා ගෙන යන අන්දම සර්වෝදය දෙස සුපරීක්ෂාකාරීව බලන ඕනෑම නිරීක්ෂකයකුට පෙනෙනු ඇති.

පවතින සමාජ ක්‍රමය අසාධාරණ හිංසක ක්‍රමයක් බව අවබෝධ කැරගැනීමට අටුවාටීකා අවශ්‍ය නැත. අප අවට සිදු වන හිංසක අසාධාරණ ක්‍රියා දෙස බැලීමෙන් පමණක් එය අවබෝධ කරගත හැකි ය. අද තිබෙන්නේ පෞද්ගලික හිංසාවන් සිදු කිරීම පමණෙක් නො වේ. ආර්ථිකයේ දේශපාලනයේ සහ විවිධ සමාජ ආයතනයන් හි හිංසාව සංස්ථාගත බවට පත් ව තිබේ. මේ තත්ත්වය වෙනස් කිරීමට විවිධ කණ්ඩායම් හිංසාවාදී ක්‍රමයට සංවිධානය වී කටයුතු කරන්නේ ඒ තත්ත්වයට විරුද්ධව අනිවාර්යයෙන්ම ඇති විය යුතු ප්‍රතික්‍රියාවක් වශයෙනි. පවතින සංස්ථාගත හිංසාව එයට ප්‍රතිවිරුද්ධ සංවිධානාත්මක හිංසාවකින් පරිවර්තනයකට යටත් වූවත්, එය සංස්ථායී පෙරළියක් මිස විප්ලවයක් සඳහා අවශ්‍ය වන සම්පූර්ණ පෙරළියෙක් නො වේ. එම වෙනස විප්ලවීය තත්ත්වයට පත් වන්නේ චින්තනයේ සහ තාක්ෂණයේ ද වෙනසක් සිදු වුවහොත් පමණකි. එය සිදුවිය හැක්කේ අහිංසාවාදී නිර්මාණාත්මක මඟෙකින් පමණකි; පුළුල් ප්‍රජාතාන්ත්‍රික ජන සහභාගිත්වයකින් ජන සිත් පුබුදු කරවීමකින් පමණෙකි; මහා පරිමාන යන්ත්‍රසූත්‍ර කඳු-හෙල් පාත් කිරීමට දුවවනවා වෙනුවට නිදහසින් පසුත් තව ම ආර්ථික දේශපාලන විලංගුවලින් බැඳ දමා තිබෙන පොදු ජනතාව, ඒවායින් නිදහස් කොට මහා ජන ගංගාවක් ලෙස නැවත ගලායෑමට ඉඩ සලසාදීමෙන් පසුවය. මහා කාන්තාරයක් බවට පත් ව තිබෙන අපේ ශ්‍රී ලාංකික සමාජය නැවත ශ්‍රේෂ්ඨ ශිෂ්ටාචාරයක් ගොඩනැඟිය හැකි සරුබිමක් වන්නේ.

# 3
# සර්වෝදය බිහි වුණු ජාතික පරිසරය

නිදහස ලැබූ ලෝකයේ අවශේෂ රටවල් මෙන් ම අපේ ශ්‍රී ලංකාව ද බටහිර දෙසින් පැමිණි විදේශීය ආක්‍රමණයනට ගොදුරු ව ශත වර්ෂ සතරක් පමණ කාලයක් පීඩනය ලැබුවා ය. අප යටත් කළ විදේශීන් ඔවුන් ගේ පාලනය පැවැත්වූයේ රට ගසාකෑමේ උදරාර්ථය මූලික කැර ගෙන ය. අය බදු ගැන්ම පහසු වන සේ සකස් කළ පාලන ක්‍රමයක් යොදාගත් ඔවුහු රටවැසි ජනතාව පෙළීමේ මාධ්‍යමික පාලන යන්ත්‍රයක් සකස් කර එය මගින් ජනතාවට නැඟී සිටීමට ඉඩ නො දුන් හ. මෙම ප්‍රතිපත්තියෙහි ප්‍රතිඵලයක් වූයේ ජනතාව තුළ පරදේශික ආණ්ඩුවේ කුලී සේවය කරන පිරිසක් ඇති වීමත් පෞද්ගලික වාණිජ ව්‍යාපාර රජයේ බලයට යටත් වන සේ පාලනය කිරීමත්, එදිනෙදා යම්තම් ජීවිතය පවත්වා ගෙන යාමට පමණක් සීමා වූ ජීවන තත්ත්වයක් පවත්වමින් යටත් ව වසන බහුතර නියාලු ජනතාවක් ඇති වීමත් ය. විදේශීන් ගේ භාෂාව ඉගෙන, ඔවුන්ගේ ආගම වැලැඳගෙන, සංකර සිරිත් විරිත් අනුගමනය කළ, අතළොස්සක් පමණ ස්වදේශීන් හැරුණු විට රටවාසී බහුතර ජනතාවට සිදු වූයේ දිළිඳු, නූගත්, රෝගවලින් පෙළෙන, වහලුන් ලෙස සිය ජීවිතය ගෙන යෑම ය.

දහනව වැනි සියවස අවසාන යුගයේ දී යටත් විජිත පාලකයන් ගේ ක්‍රියා මාර්ගයේ වෙනසක් දක්නට තිබිණි. තමන් පාලනය කළ ස්වදේශීන් 'ශීලාචාර' කිරීම සඳහා සිදු කළ ප්‍රයත්නයෙකි මෙය. එය වූ කලි ස්වදේශීන් කෙරෙහි පහළ වූ දයාවකින් සිදුවූවක් නො ව පාලන ප්‍රයෝගයෙක් ම විය. අධ්‍යාපන ක්‍රමයේත්, පාලන තන්ත්‍රයේත්, සමාජ සේවා ක්‍රමවලත් සිදු කළ වෙනසක් වුවත් එය ජනතාවට කරුණාවෙන් සිදු කරන ලද්දක් නො ව පාලකයන්ගේ ම අනාගත ශුභසිද්ධිය සලකා කළ වෙනසෙකි. මේ කාලය ජනතාව තුළ ස්වදේශානුරාගය වැඩෙමින් පැවැති අවධියෙක් විය. මේ සියවස තුළ එය උග්‍රව බල පැවැත්මේ හේතුවෙන් යටත්විජිත බොහෝ ගණනක්ම දෙවෙනි ලෝක සංග්‍රාමයෙන් පසු දේශපාලන නිදහස ලබාගත් හ. ශ්‍රී ලංකාව ද 1948 න් පසු සීමිත දේශපාලන නිදහස් පාලනයක් ලබා ගත්තා ය.

සීමාසහිත දේශපාලන නිදහසක් වූ මෙයින් ලැබුණු සර්වජන ඡන්දය නිසා පෙරට වඩා මහජනයාට සිය මන්ත්‍රීවරුන් තේරීමේ බලයක් ඇති වූ බැව් පිළිගත යුතු ය. විශේෂයෙන් ම වරප්‍රසාද ලත් පක්ෂයට, මෙය තුළින් වඩාත් නිදහස ලැබීම නිසා, රටේ එක් තරමක සමාධියක් හෙවත් සෞභාග්‍යයක ලකුණු දක්නට ලැබිණි. එබැවින් මෙම නිදහසේ සීමිත ස්වභාවය ගැන රටවැසියනට නියම අවබෝධයෙක් ඇති නො වීය. දෙවැනි ලෝක සංග්‍රාමයෙන් පසු ව ලංකාවේ විදේශ විනිමය රැස් ව තිබීම නිසා මෙ ම ධනාඪ්‍ය තත්ත්වය ඇති විය. ලෝක සංග්‍රාමයට ආධාරයක් වශයෙන් මෙ රටේ රබර් ගස් මැරෙන්නට කපා එංගලන්තයට රබර් සැපයීමේ හේතුවෙනුත්, නැව් ගමනාගමනය අඩුවීමෙන් විදේශීය වෙළෙඳ භාණ්ඩ මෙ රටට ගෙන ඒම අඩු වූ නිසාත්, විදේශයෙන් ලැබුණු පාරිභෝගික ද්‍රව්‍යයන් ගේ නිෂ්පාදනය යුද්ධය නිසා නතර ව තිබීම

නිසාත් මෙ සේ විදේශ විනිමය රැස් වූ බව සැලකිය යුතු ය. විදේශ විනිමය රැස්වීම නිසා අප රටවාසීන් ගේ ආහාරය වූ සහල් පිටරටින් ගෙන්වා ගැනීමත්, ධනවතුන් ගේ උපභෝගය පිණිස සුඛෝපභෝගී භාණ්ඩ ගෙන්වා ගැනීමත්, පහසු විය. එහෙත් 1950 මධ්‍ය භාගය වන විට ජනතාව සිය අයිතිවාසිකම් පිළිබඳ ව උද්ඝෝෂණ කරන්නට වීම නිසා මෙ වැනි තත්ත්වයක් දිගටම පවත්වා ගෙන යෑම සූකර නො වී ය. යම්තම් යැපීම පමණක් ගෙනදෙන ආර්ථික පරිසරයක ජීවත් වී සිටීමෙන් සතුටු නොවූ ජනතාව රජයක් පිහිටුවීමේ බලය පමණක් ඇති නිදහසකින් ද තෘප්තිමත් නො වූ හ.

ප්‍රථමයෙන් ම ජනතාව ස්වකීය භාෂාව සහ සංස්කෘතිය රජය මගින් පිළිගැනීම අපේක්ෂා කළ හ. රටේ රාජ්‍ය භාෂාව වූ ඉංග්‍රීසිය වෙනුවට රටවැසියාගේ භාෂාව වූ සිංහල භාෂාව රජයේ කටයුතු සඳහා යොදා ගැනීම ඔවුන් ගේ අභිමතය විය. මෙයට පසු ක්‍රිස්තියානි ආගමික සංස්ථාවනට දී තිබුණු විශේෂ වරප්‍රසාද නැති කොට රටවැසියා ගේ චිරාගත ආගම වූ බුද්ධාගමට එයට හිමිතැන එ නම්, රට පරාධීන වීමට පෙර පැවති තත්ත්වය ලබාදීම ය. තුන් වැනි ව රටේ වරප්‍රසාද ලත් පංතිවලට සහ අගනුවරත් එසේම අවශේෂ ප්‍රධාන නගරවලත් අතළොස්සකට පමණක් සීමාව පැවති උසස් අධ්‍යාපනය මෙ රට බහුතර පිරිස වූ ගැමි ජනතාවට ලබාදීම ය. එ සේ ම රටේ සෞඛ්‍ය සහ සමාජ සේවාවන් යථායෝග්‍ය සේ ප්‍රතිසංස්කරණය කිරීමත්, ආර්ථික අංශයේ සමාන අවස්ථා ලබාගැනීමත්, ජනතාවට අවශ්‍ය විය.

ජාතික හා විදේශික වෙළෙඳ අධිකාරයෙන් රට මුදවාගැන්මත්, ඉඩම් භුක්තිවිඳීමේ දී පැවති නින්දගම් හා අවශේෂ රදල සම්ප්‍රදායත්, ඉඩම් හිමියන් ගෙන්, මුදල් පොලී කරන්නන් ගෙන් සහ වට්ටම් කාරයන් ගෙන් පැවති කරදරවලින් ජනතාව මුදාගැනීමත්, ආර්ථික ක්ෂේත්‍රයේ පැවති අවශේෂ බාධකවලින් නිදහස ලබාගැනීමත්, රටවැසියාට අවශ්‍ය විය. කොටින් කියතහොත් 1950 මධ්‍ය භාගය වන විට ලංකාවාසී ජනතාව 1948 දී ලද ඊනියා නිදහසේ පූර්ණත්වය මෙන්ම නිජ ජාතික සංස්කෘතියත්, සාමාජික හා ආර්ථික ස්වාධීනත්වයත්, ලබාගැන්මට මානසිකව සැරසී, සැකැසී සිටි පිරිසක් වූ හ. රටේ බහුතරය සිංහල බෞද්ධයන් වූ නිසා ද්‍රවිඩ හින්දූන් ඇතුළු බහුතර ශ්‍රී ලාංකික ජනතාව ගේ අභිප්‍රාය ද මෙ ලෙස ම වූවත් මේ පිබිදීම සිංහල බෞද්ධයන් තුළින් ඇතිවීම පුදුමයට හේතුවෙක් නොවේ.

ඒ අවධියෙහි ජනතාව අපේක්ෂා කළ පිළිවෙළේ නායකයෙක් ඉදිරිපත් ව සිටියේය. හේ නම් එස්. ඩබ්ලිව්. ආර්. ඩී. බණ්ඩාරනායක මැතිතුමා ය. 1956 යේ පැවැති මහ ඡන්ද විමසීමේ දී ජනතාව ඉහත සඳහන් ප්‍රතිසංස්කරණය සිදු කිරීමට අවශ්‍ය බලය එතුමාට ලබා දුන්හ. මෙය 2500 බුද්ධජයන්ති වර්ෂය වූයෙන් එම පෙරළිය ජාතියේ ඓතිහාසික සංකේත රූපයක් ගත්තේ ය. බණ්ඩාරනායක මහතා මේ අවදියේ බලයට පත් වීම පොදු ජනතාව ගේ ප්‍රාර්ථනා මුදුන් පත්වීමක් ලෙස සැලැකිණි. ශත වර්ෂාධික කාලයක් තිස්සේ පැවති බෞද්ධ චින්තනය හා පිළිවෙත් පිළිබඳ පුනරාලෝකයක් හටගත් මෙම අවධිය රටවැසියා තුළ ඔබා දමා පැවති ප්‍රාර්ථනා හා බලවේගයනට නව ප්‍රාණයක් ලද යුගයෙක් විය. නව ජාතික ප්‍රබෝධයකින් උද්දාම වූ රටවැසියා

ස්වකීය සාහිත්‍යය, නාට්‍යකලා, සංගීතය සහ ආගමට පුනරුත්ථානයක් දීමට සැරසුණ හ. දේශීය සංස්කෘතියෙන් ආභාසය ලැබූ සංස්ථා ආරම්භ ව සාමාජික සහ ග්‍රාමීය නවෝදයක් සඳහා ඉදිරි ගමනෙහි යෙදුණහ. සමාජයේ යථා තත්ත්වය ආරක්ෂා කිරීමත්, පින් සලකා මෙන් හුදෙක් පාරලෞකික වාසි බලාපොරොත්තුවෙන් හෝ යුරෝපීය ක්‍රමයට සකස් වූ සමාජ සේවා ආයතන මෙන් නොව අප දේශයට සහ ආගමට ආවේනික ප්‍රතිපත්ති මත ගොඩනැගුණු මෙම නවීන සංස්ථා රටවැසියා තුළින් ම පැනනැගී ඔවුන් ගේ ප්‍රාර්ථනා සාක්ෂාත් කරන ඒවා විය. ජාතික නවෝදයක් ආරම්භ වූ මෙකල සර්වෝදය දර්ශනය ද කළල අවස්ථාවෙහි පැවැත්තේ ය.

මෙසේ එස්.ඩබ්ලිව්.ආර්.ඩී. බණ්ඩාරනායක මහතා ඇති කල විප්ලවීය නෛතික සහ පාලන ක්‍රමික ප්‍රතිසංස්කරණ අතුරින් හතරක් අපේ මේ සාකච්ඡාවට අදාළ වූත්, උසස් ජාතික ස්වරූප දැරූ ඒවාත් විය. ප්‍රථම වශයෙන් රටවැසි ජනතාවට රජය සමඟ ගනුදෙනු කිරීමේ දී ඔවුන්ගේ භාෂාව ඒ සඳහා යොදා ගැන්මට දුන් නිදහසේ ප්‍රතිඵලයක් වශයෙන් රටවැසි ජනතාවට තමන් කතාකරන සිංහල (හෝ දෙමළ) භාෂාවකින් ලියුම් ගනුදෙනු කිරීම් හා උත්තර ලබාගැන්මේ අවස්ථාව ලැබුණේ ය. දෙ වැනි ව එ කල මහජනයා ගේ අප්‍රසාදයට පත්ව පැවැති ගම්මුලාදෑනි ක්‍රමය වෙනුවට ග්‍රාමසේවක ක්‍රමයක් ආරම්භ කිරීම ය. ගම්වාසීන් ඔබාගැන්මේ ආයුධයක් වූ ගම්මුලාදෑනියා සිය පත්වීම ලැබුවේ කච්චේරියේ ඒජන්ත ගෙනි. යාවජීව පදවියක් දැරූ ඔහු පත්වීම ලැබූ ප්‍රදේශයේ ම රාජකාරිය කළ නමුත් 'ගම්වාසීන් ගේ සේවකයා' යන අර්ථවත් 'ග්‍රාමසේවක' පළාතට සම්බන්ධයක් නැති මාරුවී ප්‍රදේශයෙන් ප්‍රදේශයට යන, සමාජ සේවකයෙක් විය. තුන් වැනි ව ස්වකීය ප්‍රදේශවල වී ගොවිතැන පිළිබඳව ස්වාධිකාරයක් ඇති කැරලීම පතා පළාත්වාසී ගොවීනට සිය වැඩ කටයුතුවල දී එක්සත් ව තමන්ගේ අභිරුචිය ඇති ලෙස එය කැරගෙන යෑමට දිරිදීම සඳහා ප්‍රාදේශීය ගොවිකාරක සභා ඇති කැරවිණි.

අවුරුදු දෙකෙක කාලයක් තුළ ආරම්භ කළ මෙම ඓතිහාසික ප්‍රතිසංස්කරණ මාලාව හේතුකොට ගෙන ග්‍රාමීය නවෝදයෙක සංස්ථාපනයෙක් ඇති විය. මේවායේ ප්‍රතිඵලයක් වූයේ මහජනතාවට සිය කාර්යයන් ලේ හෙල්ලු විප්ලවයක් නොමැති ව සමාජ සංවර්ධනයක් තුළින් ඇතිකර සිය ජීවිත සාමකාමී ව ගෙනයෑමට මග සැලැස්වීම යි.

අහිංසාවාදී මහත්මා ගාන්ධි වැනි අහිංසක දේශපාලන මාර්ගයක ගමන් කළ එස්.ඩබ්ලිව්.ආර්.ඩී. බණ්ඩාරනායක අගමැතිතුමාට තමා ආරම්භ කළ ජාතික පුනර්ජීවන ව්‍යාපාරය එහි අවසානය දක්වා ගෙන යෑමට ඉඩ නොලැබුණේ ය. ජනතාව ගේ ආත්මාභිමානය සහිත වූ සමාජ සාධාරණය සහ දේශපාලන අයිතිවාසිකම්වල ආරක්ෂාව සැලසීම ආරම්භ කළ එතුමා සාහසිකයන් ගේ උදහසට ඉලක්කව මරු වෙත ගියේ ය. රටවාසීනට මෙතුමා අත්‍යවශ්‍යම වූ අවධියේ මේ සිද්ධිය නිසා මෙරට වාසීහු අතරමං වූ හ.

මෙම ජාතික පුනර්ජීවනයට දෙමළ හින්දු ජනතාවත් සෙසු ක්‍රිස්තියානි හා මුස්ලිම් ජනතාවත් සම්බන්ධ කරගෙන එහි පූර්ණත්වයක් ඇති කිරීමට බණ්ඩාරනායක මහතා තුළ අධිෂ්ඨානයක් හා හැකියාවක් තුබුණු බවට සැකයෙක් නැත. එහෙත් අදූරදර්ශී සමහර සිංහල බෞද්ධ නායකයන්ගේත් ජාතික අභිවෘද්ධියට වඩා බල ලෝභයට ගැති වූ සමහර දේශපාලන හතුරන් ගේත් බාධක නිසා එම ජාතික මෙහෙය තමා බලයේ සිටි දෙවසර තුළ දී එතුමාට ඉටුකළ නොහැකි විය. දේශද්‍රෝහී කණ්ඩායම්වල විවිධ කූට උපක්‍රම මගින් පිබිදී ගෙන ආ ජාතික චින්තනය හා අනන්‍යතාව බිඳ හෙළීමට අවස්ථාවක් ලැබිණි.

ඉහත සඳහන් කළ ප්‍රතිසංස්කරණ හතර ඇති කළ මෙතුමා ගේ දූර දර්ශනය පිළිබඳ ව මෙයින් පසු ව ඇති වූ ආණ්ඩුවලට කොතරම් අවබෝධයක් ඇති වූයේ දැ යි මෙහි ලා නිගමනය කිරීම අවශ්‍ය නොවෙතැ යි සිතමු. එහෙත් එක් සත්‍යයක් පමණක් මෙහි දී පැහැදිලි ව පෙනිණි. යටත්විජිත යුගයෙන් ඇති වී එහි ජීවනය මත හැඩගැසී, අයබදු එකතු කිරීමේ ප්‍රධාන යන්ත්‍රය වූ ද, පාලන යන්ත්‍රය වූ ද, පාලන ප්‍රණාලිය වූ ද, නිලධාරී පැලැන්තියකට රටවැසියාට හිතකර වූත්, ඔවුන්ගේ පුනරුත්ථාපනය අපේක්ෂා කරන්නා වූත්, යෝජනා ක්‍රම ක්‍රියාත්මක කළ හැකි වේ ද යන්නය. බණ්ඩාරනායක මහතා ඇති කළ ක්‍රියාමාර්ගය රඳා පැවැත්තේ මහජනයා ගේ සහභාගිත්වයෙන් ප්‍රජාතාන්ත්‍රික ව ක්‍රියා කරන වැඩ පිළිවෙළක් මතය. නිලධාරී පංති පාලනය එයට සාකල්‍යයෙන්ම විරුද්ධ ප්‍රතිපදාවෙක් විය. රටවැසියා ඔබාගෙන, වහල්භාවයේ තබා, අයබදු ගැන්ම සඳහා ඇතිකළ නිලධාරී පංතියක ගේ ආධාරයෙන් රටක ආර්ථිකයට පුනර්ජීවයක් ලබාදීමට තැත් කිරීම නිෂ්ඵල ප්‍රයත්නයෙකි. මෙයින් පසු ඇතිවූ සෑම රජයක් ම සමාජීය-ආර්ථික විප්ලවයක් ඇති කිරීමේ භාරදූර කාර්යය මහේශාක්‍ය නිලධාරී පංතියට පවරාදීම නිසා විශාල ලෙස මහජනතාවගෙන් දඬුවම් ලබාගත් බව පමණක් පැවැසීම මෙ තැන්දී ප්‍රමාණ වෙතැ යි සිතමු.

බණ්ඩාරනායක අගමැතිතුමාගේ අභාවයෙන් පසු වත්, 1970 වර්ෂයත් අතර කාලයේ දි සංවිධානය වූ දේශපාලන පක්ෂ සහ නිලධාරී පංතිය තුළ මහජන සේවා පිළිබඳ කො පමණ පිරිහීමක් ඇති වූවත් ප්‍රධාන වශයෙන් සමාජීය අංශ තුනක් පිළිබඳ ව මෙහි ලා සඳහන් කළ යුතු ය. පළමු ව සඳහන් කළයුත්තේ ගම්වැසි ජනතාව සෙමින් සෙමින් වුවත් ස්ථිරව ම තම-තමන් ගේ වගකීම් හා අයිතිවාසිකම් පිළිබඳ ව අවබෝධයක් ලබාගැනීමය. දෙවැනි ව කිව යුත්තේ, තරුණ පිරිස ජාතික කටයුතු සඳහා වේගවත් ව පෙරමුණට යෑම ය. තුන් වැනි ව, බණ්ඩාරනායක ප්‍රතිපත්ති මාලාවට විරුද්ධ වූ ද, එ සේ ම කල්-යල් පැන්නා වූ ද, දේශපාලන ක්‍රමයන් මත ගොඩනැඟී නිලධාරී පංතියේ බලයෙන් ජීවය ලද්දා වූ ද, දේශීය සහ පරදේශීය ධනපති කොට්ඨාශයන් ජනතාව තවදුරටත් ඔබාගෙන, නැගී සිටීමට ඉඩ නොදෙන අදහසින්, සමාජාධාර දීම ආදී පැලැස්තර දැමීමේ කාර්යයක යෙදීමට පටන් ගැන්ම ය. මොවුන් මේවායින් අදහස් කළේ බණ්ඩාරනායක මහතා ආරම්භ කළ චතුර්විධ ප්‍රතිසංස්කරනයන් විනාශකර දැමීම ය. මේ හේතුවෙන් රජයේ භාෂා ප්‍රතිපත්තිය අඩපණ විය.

ග්‍රාමසේවක ක්‍රමය, නමින් පමණක් වෙනස් වූ පැරණි ගම්මුලාදෑනි ක්‍රමයේ තත්ත්වයට ම පත්විය. ගොවීන් ගෙන් ම සංයුක්ත වියයුතු ගොවිකාරක සභා තුළට ගම්වල විසූ ප්‍රතිගාමී ඉඩම් හිමි මුදලාලිලා ඇතුළු වී නිලධාරී පංතියේ ද ආධාරය ඇති ව කුඹුරු පණත වැනි ප්‍රගතිශීලී පණත් අඩපණ කළ හ. අවසාන වශයෙන් කිවයුත්තේ ජාතියේ දායාදය විය යුතු තරුණ ජනයා ජාතියේ හිසරදයක් බවට පරිවර්තනය වීමට ඉඩ තැබීම යි. කවර ජාතියෙක වුවත් තරුණ පිරිස එ රටට බරක් හැටියට සලකන්නට සිදු වුවහොත් ඒ ජාතියේ පරාභවය හෙවත් පිරිහීම නියත වන්නේය.

නිදහස සහ අනාගත සමාධිය උදා වීමේ පෙර ලකුණු පහළ වූ යුගයක් වූ 1956-58 කාලය තුළ දී සර්වෝදය ව්‍යාපාරයේ ආරම්භය ඇති වුවත් එය වැඩි පරිණතභාවයට පත්වීම කළ යුතු ව තිබුණේ දේශපාලනය අතින් අවිනිශ්චිත, අන්ධකාරී යුගයෙක ය. ලෝකයේ මහා පුරුෂයන් ගේ දර්ශන කෝටි සංඛ්‍යාත ජනතාව අතර බෙදා දී ඔවුන් ගේ පරමාර්ථ සාර්ථක ලෙස අවබෝධ කැරගැන්මට නම්, ජනතාව ගේ අවබෝධය සහ සහයෝගය අත්‍යවශ්‍ය වන්නේ ය යන චේතනාවෙන් මෙහෙයවනු ලැබූ සර්වෝදය ව්‍යාපාරය ස්වාභාවික ලෙස වර්ධනය වන්නට පටන් ගත්තේ ය. මේ නිසා මෙම ව්‍යාපාරය ආරම්භ වූයේ ගම්වැසි ජනතාවත්, විශේෂයෙන් ම තරුණ පිරිසත් සංවර්ධන මාර්ගයේ මෙහෙයවා පහත දැක්වෙන පරමාර්ථ ඉටු කැරගැනීම සඳහා ය.

I අප අවට සිදුවේගෙන යන විශාල පරිවර්තනයන් සිහියේ තබමින් අපේ දේශීය සංස්කෘතියට අනුරූප වන සේ තරුණයන් ගේ හැඩ ගැස්වීමත්.

II සිදුවීගෙන යන සමාජ විප්ලවය පිළිබඳ අවබෝධයක් ගැමි ජනතාවට ලබාදීම සහ සිය සංස්කෘතිය හා වගකීම අනුව එහි දායකයන් කරවීමත්,

III ජාතිය, කුලය, භාෂාව සහ ආගම යන බේදීම්වලින් තොර ව සෑම දෙනා තුළ ම ජාතික ඒකාබද්ධ තත්ත්වයක් ඇති කිරීමත්; සත්‍යය, අවිහිංසාව, ආත්ම පරිත්‍යාගය තුළින් ඔවුන් ජාතික පුනර්ජීවනයේ පොදු කොටස්කරුවන් කිරීමත් එ මගින් මූලික වූ මානුෂික අයිතිවාසිකම් සහ සමාජ සාධාරණය ලබා ගැන්මත්,

IV එසේම ලෝක සාමයත්, මනුෂ්‍ය සහෝදරත්වයත්, සමාජයේ මූලික කොටස් තුළ සංවර්ධන සහයෝගයක් යන මේ පරමාර්ථ සඳහා අනිත් රටවල ජීවත් වන මිනිසුන් සමඟ සහෝදරත්වයෙන් බැඳී මෙම ප්‍රාර්ථනා සහ ප්‍රගතිශීලී ක්‍රියාවලිය සාර්ථක ලෙස පවත්වාගෙන යැමත් ය.

1956 සිදු වූ චින්තන විප්ලවය බණ්ඩාරනායක මහතා ගෙන් පසු ඉදිරියට ගෙන යැමට දේශීය චින්තනය සහ සංස්කෘතිය අවබෝධ කැරගත් නායකත්වයක් දේශපාලන ක්ෂෙත්‍රය තුළින් පහළ නොවීම ජාතියේ අභාග්‍යයෙකි.

# 4
# කිරීමත් සමග කතාවත්

රාජ්‍ය තන්ත්‍රය තුළින් සහ රාජ්‍ය තන්ත්‍රයේ නායකත්වයෙන් දේශීය පුනර්ජීවයක් ඇති වීමේ බලාපොරොත්තු දිනෙන් දිනම සුන් වී ගිය නිසා 1959-64 අතර, කාල පරිච්ඡේදයේ දී ජනතා ව්‍යාපාරයක් හැටියට සර්වෝදය පුළුවන් ප්‍රමාණයට සිංහල බෞද්ධයන් අතර පමණක් නො ව දෙමළ හින්දු අය සහ සෙසු ආගමිකයන් අතර ශ්‍රමදාන කඳවුරු සහ විවිධ ප්‍රජා සංවර්ධන ව්‍යාපාර දියත් කරමින් අපි අපේ අවබෝධය අනුව අහිංසාවාදී විප්ලවයක් තුළින් සාධාරණ වූත්, දුප්පත්කමින් තොර වූත් සමාජයක් ගොඩනැංවීමට සිහින දකිමින් විවිධ නිර්මාණාත්මක ක්‍රියාවල යෙදුණෙමු.

සිය දහස් ගණන් ගුරුවරුන් සහ සිසුන් සමාජයෙන් කොන් කරන ලද ගම්මානවලට සති අන්තයේ දී සහ නිවාඩු කාලවල දී ගොස් ඔවුන් සමග උරෙන්උර ගැටී වැඩ කරනු දුටු සමහරු අපෙන් විවිධ ප්‍රශ්න ඇසීමට පෙලැඹුණ හ. නො තකා හැරීම, සමච්චලයට ලක් කිරීම, පරිභවයට ලක් කිරීම, මර්දනයට ලක් වීම සහ අවසානයේ දී ගෞරවයට ලක් වීම යන මහත්මා ගාන්ධිතුමා පෙන්වා දුන් අවස්ථා පහ අපි ව්‍යාපාරයේ මුල් පස් වසර තුළදීම උපේක්ෂා සහගතව පසු කළෙමු. එහෙත් රටට ප්‍රයෝජනවත් යමක් කිරීමෙන් පමණක් සෑහීමකට පත් නොවී ඒ පිළිබඳ කතා කිරීමටත් අපි පෙලැඹුනෙමු. දැනට දශක දෙකකටත් ඉහත දී අප පළ කළ ලිපිවලින් සමහර කොටසක් මෙහි උපුටා දැක්වීම වැදගත් ය යි සිතමි. ඒ කාලයේ තරුණ ජීවිත ගත කළ අපේ සිතුම් පැතුම් එයින් පෙනේ.

## පොදු ජාතික දර්ශනයක්[1]

ලංකාවේ ශ්‍රමදාන ව්‍යාපාරය 1958 දී කනතොලුව නම් ඈත පිටිසර ගම්මානයේ දී බාල, තරුණ, ගුරු, ශිෂ්‍ය පිරිසක් විසින් වෙනත් වැඩිහිටි කිහිප දෙනෙකු ගේ අනුග්‍රහය ද ඇති ව ආරම්භ කළ නිශ්ශබ්ද විප්ලවයකි. 1960 සම්පූර්ණ වන විට ලංකාවේ ගම් රාශියකට ම ශ්‍රමදාන පණිවුඩය ලැබිණි. ශ්‍රමදානයෙහි යෙදීමෙන් පුද්ගලයා ගේ සිතෙහි හා හදවතෙහි ඇති වන විප්ලවයක මාර්ගයෙන් ම ශ්‍රමදාන ව්‍යාපාරයේ දර්ශනය සහ සාමාජික වටිනාකම ගැන හැඟීමක් එක් එක් ශ්‍රමදාන සේවකයාට ලබා ගැනීමට අපි මෙ තෙක් ඉඩ තැබීමු. ක්‍රියාවෙන්ම හැර කතාවෙන් හෝ ලිවීමෙන් හෝ පමණක් ශ්‍රමදාන ව්‍යාපාරය ගැන සංවිධානාත්මක අධ්‍යාපනික වැඩ පිළිවෙළක් ඒ නිසාම අපි මෙතෙක් ක්‍රියාත්මක නො කළෙමු. එහෙත් ශ්‍රමදාන ව්‍යාපාරය ගැන නොයෙක් දෙනා නොයෙක් අදහස් දැන් පළ කරන නිසාත්, විශේෂයෙන් ජාතික තරුණ සේවාවක් රජය විසින් සංවිධානය කරන නිසාත් ලංකාවේ ශ්‍රමදාන ව්‍යාපාරය වෙනුවෙන් එහි ප්‍රතිපත්ති හා වැඩ පිළිවෙළ මහජනයා ඉදිරියෙහි තැබීම අපේ බලවත් ජාතික යුතුකමක් හැටියට අපි සලකමු. මේ ලිපි පෙළින් සංක්ෂිප්තව කෙරෙන්නේ ඒ ක්‍රියාව යි .

---

[1] සර්වෝදය පත්‍රය - 1961 අප්‍රේල්

රටෙක ප්‍රගතිය සඳහා අත්‍යවශ්‍ය මූලික සාධකය දේශපාලන නිදහස යි. විදේශීය ආධිපත්‍යයකට යටත් ව සිටින රටක සෑම පුරවැසියකුගේ ම ව්‍යායාමය විය යුත්තේ දේශපාලන නිදහස සඳහා සටන් කිරීම යි. එ දා ඉන්දියාව, ලංකාව, බුරුමය, ඉන්දුනීසියාව ආදී රටවල ජාතිහිතෛෂී මනුෂ්‍යයන් ජීවිත පරිත්‍යාගයෙන් ක්‍රියාත්මක කළේත්, අද ඇල්ජීරියාව වැනි උතුරු අප්‍රිකානු රටවල කෙරෙන්නේත් මේ සටන යි. දේශපාලන නිදහස ලබාගත් රටක ඊළඟ පියවර විය යුත්තේ සියලුම ජාතික ව්‍යායාමයන් රටේ ආර්ථික හා සාමාජික විප්ලවයක් මාර්ගයෙන් රටේ සාමයත් සමෘධියත් ඇති කිරීම සඳහා යෙදවීම යි.

1948 පෙබරවාරි 4 දා අපට දේශපාලන නිදහස ලැබිණි. එහෙත් අපට එංගලන්තයෙන් ලැබුණේ එපමණක් ම නොවේ. දේශපාලන නිදහසත් සමඟම පක්ෂ දේශපාලන ක්‍රමයකුත් නිරායාසයෙන් ම අයත් විය. නිදහස ලැබීමෙන් පසු ව මුලින් ම පැවැත්වූ මහජන ඡන්දයට කඩිමුඩියේ අපේ ජාතික නායකයෝ පිල්වලට බේදී සැරසුණ හ. රටේ තිබුණ උගත් මොළවලින් වැඩි කොටසක් ම තමාගේ හෘදය සාක්ෂියට අනුව හෝ වේවා නැති නම් අවස්ථාවෝචිත පහසුකම් අනුව හෝ වේ වා යම් යම් පක්ෂවලට අයිති වූ හ. තම අදහස් සත්‍යවාදී මාර්ගවලින් පමණක් නොව ඉතාම හීන දීන මාර්ගවලින් ද මහජනයා පොළඹවා බලය අල්ලාගැනීමට මෙයින් බොහෝ කණ්ඩායම් සිය කාලය ගෙවූ හ. කල් යත් ම මුළු රටවැසියාම පන්ති, කුල, ජාති, ආගම් ආදී හැම භේදයක් උඩ ම එක් එක් දේශපාලන පක්ෂවලට ගැතිවන්නට පටන් ගති. ප්‍රතිඵලය වූයේ මිනිසා මිනිසා ගෙන් ම බෙදෙන, ඈත් කරන බලවේගයන් රාශියක් ම සමාජයේ ක්‍රියාත්මක වන්නට පටන් ගැනීම යි. මුළු ජාතියම එකම පොදු අරමුණකට ගෙන සාමාජික හා ආර්ථික විප්ලවයක් ඇති කිරීමේ අවශ්‍යතාව දිනෙන් දිනම පසුබිමට තල්ලු විය. පොදු ජාතික දර්ශනයක් නැතිවීමෙන් ලාංකිකයා අතරමං විය.

කරුණු මෙසේ වුවත් වේගවත් ව කාර්මික යුගයකට පරිවර්තනය වෙමින් සිටි ප්‍රංශයේ සහ එංගලන්තයේ බිහි වුණු පක්ෂ දේශපාලන ක්‍රමය අනුව සැකැසුණු අපේ දේශපාලන පදනම ගැන ප්‍රශ්න කළේ අප නො වේ. අපේ පරිසරයටම ගැළපෙන, අපේ ජාතික පරමාර්ථයන් මුදුන්පත් කරගත හැකි පාලන ක්‍රමයක් ගැන සොයා බැලුවේ, හිතුවේ, සාකච්ඡා කළේ අප නොවේ. මෙහි ප්‍රතිඵලය වූයේ තරඟයකින් තොර ව මුළු ජාතියේ හොඳ හිත හා කායික ශක්තිය ජාතික සංවර්ධනය සඳහා එක් තැන් කොට යෙදවීමට සුදුසු ක්‍රියාමාර්ගයක් අපට සොයාගන්නට බැරිවීමයි. ශ්‍රමදාන ව්‍යාපාරය පටන් ගත්තේ මේ මූලික අඩුව පිරිමසා සෑම පුරවැසියකු ම පොදුවේ රටේ සාමාජික හා ආර්ථික ප්‍රගතිය උදෙසා එකම පෙරමුණකට ගැනීමට තරම් බලසම්පන්න පක්ෂභජනයෙන් තොර ජන ශක්තියක් ඇති කරවීමට යි.

මේ ජන ශක්තිය ඇති කිරිම සඳහා ශ්‍රමදාන ව්‍යාපාරිකයන් වූ අපට පොදු ජාතික දර්ශනයක් බිහි කරලීමේ අවශ්‍යතාව මුලින්ම වැටහිණි. ඉදිරියට ගමන් කරන සෑම ශ්‍රේෂ්ඨ ජාතියක් ම එහි වැසියා පොදුවේ පිළිගත් ජාතික දර්ශනයක් පෙරමුනේ තබා ගනියි. සියලුම ජාතික සංවර්දන ක්‍රම හා සංස්ථාවන් ගොඩනැංවිය හැක්කේ

සෑම පුරවැසියකු තුළම කාවැදී තිබියයුතු ඒ ජාතික දර්ශනය උඩ යි. රට අභ්‍යන්තරයේ තිබෙන නොයෙක් මාදිලියේ පක්ෂභජනවලින් මේ නිසා රට දුර්වල වීමත්, ජාතික සංවර්ධනයට හානියක් වීමත් සිදු වේ.

අප විසින් බිහිකරලිය යුතු පොදු ජාතික දර්ශනය අපට ම ආවේනික වූත් පහසුවෙන් ක්‍රියාවට නැගිය හැකි වූත් එකක් විය යුත්තේ ය. එ සේ ම එය පරස්පර විරෝධී සමාජ ක්‍රමවලින් බේදී ඇති සෑම ජන කොට්ඨාශයකට ම පිළිගත හැකි දර්ශනයක් ද විය යුත්තේ ය. ආර්ථික හා සාමාජික ප්‍රජා ප්‍රගති ක්‍රමයක් කො තරම් විද්‍යානුකූල වුවත් කෙතරම් ශක්තිමත් රජයක් විසින් කාර්යක්‍ෂමව නිලධාරීන් යොදවා ක්‍රියාවේ යෙදවුවත් එය මුළු ජාතියේ ම මහජන ව්‍යායාමයක් නො වුවහොත් එහි ප්‍රතිඵල බලාපොරොත්තු වන තරම් සාර්ථක නොවනු ඇත. එම නිසා පොදු මහජනයාගේ මය යි කිවහැකි විධියේ මහජනයා තුළින් ම ඇති වුණු හැඟීම් වලින් පණ පෙවුණු ජාතිය හැදීමේ ක්‍රමයක් ඇති විය යුතු ය. මේ ක්‍රමයේ ජීවනාලිය විය යුත්තේ ද අප සඳහන් කරන ජාතික දර්ශනය යි.

ශ්‍රමදාන ව්‍යාපාරය පදනම් වූයේ ඒකාධිපති වාදයට නෑකම් කියන "ටික දෙනෙකු ගේ යහපත" යන ආත්මාර්ථකාමී න්‍යාය ධර්මය උඩ වත් "වැඩි දෙනෙකුගේ වැඩි යහපත" යන ප්‍රජාතන්ත්‍රවාදී මූලධර්මය උඩ වත් නො වේ. මෙ තෙක් මනුෂ්‍යයා විසින් සොයාගෙන විශාල වශයෙන් පිළිගත් මතය ප්‍රජාතන්ත්‍රවාදී "වැඩි දෙනෙකුගේ වැඩි යහපත" යන මතය බව අපි පිළිගනිමු. එහෙත් අපේ උදාර අතීතයට වඩාත් එකග වූ ධර්මඥානය නොමැති විද්‍යාඥානයෙන් මනුෂ්‍ය වර්ගයා විනාශයට යා නොදී බේරාගත යුතු වර්තමානයට අත්‍යවශ්‍ය වූ අනාගතයේ දී බිහි වන සාමකාමී මනුෂ්‍ය සමාජයකට සුදුසු වූ මූල ධර්මයකි අපි පිළිගත්තේ. එනම් "සියලු දෙනා ගේ යහපත" යන තේරුම ඇති සර්වෝදය සමාජ ක්‍රමය යි.

සර්වෝදය යන වචනය සෑදී ඇත්තේ 'සර්ව' සහ 'උදය' යන වචන දෙකෙන් ය. 'සර්ව' යන්නෙන් සම්පූර්ණ යන අදහස ද 'උදය' යන්නෙන් උදාවීම යන අර්ථය ද ලැබේ. එම නිසා සියලු දෙනාගේ ම යහපත ස්ථිර කරන හෙවත් සියලු දෙනා ගේ ම සම්පූර්ණ පිබිදීමට තුඩුදෙන විධියේ සමාජ ක්‍රමයක් සර්වෝදය යනුවෙන් අදහස් කැරේ. තව ටිකක් ගැඹුරට මේ ක්‍රමය දෙස බැලුවොත් එක් එක් පුද්ගලයා ගේ කායික, මානසික, මනෝවිද්‍යාත්මක සහ ආධ්‍යාත්මික පරිපූර්ණත්වයට සහ වර්ධනයට තුඩු දෙන්නා වූ ද, සාමූහික වශයෙන් ප්‍රජාවක හෝ මනුෂ්‍ය වර්ගයාගේ ම හෝ සාමාජික, ආර්ථික දේශපාලනමය සහ ආධ්‍යාත්මික ප්‍රගතිය සලස්වන්නා වූද, සමාජ ක්‍රමයක් හැටියට සර්වෝදය සැලකිය හැකි ය.

සර්වෝදය සමාජයක කුමන ආකාරයකටත් මනුෂ්‍යයා මනුෂ්‍යයා විසින් පෙළීමේ ධර්මතාවක් ඇති නො වේ. එකිනෙකා ගේ පෞද්ගලික සංවර්ධනය සර්වෝදය සමාජයක තහවුරු වන අතර පුද්ගලයා ගේ සම්පූර්ණ ව්‍යායාමය සමාජයේ චිරස්ථිතිය සහ ප්‍රගතිය සඳහා ම වන්නේ ය.

සර්වෝදය සමාජය ගොඩනැංවෙන අත්තිවාරම් හැටියට සත්‍යය, අවිහිංසාව සහ ආත්මහරණය යන කරුණු සැලැකිය හැකිය. මේ ධර්මතාවන් ජීවිත පූජාවෙන් වුවත් සර්වෝදය සමාජයක ජීවත් වන්නෝ කඩ නො කරති. මේවා පසු ජාතියක හෝ වෙනත් ලෝකයක හෝ සුගතිය උදෙසා තනි පුද්ගලයන් විසින් ගිහි ගේ කලකිරී පුරන දහම් නොවන්නේ ය. එදිනෙදා ජීවිතයේ දී තනි තනි ව හා සාමූහික ව මේ ධර්මයන් මනුෂ්‍යයන් අතර සම්බන්ධතාවයනට නව ජීවයක් දෙමින් ක්‍රියාකාරී වේ. ඒවා වර්තමානයේ ම ක්‍රියාවේ යෙදෙන නිසා මනුෂ්‍යයාගේ ජීවිතයේ හොඳ අංශයන් වූ දයාව, කරුණාව, සමානාත්මතාව ආදී ගුණ ධර්මයන් සමාජයේ මතු වී පෙනෙන පොදු බලවේගයන් වේ.

එක් එක් ගමෙක ජීවත් වන්නවුන් එක ම පවුලක අය මෙන් දයාවෙන් බැඳෙන නිසා මෙ වැනි සමාජ ක්‍රමයක එක්තැන් වු දරදඬු පාලන බලයක් නැත. එ සේ ම එක් තැන් වූ ආර්ථික බලයක් ද නැත. ඒ නිසා පක්ෂ දේශපාලනයකට අවශ්‍යතාවයක් ද නැත. කලින් කල ඇති වන්නා වූ ජාතික අසමගිතාවන් ගෙන් මේ සර්වෝදය සමාජය තොර වන්නේ පක්ෂ දේශපාලනයෙන් තොර බැවිනි.

යම් සමාජ ක්‍රමයක එක් මනුෂ්‍යයෙක් තව මනුෂ්‍යයෙකු කිනම් ආකාරයකවත් පෙළීමකට භාජනය නො කරයි නම් එවැනි සමාජයක ජීවත් වන කිසිම පුද්ගලයකුට අසතුටුවීමට හේතුවක් නැත. එයට හේතුව සියලුදෙනාගේ ම යහපත ඇති කරන සමාජ ක්‍රමයෙක අප එක් එක්කෙනා ගේ පෞද්ගලික යහපත ද ඇතුළත් ව ඇති බැවිනි. සර්වෝදය ධර්මය සිහිනයක් නො වේ. මහත්මා ගාන්ධිතුමා විසින් පෙන්වා දෙන ලද ආචාර්ය විනෝබාභාවේතුමා විසින් භූදාන්, ගම්දාන්, සම්පත්දාන්, ජීවන්දාන් සහ ශාන්තිසේනා ආදී ව්‍යාපාරවලින් ක්‍රියාවට නැංවීමට මහන්සි ගැනුණු මේ සමාජ ක්‍රමය මුළු ලෝකයම ඇස් හැර බැලිය යුතු සැබෑවෙකි. එය සත්‍යය, අහිංසාව සහ ආත්මහරණය (මම, මාගේය යන දෘෂ්ටිය හැරීම) යන ධර්මතාවන් එදිනෙදා ජීවිතයේදී තනි තනිවත්, සාමූහිකවත් ක්‍රියාත්මක වන ආර්ථික, සාමාජික, දේශපාලන ක්‍රමයෙකි.

සත්‍යවාදී මාර්ගයෙකින් මිනිසාගේ පහත් හැඟීම් නොව ආදරය, මෛත්‍රිය, පරිත්‍යාගය සහ සමානාත්මතාව ආදී ශ්‍රේෂ්ඨ ගුණධර්ම පමණක් ප්‍රයෝජනයට ගත් උතුම් ක්‍රියාමාර්ගයෙකි සර්වෝදය දර්ශනය. ආත්මාර්ථකාමී, ධනලෝභී, බලලෝභී පුද්ගලයකුට හැර කිසිම ඥානවන්ත සත් පුරුෂයකුට මේ සමාජ ක්‍රමය ගැන අසතුටු වන්නට හෝ දොස් නගන්නට හෝ නොහැකි ය. සියලු ගංගා සමුද්‍රයට එක් වී තම තමන්ගේ පෞද්ගලිකත්වයක් පොදු සමුද්‍ර මාතාව හමුවී එකට වෙළාගන්නාසේ සර්වෝදය අදහස පිළිගතහොත් මනුෂ්‍යයා ගේ ප්‍රගතිය සඳහා කැපවුණු සියලුම සාමාජික, ආර්ථික, දේශපාලන, ආගමික ආදී ව්‍යායාමයන් ගේ යහපත් බව පොදු මනුෂ්‍ය වර්ගයා ගේ සම්පූර්ණ පිබිදීම සඳහා එක් තැන් වන්නේ ය.

# ගොඩනැගෙන ජන ශක්තිය[2]

ශ්‍රමදාන සේවකයන් වූ අපි සෑම මනුෂ්‍යයකු තුළම තිබෙන හොඳ ගුණාංග ගැන මහත් විශ්වාසයක් ඇත්තෝ වෙමු. පුද්ගලයා ගේ යහපත් බව සහ සමාජයේ යහපත් බව යන දෙක ම එක ම කාසියෙක දෙපැත්ත මෙන් සම්බන්ධ ව ඇති බවත් අපි සලකමු. එම නිසා සමාජය සතු පොදු යහපත් බවේම වෙන් කළ නොහැකි අංශයක් හැටියට සලකා අපි සෑම මනුෂ්‍යයකුගේ ම හොඳ බව දිහා බලමු. මේ මනුෂ්‍යයා තුළ මනුෂ්‍ය සභ්‍යත්වයේ ශ්‍රේෂ්ඨ ගුණධර්ම වඩාගැනීමේ ශක්තිය ඇති නිසා ඒ සඳහා සුදුසු මානසික හා මනෝවිද්‍යාත්මක පරිසරයක් ඇති කිරීමට අපි වෙහෙසෙමු. සර්වෝදය සමාජයකට අවශ්‍ය පළමු පියවර වූ එක් එක් මිනිසාගේ සිත හා හදවත පිරිසිදු කැරගැනීමට අවස්ථාවක් සැලැසීමට අපි ශ්‍රමදානය ඉදිරිපත් කරමු.

අපේ රටේ වාසය කරන ජනතාව රටේ තිබෙන විශාලම ධනය යි. මේ මනුෂ්‍යමය ධනයේ ඇති වටිනාකම ගැන අපේ සිතේ හොඳ අවබෝධයක් තිබිය යුතු ය. ජනතාව සතු මානසික, ආධ්‍යාත්මික හා කායික ශක්තිය සියලු දෙනාගේ ම පොදු යහපත සඳහා යෙදෙන්නේ ද යන බව හැමදෙනා විසින්ම කල්පනා කළයුතු ප්‍රශ්නයෙකි. සෑම මිනිසකු ම ජාතික ප්‍රගතියට අවශ්‍ය සාධකයක් හැටියට අප වර්තමානයේ දී නොසලකන්නේ මන්ද ? මෙයට ප්‍රධාන හේතුව අපේ මුළු සමාජයම 'ගැනීම' මුල් කොට ගොඩ නැඟී තිබීමත්, ඒ නිසා 'අයිතිය' රැකගැනීම හා පුළුල් කැරගැනීම අපේ ජීවිතයේ මුල් බැසගත් අංගයන් වීමත් ය. 'ගැනීම' සහ 'අයිතිය' වෙනුවට 'දීම' සහ 'අයිතිය හැරීම' යන සමාජ ධර්මයන් අපේ ජීවිතයට ඇතුළු කරගෙන ඒවා සාමාජික බලවේගයන් හැටියට වර්ධනය කරන්නට අපට බැරි ද?

අයිතිය යනුවෙන් අප අදහස් කරන්නේ ගේ-දොර, ඉඩකඩම්, මිල-මුදල් ආදී භෞතික දේවල් පමණක් නො වේ. මිනිසා මිනිසා ගෙන් ඈත් කරන නොයෙක් විදියේ සාමාජික ප්‍රශ්න ඇති කොට සමාජය භේද කරන, වරදවා තේරුම්ගත් කුලය, වර්ණය, ජාතිය, ආගම, පන්තිය, පක්ෂය ආදී විෂමතාවනට එල්බගත් අදහස් ද මේ අයිතියට අඩංගු වේ. අයිතිය නිසා නිරායාසයෙන්ම ඇති වන්නේ තරගය යි. තරගයේ ප්‍රතිඵලය වනුයේ මනුෂ්‍යයා ගේ අයහපත් සිතිවිලි සහ හැඟීම් සමාජයේ බලපවත්වන සාධකයක් වීමයි. මේ නිසා ආගම් භේද, ජාති භේද, භාෂා භේද, කුල භේද, කලකෝළාහල ආදිය රට ඇතුළේ ද අවිශ්වාසය, බිය හා යුද්ධ රටවල් අතර ද ඇති වේ.

ලාංකික සමාජය දෙස ඇස් හැර බලන අපට අයිතිය නිසා ඇති වී තිබෙන අපරාධ හා අවාසනාවන්ත තත්ත්වයන් හොඳින් කැපී පෙනේ. සෑම පුද්ගලයකු ම වාගේ නිරන්තරයෙන් ම තම ශක්තිය යොදවන්නේ පෞද්ගලික අයිතිය රැක ගැනීමට හා පුළුල් කර ගැනීමට යි. බාල කාලයේ පාසැලේ දී ලබන අධ්‍යාපනයත්, රැකියාවකට

[2] සර්වෝදය පත්‍රය - 1961 මැයි

පත් වූවාට පසු යොදන සෑම ව්‍යායාමයකුත් පාවිච්චි කිරීමට අද අප සහජයෙන් ම පුරුදු වී තිබෙන්නේ සමාජයේ තරඟ කොට වැඩි කොටසක් තමාට අයිති කැරගැනීමේ එකම ආශාව උඩයි. මෙහි වරදක් කිසිවෙක් නො දනී. අන්ධානුකරණයෙන් එය පිළිගෙන දෙමාපියෝ තම දූ දරුවන් තරඟයට සූදානම් කරති. කතා කිරීමේ ශක්තිය ඇත්තෝ හොඳ නොහොඳ නොසොයා දේශපාලන බලතලවලට පොර කති. පොත්-පත් උගත්තෝ තම සහතික ඉදිරිපත් කොට වැඩි පඩි හා අඩු වැඩ ඇති නිලතල පතති. මේ කිසිවක් නොමැත්තෝ අඩු ගණනේ සොරකම්වත් කරති. එසේ නැති නම් තරඟයේ යෙදී ආධ්‍යාත්මික දියුණුව පසුබිමට තල්ලුකල සමාජයක තම අයිතිය ලොකු කර ගැනීම සඳහා ප්‍රයෝජන ගැනීමට රා, අරක්කු පෙරති. සූදුව ආදී දුශ්චරිත සංවිධානය කරති.

අයිතිය හා තරඟය නිසා අප සමාජය කඩාකප්පල් වෙමින් යන හැටි දැක දැකත් ක්‍රෝධය, තෘෂ්ණාව, පළිගැනීම ආදී අධර්මයන් රජයන බව දැන දැනත් ලෝක බලවතුන් අතර ඇති වී තිබෙන තරඟය සහ එහි ප්‍රතිඵල වශයෙන් ලෝක විනාශයක් ඇති විය හැකි තත්ත්වයකට පවා මනුෂ්‍ය සංහතිය මුහුණ දී ඇති බව පෙනිපෙනීත් අප කුඩා රටේ මෙ වැනි සමාජ ක්‍රමයක් පිළිගනිමු ද ? එ සේ නැතිනම් පෞද්ගලික අයිතිය සහ තරඟය වෙනුවටඅයිතිය හැරීම සහ සහයෝගීතාව මත ගොඩනැඟුණු සමාජ ක්‍රමයක් අහිංසාවාදී ක්‍රමයකින් සොයාගනිමු ද ?

අයිතිය පෞද්ගලික පුරුද්දක් පමණක් නොවේ. එය සාමාජික පුරුද්දකි. එම නිසා එක වර ම හැම දෙයකට ම අයිතිය හැරීම නොකළ හැක්කකි. එහෙත් එය මේ මොහොතේ පටන් ගතහැකි ගුණධර්මයකි. පළමුවෙන් ම එක් දිනක් පමණක් වත් අපට පහසුවෙන්ම පරිත්‍යාග කළ හැකි කායික ශක්තිය අපේ පොදු මනුෂ්‍ය පවුලේ උන්නතිය සඳහා යෙදීමෙන් අයිතිය හැරීම පටන් ගත හැකි ය. තමන් ගේ කාලය, ශක්තිය හා සිතිවිලි කිසිම ලාභයක් බලාපොරොත්තු නොවී අනුන් ගේ යහපත සඳහා පරිත්‍යාග කිරීම ශ්‍රමදානය යි.

පෞද්ගලිකව පුරුදු කළ හැකි ධර්මතාවක් හැටියට සාමාන්‍ය අර්ථය දෙන 'දානය' යන වචනයේ සාමාජික න්‍යාය ධර්මයක් ද ගැබ්ව ඇති බව අපි සලකමු. දානය යන්නෙහි බෙදාගැනීම, සංවිභාගය යන අර්ථයක් ද තිබේ. සංවිභාගය අතීතයේ පැවැති ශ්‍රේෂ්ඨතම සාමාජික සහ ආර්ථික න්‍යාය ධර්මයකි. සියලුම මනුෂ්‍යයෝ මහී කාන්තාව ගේ දරුවෝය යන කීම සාහිත්‍යමය වර්ණයක් නොවේ. එය විද්‍යානුකූල සත්‍යයකි. ස්වභාව ධර්මයෙන් පොදුවේ මිනිසා ලත් භූමිය හා අවට වායුගෝලීය පරිසරය සහ සොබා සම්පත් ඉවහල් කොට මෙතෙක් අප පෝෂ්‍ය වූයේ නම් අප ලෝකයේ උපයා ඇති බාහිර ධනය මනුෂ්‍ය සමාජයේ ම අයිතිය කි. මේ අයිතිය තනි තනි ව පෞද්ගලික ලාභය සඳහා වෙන්කර ගැනීම හා ඒ සඳහා සටන් කිරීම ස්වභාව ධර්මයට විරුද්ධ වූත්, විද්‍යානුකූලව සනාථ කළ නොහැකි වූත් තත්ත්වයකි. විශේෂයෙන් ශ්‍රේෂ්ඨ ආගම් ඉපදුණු, හැදුණු, වැඩුණු පෙරදිග ලෝකයට මෙය කිසිසේත් හුරු නැත. අතීතයේ දී දානය, පරලොව සුගතිය සඳහා

පමණක් නොව ලෝක සිරිතක්, පොදු නියමයක් හැටියට පිළිගෙන සමාජයේ ක්‍රියාත්මක වූ "තමා සතු දේ බෙදා ගැනීමක්" බව අපි කල්පනා කළයුතු වෙමු. දැන් රාජ්‍ය පාලන ක්‍රමයක් අනුව දේශපාලන ආයතන මගින් නීති-රීති පනවා, දෙපාර්තමේන්තු මාර්ගයෙන් විශේෂ පුහුණුවක් දී වේතන ගෙවූ නිලධාරීන් ලවා, උඩ සිට පහළට එන්නට මහන්සි ගන්නා සමූපකාරය එකී බෙදා ගැනීමේ සංවිභාගයේ දානයේ අංශු මාත්‍රයක් නොවේ ද ?

දැන් අප සමාජයේ ව්‍යායාමය දණ්ඩ ශක්තියේ මාර්ගයෙන් සුභසාධන රාජ්‍යයක් ගොඩනැංවීම යි. දණ්ඩ ශක්තිය යනු නීති-රීති ආදියේ බලය යි. මේ නීති-රීති ක්‍රියාවේ යෙදවීමට දඬුවම් කිරීමේ ශක්තියක් ද අවශ්‍යය. මේ නිසා සිවිල් සේවයක්, පාලන තන්ත්‍රයක්, පොලිසියක්, යුද්ධ හමුදාත්, උසාවි, සිරගෙවල් ද අපට අවශ්‍යය. මේ දණ්ඩ ශක්තිය තමා පිට පවරා ගැනීමෙන් පසුව රට හෝ ලෝකය හෝ සෑදිමට යමක්කමක් දත් බොහෝ දෙනෙක් සිය ජීවිත කාලයම යොදවති. එහෙත් දණ්ඩ ශක්තිය වෙනුවට මිනිසාගේ සහජ ජන ශක්තිය එකතු කොට ඒ අනුව පහළ සිට ඉහළට සංවිභාගයක්, සහයෝගීතාවක් ඇති විය යුතු ක්‍රමයක් ඇති කිරීමට ජීවිත කැප කරන අයද අප සමාජයේ විරලයහ. දණ්ඩ ශක්තිය පිරමිඩයක් වැනි ය. පහළින් ම පිහිටි වැඩි ම මනුෂ්‍ය කොට්ඨාශයට ක්‍රම ක්‍රමයෙන් එහි බර ඉසිලීමට සිදු වේ. අප බලාපොරොත්තු වන ජනශක්තිය ලක්ෂ්‍යයක් වටා එකිනෙකට සම දුරින් පිහිටන වෘත්ත රාශියක් වැන්න. එක් වෘත්තයක් නිසා තව වෘත්තයකට ලැබෙන්නේ ශක්තියක් මිස පීඩනයක් නොවේ.

ශ්‍රමදානය, ඇති අය විසින් නැති අය සඳහා කරන පුණ්‍ය සහගත සේවයක් නො වේ. එය සෑම මනුෂ්‍යයකු විසින් ම ඉෂ්ඨ කළයුතු සාමාජික වගකීමකි. යමෙක් ශ්‍රමදානය සඳහා පෙලැඹෙන්නේ ද්‍රව්‍යමය ධනය රැස්කිරීමේ පිපාසාව මනුෂ්‍ය සංහතියේ සාමය තුරන් කිරීමට ප්‍රධාන හේතුව බවත්, ධනය රැස්කිරීමෙන් පුද්ගලයා බලාපොරොත්තු වන තෘප්තිය නොලැබෙන බවත්, තේරුම් යෑමෙන් පසුව ය. මම, මාගේය යන දෘෂ්ටිය තුනී කරගැනීම හෙවත් ආත්මහරණය සකල සත්ත්ව වර්ගයාගේම සම්බන්ධතාව සහ මනුෂ්‍ය සංහතියේ ම එකම බව යන සැබෑ දහම් අවබෝධවීම, සාමය හා තෘප්තිය ලැබීමේ එකම මාර්ගය යි.

ද්‍රව්‍යමය ආත්ම සංවර්ධන අදහස් අත්හැරීමෙන් හටගත් මේ අවබෝධය නිසා හුදෙක් ආත්මහරණය, ආත්ම ත්‍යාගය යනාදී අරමුණු ඇති ව තමාගේ කාලය, සිතිවිලි සහ ශක්තිය අනුන්ගේ යහපත සඳහා යොදනු ලබන පුද්ගලයාට තම ජීවිතයේ ඇතුළු පැත්ත දෙස බැලීමට මහඟු අවස්ථාවක් ලැබේ. නිරන්තරයෙන් ම අයිතිය සහ තරඟය මුල් වූ සමාජයක ජීවත් වෙමින් සිටි කෙනකු ශ්‍රමදාන අදහස පිළිගෙන අනුන් සඳහා වෙනකක් තබා අඩු තරමේ ප්‍රශංසාවක් වත් නොතකා දින කිහිපයක් දහඩිය හෙළීමේ දී යටත් වන්නේ පුදුම මානසික විප්ලවයකටය. මේ ආධ්‍යාත්මික පරිවර්තනයේ මිනිය නොහැකි ශ්‍රේෂ්ඨ සුචරිත වටිනාකමක් ඇත. ගිහි සමාජයක ජීවත්වන ගමන් ම සිත සහ හදවත පිරිසිදු කරගැනීමට ශ්‍රමදානයෙන් අනගි මඟක් සැලසේ. සමාජ උන්නතිය සලසා

ගන්නා ආකාරය අනුන්ට දේශනා කරනු වෙනුවට අප එක් එක් අයගේ සිතේ කෙ තරම් දුරට කුලය, ජාතිය, ආගම, පන්තිය, වර්ණය ආදීන් මුල්කොට ඇති වූ වැරදි දෘෂ්ටීන් මුල්බැසගෙන තිබේ දැ යි අත්හදා බැලීමට නම් මනුෂ්‍යයා මනුෂ්‍යයා හැටියට එකම පවුලක මෙන් එක්ව කා-බී එකට සිත කය පොදු යහපත සඳහා වෙහෙසා ශ්‍රමදානයේ යෙදිය යුතු ය. මෙය ආර්ථික හා සාමාජික දියුණුවක් ඇති කරන ගමන්ම අපේ සිත් ලෞකික දේට ඇති වහල්බවින් මුදා ගැනීමට පුරුදු වීමේ ක්‍රියාත්මක මාර්ගයක් ද වන්නේ ය.

සර්වෝදය සමාජයක් ගොඩනැංවීම සඳහා මේ රටේ ජන ශක්තියක් ඇති කිරීමේ පළමු පියවර වශයෙන් ශ්‍රමදානය සැලකිය හැකි ය. ශ්‍රමදාන ව්‍යාපාරය ආරම්භ කළ දින සිට මෙතෙක් සංවිධානය වූ සංවර්ධන ක්‍රමවල දී පොදු මහජන සුභසිද්ධිය සඳහා යෙදිය හැකි ජන ශක්තියක් එයින් ඇතිවන බව අපට මොනවට ඔප්පු විය. මේ ජන ශක්තිය පුළුල් වී බලවත් වීමේ වේගය අනුව අපේ රටේ අනාගත අභිවෘද්ධිය තීරණය වන බව අපේ දැඩි විශ්වාසය යි.

# අසරණ සරණට මුල්තැන[3]

ශ්‍රමදාන ප්‍රතිපත්ති හා අදහස් පිළිගත් කෙනකුට එදිනෙදා ජීවිතයේ දී තනි තනි ව ඒවා පුරුදු කළහැකි අවස්ථා අනන්තය. අප මෙහි දී සලකා බැලිය යුත්තේ සාමූහික වශයෙන් ශ්‍රමදානය ක්‍රියාවට නැගිය හැකි අවස්ථා කීපයක් ගැන යි

සමාජයේ නොයෙක් අංශයන් ගැන කතා කළ විනෝබාභාවේතුමා වරක් පුද්ගලයන් තුන් කොටසක් ගැන කතා කළා මට මතක යි. එ නම්, 'සුඛියා, දුඛියා සහ බුඛියා' යන කොට්ඨාශයන් ය. සුඛියා යනු, ජීවත්වීමට අවශ්‍ය සියලු දේ නිරායාසයෙන්ම ලැබී උසස් ම ජීවන තත්ත්වයක් ලබාගෙන ජීවත්වීමේ පරමාර්ථය කාබී විනෝදවීම හැටියට සලකන මනුෂ්‍යයන් ය. දුඛියා යනු ජීවත්වීමට අවශ්‍ය දේ මහන්සියෙන් ලබාගෙන එදිනෙදා ජීවිත සටන ගෙනයන අය ය. බුඛියා යනු, සමාජයේ පහළ ම තට්ටුවේ සිටින කුසට අහරක් නැති, වාසයට ගෙයක් දොරක් නැති අසරණ ජනයා ය. සර්වෝදය සේවකයන්ගේ පළමුවන ව්‍යායාමය මේ 'බුඛියන්ගේ' සුව පිණිස විය යුතු ය.

සමාජයක ප්‍රගතිය මිනිය යුත්තේ එහි සිටින අන්තිමටම දිළිඳු අසරණ මනුෂ්‍යයනට ලැබෙන පිළිසරණ උඩ යයි කීමේ වරදක් නැත. බොහෝ විට ජාතික සංවර්ධන ක්‍රියාමාර්ගවල දී වැඩිදෙනා ගේ යහපත ගැන සලකනු විනා කුසගින්නේ ළතවන, මියයන මනුෂ්‍යයන් ගැන සැලකිලිමත් වන්නේ නැත. මෙයට හේතුව ප්‍රජාතාන්ත්‍රවාදී ක්‍රමයක ප්‍රයෝජන ගන්නට වුවත්, අවශ්‍යව තිබෙන තමන් ගේ දුක වගකිවයුත්තනට ඇසෙන දේ කියන්නට හැකි ශක්තිය ඔවුනට නොතිබීම යි. සාමාන්‍ය කම්කරුවන් මෙන් සංවිධානය වන්නට වුවමනා නායකත්වයක් හෝ හැකියාවක් හෝ ඔවුනට නැත.

කුලහීනයන් ලෙස සලකන බොහෝ සමාජ කොටස් ලංකාවේ නොයෙක් පළාත්වල කාගේ වත් පිළිසරණක් නොමැති ව අද අසරණ ව සිටිති. මොවුහු සාමාජික වැදගත්කමක් ඇති කර්මාන්තයක යෙදෙමින් පැරණි සමාජ ක්‍රමයේ වැදගත් තැනක් ගත්හ. එ දා තිබූ සමාජ ක්‍රමය වෙනුවට ක්‍රම ක්‍රමයෙන් මුදල් හුවමාරුව සහ කය නො වෙහෙසන රජයේ රැකියාවන්ට මුල්තැන දුන් සමාජ ක්‍රමයක් ඇති වෙද්දීත් මොවුහු සිය කර්මාන්ත අත් නො හැර කරගෙන ගියහ. එහෙත් මෑතකදී පිටරට සිරිතට හා බඩුවලට වැඳුම් පිදුම් කරන්නට අප පුරුදුවීම නිසා දේශීය කර්මාන්ත සමඟ ම ඒවායේ යෙදුණු මිනිස්සු ද ආර්ථික ප්‍රපාතයකට වැටුණා පමණක් නොව සාමාජික කොන්වීමකට ද යටත්වූ හ.

මේ තත්ත්වයට පිළියමක් වශයෙන් කුලභේද නැති කිරීමට කවුරුත් කතා කරති. මේ පිළිබඳ ව ඇති වන "සාමාජික අපහසුකම් මඟ හැරලීමේ පණතක්" (PREVENTION OF SOCIAL DISABILITIES ACT) 1956 දී පාර්ලිමේන්තුවේදී සම්මත විය.

---

[3] සර්වෝදය පත්‍රය - 1961 ජූලි

එහෙත් පහත් තැන්වල මෙන් ම උසස් තැන්වල ද අදත් කුල භේදය එළිපිටම නැතත් යටින් වත් තිබෙන බව පිළිගත යුතු ය. මෙයට හේතුව කුලය තබාගෙන කුල භේදය පමණක් නැති කිරීමට දරණ ව්‍යාජ ව්‍යායාමය යි. සර්වෝදය සේවකයන් වූ අපි කුලය යන දෘෂ්ඨිය සහමුලින්ම අපේ සිත් හා හදවත්වලින් තුරන්කර ගත්තෝ විය යුත්තෙමු. එ විට කය වෙහෙසවා වැඩ කිරීමේ හා සාමාජික ව වැදගත් හැම රැකියාවකම ඇති සමාන අගය ගැන ලබන අවබෝධයත් සමඟම මේ බලවත් සාමාජික පිළිලය අප අතරින් නිරායාසයෙන් ම තුරන් වේ.

සමාජයෙන් කොන් කර තිබෙන ප්‍රජාවන් තෝරාගෙන ඒවායේ සංවර්ධන වැඩ ආරම්භ කොට කරගෙන යෑමට නිතරම ශ්‍රමදාන ව්‍යාපාරය ප්‍රධාන තැනක් දෙයි. ශ්‍රමදාන කඳවුරක දි එකට ජීවත් වී එකට වැඩපලෙහි යෙදෙමින් සිටින විට ඇති වන පවුල් හැඟීම නිසා අපේ සිතේ ගැබ්වී තිබෙන ව්‍යාජ දෘෂ්ඨි ඉවත් වේ. යමෙකු උත්පත්තියෙන් උසස් යයි හෝ පහත් යයි හෝ සැලකෙන හැඟීම් තුරන් වී මුළු මනුෂ්‍ය වර්ගයාගේම ඒකීයභාවය නැමැති සත්‍යය අපේ සිතේ තැන්පත් වේ. අධ්‍යාපනික හා ප්‍රජාසේවා කඳවුරු යන ශීර්ෂය යටතේ අපි ශ්‍රමදාන සංවිධාන කරන ආකාරය පසුව සලකා බලමු.

**සර්වෝදය ශ්‍රමදාන ව්‍යාපාරිකයන් යෙදිය යුතු කාර්යයන් මෙසේ නම් කළ හැකි ය.**

1. නොදියුණු සමාජ සංවර්ධනයට මුල්තැන දෙන අතර වෙනත් ප්‍රජා සංවර්ධන ව්‍යාපාරවල යෙදීම.
2. මුඩුක්කුවල වෙසෙන්නන් හා හිඟමනෙන් ජීවත්වන අය සඳහා යෙදෙන සංවර්ධන ක්‍රම.
3. අනාථ දරුවන්, මව්පියවරුන්, රෝගීන් හා මහල්ලන් පිළිබඳ සේවා.
4. අපරාධයට පුරුදු වූ අය හොඳ මඟට යෙදීම.
5. ග්‍රාමීය සෞඛ්‍යය, සනීපාරක්ෂාව හා අධ්‍යාපනය
6. වෘද්ධ අධ්‍යාපනය, විනෝදාංශ හා ආධ්‍යාත්මික දියුණුව සඳහා විශේෂයෙන් ගැමි ජීවිතයේ ඇති කරන සේවා.
7. ගොවිකම් දියුණුව
8. සහනදායක වැඩ.
9. දේශීය කලා හා අත්කම් දියුණු කිරීම හා සංස්කෘතික ප්‍රගතිය.
10. භූදාන්, ග්‍රාම්දාන්, සම්පත්දාන්, ශාන්තිසේනා ආදී වෙනත් සේවා සර්වෝදය ව්‍යාපාරය මගින් ලංකාවේ ද පැතිරවීම.
11. ජාතික සමගිය, අන්තර්ජාතික විශ්වාසය සහ ලෝක සාමය පිළිබඳ කටයුතු.
12. මත්පැන් හා මත්ද්‍රව්‍ය විරෝධී සේවා

# ප්‍රජා සංවර්ධන ක්‍රමයක්[4]

ප්‍රජා සංවර්ධන අදහස මේ යුගයේ දී පළමුවෙන්ම ඇති වන්නට පටන් ගත්තේ අලුතින් නිදහස ලබාගත් පෙරදිග රටවල ය. යම්කිසි ප්‍රජාවක දියුණුව උදෙසා ඒකාබද්ධ වැඩ පිළිවෙළක් එම ප්‍රජාවේ උද්‍යෝගය ඇතිකොට ක්‍රියාවේ යෙදවීමට මහන්සි ගත් අය අතර ගෝක්ලේ, රවීන්ද්‍රනාත් තාගෝර්, මහත්මා ගාන්ධි ආදී භාරතීය සමාජශෝධකයෝ මුල් තැන ගනිත්, ලංකාවේ ගම්වල මෙන් ම වෙනත් අලුතින් නිදහස ලැබූ රටවල ගම්වල ද විදේශීය පාලනය යටතේ විශාල පරිහානියක් සිදුවී තිබිණි. ඒ නිසා ඔවුහු ඒ ගම් යථා තත්ත්වයට පත්කර ගැනීම සඳහා මේ පර්යේෂණ පැවැත්වූ හ. ප්‍රජා සංවර්ධනයට නියම අර්ථයක් ලැබුණේ 1930 - 40 ටත් අතර කාල පරිච්ඡේදයේ දී ය.

එක්සත් ජාතීන්ගේ සංවිධාන පිළිගත් ආකාරයට ප්‍රජා සංවර්ධනය යනුවෙන් අදහස් වන්නේ ප්‍රජාවන් ගේ ආර්ථික, සාමාජික හා සංස්කෘතික ප්‍රගතිය සඳහා මහජනයාත් රජයත් සහයෝගීව ක්‍රියාවේ යොදවන ඒකාබද්ධ ක්‍රමයකි. පුළුල් ජාතික සංවර්ධන ව්‍යායාමයකට මේ ප්‍රජාවන් සම්පූර්ණයෙන් එක් වීම ද මෙයින් අදහස් කරනු ලැබේ. එනිසා ප්‍රජා සංවර්ධන ක්‍රමයන්හි ගැබ් ව තිබෙන මූලික සාධක දෙකකි. තමා ගේ ජීවන තත්ත්වය උසස් කැරගැනීම සඳහා ආත්ම විශ්වාසය ඇති ව තම මහන්සියෙන් ම ප්‍රජාවේ සහභාගී වීම ඉන් පළමු වැන්න ය. මේ ව්‍යායාමය ප්‍රයෝජනවත් වීම සහ කාර්යක්ෂම වීම සඳහා කාර්මික සහ වෙනත් ආධාරයන් දී ප්‍රජාවේ විවිධ අඩුපාඩු සම්පූර්ණ කිරීමට රජය ධෛර්යය දීම දෙ වැන්න ය.

ප්‍රජා සංවර්ධන වැඩ පිළිවෙළක පුළුල් පරමාර්ථය මෙසේ දැක්විය හැකි ය. "ගැමි ප්‍රජාව තුළ ආර්ථික, දේශපාලනමය, සාමාජික, සංස්කෘතික සහ සදාචාර අංශයන් ඇතුළත් අංග සම්පූර්ණ සංවර්ධන වැඩ පිළිවෙලක් ක්‍රියාත්මක කිරීම".

මේ පරමාර්ථය පුළුල් වශයෙන් නැවත වරක් අංශ හතරකට බෙදිය හැකි ය.

අ. පළමුව ගැමි ජනතාව තුළ සහයෝගය සහ සහභෝගය (අන්‍යොන්‍ය බෙදා ගැනීම) දියුණු කොට ප්‍රජා හැඟීමක් ඇති කිරීමෙන් පසු අවසානයෙහි ඉඩකඩම් වැනි මූලික නිෂ්පාදන මාර්ග සිය කැමැත්තෙන් ම ප්‍රජාව සතු කිරීම.

ආ. ගැමි ප්‍රජාවේ සියලුම සාමාජිකයන්ගේ සුභසාධනය, රැකීරක්ෂා සහ ජීවන තත්ත්වය පිළිබඳ වැඩ ගැමි ප්‍රජාවේම වගකීමක් ලෙස සලකා ඒ කටයුතු සම්පූර්ණ කිරීම.

ඇ. ආහාර, ඇඳුම් පැළඳුම්, නිවාස වැනි මූලික ජීවන අවශ්‍යතා සම්බන්ධයෙන් ගම ස්වයංපෝෂිත කොට එක් එක් ග්‍රාමය ඒ ගම අයිති ප්‍රදේශයේ පොදු සංවර්ධන ක්‍රමයකට අනුකූලව සංවර්ධනය කිරීම.

ඈ. ගැමි සාමාජිකයා තුළ ආත්ම විශ්වාසයත්, පොදු ගැමි ප්‍රජාව තුළ ප්‍රාරම්භක මූලිකත්වය ගැනීමත් වර්ධනය කොට, ගමේ කටයුතු ගැමියන්ට ම කරගෙන යෑමට හැකිවන ලෙස අපේ ගම්, ලංකාව නැමැති විශාල සමුභාණ්ඩුවේ ස්වාධීන ඒකකයන් බවට පත් කිරීම.

---

[4]සර්වෝදය පත්‍රය - 1961 දෙසැම්බර්

ඉහත සඳහන් පරමාර්ථ සපුරාලීම සඳහා කරගෙන යන වැඩ පිළිවෙළක දී ප්‍රයෝජනයට ගතයුතු ග්‍රාමීය ආයතන දෙකක් ඇත. ඉන් පළමු වැන්න නම්; ගැමි පවුල යි. දෙ වැන්න නම් ගැමි ප්‍රජාව යි. ප්‍රජා සංවර්ධනය පිළිබඳ අධ්‍යාපනයක් ව්‍යාප්ත කිරීමේ දී ගැමි පවුල මාර්ගයෙන් පහත සඳහන් සංවර්ධන ක්‍රම ව්‍යාප්ත කළ හැකි ය.

1. පෞද්ගලික ගෙවතු, ගොවිතැන් සහ නිවාස ක්‍රම දියුණු කරගැනීම සඳහා ගැමි පවුල්වලට ධෛර්යයදීම, මඟ පෙන්වීම සහ උදව් කිරීම. මේ මාර්ගයෙන් ගොවිතැනින් ලැබෙන අස්වැන්න වැඩිවීම, නිවාස, සෞඛ්‍ය සහ පෝෂණය පිළිබඳ අංශ දියුණු වීම සහ සාමාන්‍ය ජීවන තත්ත්වය උසස්වීම යන ප්‍රතිඵල බලාපොරොත්තු විය හැකි ය.

2. ගැමි ප්‍රජාව මාර්ගයෙන් ක්‍රියාත්මක කළ හැකි අංශ නම්; කාර්යශූර වැඩිහිටි මණ්ඩල හෙවත් ගැමි සභා ඇති කිරීම, සමූපකාර ආයතන, පාඨශාලා, ශ්‍රමදාන සමිති, වෙනත් වැඩිහිටි සහ තරුණ සංවිධාන ඇති කිරීම සඳහා ප්‍රජාවට ධෛර්යය දීම, මඟ පෙන්වීම සහ උදව් කිරීම යනාදිය යි. මේ නිසා ග්‍රාමීය ගොවිකම් නිෂ්පාදන දියුණු වීම, අරමුදල් ලබා ගැනීමේ සහ ගොවි ද්‍රව්‍ය අලෙවි කිරීමේ පහසුකම් දියුණු වීම සිදු වේ. ග්‍රාමීය සෞඛ්‍ය සේවාවන් හා පුරුදු දියුණුවේ, අධ්‍යාපනික පහසුකම් හා අධ්‍යාපන තත්ත්වය උසස් වී ගැමි පාසල, ගුරවරයා සහ සිසු දරුවා ප්‍රජාවේ ආර්ථික සහ සාමාජික වැදගත්කමක් ඇති ආයතන බවට පත් වේ. ඉඩම් අහිමි අයට සහ ප්‍රමාණවත් තරම් ඉඩම් නොමැති අයට රැකීරක්ෂා සුලභ වේ. ගමේ පාලනය සමඟ සංවර්ධන සැලැස්මක් සකස් කොට ක්‍රියාත්මක කිරීම ගැමි ප්‍රජාව අතට තැබීමත් කුල, ජාති, දේශපාලන ආදී භේදයන් ගෙන් තොරව ගම නැවත වරක් නියම නිවහල් නිදහස් ජනාවාසයන් බවට පත්වීමත් මෙ වැනි තත්ත්වයකින් බලාපොරොත්තු විය හැකි ය.

ප්‍රජා සංවර්ධන වැඩ පිළිවෙලකට සම්බන්ධ වන රජයේ නිලධාරියකු වුවත් ශ්‍රමදාන සේවකයකු වුවත් අරමුණු ගැන හොඳ දැනීමක් ලබාගත යුතු ය. ප්‍රජා සංවර්ධන වැඩ පිළිවෙළක සාර්ථකත්වය මැනීමේ දී ඉහත සඳහන් අරමුණුවලට අනුකූල ව කෙතරම් දුරට එක් එක් පවුලකත්, එසේම මුළු ප්‍රජාවේත් ඒ ඒ අංශවලින් දියුණුවක් ඇති වී තිබේ දැයි සලකා බැලිය යුතු ය.

අප හැම මොහොතේදීම අපෙන්ම ඇසිය යුතු ප්‍රශ්නයක් නම් කෙතරම් දුරට ප්‍රජා සංවර්ධනය නිසා අපේ ගැමි පවුල්වල සහ ගැමි ප්‍රජාවේ ක්‍රම සම්පාදනය, සංවිධානය සහ ක්‍රියාත්මක කිරීම යන ත්‍රිවිධ අංශයන්හි වගකීම ඔවුන් විසින්ම භාරගත්තේ ද යන්න යි. නිතරම අපේ ප්‍රජා සංවර්ධන ව්‍යායාමයන්හි දී ඉහත කී පරමාර්ථ අපට මඟ පෙන්විය යුතු ය.

# ඔබ කො තැනද? කොයිබට ද?[5]

සමාජයේ ජීවත් වන්නෝ දෙ කොටසක් සිටිති. ඉන් එක් කොටසක් අන්ධානුකරණයෙන් කවුරුත් යන මඟ යන්නෝ ය. හොඳ හෝ වේවා, නරක හෝ වේවා කවුරුනුත් පිළිගන්නා සමාජ සංස්ථාවන් පිළිගෙන, තමන්ගේ හෘදය සාක්ෂියට හා මනුෂ්‍ය ධර්මයට එකඟවූවත් නැතත්, මොවුහු සැඩ පහරකට අසුවූ සැහැල්ලු අප්‍රාණික වස්තූන් මෙන් සමාජයේ ජීවත් වී නැසී යති. ඔබ මේ කණ්ඩායමට අයිති ද ?

සමාජයේ තවත් සුළු කොටසක් වෙනත් මඟක යති. මොව්හු නම් සාමාජික බලවේගයනට අසුවී ඒඅනුව තම ජීවිත හැඩගස්වාගනු වෙනුවට තමන් නිවැරදි යයි සලකන මඟකට සමාජ බලවේගයන් යොමු කිරීමට තැත් කරන්නෝ ය. සැඩ පහරින් නො සෙල්වී එහි දිසාව තමා කැමති ලෙස වෙනස් කරන මහා ගිරක් මෙන් මේ පුද්ගලයෝ ජීවත් වෙති. ලෝක සභ්‍යත්වයට යමක් එකතු කරන මොවුහු සිරුරින් නැසී ගියත් වහරින් සදාකාලික ව ජීවත් වෙති. ඔබ මේ කණ්ඩායමට අයිති ද?

පළමු මඟ ගත්තෝ සමාජයේ බහුලය හ. දෙ වැනි මඟ ගත්තෝ සමාජයෙහි විරලය හ. එහෙත් මේ නව මඟ යන ටිකදෙනා මනුෂ්‍ය සංහතියේ ඉදිරි ගමනේ මඟ පෙන්වන්නෝ වෙති. ශිෂ්ටාචාරය ඔවුනට සදා ණය ගැතිය.

ගිහි ගෙයත් රජ සැපත් අත්හැර දුක සහ මුලින් ම ඉවත් කරන ආර්ය සත්‍ය සොයා එදා සිදුහත් කුමරා ගියේ අඳුරු ලොවකට ආලෝකයක් සොයන්නකු සේ ය. එ දා සමාජයේ මුල් බැසගෙන තිබූ වැරදි දිවිපෙවෙත පිළිගෙන ඒ සාමාජික නියමයනට ආවඩන්නට යේසුතුමා බියගුල්ලෙක් නො වී ය. සමාජයේ පුහු මතයක් පිළිගෙන ජීවිත ලාභය ලබාගැනීමට වඩා වස වීදුරුව බී සතුටින් මියයාම උතුම් බව සොක්‍රටීස් විසින් උසස් කොට දක්වන ලදි. හිරු නොබසින අධිරාජ්‍යයක අවි මහිමයේ බලය ලත් බ්‍රිතාන්‍යයන් ගේ කුරිරු රැහැනෙන් භාරතය මුදාගැනීම අවි බලයට අවි බලය යෙදීමෙන් නොව, අහිංසා බලවේගයන් යෙදීමෙන් කළහැකි බව මහත්මා ගාන්ධිතුමා ලොවට පෙන්වා දිනි. අයිතියත්, තරඟයත් වෙනස් කළ නොහැකි මනුෂ්‍ය තත්ත්වයන් හි පිළිගැනීම වැරදි මතයක් බවත්, අයිතිය හැරීම සහ සහයෝගය පදනම් වූ සමාජ ක්‍රමයක් අහිංසාවාදී ක්‍රමයකින් ගොඩනැංවිය හැකි බවත් පසුගිය අවුරුදු 10 ඇතුලත දී ආචාර්ය විනෝබාභාවේතුමා පෙන්වා දී ඇත. මේ උතුමෝ සැවොම ඒ ඒ යුගයන්හි තිබූ සමාජය තමා පිළිගත් ක්‍රමයට හැඩ ගැස්වීමට නොනැසෙන බලවේගයන් මුදාහල හ. එයින් ඒ ඒ රටවලටත් ඒවායේ ආස්වාදය ලැබූ පොදු ලෝකයටත් වූයේ යහපතක් ම මිස අයහපතක් නො වේ.

---

[5] සර්වෝදය පත්‍රය - 1961 අගෝස්තු

අප මේ පුද්ගලයන් ගැන පමණක් සඳහන් කළේ තම අදහස් හා ක්‍රියාවන් ලෝක බලවේගයන් බවට පත් කිරීම සඳහා ඔවුන් උපයෝගී කර ගත්තේ ආර්ය මාර්ගය බැවිනි. ඔවුහු දිවිහිමි කොටත් සත්‍යවාදී වූ හ. සිතින් වදනින් හා කයෙන් අහිංසාවාදී වූහ. "මා - මාගේය" යන ආත්ම දෘෂ්ටිය අත්හැර මුළු සත්ත්ව සංහතිය ගැන ම පරාර්ථචර්යයාවෙන් ජීවත් වූ හ. යමෙක් භෞතික ශක්තීන් අභිබවනය කළ හැකි ආධ්‍යාත්මික ශක්තියක් උපදවයි නම් මහා කරුණාව ලොව පහළ කරත් නම් හේ පිදිය යුත්තෙකි.

බුදුන් වහන්සේ, යේසුස් වහන්සේ, සොක්‍රටීස් පඬිතුමා, මහත්මා ගාන්ධිතුමා, විනෝබා භාවේතුමා ආදී උතුමන් ගේ දර්ශනයන් ලොවට පහළ වූ තරමට මනුෂ්‍ය වර්ගයා පොහොසත් වේ. ඔවුහු සියල්ලෝ ම ශ්‍රේෂ්ඨ පුරුෂයෝ ය. ඔබත් මමත් එතුමන් හා සසඳන විට "පුංචි" මිනිස්සු ය. එහෙත් ඒ ශ්‍රේෂ්ඨත්වයෙන් බිඳක් වත් අපේ ජීවිතවලට ඇතුළු කර ගැනීමට බැරි ද? ව්‍යාජත්වයෙන් තොර ව අපේ ජන සමාජයෙහි බලවේගයන් බවට ඔවුන් ගේ ශ්‍රේෂ්ඨත්වය ඇතුල් කිරීමට වර්තමානයේ ජීවත් වන අපට බැරි ද? ඒ කාර්යය කිරීමට උසස් මිනිස් ඉතිහාසයක් ඇති ඔබට ද හවුල් වීමට ආත්ම ශක්තියක් නැද්ද? අපි කලින් සඳහන් කළ පළමු කණ්ඩායමට අයිති ව තාවකාලික සුරක්ෂිත භාවයකුත් දීර්ඝකාලීන වහල් භාවයකුත් ලබමු ද? නැතහොත් දෙ වැනි කණ්ඩායමට අයත්ව මනුෂ්‍ය ජීවිතයේ තේරුම වූ අව්‍යාජ සංතෘප්තියත් ආධ්‍යාත්මික සැනසීමත් ලබමු ද?

අපි ලාංකිකයෝ වෙමු. ලංකා දේශයේ වර්තමානයත්, අනාගතයත් හැඩගැස්වීම සඳහා අපි කොතරම් දුරට හවුල්කාරයෝ වෙමු ද? මෙය කා විසිනුත් තමන් ගෙන් ම ඇසිය යුතු ප්‍රශ්නයකි. අපේ රට ප්‍රජාතන්ත්‍රවාදී රටක් ය යි අපි හඟිමු. ප්‍රජාතන්ත්‍රවාදයේ නොවහල් -නිදහසක් ඇතොත් අපේ රටේ අනාගතය හැඩ ගැස්වීමේ ක්‍රියාකාරී හවුල්කාරයන්වීමට එදිනෙදා ජීවිතයේ දී අපටත් පුළුවන් කමක් තිබේ ද? විදේශීය ආධිපත්‍යයෙන් මිදී, ඔවුන් අරක්ගෙන සිටි ආයතනවල අප රටේ පිරිසක් අරක්ගත් පළියට, නොවේ නම් දේශපාලන පක්ෂ කිහිපයක් සාදාගෙන බලය අල්ලා ගැනීමේ අසීමිත පොරයක යෙදුනු පළියට "අපි ප්‍රජාතන්ත්‍රවාදී වෙමු" යයි කෑ ගැසීමට තරම් මෝඩයෝ වෙමු ද?

ගම් සභාවකට, සුළු නගර සභාවකට, නගර සභාවකට හා පාර්ලිමේන්තුවට කලකට වරක් නියෝජිතයකු තෝරා හැර නැවත ඡන්ද විමසීමක් එන තුරු ඔහුට අප සතු බලතල පවරා දී ඉතිරි තුන්සිය හැට හතර දවසේ දී ප්‍රතිඵල ලැබෙන තුරු බලා සිටීම ද ප්‍රජාතන්ත්‍රවාදය? මේ ක්‍රමයේ පදනම ගැන ප්‍රශ්න නො කොට කී වාරයක් අප අපේ බලාපොරොත්තු ව්‍යර්ථ වන හැටි දැක තිබේ ද? තව කොතෙක් කල් අපේ රටේ අනාගතය හැඩ ගැස්වීමේ භාරදූර කාර්යය දේශපාලන පක්ෂ - සිවිල් සේවය - පාලන තන්ත්‍රය යනාදී නම්බුකාර නාමාවලියකින් හැඳින්වෙන එහෙත් කුලියට (සේවයක් නොව) රැකියාවක් කරන සුළු පිරිසකට භාර දී සිටීමට අප සූදානම් ද? මේ අන්ධානුකරණයට ඔබත් වහල් වන්නෝ ද? නැතිනම් අර්ථවත් ප්‍රජාතන්ත්‍රවාදයක් සෙවීමේ අලුත් මඟක ගොස් එදිනෙදා ජීවිතයේ දී සිදුවන ක්‍රියාවන් තීරණය කිරීමට පොදු මහජනයාටත් ඉඩක් ඇති කිරීමට ඔබත් හවුල් වන්නෝ ද?

රටේ සියයට අසූවකට වඩා ජනතාව ගම්වල ය. එහෙත් හැම අංශයකින් ම ගැමියන් වැටී ඇත්තේ පහත් තැනකටම ය. ප්‍රජාතන්ත්‍රවාදී ක්‍රමයක ක්‍රියාකාරී සාමාජිකයන් ලෙස සහභාගී වන්නට ඔවුන්ට ක්‍රමයක් තවම සැලසී නැත. ගමේ උපදන ධනය නගරයේ රැස් ව, එය ප්‍රයෝජනයට ගෙන, ගැමියා ම ආර්ථික - දේශපාලනික හා ආධ්‍යාත්මික වහල් බවින් පෙළෙන තත්ත්වයකට අද කරුණු සැලසී ඇත. යම් පළාතක දිසාපතිවරයකු ගෙන් සාමාන්‍ය පුරවැසියකුට එන ලිපියක් හමාර වන්නේ "ඔබේ යටහත් සේවක" කියා ය. සැබැවින් ම එය එ සේ ම ද? නිරාහාර ව හැමතින් ම වහල්ව සිටින ගැමියා ද නැතිනම් කුමාර සැප විඳින "යටහත් සේවකයා ද" ස්වාමියා; ඇයි ද මේ ව්‍යාජ තත්ත්වය? ප්‍රජාතන්ත්‍රවාදයෙන් මෙයට පිළිතුරක් සෙවිය යුතු ය. ප්‍රජාතන්ත්‍රවාදයේ නාමයෙන් අප කවුරුත් අනුමත කරන්නේ රැවිටිලි ක්‍රමයක් ද?

මේ තත්ත්වය පරීක්ෂා කිරීමට අහිංසාවාදී ව ජීවිත කාලයම පරිත්‍යාගයෙන් ඉදිරිපත් වන රටවැසියෝ අවශ්‍ය ම ය. තම ජීවිතයේ අනාගත ලෞකික දියුණුව පසෙකට දමා හුදෙක් ජාතික ජීවිතයකට කැප වීමට ඔවුහු සූදානම් විය යුත්තා හ. කිසි ම විටෙක නොසෙල්වෙන සත්‍යවාදී, අහිංසාවාදී, ආත්මලාභී ප්‍රතිපත්තීන් ඔවුන් ගේ රුධිරයට ඇතුළු විය යුතු ය. එවිට අප සඳහන් කළ දෙ වැනි කණ්ඩායමට අයත් ජන සමූහයක් රටේ ප්‍රගතිය සඳහා හැඩගැස්විය හැකි ය.

## ගමේ පිබිදීම ජාතියේ පිබිදීම යි[6]

ලංකාව යනුවෙන් එදා හැඳින්වූයේත් අද හඳුන්වනු ලබන්නේ තව ශත වර්ෂාධික කාලයක් ඉදිරියට හැඳින්වෙන්නේත් අපේ ගම් ය. දැනට අපේ රටේ ගම් දාහත් දාහක් පමණ තිබේ. ජාතියේ පිබිදීම හෝ ජාතියේ පරිහානිය හෝ රඳා පවතින්නේ මේ ගම්වල ඇතිවන ප්‍රගතිය උඩ ය. එම නිසා ඉතාමත් පුළුල් ව පැහැදිලි සිතින් අපේ ගම්වල අතීතය වර්තමානය සහ අනාගතය දෙසට අපේ මනැස යොමු කරමු.

එදා ගමේ ප්‍රධාන ම ස්ථානය හිමි වූයේ ගොවිතැනට ය. ඈත අතීතයේ සිටම ගමේ ගොවියෝ ගමේ ජනතාවට ආහාර නිපදවීමට දහඩිය හෙළූහ. කුඩා ප්‍රජාවන් වශයෙන් ජීවත් වූ ගැමියෝ හැම දෙනාම ආර්ථික සාමාජික ආදී පොදු වටිනාකමක් ඇති ව්‍යායාමයන්හි යෙදුණ හ. වැඩිදෙනෙක් ඔවුන්ගේ කෙත්වතුවලට තම ශ්‍රමය යෙදවූ අතර සමහරෙක් ගොවි කර්මාන්තයට අවශ්‍ය නඟුල් දැකැති ආදී උපකරණ තැනූ හ. රෙදි වියන්නෝ, කුඹල් කරුවෝ, කරනැවැමියෝ, නැකැත්කරුවෝ ආදි නොයෙක් අය ඔවුනොවුන් ගේ විශේෂ සාමාජික වගකීම් ඉටු කළහ. මුළු ප්‍රජාවේ ම හොඳ පැවැත්ම සහ සමගි සම්පන්නතාව මේ කාර්යය බෙදාගැනීම (ශ්‍රම සංවිභාගය) නිසා ස්ථිර වී තිබුණු අතර ගමේ හැම සාමාජිකයෙක් ම ගමේ පොදු ප්‍රගතියට ඉවහල් වූ ප්‍රජා සේවකයෙක් ද විය.

---

[6] සර්වෝදය පත්‍රය - 1961 සැප්තැම්බර්

ගමේ පන්සල ගැමියන්ගේ ආධ්‍යාත්මික සහ ආගමික පෝෂණය ඉටු කළේ ය. අධ්‍යාපනය බොහෝ දුරට භික්ෂූන් වහන්සේ ගේ වගකීම විය. ගමේ "ගුරුන්නාන්සේ මහත්මා" (ගුරුවරයා) කාගේත් ගෞරවයට භාජනය වූ තැනැත්තෙකි. සිය පවුලේ ම සාමාජිකයින් ලෙස තම සිසුපෙළ සමඟ මුළු කාලයම ගත කළ ගුරුවරයා ඔවුන්ගේ විද්‍යාශාස්ත්‍ර ගැන වගකිවයුත්තා පමණක් නොව සදාචාර සම්පන්න ගැමි පරපුරක් නිර්මාණය කළ තැනැත්තා ද වූයේය. ඔහු සේවය කළේ වේතනයකට නො වේ. ඔහු ගේ වුවමනා එපාකම් ප්‍රජාවේ සියලුදෙනා විසින් සම්පූර්ණ කරන ලදි.

ගමේ වෛද්‍යවරයා ගැන කිවයුත්තේ ද එය ම ය. ඔහු ගෙන් ද ඉටු වූයේ අත්‍යවශ්‍ය සේවයකි. ඔහු ගේ දැනීම ධනෝපායන මාර්ගයක් ලෙස හේ නො සැලකුවේ ය. ඔහු ගේ පාරම්පරික ප්‍රජා යුතුකමක් වූ වෛද්‍ය සේවය පරාර්ථය සලකා ගෙන භාර ගත්තේය. මේ නිසා වෛද්‍ය වෘත්තියේත් එය කළ තැනැත්තාගේත් ගෞරවය රැකුණේ ය. ප්‍රජාව විසින් ඔහුගේ වුවමනා එපාකම් ඉෂ්ට කරන ලදි.

ඉහත සඳහන් කළ හැම ආදර්ශයකින් ම අපට පෙනෙන කරුණක් නම් ධනය සහ බලය රැස් කිරීමේ පිපාසාවෙන් තොර ව පරාර්ථ සිද්ධිය පිණිස ම එ දා ගමේ සේවාවන් ඉටු වු බව ය. මේ නිසා ගුණධර්මවලින් යුත් කාගේත් ගෞරවයට භාජනය වූ ජීවිත අපේ පැරණි ගුරුවරයෝ, වෙදැදුරෝ ආදීහු ගත කළ හ.

ගමේ වැඩිහිටියනට තිබුණේ ඉතාමත් ගෞරව සහිත තත්ත්වයකි. ගමේ සියලු ප්‍රශ්න වැඩිහිටියනට එක් ව විසඳා ගැනීමට තරම් ගමේ වැඩිහිටි මණ්ඩලය නොහොත් ගම්සභාව සමත් වූවා ය. ගමේ වැඩිමහල්ම තැනැත්තා "ග්‍රාමීණී" ලෙස ගම වෙනුවෙන් කතා කළ, වගකීම් භාරගත් යුතුකම් ඉටුකළ තැනැත්තා විය. (අදත් වර්තමාන ශිෂ්ටාචාරයෙන් ඉතාමත්ම ඈත්ව තුබූ සමහර ගම්වල "ගමරාල" දක්නට ලැබේ.) ග්‍රාමීණී ගේ බලය ඔහුට ඉහළින් ලැබුණු බලයක් නොවේ. එය ඔහු ගේ දක්ෂතාවයන් අනුව ද ගුණධර්ම අනුව ද නිරායාසයෙන් ම ඔහු දිනාගත් ප්‍රජාවේ විශ්වාසයේ සහ ගෞරවයේ බලය යි. එනිසා ගමේ භේදයක් ගමෙන් පිටතට විසඳුමක් සොයා කිසි දිනෙකත් නොගියේ ය. මේ නිසා ප්‍රජාතන්ත්‍රවාදයට වඩා උසස් සියලු දෙනාගේ ම යහපත සැලැසූ සමාජයක් දැයක් ආදරය දායාව ආදී ගුණධර්ම පදනම් වූ පිරිසිදු සමාජ ක්‍රමයක් එදා අපේ ගම්වල තිබුණු බවට මෙයට වඩා විස්තර නුවුමනා යි.

එදා ගමේ සංවිධානය ගැන සලකන විට කැපීපෙනෙන කරුණු කිහිපයක් තිබේ.

1. හැම ගැමියෙක් ම ගමේ පොදු ජීවිතයට අයත් ක්‍රියාකාරී ගැමි ප්‍රජාවේ සාමාජිකයකු වීම.

2. ගමේ තිබුණු නිෂ්පාදන සාධක වන ඉඩකඩම්, හරකබාන, කම්කරු ශක්තිය, සංවිධානය ආදී සියලු අංගයක් ම ගමේ පොදු අයිතිය වීම.

3. විවිධ නිෂ්පාදන අංශයන්හි ප්‍රජාව කොටස් වශයෙන් අවශ්‍යතාවන් අනුව බෙදී තිබුණු (ශ්‍රම විභජනය) නිසා ආර්ථික පදනම ස්ථිර වීම.

4. ආර්ථික පදනම ස්ථිර වූ නිසා සෑම කාර්යාංශයක ම වැදගත්කම ගණන්ගත් පොදු ජනතාව ගමේ සියලුදෙනාම සමානාත්මතාවාදීව පිළිගැනීම.

5. පොදු අයිතිය, ආර්ථික දියුණුව, සමානාත්මතාව සහ ආධ්‍යාත්මික ගුණවගාවට බර වූ ජීවිතය තුළින් ලැබූ අධ්‍යාපන ක්‍රමයකින් පෝෂ්‍ය වීමෙන් ගම සම්පූර්ණයෙන් ම එක ම පවුලක් යයි යන හැඟීමෙන් යුතු සමගිය ඇති වීම යන සාධක එයින් කිහිපයකි.

පස් වැදෑරුම් ලක්ෂණයන් දෙස බලන කෙනෙකුට එදා අපේ ගම්වල තුබූ සම්පූර්ණ නිදහස ගැන අදහසක් ගැනීමට පුළුවන. ග්‍රාම ස්වරාජ්‍යය නොහොත් ගමේ සම්පූර්ණ ආර්ථික, දේශපාලන සහ ආධ්‍යාත්මික නිදහසක් එදා ගමේ තිබිණි. ලංකාව සෑදී තිබුණේ මෙ වැනි ගැමි සමූහාණ්ඩු දහස් ගණනකිනි. වරින්වර නොයෙක් රාජ්‍ය යුගයන්හි දී ඇති වූ අභ්‍යන්තරික යුද්ධ හා සතුරු ආක්‍රමණවලින් මේ තත්ත්වය දෙදරුම්කෑවත් අප මතක තබාගත යුත්තේ මිනිසකු විසින් පෙළීම්වලින් තොර ව මනුෂ්‍ය සමාජය සංවිධානය කළ හැකි ක්‍රමයක් අපේ පැරැන්නන් විසින් සොයාගනු ලැබ ක්‍රියාවේ යෙදවූ බව ය.

1505 සිට මේ තත්ත්වය වෙනස් වන්නට විය. අමුද්‍රව්‍ය හා කුළුබඩු ආදිය සොයාගැනීමටත්, නිෂ්පාදනය කළ ද්‍රව්‍ය අලෙවි කර ගැනීමටත්, ගොඩබිම් මාර්ගයෙන් ඒමට නුපුළුවන් වූ බටහිර ජාතීහු මේ වනවිට මුහුදු මාර්ග වලින් පෙරදිග ලෝකයට ඇතුළු වන්නට පටන් ගත්හ. කෙළින් ම මුහුදු මාර්ගයේ තිබූ ලංකාව ද මොවුන්ගේ ගොදුරක් බවට පත් විය. පළමු ව වෙළඳාම ද, දෙවනුව බලය තරකර ගැනීම ද සිදුවිය. සාමයෙන් යුතුව ගම් අතර බඩු හුවමාරු කර ගැනීමට හෝ මංසන්ධිවල පැවැත්වූ පොළවල් ක්‍රම ක්‍රමයෙන් මුදල් එක් රැස්වන මධ්‍යස්ථාන බවට පරිවර්තනය වනු සමඟ ම බලය තරකර ගැනීමේ මධ්‍යස්ථාන බවට ද පත් වීම ඉබේම සිදු වුණි.

මෙතෙක් ගමේ නිපදවූ භාණ්ඩ මේ වනවිට කාර්මික විප්ලවයකට යටත් වෙමින් තුබූ අපරදිග වෙළඳ බඩුවලට යටත් වන්නට සිදුවුණි. කෙමෙන් පිටරට නිෂ්පාදන සඳහා අමුද්‍රව්‍ය නිපදවන ස්ථාන හැටියට අපේ ගම් පෙරළෙන්නට පටන් ගනී. පිටතින් පැමිණි රෙදිපිළි, ගොවි උපකරණ ආදිය පාවිච්චියට හුරු වූ ගැමියන් අතරට ආර්ථික අංශයෙන් තරඟය ඇතුළු විය. මුදල් පරිහරණය වන්නට පටන් ගති. ඉඩකඩම් සහ ද්‍රව්‍යවලට තිබූ පොදු අයිතිය වෙනුවට පෞද්ගලික අයිතිය මුල්බැස ගන්නට පටන් ගත්තේය. ගමේ ඉඩකඩම් මුදල් ඇති ගැමියනට හෝ පිටස්තර අයට අයිති විය. කුඹල්කරුවා, කම්මල්කරුවා, වේවැල් වැඩ, පැදුරු විවීම් ආදී ගෘහ කර්මාන්ත කළ තැනැත්තා, කලාකරුවා ආදී හැම කෙනෙක් ම ආර්ථික ව අතරමං වූහ. ආර්ථිකව පිරිහුණු නිසා කාර්යය බෙදා ගැනීම හෙවත් ශ්‍රම විභජනය තුරන් වන්නට විය. මේ සමඟ ම ගමේ පොදු ප්‍රජාවේ තුබූ පොදු පවුල් හැඟීම සහ බැඳීම සුනුවිසුණු වී ගොස් අයිතිය සහ තරඟය මුල් වූ සමාජයකට සරිලන

සම්බන්ධතා ඇති විය. සුළු කර්මාන්තකරුවාට කොහෙත්ම තැනක් නැති විය. ඔහු ගේ ආර්ථිකය දුර්වල වීමත් සමග ම ඔවුන් කුලහීන වූ පහත් අය ලෙස සැලකෙන ගතානුගතිකත්වයක් ඇති විය.

ගම පිරිහෙන විට පන්සල ද පිරිහුණේ ය. ගමේ තරුණ පරපුර හැඩගැසූ ගුරුවරයාත් ඒ නිසා ම තම දැනීම මුදල්වලට විකුණන නොහොත් වේතනයකට වැඩ කරන වෙළඳ බඩුවක් බවට පත්විය. සමාජයේ සියලුම අංශයන් විනාශයට ගියෙන් මේ නිසා ඇති වූ තත්ත්වය මෙසේ දැක්විය හැකි ය.

පෘතුගීසි, ලන්දේසි සහ බ්‍රිතාන්‍ය බලපෑම් කරවනු සමග ම අපේ ගම්වල සිදුවූ අභ්‍යන්තරික පෙරළිය දැන් අප කලින් සඳහන් කළ පංචවිධ අංශයන් සසඳා බලමු.

1. එදා සිටි ප්‍රජා සාමාජිකයෙක් වෙනුවට ගැමියා ආත්ම සංවර්ධනයට මුල්තැන දුන් ප්‍රජා හැඟීමෙන් තොර ආත්මලාභියකු බවට පත්වීම.

2. ගමේ තිබුණු නිෂ්පාදන සාධක පොදු අයිතිය වෙනුවට පෞද්ගලික අයිතියට යටත් වීම.

3. කාර්යය බෙදීමක් උඩ සැකැසුනු මුල් ආර්ථික ක්‍රමය වෙනුවට වෙනත් ආර්ථික තත්ත්වය ස්ථිර කරන ක්‍රමයක් නැතිවීම නිසා ආර්ථිකව පිරිහීම.

4. සේවය වෙනුවට මුදලට කරන රැකියාවනට මුල් තැන දීම නිසා සේවයේ අගය නැතිවී විවිධ කාර්යයවලට ලැබෙන මුදල් ප්‍රමාණය අනුව රැකියාවනට විවිධ උස් පහත්කම් දීම.

5. පෞද්ගලික අයිතිය, ආර්ථික පරිහානිය, කුලභේද වැනි අක්‍රමිකතා සහ ආධ්‍යාත්මික ගුණවගාවෙන් තොර වූ ආත්මාර්ථකාමී පොතපතේ අධ්‍යාපන ක්‍රමයක් යන කරුණු නිසා පවුල් හැඟීම නැතිව ගම කඩින් කඩවීම.

යටත්විජිතවාදයට අසු වී සිටි කාලය ඇතුළත දී අපේ ගම්වල වහල්බව හැම අතින්ම සම්පූර්ණ විය. මේ වහල්බව ආර්ථික, දේශපාලන සාමාජික සහ ආධ්‍යාත්මික යන හැම අංශයෙන් ම අඩුවක් නොමැති ව විසිවන ශත වර්ෂය වනවිට සම්පූර්ණ වී තිබිණි. අපේ ගම් අවුරුදු සිය ගණනකින් පස්සට ගියේය. ගමේ නිදහස නගරයට බාර විය. ගමේ ප්‍රශ්න එකතු වී රටේ ජාතික ප්‍රශ්නයක් ඇති විය.

1948 දී ලංකාවේ අභ්‍යන්තරයට වඩා බාහිර ලෝකයේ ඇති වූ නොයෙක් බලවේගයන් නිසා අපට දේශපාලන නිදහස ලැබිණි. දේශපාලන නිදහස ලැබුණායින් පසුව අපේ රටට අවශ්‍ය වූයේ ආර්ථික සහ සාමාජික විප්ලවයකි. මෙය පටන් ගතයුත්තේ අපේ ගම්වලිනි. ගම විනාශ වී ගිය නිසා රට විනාශ වූ හැටි අපි සලකා බැලුවෙමු. ගම නැවත වරක් පෙර තැනට ගතහොත් රට සමෘද්ධිමත් වන බවට අපට සැකයෙක් නැත. ගමේ පිබිදීම ජාතියේ පිබිදීම යි.

# සර්වෝදයේ ඉලක්කය පූර්ණ සමාජවාදයයි[7]

අප කවුරුනුත් කතා කරන්නේ සමාජවාදය ගැන යි. පස්කම් සැපතෙහි පතුලට ම කිඳා බැස සිටින කුවේරයාත් එදිනෙදා දිවිය රැක ගැනීමට ඩහදිය හෙළන කම්කරුවාත් යන දෙ දෙනා ම සමාජවාදය කරා රට ගෙනයෑමට දිවුරුම් දෙන හැටි අපට නිතර ඇසේ. සමාජවාදයට විරුද්ධ එක ද දේශපාලකයකු හෝ පක්ෂයක් ගැන හෝ අසන්නට අපට නො ලැබේ. මෙ වැනි තත්ත්වයක් යටතේ සමාජවාදය යන්නෙහි නිවැරදි අරුත තේරුම් ගැනීමටවත් නියම සමාජවාදීන් කවුරුන් දැයි තෝරාබේරා ගැනීමටවත් නොහැකි තත්ත්වයකට රට පත් ව තිබේ. සමාජවාදයේ උරුමක්කාරයින් හැටියට පෙනී සිටින එකෙක් තවකෙනකුට ප්‍රතිගාමියකු යැයි නම් පටබැඳ තමා ප්‍රගතිශීලීයෙක් වෙයි. එ වැනි ම ප්‍රහාරයක් අනෙකාගෙන් ද ප්‍රගතිශීලියාට ලැබෙයි.

මේ සියල්ලෙහි අවසාන ප්‍රතිඵලය වී ඇත්තේ ජාතික ජීවිතය අවුල් ජාලාවක්, කැඳ හැලියක් බවට පත්ව අප සැමදෙනාම හැමතින් ම දවසින් දවස පිරිහීම යි. එයින් ගොඩඒමට හැකි එක ම මඟ නම් සමාජවාදයත්, සමාජවාදියාත් හඳුනාගැනීමට පොදු මහජනයා විසින් සුදුසු මිම්මක් තෝරාබේරා ගැනීම යි. මේ කෙටි ලිපියෙන් ඉදිරිපත් කරන්නේ සර්වෝදය දර්ශනයට පෙනෙන සර්වෝදය සේවකයින් ඉවහල් කර ගන්නා සමාජවාදී මිම්ම යි.

අවුරුදු 450 කට අධික කාලයක් තුළ විදේශීය භෞතිකවාදීන් ගේ බලපෑම්වලට අප යටත් ව සිටීමේ ප්‍රතිඵලයක් වශයෙන් අදත් අපේ සිතිවිලි ක්‍රියා කරන්නේ යම් ප්‍රශ්නයක් දෙස එක් දෘෂ්ටිකෝණයකින් පමණක් බැලීමටයි. මේ නිසා ප්‍රශ්නයකින් කොටසක් මිසක් සම්පූර්ණ ප්‍රශ්නය අපේ මනැසට නො පෙනෙයි. මිනිසා දෙස බලනවිට සම්පූර්ණ මිනිසෙක් ලෙස බලනු වෙනුවට අප බලන්නේ අප තෝරාගත් දෘෂ්ටිකෝණය අනුව ඔහු ගේ පෞරුෂයෙන් එක් කොටසක් දෙස පමණ ය. මිනිස් සමාජයක් දෙස සම්පූර්ණ සමාජයක් මෙන් බලනු වෙනුවට අප බලන්නේ අප තෝරාගත් දෘෂ්ටිකෝණයට අනුව පෙනෙන එක් අංශයක් දෙස පමණ ය. මිනිසා ගේ කොටසක් දෙස බැලීමෙන් හෝ මිනිස් සමාජයේ කොටසක් දෙස බැලීමෙන් හෝ සම්පූර්ණ මිනිසා ගැන හෝ සම්පූර්ණ මිනිස් සමාජය ගැන හෝ නිවැරදි අවබෝධයක් කල්පනා හා නිගමනයන් අප විසින් ඇති කර ගත හැක්කේ කෙසේ ද? නොහැක්කේ මැ යි

සර්වෝදය බලන්නේ අංග සම්පූර්ණ මිනිසා දෙස ය. හැම අංශයක් ම ඇතුළු වන සේ සමස්තයක් ලෙස ගත් සමාජය දෙස ය. මිනිසා ගේත් මිනිස් ප්‍රජාවේත් සම්පූර්ණ පිබිදීම සර්වෝදයේ ඉලක්කය යි. මේ පිබිදීමට බාධක සේ ගැනෙන ආර්ථික සාධක මෙන් ම දේශපාලනමය සාධකත් සංස්කෘතික සාධක මෙන් ම ආධ්‍යාත්මික සාධකත් සමස්තයක් මෙන් ගෙන ඒවා ඉවත් කිරීම සර්වෝදය සේවකයා ගේ පරමාර්ථය යි. ආර්ථික වශයෙන් මිනිසා විසින් මිනිසා සූරාකෑම දෙ වනු වත්, සංස්කෘතික වශයෙන් පන්තියක් විසින් තවත්

[7] සර්වෝදය පත්‍රය - 1964 ඔක්තෝම්බර්

පන්තියක් පෙළීම තුන් වැනි වත් ආදී වශයෙන් මිනිසාත් සමාජයත් අප්‍රාණික ලීදඬු මෙන් කොටස්වලට කඩාබිඳ දමා වත්මන් සමාජයෙහි පවතින අසාධාරණ තත්ත්වයන් කඩින්කඩ වෙනස් කිරීමට හැකි යයි යන දුර්මතය නියම සමාජවාදය හැටියට අපි නොපිළිගනිමු. සමාජවාදය නැමැති රථයේ රෝද, කඩඇණ ආදී සියලු අංගෝපාංගත්, එ තුළ ගමන් කරන රටවැසියා නැමති මගියාත්, එක වර ම එක ම වේගයෙන් මේ මාවත ඔස්සේ ගමන් කරවීම අපේ උත්කෘෂ්ඨ අධිෂ්ඨානය යි. ද්‍රව්‍යවාදී දර්ශනයකින් විකෘත වූ මනසක් ඇති ආධ්‍යාත්මිකව බංකොළොත් වූ සිතිවිලි ඇති "සමාජවාදී ලේබලයෙන්" ආත්ම වංචනික ව සැනසීමක් ලබන යමකු විසින් "විඥානවාදියෝ" යැ යි යන එක වචනයෙන් අපව හෙළාදකිනු ලැබ ඇතත් සර්වෝදයෙන් පිළිබිඹු වන්නේ පූර්ණ සමාජවාදය බැව් ගැඹුරට සිතා බලන ඔහුගේ අවංක සිත ඔහුට කොඳුරා කියනු ඇත.

විවිධ අන්දමින් ජීවත් වන මිනිස්සු විවිධ අන්දමින් සිතති. "අපි අපේ අත්දැකීම්වල සිරකරුවෝ වෙමු" යන මහාචාර්ය හැරල්ඩ් ලැස්කිගේ වදන යම් පන්තියක් කෙරෙහි පමණක් නො ව අප කෙරෙහි ම පෞද්ගලික ව ද යොමු කළයුතු වෙමු. සැබෑ සමාජවාදය මනුෂ්‍ය සන්තතිය ඉදිරියේ තිබෙන පරමෝදාර ඉලක්කයකි. එ වැනි සමාජ ක්‍රමයක සමානාත්මතාව ජීව ධර්මයක් බවට පත් වෙයි. ආර්ථික වශයෙන් එක් මිනිසකු විසින් තවත් මිනිසකු ගේ හෝ එක් ධනහිමි පන්තියක් විසින් තවත් නිර්ධන පන්තියක ගේ හෝ ශ්‍රම සූරාකෑමේ තත්ත්වයක් නොමැති වේ. කුලය නිසා හෝ, ජාතිය නිසා හෝ, ආධ්‍යාත්මික විශ්වාස නිසා හෝ, නිරත වූ රැකියාව නිසා හෝ, අධ්‍යාපනික උස් පහත්කම්, දක්ෂ අදක්ෂකම් නිසා හෝ කෙනකු විසින් තව කෙනකු පෙළීමේ ස්වභාවයක් නොමැති වෙයි. කෙටියෙන් කියතහොත් මිනිසා ගේ මිනිසත් බවේ ඉහළම සාමාජික තත්ත්වයත් ඒ සාමාජික පරිසරයේ දී ම ලැබිය හැකි උසස් ම අධ්‍යාත්මික තත්ත්වයත් පූර්ණ සමාජවාදී ක්‍රමයක් යටතේ ප්‍රත්‍යක්ෂ වෙයි. මෙ වැනි උසස් සමාජයක සිහින දකිමින් සමාජවාදියෙක් හැටියට සෙසු සමාජයට මඟ පෙන්වන්නා විශිෂ්ඨතම පුද්ගලයකු විය යුතු ය. සමාජවාදී සමාජයක ප්‍රතිමූර්තියක් ලෙස මේ පුද්ගලයා වර්තමාන ධනවාදී සමාජ ක්‍රමය තුළ ද සෙසු අය ඉදිරියේ බැබලිය යුතු ය. එහෙත් අහෝ අප ශ්‍රී ලංකාවේ සමාජවාදයට දිවි දී සිටින අය ගෙන් කී දෙනෙක් මේ තත්ත්වයට පත් ව ඇත්ද?

සතුන් මැරීම, සොරකම් කිරීම, කාමයෙහි වරදවා හැසිරීම, බොරුකීම යන සතර කම් කෙළෙස්වලින් ද ඡන්දය (නෑදෑ හිත මිතුරුකම් අනුව පක්ෂපාතීව ක්‍රියා කිරීම), ද්වේෂය (ක්‍රෝධයෙන් ඇලී ක්‍රියාකාරීවීම), භය සහ මෝහය (මුළාව) යන සතර අගතියෙන් ද මත්පැන් පානයෙහි නියැලීම, නොකල්හි වීථි සංචාරය, අලසකම යන ධන පරිහානියට හේතුවන කරුණු වලින් ද වෙන් ව පිරිසිදු මනුෂ්‍ය සේවකයන් මෙන් සමාජවාදය ගොඩනැංවීමෙහි යෙදී සිටින කීදෙනෙක් අප අතර සිටිත් ද? ලැස්කි ගේ කීම අනුව සැලකුවත් මෙ වැනි හීන ජීවිතවල අත්දැකීම් ලබන අයට කෙසේ නම් සමාජවාදය නමැති උතුම් මන්දිරය ගොඩනැඟිය හැකි ද? සත්‍යය කෙරෙහි පවත්නා අචල විශ්වාසය, පස් පවින් තොර වීම නිසා ඇතිවන තැන්පත්කම, තුන් දොරින් ම වැරදි කිරීමට ඇති ලජ්ජාව සහ බිය කමා එල්බගත් භෞතික දර්ශන පමණක් නො ව බුදුදහම

වැනි සමාජ ආධ්‍යාත්මික සත්‍යයන් කෙරෙහිත් සිත යොමු කොට දැනීම දියුණු කර ගැනීම, තමාගේ ධනය හා ශ්‍රමය අනුන් හා බෙදාගැනීම සහ නිදහස් ව කල්පනා කොට හරි වැරැද්ද බේරා ගැනීම සඳහා ප්‍රඥාව දියුණු කර ගැනීම යන අනර්ඝ මානසික ධනයන්ගෙන් සහ ගුණාංගයන් ගෙන් තොරව කෙසේ නම් කවරෙක් හෝ තමා සමාජවාදියා යැයි කියාගත් පමණින් සමාජයේ යුක්තිය සහ සාධාරණත්වය ඉටු කෙරේ දැ යි අපට විශ්වාස කළ හැකි ද?

මේ දර්ශනය "ධනවාදී සමාජයක ධනපති පන්තිය රකින සදාචාර මිනුම්" යැ යි ඉවතලීමට හදිසි නොවිය යුතු ය. ශත වර්ෂ එකොළහමාරකට නුදුරු කාල පරිච්ඡේදයක් තුළ මේ රටේ බෞද්ධ ධර්මයේ ආභාසය ලැබ මෙවැනි පූර්ණ සමාජවාදී බෞද්ධ සමාජ ක්‍රමයක් පැවතුණු බව "බටහිර බණ්ඩ සමාජවාදයෙන්" ඈතට නොබලන පින්වත්හු මතක තබාගත යුත්තා හ. රට පාලනය කරන විට එක සදාචාර මිනුමකුත් පෞද්ගලික ජීවිතයේ දී විශේෂ වරප්‍රසාද ලත් තවත් මිනුමකුත් වශයෙන් දෙබිඩි ජීවිතයක් අපේ බෞද්ධ සමාජවාදී පාලකයිනට එදා නොතිබුණු බව ද සිහි කළ යුතු ය. සදාචාර ගුණදම්වලට පයින් ගසා පස්කම් සැපතේම වෙළී කාමසුඛල්ලිකානු යෝගී ව විසූ ධනපති හෝ රදල පන්තියක් අපේ ඉතිහාසයේ ඒ ස්වර්ණමය යුගයේ දී නොපැවති බවත් සිහියට යුතු ය. එබැවින් ධනවාදී ක්‍රමයේ අමානුෂික අසාධාරණ ආර්ථික අංග ඉවත් කරන අතර ම ආවේනික ව අපට උරුම වූ උසස් ආධ්‍යාත්මික අංග ද අප ගොඩනඟන සමාජවාදී ක්‍රමයට අඩංගු විය යුතු ය. ධනවාදය විනාශ කිරීමට යන ගමනේ දී නොයෙක් දේශීය ධනවාදී හා විදේශීය අධිරාජ්‍යවාදී පීඩන මැද්දේ අපේ පොදු ජනතාව රැකගත් පූර්ණ සමාජවාදයේ අත්‍යවශ්‍ය ලක්ෂණ වූ ආධ්‍යාත්මික හා සදාචාර ගුණධර්ම "ධනවාදයේ මුර බල්ලන්" හැටියට සලකා විනාශ කරන්නට යෑම සාහසික වුත් සැබෑ සමාජවාදයට විරුද්ධ වූත් ක්‍රියාවකි. එමෙන් ම එය ධනවාදයට තවත් ආයුෂ ලබාදීමට ව්‍යාජ සමාජවාදීන් ගත් ව්‍යායාමක් හැටියට ඉතිහාස ගතවනු ඇත.

සත්‍යයෙන් තොර සමාජවාදයක් ගොඩනැගිය නොහැකි ය. ආත්ම පරිත්‍යාගයෙන් තොර ව සමාජවාදයක් ගොඩනැඟිය නොහැකිය. ධර්මඥානය නිසා සිත තුළ හටගන්නා දැඩි ආත්ම දමනයකින් මහා කරුණාවකින් තොරව සමාජවාදයක් ගොඩනැඟිය නො හැකි ය. ආත්මවාදයෙන් හැකි තරම් ඈත්වීම ආත්මහරණය හෙවත් සමාජයේ අභිවෘද්ධිය සඳහා පෞද්ගලික ලාභ අපේක්ෂා අත්හැරීම සමාජවාදියාගේ ලක්ෂණ විය යුතු ය. මේ ලක්ෂණ නොමැති ව සමාජවාදය ගොඩනැඟීමට ඉදිරිපත් වන්නෝ ශිෂ්ටාචාරයේ ඉදිරි ගමන ආපසු හරවන අය වෙත්. ඒකාධිපති ක්‍රම බිහි කිරීමේ නිර්මාතෘවරු වෙත්. පූර්ණ සමාජවාදයට අවශ්‍ය විද්‍යා ඥානයේ හා ආධ්‍යාත්මික ප්‍රඥාවේ හරය නොදුටු අය වෙත්.

සර්වෝදය සේවකයෝ ආධ්‍යාත්මික, සදාචාරමය, සාමාජික, දේශපාලනමය, සංස්කෘතික සහ ආර්ථික යන හැම අංශයකින් ම සමාජවාදී වූ පූර්ණ සමාජවාදී ක්‍රමයක් අපේක්ෂා කරන්නෝ වෙත්. ඒ සඳහා දිවි කැප කොට ඇතුලතිනුත් පිටතිනුත් හැඩගැසෙන අය වෙත්. ඉහළින් බලය අල්ලාගෙන තමා පමණක් හරි යැයි සිතා පහළ තට්ටුවේ සිටින ජනතාව දණ්ඩ ශක්තිය යොදා හැඩගැස්වීමේ කාර්යය ජන ශක්තිය යොදා පහළ සිටම ක්‍රියාවට පරිවර්තනය කිරීම යි මේ සඳහා

බලකාමී අපිවිතුරු පක්ෂ දේශපාලන ක්‍රමයෙන් සහමුලින්ම වෙන්ව අපි සේවය කරමු. අපේ සේවයෙන් ලැබෙන ප්‍රතිඵල අපට එම මොහොතේම දෙනෙත් ඉදිරිපිට ම ලැබේ. කවුරුන් කෙසේ කීවත් සමාජයේ ප්‍රගති ගමනට සුළුවෙන් හෝ නිවැරදි එකතුවක් කළේය යන හැඟීම අපට ලැබීම ම ප්‍රමාණවත් ය.

යම් දේශපාලන පක්ෂයකට යමෙක් අයත් වූ පළියට අපි ඔහු සමාජවාදියකු හෝ ප්‍රගතිගාමියකු හෝ හැටියට නොහඳුන්වන්නෙමු. නොගරහන්නෙමු. මේ ප්‍රතිපත්ති ගරු කරන ඒ අනුව දිවි ගෙවන සියලු පින්වතුනට කුමන දේශපාලන පක්ෂයක සිටියත් සර්වෝදය පූර්ණ සමාජවාදී ගමනට එක් වන සේ දයාවෙන් අත වනමු.

## රට හදන හරි මග[8]

සමාජයක් හොඳ අතට හැරවීමට නම් එහි වාසය කරන ජනතාව පෙරමුණු තුනකින් ඉදිරියට ගමන් කළ යුතු ය. හරි දැනීම, දියුණු ශිල්පීය ක්‍රම සහ කාර්යක්ෂම සංවිධාන යන මේ පෙරමුණු තුනේ ඒකාග්‍රතාවකින් තොරව කිසි සේත් ජාතික සංවර්ධනයක් කළ නො හැකිය. මෙතෙක් අපේ ජාතිය රට හදන මෙම හරි මගට යොමු වී නැත. ඒ මගට රට යොමුකිරීම කළ යුත්තේ වත්මන් තරුණ පරපුර විසිනි.

තරුණ විය හැටියට කුමන කාලසීමාවක් අයත් විය යුතු ද යන්න ගැන පොදුවේ පිළිගත් මතයක් නැත. ශබ්ද කෝෂයක් ගෙන බැලුවොත් මේ කාලපරිච්ඡේදය අසහනදායක, තැන්පත් බවින් තොර, නොමේරූ වයස් සීමාවක් හැටියට දැක්වෙයි. සමාජ විද්‍යාඥයන් ද තරුණ වියට අර්ථදීමේ දී එකම අදහස් පවසා නැත. අප සමාජයේ විවිධ සුප්‍රසිද්ධ සංගම් දෙස බැලුවත් ඒවායේ වගකීම් උසුලන්නේ හදවතින් කෙසේ වූවත් උත්පත්ති වයසින් නම් හැට පැනපු වැඩිහිටියන් බව අප කවුරුත් දන්නා කාරණයකි. එ සේ නම් තරුණ විය හැටියට සැලකිය යුතු කාලසීමාව කිමෙක් ද?

සංවර්ධනය යන්නේ තේරුම ද හොඳටම පැටලිලි සහිත බව අපට පෙනේ. කවුරුත් සංවර්ධනය ගැන කතා කරති. දේශපාලන අදහස කුමක් වුවත් මේ සංවර්ධනය ගැන කතා කරන එමෙන්ම සංවර්ධනය කරනවා ය යි කියමින් නොයෙක් විශාල වැඩ කරන අය ළඟත් සංවර්ධනය පිළිබඳ තිබෙන අදහස් ආර්ථික වශයෙන් දියුණු වූ බටහිර රටවල සංවර්ධනය පිළිබඳ තිබෙන අදහසේ ම පිටපත් කිරීමක් හැටියටයි අපට පෙනෙන්නේ. ඔවුන්ගේ සංවර්ධන අදහස් අනුව බැලුවහොත් 1939 දී ජර්මනිය හෝ ජපානය පත් ව තිබුණේ අතිශයින් දියුණු වූ සංවර්ධන අවස්ථාවකට ය. කාර්මික සහ විද්‍යාත්මක කාර්යක්ෂමතාවය සහ ජාතික සංවර්ධනය අතින් මුළු බටහිර ලෝකයේ ම හෘදය වස්තුව සහ ආඩම්බරය වූයේ ජර්මනිය යි. එහෙත් මේ සංවර්ධන ශ්‍රේෂ්ඨත්වය ඉවර වූයේ කො තැනින් දැයි 1940 වන විට ලෝකයට ඔප්පු විය. කාර්යක්ෂම සහ සංවිධානාත්මක ක්‍රම යොදා ජර්මන් ජාතිය විසින් දසලක්ෂ ගණන් මනුෂ්‍ය ජීවිතයත් අමු අමුවේ සමූලඝාතනය කරන ලද බව අපි දනිමු. අපේ රටේ අපි කතා කරන්නේ මෙ බඳු බාහිර ජාතික

[8] සර්වෝදය පත්‍රය - 1966 සැප්තැම්බර්

සංවර්ධනයක් පමණක් ඇති කරන්නට ද?

1940 අවුරුද්ද බුද්ධිමත් ලෝකයාට මේ සංවර්ධන සංකල්පය සම්පූර්ණයෙන් ම වෙනස් කර ගන්නට තුඩුදුන් අවුරුද්දකි. එදා සිට අද වනතුරු කාලපරිච්ඡේදය ඇතුළත ලෝකයේ සිදුව තිබෙන කාර්මික විද්‍යාඥානයේ සහ ශිල්පීය ක්‍රමවල දියුණුව ගැන සිතන විට ජාත්‍යන්තර වශයෙන් හෝ ධන නිධාන සහ මූලද්‍රව්‍ය සඳහා බිහිසුණු තරඟයක යෙදීමේ අවශ්‍යතාවක් තව දුරටත් නොමැති බව පෙනේ.

ජාතික වශයෙන් සලකා බැලුවත් අපේ දියුණුවට විශාලම බාධකය වී ඇත්තේ අපට පිටස්තර ව තිබෙන භෞතික බලවේග නො ව අපේ අභ්‍යන්තරයේ ම තිබෙන අවිද්‍යාවේ සහ ආත්මාර්ථකාමීත්වයේ බලවේගයන් ය. ආර්ථික වශයෙන් වුවමනා කරන ඉඩකඩම්, ශ්‍රමය, ප්‍රාග්ධනය, සංවිධානය ආදී සාධක සෑහෙන පමණ රට ඇතුළේම තිබෙන නමුත් ඒවා නිසිසේ සංයෝග කොට අපේ ද්‍රව්‍යමය සහ සේවාමය නිෂ්පාදනය දියුණු කරගත නොහැකිව තිබෙන්නේ අපේ චිත්තසන්තාන තුළ පිරී තිබෙන කිලිටි විනාශකාරී බලවේගයන් නිසා ය. ජාතික සංවර්ධනය එම නිසා අනිවාර්යයෙන්ම රඳා පවතින්නේ මිනිස් හිත තුළම ඇතිකර ගත හැකි, ඇති කළ යුතු බුද්ධි විප්ලවයක් මුල් කරගෙන ය.

මේ කරුණු අනුව 1940 න් පසු අද දක්වා ඉපිද ජීවත්ව සිටින හැම තරුණ තරුණියක ම යෞවන යෞවනියක ම ළමා ලපටියකු ම තරුණ යන කණ්ඩායමට ඇතුළු කොට සැලකීමට කැමැත්තෙමි. සංවර්ධනය යනු බඩ පිරෙන්නට කන්නටත්, කැපී පෙනෙන්නට අඳින්නටත්, මන්දිරවල වාසය කරන්නටත්, පංචේන්ද්‍රියන් පහත් මට්ටමේලා පිනවන්නටත්, උනුනුන් හා බෙලිකැපෙන සේ තරඟ කරන්නටත්, කොටින්ම මිනිසා ඇවිදින යන්ත්‍රයක් බවට පරිවර්තනය කරන්නටත්, අරමුණු වූ දෙයක් නො ව ස්වභාව ධර්මය නිසිසේ පාලනය කරන ගමන් සියලු ම බාහිර භෞතික දියුණුව අන්තයක් නො ව උසස් ම ආධ්‍යාත්මික අත්දැකීම් ලැබීමේ මාර්ගයක් හැටියට සලකා ක්‍රියාකිරීම බව මේ තරුණ පරපුරට අවබෝධ කිරීම අපේ රටට ගැලපෙන එකම සංවර්ධන ක්‍රමය යි. මේ දර්ශනයෙන් තොර පූර්ණ සංවර්ධනයක් තබා භෞතික සංවර්ධනයක්වත් කරන්නට යාම උනුනුන් රවටා ගැනීමේ මිථ්‍යා දෘෂ්ඨික සූදුවකි.

ජනගහනය වැඩිවන විට අවශ්‍යතා සංකීර්ණ වන විට නොයෙක් මාදිලියේ සාමාජික වෙනස්වීම් සිදුවීම ස්වාභාවික යි. මේ අනුව මංමාවත් ටිකක් තැනීම, ගොවිබිම් කිහිපයක් සකස් කිරීම, කර්මාන්තශාලා කිහිපයක් ඇරඹීම ආදිය කාලයාගේ ඇවෑමෙන් සිදුවන දෙයකි. මේවා සංවර්ධන වාර්තා යැයි කතා කිරීමට තරම් දේවල් නොවන්නේ එවැනි වැඩ ටිකක් නොකර බැරි තැනට සමාජ බලවේග විසින් ඒවා කරවන්නන් යම් තත්ත්වයකට පත්කොට තිබෙන නිසාය. මේවා සංවර්ධනයේ අංග ලක්ෂණ ය යි කියා රැවටිය යුතු නො වේ. ඒවා අජීව මුළු විශ්වයට ම පොදු වෙනස් වීමේ ස්වභාවික නීතිය ක්‍රියාත්මක වීමෙන් සිදු වන දේවල් ය.

නියම සංවර්ධනය නම් ගුණාත්මක වශයෙන් මිනිසා හා සමාජය තුළත්, ගුණාත්මක සහ ප්‍රමාණාත්මක වශයෙන් ඔහුගේ භෞතික පරිසරය තුළත් සිදු වන සවිඥානකව පාලනය කරන ලද හරි අතට වෙනස් වීමයි. මෙය සිදු වන්නේ මිනිස් සමූහයක් විසින් පෙරමුණු තුනක සිදු කරනු ලබන එකට සම්බන්ධ වූ කරුණු තුනක් මඟිනි. පළමු ව ජීවිතය ගැනත්, මනුෂ්‍ය සම්බන්ධතා ගැනත්, ජාතිය ගැනත්, ලෝකයා ගැනත් මිනිසා පෞද්ගලික ව සහ සාමූහිකව අලුත් වටිනාකම් ඇතිකර ගත යුතු ය. ලාංකිකයාට මෙවැනි වටිනාකම් ඇති කැර ගැනීමට නම් අනිවාර්යයෙන් ම ඉගෙන ගත යුතු, ධාරණය කරගත යුතු දැනීම් සම්භාරයන් තුනක් තිබේ. ඒවා නම් ධර්මඥානය, ඓතිහාසික ඥානය සහ විද්‍යා ඥානයයි. මේ තුනින්ම සම්පූර්ණ නොවූ තැනැත්තා තුළ කවරදාවත් හරි ආකල්ප පහළ නොවේ. හරි දැකීම නම් එය යි.

දෙ වනුව සමාජය අරමුණක් කරා මෙහෙයවිය හැකි බලවේගය නම් දියුණු ශිල්පීය ක්‍රම යි. මේවා බටහිර විද්‍යා ඥානයෙන් ලබාගත හැකිවාක් මෙන් ම පළමු දැක්වූ හරි දැකීම නමැති කාරකයෙන් පාලනය කරගත හැකි ය. නවීන විද්‍යාව අපේ එදිනෙදා ප්‍රශ්න දහසක් විසඳාගැනීමට අතදෙන ශූර සේවකයෙකි. එහෙත් අපේ රටේ 65% කට කිට්ටු තරුණ පරපුරෙන් කී දෙනෙකුට මෙ ම පුහුණුව ලැබේ දැ යි කල්පනා කළ යුතු ය. උසස් ම කාර්මික විද්‍යාඥයින් පමණක් පුහුණු කිරීමට ඉලක්ක කැර තිබෙන වත්මන් විද්‍යා අධ්‍යාපනය ජීවිතයට අවශ්‍ය සේ 99% කටත් අධික පිරිසකට නො ලැබේ. එ නිසා කාර්මිකයන් හා ශිල්පීනට පමණක් නො ව විද්‍යාත්මක ආකල්ප අවශ්‍ය වූ සාමාන්‍ය ජන කොට්ඨාශයන් ආදී හැමට ම විද්‍යා දැනුම අවශ්‍ය ය.

තුන් වැනිව සමාජයන් ඉදිරියට යන්නේ එහි තිබෙන ආයතන වෙනස් වීමෙන් ය. බොහෝ විට අන්ධ භක්තියෙන් යල්පැනපු විනාශකාරී සංවිධානවලට අප එල්බගෙන සිටීම අපේ දියුණුවට බාධාවකි. එක ම සංස්කෘතික පසුබිමක් ඇති, එක විදිහේ සොබාදහමක හැදුණු, එක ම ලේ උරුමකම් ඇති අපේ ජනතාව ප්‍රජාතන්ත්‍රවාදීව පාලනය කිරීමට දේශපාලන පක්ෂ සහ තරඟ නැති වම බැරි ය යන කල්පනාව මෙ වැනි දුර්වල ආයතනයකි. ප්‍රජාතන්ත්‍රවාදය ක්‍රියාත්මකවීමට පක්ෂ නැති ව ම බැරිය යි විශ්වාස කොට අප රට පුරා ම පවුල් ඇතුළේ පවා සිදු වන අරගල වලින් කෙසේ සංවර්ධන පරිසරයක් ඇති වේ ද? සාමකාමී සමගි සම්පන්න ධාර්මික වෙනත් සමූහ පාලන ආයතන ඇති කරනොගන්නේ අප සමාජය එ තරම් දුර්වල නිසා ද?

දිනෙන් දින ම අපරාධ වැඩි වේ. දාමරිකකම් ගැන, හිස නැති මළකඳන් ගැන, සමාජ විරෝධී ක්‍රියා ගැන අපට අසන්නට ලැබේ. පොලීසි, යුද්ධ හමුදා, උසාවි තර කිරීමෙන් දණ්ඩ ශක්තිය යොදා මේ අපරාධ මර්දනය කිරීමට අප තැත්කරන නමුත් අපෙන් කීයෙන් කී දෙනෙක් තම නිවස තුළ, තමා වැඩ කරන ස්ථානය තුළ, තමා ගේ ගම තුළ, සාමකාමී සහෝදර පරිසරයක් ගොඩනැඟීමට මහන්සි ගන්නේ ද? අපෙන් කී දෙනෙක් දයාවත්, ආත්ම පරිත්‍යාගයත් මුල් කරගෙන අපට වැඩිය අහිංසක මිනිස් සමූහයකට නැඟිටින්නට අත දීම කරනවා ද? මෙයින් පෙනෙන්නේ අපේ සමාජ සංවිධාන සංවර්ධනයට සරි ලන සේ වෙනස් කර නැති බව ය.

අවාසනාවකට මෙන් ආගම ද පන්සල්, පල්ලි, කොවිල් ඇතුළේ දමා සිරකොට තිබේ. ඉඳහිට වචන මාර්ගයෙන් වේදිකා උඩ දී ආගම එළි දකී. දැන් අවශ්‍ය ව ඇත්තේ ආගම නැවත වරක් කෙළින්ම අපේ ජීවිතවලට මනුෂ්‍ය සම්බන්ධතාවලට ඇතුළු කැරගැනීමයි.

වෙසෙසින් ජාතියේ ජන කොට්ඨාශය වන තරුණ පෙළ මිනිසා ගෙන් බෙදෙන සියලු බලවේගවලට යටත් වන්නට නො දී මිනිසා එකතු කරන බලවේගයක් බවට පත් කිරීම අත්‍යවශ්‍යව තිබේ. මෙය කළ හැක්කේ ආත්මාවාබෝධය, දයාව සහ ආත්මත්‍යාගය උඩයි.

මෙයට අත්‍යවශ්‍ය පරිසරය ගොඩනැඟිය යුත්තේ ගම මධ්‍යගත වූ ආර්ථික ක්‍රමයක් උඩ ය. මෙ තෙක් ගම මුල් වූ ආර්ථික ක්‍රමයක් අප රටේ ක්‍රියාත්මක වී නැත. රටේ අවසාන ගැලවීම සහ සංවර්ධනයේ මාර්ගය වී ඇත්තේ තරුණ පරපුර සහ ගම මධ්‍යගත ප්‍රජා සංවර්ධන ක්‍රමයක් තුළින් බව අපේ විශ්වාසය යි.

## ගමේ සංස්කෘතිය[9]

ශ්‍රී ලංකාව ගම් වලින් සමන්විත වූ රටකි. අපේ ජනගහනයෙන් වැඩි ම කොටස, එනම් 85% ක් පමණ, ජීවත් වන්නේ පිටිසර පෙදෙස්වල ය. දිවයින පුරා පැතිරී ඇති විසි තුන් දාහක් පමණ ගම් අතුරෙන් දැනට අප ව්‍යාපාරය ගම් හාරසියයක් (1971 දී) පමණ සංවර්ධනය කිරීමේ වැඩ කටයුතුවල යෙදේ. මෙ තෙක් මෙම ව්‍යාපාරය යම් පමණක සතුටුදායක ප්‍රතිඵල ලබා ඇතොත් එයට මූලික හේතුව වන්නේ ව්‍යාපාරය විසින් ගමේ සංස්කෘතිය පිළිබඳ අවබෝධයක් ඇතිකර ගෙන තිබීම යි. පුද්ගලයා විසින් දිනා ගැනීමට වෙහෙස මහන්සි දැරිය යුතු අරමුණු කිමෙක් දැ යි බෞද්ධ දර්ශනයෙහි පෙන්නුම් කැරෙන අතර කණ්ඩායම් වශයෙන් සාමකාමී ව හා අවිහිංසා පෙරදැරි ව ක්‍රියා කිරීමේ වැඩ පිළිවෙලකට පදනම සැලසූ මූලධර්ම ද ක්‍රමයෙන් උපදවාගැනීමට එම දර්ශනය එ ලෙසින් ම උපකාරී වී ඇත.

සතර සංග්‍රහ වස්තු යනුවෙන් හැඳින්වෙන ප්‍රධාන සමාජ ධර්ම සතර පිළිගනිමින් එදා ගමේ ප්‍රජාව බොහෝදුරට එකම පවුලක් මෙන් කටයුතු කළ හ. මේ ධර්මතා, දාන හෙවත් අන්‍යයන් සමඟ බෙදාගැනීම, ප්‍රිය වචන හෙවත් යහපත් කතාව, අර්ථචර්යාව හෙවත් ප්‍රයෝජනවත් වැඩෙහි යෙදීම හා සමානාත්මතාව හෙවත් සියල්ලන්ට ම සමාන ආකාරයෙන් සැලකීම යන මේ සතර ගුණ වලින් සමන්විත වේ. අප රට අන් රාජ්‍යවල යටත් විජිතයක් වීමට පෙර මෙ ම සතර සංග්‍රහ වස්තුවෙන් හුරු වනු ලදු ව පැවති ආර්ථික - සමාජයීය ජීවන ක්‍රමය පරදේශීහු පැමිණ කඩා බිඳදැමූහ. මෙම ජීවන ක්‍රමය නැවත නගාලීමට හැකිය යන විශ්වාසය අප තුළ ඇති කරන සලකුණු එ කල පැවති පිළිවෙළට සමාජයේ තවමත් පවතිනු පෙනේ.

[9] සර්වෝදය ශ්‍රමදානය - ජාතික ව්‍යාපාරයක වැඩීම 1975 ප්‍රකාශනය

දානය හෙවත් බෙදාගැනීමේ මූලධර්මයෙන් වැදගත් තැනක් දෙනු ලබන්නේ සූරකෑමෙන් තොර සමාජයකට හා ධනය සාධාරණව බෙදී යන පිළිවෙළකට ය. තම තමන් ගේ හැකියාවන් අනුව ප්‍රජාවේ සෑම අයකු ම වෙහෙස මහන්සි දරා වැඩ කළයුතු වූ අතර එක් එක් අයකුගේ ලැබීම ඇය ගේ හෝ ඔහු ගේ අවශ්‍යතාවයනට සරිලන පරිදි ඉටු වීම මෙ ම මූල ධර්මයෙන් අදහස් කැරේ. ධනපති සූරාකෑම්වලට එරෙහි ව බටහිර රටවල සමාජවාදී ආර්ථික න්‍යායයන් සකස් කිරීමට පෙර අපේ ජනතාව බෞද්ධ දර්ශනය පදනම් කොට ඇති වූ සමාජවාදී ජීවන ක්‍රමයක් ගත කළ හ. දානය හෙවත් අන්‍යයන් සමඟ බෙදාගැනීමේ සංකල්පය ඇති වූයේ පංතිකයන් ගේ සූරාකෑම්වලට එරෙහි ව නො වේ. එවකට එවැනි පංති භේදයක් මෙම සමාජයේ තිබුණේ ද නැත. දාන සංකල්පයේ පදනම පරම සැපත ලබා ගැනීමට තණ්හාව හෙවත් ධනයට ඇති ආශාව සහමුලින් ම සිඳ දැමිය යුතු බව අවබෝධ කර ගැනීම යි. බෝධි සත්ත්වයකු (හෙවත් බුදු බව පතන තැනැත්තකු) විසින් ප්‍රගුණ කළයුතු දශ පාරමිතාවන් ද එ මෙන් ම පාලකයකු විසින් අනුගමනය කළයුතු අති උත්තම දසරාජ ධර්ම ද ත්‍රිවිධ පුණ්‍ය ක්‍රියාවන් ආදී මෙබඳු තවත් නොයෙකුත් සමාචාර විධි සියල්ලක් ද පටන්ගත්තේ 'දානය' මුල් තැනෙහි තබමිනි. අන්‍යයන් හා බෙදාගැනීමේ ක්‍රියාවට අප ගේ සංස්කෘතිය දී ඇති තැන මෙයින් පැහැදිලි වෙයි.

පෞද්ගලික අයිතිය හෙවත් තණ්හාව දානයේ ප්‍රතිවිරුද්ධ ප්‍රතිපත්තිය යි. එය පොදු අයිතියට හෝ රජය සතු කිරීමකට හෝ සීමා නො වේ. එය ඒ තත්ත්වයත් ඉක්මවා යමින් අයිතියක් නොමැති තත්ත්වයක් කෙරෙහි අපගේ සිත් යොමු කරන්නේ ය. තරගය හා පෞද්ගලික අයිතිය මත පදනම් වූ සමාජයක් නොව, උත්කෘෂ්ඨ ය යි සලකනු ලැබුවේ. එ සේ නොවූවා පමණක් නොව ඔවුන්ගේ සමාජය අයිතියෙන් තොරවූත් සහයෝගයෙන් යුක්තවූත් සමාජයක් විය. ඔවුන්ගේ පරම අභිප්‍රාය වූයේ මනුෂ්‍යයා ආධ්‍යාත්මික පාරිශුද්ධතාවයකට පත් කිරීම යි.

ආර්ථික සමාජීය සංවිධානයක දාන හෙවත් බෙදාගැනීමේ සංකල්පය යොදවනු ලැබූ අවස්ථාවකට හොඳම උදාහරණයෙකි පැරැණියන්ගේ වී ගොවිතැන් ක්‍රමය අප ගේ ආර්ථිකයේ පදනම කෘෂිකර්මය විය. "පොළවෙහි පතිත වන සෑම දිය බින්දුවක් ම ප්‍රයෝජනයට නොගෙන මුහුදට බැස යෑමට ඉඩ නො දිය යුතු ය" යන ආඥාවට අනුකූලව අප ගේ පැරැණි ශ්‍රේෂ්ඨ රජවරු සියල්ලෝ ම ක්‍රියා කළ හ. වැව් ඉදි කිරීමටත් වාරිමාර්ග සම්පාදනයටත් ඔවුහු මුල් තැන දුන් හ. මිනිසුන් ගේත් තිරිසනුන් ගේත් ප්‍රයෝජනය සඳහා ශෂ්‍ය සම්පත ලබාදීමට ද අවශ්‍ය පමණින් ජලය ලැබෙන බව සත්තක වන පරිද්දෙන් ලොකු කුඩා වැව් හා ඒවා සම්බන්ධ කර ඇළ දොළින් සැදුණු වාරිමාර්ග ක්‍රමයක් එ කල විය. ගොවි ජනතාව හා අනෙකුත් ප්‍රජාව සමඟ රාජ මැති - ඇමතිවරුන් පෞද්ගලික ව එකට එකතු වී වැව් හා වාරිමාර්ග ගොඩනැංවීමෙහිත් ඒවා ප්‍රතිසංස්කරණය කිරිමෙහිත් යෙදුණහ. මඩ පෝරුගෑම, වී වැපිරීම, වල්පැල නෙළීම, පොහොර දැමීම, ගොයම් කැපීම, ගොයම් පෑගීම යනාදී ගොවිතැනට සම්බන්ධ වැඩ කරන සියලු ම අවස්ථාවන්හි දී ශ්‍රමය යෙදවීමෙන් ඒවාට සහභාගීවීම සිරිත විය. මේ අයුරින් සියලු දෙනා හවුලේ ශ්‍රමය යෙදවීම 'සමුදන්' වශයෙන් පැරැන්නෝ හැඳින්වූ හ. මෙහි 'සමු' යනු මිනිස් සමූහයට නමකි.

'දත්' යනු බෙදාගැනිමයි. පසුකලෙක මෙය 'කයිය' වශයෙන් ද හැඳින්විණි. මෙය ම 1958 වර්ෂයේ දී අපේ ව්‍යාපාරය විසින් ශ්‍රමදානය යනුවෙන් හඳුන්වා දුන්නේය.

මුළු ජාතිය ම කුඹුරට බැස සිය ශ්‍රමය පිදිමේ දී ඒ වැඩ කොටස් නිසි කාලය තුළ කිසියම් කාල සටහනක් අනුව කිරීම අවශ්‍ය විය. "නැකත" හෙවත් ජ්‍යොතිෂයේ උගන්වන සුභ මොහොත මේ අවශ්‍යතාව සපුරාලිම සඳහා උපයෝගී කොටගත් කාලමය මුල පිරීමකි.

සිය අස්වැන්න බෙදාගැනීම හෙවත් ශ්‍රමයේ එල බෙදා ගැනීම පංගුව වශයෙන් හැඳින්විණි. රජතුමා, භික්ෂූන් වහන්සේ, වෛද්‍යවරයා, රජයේ සේවා නියෝජිතයින්, කම්හල්කරුවන්, මහළු අය හා කනවැන්දුම් යන මේ සැම අයකු ට ම තම පංගුව ලැබිණි. සිරිත් විරිත්, උත්සව, නැටුම්, ගැයුම් යන මේ සැම කරුණකට ම මේ ආර්ථික ක්‍රියාවලියෙ හි තැනක් තිබිණි. ජීවන ෂතුටත් මානසික තෘප්තියත එකට සැලැකෙන බැවින් මේවා අතිශයින් වැදගත් වේ. අපේ ජනතාවගේ ජීවන ක්‍රමය මේ පරිද්දෙන් වූ අතර සිය රැකියාව හා ජීවත්වීමේ සතුට පිළිගැනෙන පරිද්දෙන් ගොවියාට ද වැදගත් තැනක් ලැබිණි. අවුරුදු විස්සක කාලයක් ගොවියන් අතරේ ජීවත් වූ රොබට් නොක්ස් නම් ඉංග්‍රීසි ජාතිකයා මීට අවුරුදු තුන්සීයකට පෙර "මඩ සෝදාගත් සිංහල ගොවියා රජකමට වටී" යැ යි කීවේ මෙය තහවුරු කරන පරිද්දෙනි.

දානයට අනතුරු ව අපේ ප්‍රජාව එක ම පංතියක් වශයෙන් හැඩ ගැස්වීමෙහි ඉවහල් වූ දෙ වැනි කරුණ කතා බහේදී භාවිතා කළ වචන යි. කරුණාබර, වැඩදායී වචන ජනතාවට විශාල සැපතක් ගෙන දෙයි. නොමනා, අශිෂ්ට, හානිකර වචන විසින් ප්‍රජාව තුළ ඇති කළ හැකි අවුල් වියවුල් අප්‍රමාණ ය. ප්‍රිය වචනයෙන් කිසිදාක බියසුලු වගක් නොහැඟවෙයි. හපන්කම් හුවා දක්වන ක්‍රෝධය ඇති කරවන වචන ඉඳුරා ම නිර්භීත බව හඟවන්නේ නැත. පවුලේ අය ගම්වැසියන්, පූජකවරුන්, වැඩිහිටියන් හා ළමයි යන මේ සැම අය අතර දෛනික කටයුතුවල දී භාවිතාවන වචන ඒ ඒ අයට ගැළැපෙන සේ කෙසේ වෙනස් වූයේ ද යත් සැම අයකුගේ ම අගයත් ගරුත්වයත් ඒවායින් සැලැකිල්ලට ලක් විණි. වයසින් මුහකුරා ගිය ස්ත්‍රීහු අම්මා යන්නෙන් බාලයන් විසින් අමතනු ලැබූහ. සම වයසේ සිටි පිරිමින් අයියා, මල්ලී ලෙසත් ගැහැනුන් අක්කා, නංගී ලෙසත් අමතනු ලැබූ හ. ගොයම් කෙත්හි දීත් විහාරස්ථානයේ දීත් වන්දනාමාන ගමන්වල දීත් භාවිතා වුණු වචන සාමාන්‍ය ජීවිතයේ දී ප්‍රකට වචන නො වේ. සත්ත්වයන් පවා අමතනු ලැබුවේ නොගැළැපෙන වචනවලින් නොව දරුවකු යන අර්ථ දෙන සුරතල් වදන්වලිනි. සියල්ලන් පිළිබඳ සමානාත්මතාව පිළිගනු ලැබූ අතර වයස, පරිණතිය, දැනුම, හැකියාවන් ආදිය අනුව සම්මානයට පාත්‍ර වියයුතු අයට ගෞරවයත් පිළිගැනීමත් දෙනු ලැබිණි.

අපගේ ප්‍රජා සංවිධාන හසුරුවනු ලැබූ තෙ වෙනි මූලධර්මය වූයේ අර්ථචර්යාව හෙවත් අර්ථදානය ක්‍රියාකාරකම යි. මෙය ද්‍රව්‍යමය ලක්ෂණ වලින් මෙන් ම ආධ්‍යාත්මික තේරුමෙන් ද යුක්ත ය. ජනතාව ගේ ආධ්‍යාත්මික දියුණුවට හානිකර නොවූ එ බැවින් ම ද්‍රව්‍යමය සමෘධියට හා සමාජයීය යහපතට හේතුභූත වූ ක්‍රියාකාරකම් මෙයින් දියුණු කරනු ලැබිණි.

සමානාත්මතාව සිව් වැනි මූල ධර්මය යි. දණක් තෙක් මඩේ එරෙමින් රජතුමාත්, ගොවියාත් එකට ගොවිතැනේ යෙදුණ හ. එ කල කුල භේදයක් මත වෙනස්කම් නො දැක්විණි. කුලයෙන් නිරූපණය කැරුණේ ඒ ඒ කුලයට අයත් වූවන් ඒ ඒ ක්ෂේත්‍රය පිළිබඳ විශේෂත්වයක් ලැබූවන් ලෙසත් කුල යනු රැකියා බෙදීමේ උපක්‍රමයක් ලෙසත් පමණකි. රැකියා බෙදීම කෙසේ වෙතත් සදාචාර නීතිවලට පට හැණිව කටයුතු කළ අය වූයේ නම් ඔවුහු අනෙකුත් අය අතුරින් නෙරපනු ලැබූ හ. "යමකු බ්‍රාහ්මණයකු හෝ වසලයකු වන්නේ උපත අනුව නොවේ" යනු බුදු රජාණන් වහන්සේගේ උගැන්වීම යි. රජකම හෝ ඇමතිකම හෝ අධිපතිකම හෝ නිලය වූ පමණින් සමාජයේ සදාචාර නීතිවලට පටහැණිව ක්‍රියා කිරීමට ප්‍රජාවේ අනුමැතිය ලැබුණේ නැත. එ ලෙස කටයුතු කළ අයකුට පසුතැවිලිවීමට සිදු වූ අතර ම ඔවුන් වැජඹුණු ස්ථාන ද ඔවුනට අහිමි විය. නීතිය ඉදිරියේ රජතුමාත් සාමාන්‍ය පුරවැසියාත් සමාන සේ පිළිගැනිණි. අද මෙන් එ කල යමකු ගේ පෞද්ගලික හා සමාජීය ජීවිත දෙබිඩි තත්ත්වයකින් ගත කරනු නො ලැබිණි.

ගම්බද මට්ටමේ පැවැති මේ දර්ශනයත් ප්‍රයෝජනයත් හා ජාතියේ ස්ථායිතාවත් බලයත් නිසා ගැමි මට්ටමේ ප්‍රබල පාලන තන්ත්‍රයක් හෙවත් අධෝ ව්‍යුහයක් පිහිටවනු ලැබී ය.එය ජනතාවට ඉහළින් වැජඹුණු නිලධාරීන් ගෙන් පැවරී ආ පිළිවෙළක් නොව උසස් සමාචාර ගුණධර්මවලින් හෙබි ජනතාවගෙන් උපන් ශක්තියක් විය. එබැවින් රජතුමාටත්, පාලකයනටත් අනුගමනය කල යුතුව තිබූ රාජ ධර්ම දහයක් විය. දානය, ශීලය, පරිත්‍යාගය, ඍජු බව, මෘදු බව, තපස හෙවත් නිවුණු ගතිය, අක්‍රෝධය, අහිංසාව, ක්ෂාන්තිය, පළි නොගැනීම යන මේවා දශරාජ ධර්මයෝ වෙත්. මෙ පරිද්දෙන් අපගේ සංස්කෘතිය පදනම් ව තිබුණු අප ගේ ජනතාව ජාතියකගේ ස්වරූපයෙන් යුක්ත බව ගෙන දුන් සත්‍යය, අවිහිංසාව සහ ප්‍රජා උද්යෝගය අද දක්වා ම පවතී. අප විසින් අදත් ගායනා කරන පාළි ගාථා හා එහි අදහස මෙ සේ ය.

දෙවො වස්සතු කාලෙන-සස්ස සම්පත්ති හෝතු ච
ඒතෝ බවතු ලෝකෝ ච -රාජා භවතු ධම්මිකෝ

අපේ වගාවන් සාරවත්වීමට හේතුවන පරිදි සුදුසු කල්හි වර්ෂාව ඇති වේවා! සියලු සත්ත්වයෝ සැපතට පත් වෙත්වා ! අපේ පාලකයෝ සිය කාර්යයන්හි දී සාධාරණ වෙත් වා! ධාර්මික වෙත්වා!

මෙම පිළිවෙළෙහි ප්‍රධාන වූයේ නිලධාරී පාලනයේ බලපෑම් නොව ජනතා ශක්තිය හෙවත් ජන ශක්තිය යි. ජනතාව ගේ සංස්කෘතිය එ වකට ප්‍රමුඛත්වය ගෙන තිබිනි. දිගින් දිගට වැඩිවන නිති පද්ධතියක හා මෙම නීති ක්‍රියාවේ යෙදවීම සඳහා පාලන යන්ත්‍රයක තනි බල පරාක්‍රමය ජනතාව පස්සට තල්ලු කොට අද ප්‍රධාන තැන ගෙන සිටී. ජනතාවට සංවර්ධන කටයුතුවලට සහභාගි වන්නට යැ යි කතාවක් හෝ සුභසාධක රජයක් ගැන කතාවක් හෝ එ කල නො පැවැතිණි. ජනතා ප්‍රයත්නවල දී රජය සහභාගීවීමේ තත්ත්වයකි, එදා තිබුණේ. තමා ගේ ම සංස්කෘතියෙන් අවදිවනු ලැබ සිටි මිනිසා තමා ගේ ම ස්වාමියා ව සිටි අතර හේ බොහෝ දුරට බාහිර බලපෑම්වලට යටත් ව නොසිටියේ ය. ක්‍රියා පිළිවෙත් වශයෙන් මෙය දැඩි යැයි

සිතිය හැකිමුත් වෙනස්වීම් වලට බෞද්ධ දර්ශනයෙහි ස්වභාවයෙන් ම අන්තර්ගත නිදහස නිසා එය වේගාත්මක සමාජයක් ගොඩනැංවීමට උපකාරී විය. යෝධ වැව් හා වාරිකර්ම සැලසුම් පිළිවෙළවල්, අඩි සිය ගණන් අහස කරා උස් වූ විශාල දාගැබ්, තනි ගලින් තැනූ විහාර පන්සල් හා මාලිගාවල්, චිත්‍ර හා කැටයම් වැඩ, වැදගත් සාහිත්‍ය කෘතීන් ආදී දේ මේ සංස්කෘතියේ ක්‍රියාශීලීභාවය හුවා දක්වමින් අදත් පවතිනු පෙනේ. පනසලත්, වැවත්, කුඹුරත් මෙම සංස්කෘතියේ සංකේත වශයෙන් ම අදත් ගැමි පෙදෙස් හි දක්නට තිබේ.

අද ප්‍රධාන ආණ්ඩුවක්, පාලන ආධිපත්‍යයක්, මුදල් පිළිවෙලවල්, අය වැය ලේඛන, ඇස්තමේන්තු, මධ්‍යගත ආර්ථික සැලැසුම් කිරීම, සුභසාධන හා සංවර්ධන දෙපාර්තමේන්තු, ව්‍යාප්ති සේවාවන් යන මේවායින් සැදුන ඉහළ මට්ටමේ ව්‍යුහයක් තිබෙතත් ජනතාවගේ සිතුම් පැතුම්වල හා සංස්කෘතියේ පවත්නා බල පුළුවන්කම් වැඩි හරියක් තවමත් ප්‍රයෝජනයට නොගෙන පවතී. මේ දෙ වනුව කී ගම් මට්ටම සෑදී තිබෙන ආකාරය හෙවත් අධෝ ආකෘතිය පදනම් කොට ගෙනයි, සර්වෝදය ශ්‍රමදාන ව්‍යාපාරය ගොඩනංවා ඇත්තේ. අද දවසේ පවත්නා වෙනස් වී ඇති අවශ්‍යතාවන් අනුව මෙම සිතුම් පැතුම්වලටත් සංස්කෘතියටත් නව ජීවිතයක් හා නව යොමුවක් දෙමින් සර්වෝදය ශ්‍රමදාන ව්‍යාපාරය යත්න දරන්නේ ඒවා නැවත ප්‍රාණවත් කිරීමට යි.

සර්වෝදය ශ්‍රමදාන ව්‍යාපාරය සිංහල බෞද්ධයන්ට පමණක් සීමා නොකරන බව මෙතැන දී පැහැදිලි කළයුතු වන්නේ ය. සර්වෝදය වනාහී සියලු ආගම්වල සාරය බැවින් විවිධ ආගම් භක්තිකයන් හා නොයෙකුත් ජාතිවලට අයත් පුද්ගලයෝ එක ම පවුලක සාමාජිකයන් මෙන් සේවාවෙහි යෙදෙත්.

විවිධ ආගම් අදහන්නෝ වී නමුදු හින්දු, මුස්ලිම්, ක්‍රිස්තියානි යන මේ සියල්ලෝ ම මේ පොදු සංස්කෘතියට හිමිකම් ඇත්තෝ වෙත්. ඇතැම් බාහිර බලපෑම් හා අයිතිවාසිකම් හේතු කොටගෙන භේද භින්න වූ ඇතැම් අවස්ථාවන් හැරුණ විට මොවුන් මිත්‍රත්වයෙන් හා සුහදතාවෙන් එකතු වී තිබේ. මූලික වශයෙන් හැම මිනිසකු ම අන් මිනිසකුට සමාන යැයි, බෞද්ධ ධර්මයේ සඳහන් සමානාත්මතාව නමැති මූලධර්මය යටතේ, සලකනු ලැබේ.

# 5
# ගීයට නැගුණු චින්තනයක්

## නව මිනිසකු ගොඩනගමු

අප සර්වෝදය ව්‍යායාමයේ අතිශයින් ම වැදගත් අංශයකි, පෞරුෂ සංවර්ධනය හෙවත් පෞරුෂෝදය. ඉතා සරල වදන්වලින් පැවසුවහොත් මිනිසා නොහැදී රටක් නො හැදේ. මේ නිසා අප ව්‍යාපාරයේ ක්‍රියාත්මක වන වැඩ සටහන් අතුරෙන් සෑම මනුෂ්‍යයකුට ම ඔහු ගේ හෝ ඇය ගේ හෝ පෞරුෂ සම්පූර්ණයෙන් ම අවදිවන මඟකට පත් කිරීමට අවශ්‍ය සෑම පිටුවහලක් ද දීමට සර්වෝදය පියවර ගෙන තිබේ.

පූර්ණ පෞරුෂෝදය යන්නට අපි සවිස්තර වාර්තාවක් මේ පොතේ වෙනත් තැනක දෙමු. සංස්කෘතික වශයෙන් නව මිනිසකු ගොඩනැගීමේ අදහස ජනතාව තුළට කාවැද්දවීමට අප මහන්සි ගත් ආකාරය පමණක් මෙහි දී සඳහන් කරමු.

සර්වෝදය ශ්‍රමදාන කඳවුරක හෝ පුහුණු මධ්‍යස්ථානයක ජීවත්වන සියලුදෙනා ම උදෑසන පුබුදු පවුල්හමුවක් පවත්වති. එහෙ දී ගැයෙන සාමූහික ගීතයකි පහත දැක්වෙන්නේ.

### පුබුදු ගීතය

නව මිනිසකු ගොඩ නඟමු
හෙළ දැය සරු කරමු
දිවි හිමියෙන් ලොව හදමු
සර්වෝදෙන් අපි හැදෙමු

පර පණ නැසුමෙන් වැළැ කී
සව් දිවිරැකුමට කැප වී
සොරකම් කැරුමෙන් වැළැ කී
වනසමු පරතර ඇති නැති //
නව මිනිසකු ...........

කම් මිස හසරින් වැළැ කී
ලොව්තුරු සැපයට බර වී
මුසබස් බිණුමෙන් වැළැ කී
සබවස පතුරැමු හිතදී //
නව මිනිසකු ...........

කේළම් කීමෙන් වැළැ කී
පරොස් වදනයෙන් වැළැ කී
ඉමිහිරි වදනින් සැරැ සී
පොබයමු හොඳ ගුණ පිබිදී //
නව මිනිසකු ...........

පුහු හිස් වදනින් වැළැ කී
පවසමු සරු බස් තුටිනී
දිවියෙන් වළකිමු කිළිටී
රජයමු ලොව බල දැහැමී
නව මිනිසකු ...........

මේ ගීතයෙහි පදමාලා දෙස කල්පනාවෙන් බලන්න. නව මිනිසකු බවට සර්වෝදය තුළින් පරිවර්තනය වී දැයත්, ලොවත් හැදීමට අපි අපට ම පොරොන්දු වෙමු. දැයත්, ලොවත් හැදීමට පෙර යම් පුරුෂාර්ථ එයට පෙලැඹෙන අය විසින් වර්ධනය කරගනු ලැබිය යුතු ය. පර පණ නැසීමෙන් වැළැකීම මෙන් ම සියලු ම ජීව වස්තූන් ආරක්ෂා කිරීමට කැපවීම ද වැදගත් ය. බටහිර චින්තනයේ අග්‍රඵලය වූ මානව දයාවට වඩා ඉහල දැක්මක් අපේ දේශීය චින්තනයේ තිබේ. එ නම්; මිනිසුනට පමණක් නො ව සතුන්, ගස්වැල් ආදිය ද අයත්වන මුළු ජීවලෝකය කෙරෙහි ම මෙත් සිතක් ඇති කර ගැනීම ය. මෛත්‍රිය වනාහි, ආධ්‍යාත්මික ජීවිතයක ප්‍රබලම ශක්තිය වන අතර, නවීන විද්‍යාත්මක නිගමන අනුව මනුෂ්‍ය සමාජය නො නැසී පවතින්නට නම් සෙසු සත්ත්ව ලෝකය සමඟ ද සහවාසයක් තිබීම අවශ්‍ය ය. එ පමණක් ද නො වේ. Gaia යන වචනය විද්‍යාඥයින් විසින් පාවිච්චි කරන්නේ මුළු පෘථිවි ගෝලයම එහි තිබෙන ජීව-අජීව සියලුම වස්තූන් සමස්තයක් හැටියට ගෙන තනි සවිඥානක ජීව වස්තුවක් ලෙස හැඳින්වීමට ය.

මෛත්‍රිය හෙවත් මෙත්තාව යන වචනය බුදුන් වහන්සේ වැඩසිටි යුගය දක්වා පැරණි වුවත් එයින් ඉස්මතු කරන අදහස විසි වන සියවසෙහි අග භාගය දක්වා සොයා ගෙන ඇති නවීනතම විද්‍යා ඥානය තරම් ම අලුත් ය.

Gaia යන වචනය සාදාගෙන තිබෙන්නේ ග්‍රීක් භාෂාවේ වචනයක් වූ GE යන වචන මූලයෙනි. ග්‍රීකයන් GE යන වචනයෙන් හැඳින්වූයේ පෘථිවි දේවාංගනාව යි. අපි ද මහීකාන්තාවය ය පැරණි පොත්වල සඳහන් කරන්නට ඇත්තේ පෘථිවි ගෝලය ජීවමාන දේවාංගනවාක් හැටියට සලකමිනි. "විලියම් ගෝල්ඩන්" නැමැති විද්‍යා ලේඛකයා මේ Gaia යන වචනය විද්‍යා සාහිත්‍යයට ඇතුළු කළ බව J.E. Lovelock නැමැති විද්‍යාඥයා ඔහු ගේ Gaia නැමැති ග්‍රන්ථයේ සඳහන් කර ඇත.

පෘථිවියේ ජීවගෝලය, වායුගෝලය, සාගර සහ පස ආදී සියල්ල ඇතුළත් වූ සංකීර්ණ සමස්තය Gaia නමින් හැඳින්වේ. යම් ජීව වස්තුවක විවිධ අවයවවලින් පසු විපරම් පණිවුඩ ඒමත්, ඒ අනුව ජීවය රැකගැනීම හා පැවැත්ම සඳහා භෞතික සහ රසායනික පරිසරය හැඩ ගැසෙන්නේ යම්සේ ද සමස්ත ජීව-අජීව සවිංඥානක-අවිඥානක ලෝකය ද විශාල ජීව වස්තුවක් ලෙස ක්‍රියා කරයි. මේ මතය අනුව ලෝකයේ පවතින මිනිසා ඇතුළු සෑම සත්ත්වයෙක්ම ද ශාක ද ඒවායේ ම දිරාපත්වීමෙන් සැදුණු සෙසු වස්තූන් ද සමස්ත ජීව වස්තුවක කුඩා අංගෝපාංග වේ. අවුරුදු දස ලක්ෂ 3,500 කට පමණ පෙර ජීව වස්තූන් හටගත් බවත්, ඒ ජීව වස්තූන් අතර විද්‍යාඥානය ගොඩනැංවූ මනුෂ්‍යයා අවුරුදු දස ලක්ෂ 10 කට පමණ පෙර පරිනාමය වූ බවත්, මෙතෙක් ලැබී ඇති සාක්ෂි අනුව නවීන විද්‍යාඥයෝ අනුමාන කරති.

මානව දයාව වැනි බටහිර සංකල්පයක් අද අප බොහෝ කලක සිට පිළි අරගෙන තිබූ ජීව ලෝකයට ම මෛත්‍රිය කිරීමේ බෞද්ධ සංකල්පයට පරිවර්තනය වෙමින් පවතින බව පැහැදිළි ය. මේ අදහස අනුමත කරන්නේ භෞතික සහ ජීව විද්‍යාඥයන් විසින් පමණක් නො වේ. කලු අප්‍රිකාවේ ජනතාව සුදු යුරෝපීයයන් විසින් පත්කර තිබූ අමානුෂික වහල් භාවයෙන් මුදවා ගැනීමට තම බුද්ධිය මෙහෙය යූ "ෆරැන්ක් ෆැනන්" නැමැති දාර්ශනිකයා ගේ වචනවලින් කියතොත් "පූර්ණ මිනිසා ගොඩනැංවීමට අපි වෙහෙසෙමු. ඔහු ඉපිදවීමට යුරෝපය අසමත් ව ඇත."

මා මෙහිදී තැත් කළේ "සව් දිව් රැකුමට" යන වචන තුළ ගැබ් වී ඇති වත්මන් වටිනාකම අවධාරණය කිරීමටය.

මීළඟට අවධාරණය වන්නේ සොරකමින් වැළැකීම පමණක් නො ව ඇති-නැති පරතරය ද නැති කිරීම යි. පෞද්ගලික මට්ටමින් කැරෙන සොරකම් පිළිබඳ අපි නීතිරීති හදා ඇත්තෙමු. එහෙත්, බොහෝ විට, නීතියෙන් ම සංස්ථාපිත කැර ඇති, එයට වඩා භයානක සොරකම් නිසා මන්දපෝෂණයෙන් සෑම මිනිත්තුවක දී ම මිය යන සිඟිත්තන් ගැන වත්, යුද්ධායුධවලට සෑම මිනිත්තුවකට ම ඇමෙරිකානු ඩොලර් දස ලක්ෂ එකහමාරක් වියදම් කරන බැවින් ලොවපුරා ඝාතනය වන පමණ වූ මනුෂ්‍ය ජීවිත ගැනවත්, ඒ යුද්ධවලින් ම තුවාල ලබමින් ගේ-දොර වස්තූන් විනාශ වී සරණාගතයන් බවට පත්වන එයට කිහිප ගුණයකින් වැඩි අහිංසක මිනිසුන් ගැන වත් අපේ අවධාරණය යොමු නො වේ. මේ නිසා සොරකමින් වැළකීම පමණට ම හෝ එයටත් වඩා, ඇති නැති පරතරවලට හේතූන් ඉවත් කිරීමේ වැදගත්කම අවධාරණය කරයි.

පංචේන්ද්‍රියන් පිනවීම සඳහා සියලු ම සොබා සම්පත් හා මිනිස් සම්පත් හීන අන්දමේ නිෂ්පාදනයකට යොමු කරමින් පෞද්ගලික වත් සාමූහිකවත් වැනසෙන මිනිස් සමාජයට "කම්මිස හසරින් වැළකී-ලොව්තුරු සැපයට බරවී" යන වදන්වලින් තවත් දේශීය සාරධර්මයක් මතු කරයි.

මිනිස් සමාජයෙහි අප භාවිත කරන වචන අපේ පෞද්ගලික ජීවිතය කෙරෙහි පමණක් නො ව පොදු සමාජ සාමය සහ සාධාරණය කෙරෙහි ද බලපායි. ඒ නිසා මුසබස්, කේළාම්, පරුස වදන් ආදියෙන් වැළැකී සත්‍යමය සහ මිහිරි වදන් භාවිතයේ අගය අවධාරණය කිරීම තවත් පුරුෂාර්ථයක් මතු කිරීමකි. කිළිටි දිවියෙන් වැළැකී "දැහැමි බල ලොව රජයමු" යන වදන්වලින් ද මතු කරන්නේ වත්මන් සමාජයෙහි බලවත් වාණිජ්‍යමය සහ රාජ්‍ය ආයතනවලින් ආර්ථික දියුණුවේ නාමයෙන් ඉස්මතු කරන ජීවන රටාව අතිශයින් විනාශකාරී අනිෂ්ඨ ප්‍රතිඵල ඇති කරවන්නක් බව ය. නොකිලිටි දැහැමි ජීවන රටාවක් ගොඩනගාගැනීම අපගේ අභිලාෂය විය යුතු ය.

මෙ තෙක් විස්තර කළ සර්වෝදය පුබුදු ගීයේ අන්තර්ගත වූ පුරුෂාර්ථ දස දහස් ගණන් සර්වෝදය සේවක සේවිකාවන් තුළට ඇතුළු කිරීමට අපි තිස් වසරක් තිස්සේ වෙහෙසෙමු. මේ ගීයේ වචනාර්ථවලට ඇතුළෙන් තිබෙන ආධ්‍යාත්මික ජීවය එක වර ම නො වුණත් කල් ගත වී හෝ එම ළාබාල ජීවිතවලට අවබෝධ වනු ඇත.

"නව මිනිසකු ගොඩනගමු" යන ප්‍රාර්ථනය ඉටු කැරගැනීම සඳහා සෑම සර්වෝදයේ කටයුත්තක දි ම කෙටි සාමූහික භාවනාවක් ද සම්ප්‍රදායක් වශයෙන් පුරුදු කරනු ලැබේ. මේ ගීයෙන් ශීලය අවධාරණය කෙරෙන ආකාරයට ම භාවනාවත් චිත්තසමාධියත් අවධාරණය කෙරේ. චිත්තසමාධිය ප්‍රඥාව උදාවීමට මුල් වේ. සර්වෝදය භාවනා මාර්ගය පිළිබඳව මේ පොතෙහි වෙන ම කොටසක් වෙන් කර ඇති බැවින් මෙහි දී ඒ ගැන විස්තරයකට නො බසිමි.

## සමුදන

මෙහිදී මා "සමුදන්" යන වචනයෙන් අදහස් කරන්නේ සමූහයක් එකතු වී සමූහයේ පොදු යහපතට ඉවහල් වන සාධාරණ අන්දමට සමූහය සතු සම්පත් සහ ශ්‍රමය බෙදා ගැනීමයි. අනාගත වංශ ටීකාවෙහි මේ "සමුදන්" යන වචනය පාවිච්චි කර තිබුණු බව වරක් මගේ මිතුරෙක් මට පෙන්වා දුන්නේය. පෞද්ගලික අයිතියත්, තරඟයත්, උද්දීපනය කෙරෙන, ලේ වැගිරෙන සට්ටනවලින් ගහණ සමාජයක, සාමූහිකත්වය සහ සහයෝගය වචනයෙන් හෝ බලයෙන් හෝ ඇති කළ හැක්කක් නොවේ. ඒවාට පණ පෙවිය යුත්තේ නව ජීවයන් දිය යුත්තේ ප්‍රායෝගික ව සිත කය වෙහෙසා සාමූහිකව කාගේත් ප්‍රයෝජනයට කෙරෙන වැඩක් තුළින් පමණකි. පුබුදු ගීයෙන් දැක්වෙන ශීලය සහ අප සඳහන් කළ සම්ප්‍රදායික භාවනාව අංග සම්පූර්ණවන්නේ එයට දානය හෙවත් සංවිභාගය හෙවත් යහපත් ලෙස තමා සතු දේ බෙදාගැනීම ද එකතු කළහොත් පමණකි.

කාටත් පහසුවෙන් ම බෙදාගත හැකි දේ තමන් සතු අදහස්, හැඟීම් සහ කායික ශ්‍රමය යි. සමාජයේ අන්ත දුගී තත්ත්වයෙහි ජීවත් වන අයට විශේෂයෙන් තිබෙන්නේත් මේ කායික, බුද්ධිමය සහ චිත්තවේගීය ශ්‍රමය යි. අප මුලින් ම ආයාචනා කළේ සැම ගේ ම උදාවක් ඇති කිරීම් පළමු පියවර වශයෙන් තමන් ගේ ශ්‍රමය සමූහයක් වශයෙන් සමූහයට ම පරිත්‍යාග කිරීමට ඉදිරිපත් වන ලෙස යි. මෙය නොමිලේ කෙරෙන ශ්‍රම පරිත්‍යාගයක් නො වේ. ශ්‍රමදානය වනාහි, සර්වෝදය සමාජයක් ගොඩනැංවීම සඳහා අප ඉදිරිපත් කළ පළමු විප්ලවීය ශිල්පීය ක්‍රමය යි. එය යමකු ගේ පෞද්ගලික විඥානය සාමූහික විඥානයකට පරිවර්තනය වන අගනා ප්‍රායෝගික මාධ්‍යයකි.

ආධ්‍යාත්මික ප්‍රබෝධයක් තුළින් දේශීය චින්තනයකට මගපාදා පොදු මහජනතාව තුළ දේශ ශක්තියක් සහ විශ්ව සමාධියක් ඇති කිරීමට තැබූ ශ්‍රමදානය නමැති පළමු වන පියවරේ ගැඹුරු අරුත පහත සඳහන් "සමුදන් ගීයෙන්" අනාවරණය වේ.

**සමුදන් ගීතය**

මා ඔබ ඔහු ඇය ඉපදුණු හෙළ දැය
රැකුමට වැඩුමට නැගුමට නැගිටිව්
ගමින් ගමට යව් ගෙයින් ගෙයට යව්
සත්‍යවිංසාවය පතුරව්// සර්වෝදය පතුරව් //

බලයට යට වුණු කුලයට රැවටුණු
ධනයට ලැදි වුණු මිසදිටු සමයේ
පරදෙසටම රැති-පරසිරිතම ඇති
පර බසටම ගැති-අධිරජ යුගයේ
නටබුන් වනසවු-හෙළ සිත පුබුදවු
නිදහස පොබයව්-ලංකාවේ//

මා ඔබ .........

කුසට අහර නැති-ගතට පිළිය නැති
හිසට සෙවණ නැති-හෙළ රැටියන්
ගමට පාර නැති-කෙතට ජලය නැති
වැඩට බිමක් නැති-ගොවි අටියන්
සමුදන්-බිම්දන්-දනදන් දිවවිදන්
බෙදමින් ඇවිදිව් ලංකාවේ//

මා ඔබ .........

සතට සියලු සෙත සදන කුලුණු මග
අපට උරුම සොහොයුරු ප්‍රේමේ
යුදට වැදුණු ලොව පවා මුදන වග
සිතා කරමු සේවේ
පවුලෙන් ගමට ම රට වට ලොවට ම
පතුරවී යස ගොස ලංකාවේ//

මා ඔබ .........

දැය රැකුම, වැඩුම, නැගුම යන අදහස් තුන මෙහිදී අතිශයින් වැදගත් වේ. රැකගත යුතු දේ කිමෙක්ද? සියල්ල ම විනාශ කළ යුතු ද? වැඩිය යුතු දේ කිමෙක් ද? හැම දෙයක් ම වැඩිය යුතු ද? රැකගෙන වඩවා දැය නගන මග කිමෙක් ද? යන අදහස් මේ ගීයෙන් ඉස්මතු වේ.

හෙළ සිත පිබිදීමට නිදහස් ව පෙබැයීමට තිබෙන බාධා කිමෙක් ද? පර දෙසට, පර සිරිතට, පර බසට යට වුණු අධිරාජ්‍ය යුගයේ නටබුන් ද බලය-කුලය-ධනය ආදියට පුදන මිසදිටුකම් ද වැනැසීමෙන් පමණකි. දේශීය චින්තනයක් සහ නිදහස් හැඟීමක් මතු වන්නේ.

මේ සඳහා ගෙන් ගෙට ගොස් සේවය කළ යුතු ය. මුලින් ම යා යුත්තේ සමාජයේ අන්තයේ ම සිටින, කුසට අහාරක් නැති, ගතට පිළිය නැති, හිසට සෙවණ නැති, ගමට පාර නැති, කෙතට ජලය නැති, වැඩට බිමක් නැති ගොවියන් ගැමියන් වෙතට ය.

කෙ සේ ද ඔවුන් අතරට යා යුත්තේ? ඔවුන් තුළ සාමූහිකත්වය ගොඩනගමින්, ශ්‍රමය බෙදා ගනිමින්, භූමිය, ධනය, ජීවිතය පරිත්‍යාග කරමිනි. මෛත්‍රියෙනි. කරුණාවෙනි. සහෝදරත්වයෙනි. සාමයෙනි. ශ්‍රී ලංකාවේ ජනතාව මතුකරන මේ ශක්තිය පවුලෙන් ගමටත්, ගමෙන් රටටත්, රටෙන් ලොවටත් ජය රාවයක් වශයෙන් පැතිරිය යුතු ය.

පසුගිය අවුරුදු 30 තුළ දී දසදහස් ගණන් තරුණ තරුණියන් ලක්ෂ සංඛ්‍යාත ගැමි ජනතාවක් සමඟ රටපුරා දහදිය හෙළුවේ මේ පණිවුඩය දීමට ය. ස්වශක්තිය, සාමූහිකත්වය සහ පැහැදිලි චින්තනයක් උඩ ජාතිය නැවත ගොඩනැවීමට පුහුණුවක් ලබා ගැනීමට ය. පෞද්ගලික ආධ්‍යාත්මික විමුක්තිය පොදු සාමූහික විමුක්තියක් බවට පරිවර්තනය කිරීමට ය.

## ග්‍රාමෝදය ගීතය

සර්වෝදයේ අපි ව්‍යවහාරයට ගත් තවත් වචනයකි, "ග්‍රාමෝදය". මේ වචනය දැන් අපට වඩා පටු අරුතකින් රජය විසින් ද ව්‍යවහාර කරන නිසා අප එය පාවිච්චි කළ මුල් අර්ථය වටහා ගැනීම වැදගත් ය. මේ පිළිබඳ වෙනත් පරිච්ඡේදයක් සවිස්තරයකට වෙන් වී ඇති නිසා මෙහිදී කරන්නේ ගම්උදා අදහස උද්දීපනය කරන ග්‍රාමෝදයේ ගීය හඳුන්වා දීම පමණකි.

මේ අපේ ගමයි-මේ අපේ ගමයි//
දේශයේ-ජාතියේ
ආගමේ නිදහසේ
සාමයේ-ප්‍රීතියේ
ක්ෂේම භූමිය යි

මේ අපේ ගමයි .........

වැස්ස වසී කලට නිසී
වැව් දිය සරු කෙතට බසී
ගොයම් පැසී සිනා සිසී
පලවයි සාගිනි සැහැසී

මේ අපේ ගමයි .........

බෝපත් සිප එන පවනින්
බුදු ගුණයෙන් හද පුබුදයි
සුදට දිලෙන වෙහෙර තුළින්
ලෙව් ලොව්තුරු ඇස් පාදයි

මේ අපේ ගමයි .........

සිඟිති-යොවුන්-මවු-සමුදන්
ගොවි හවුලෙන් සැදි පවුලයි
දන පිය වදනය අත් සැරි
සම බව අප ගම රජයයි

මේ අපේ ගමයි .........

පුද්ගලයාගේ පූර්ණ පෞරුෂෝදයකට පවුල නැමැති ප්‍රාථමික මිනිස් එකතුව යම් සේ මූලික වන්නේ ද, දේශෝදයක් සඳහා මූලික වන්නේ පවුල් රාශියකින් සැදුණු ග්‍රාමීය ජන කොට්ඨාශයයි. රට-දැය සමයේ නිදහස සාමය සහ සතුට ආරක්ෂා වන ක්ෂේම භූමිය ගම යි. කල්වැසි වැස, වැව් අමුණු පිරී, කෙත්වත් සරු වී, සාගිනි පලවා හරින ගම ධාන්‍යාගාරයකි. ජීවමාන බෝධීන් වහන්සේ සහ සුදෝ සුදු වෙහෙර ගතින් සිතින් හා හදවතින් ස්පර්ශ කරන ගම්වාසීහු ධර්මද්වීපයක උරුමක්කාරයෝ ය. දානය, ප්‍රිය වචනය, අර්ථචර්යාව, සමානාත්මතාව යන සතර සංග්‍රහ වස්තුව අනුව ජීවත්වන ගම එකම පවුලකි. එහි ජීවත්වන සිඟිති-යොවුන්-මවු-වැඩිහිටි සහ ගොවි ජනතාව සංවිධානය වී ගම ගැමි රජයක් බවට පරිවර්තනය කරති.

පූර්ණ පෞරුෂෝදය, කුටුම්බෝදය හෙවත් පවුලේ උදාව සහ ග්‍රාමෝදය එකට බැඳී තිබෙන අන්දම මෙයින් අනාවරණය වේ. "ගමේ උදාව-දැයේ උදාවයි" යනුවෙන් අප පවසන්නේ ඒ නිසා ය. මුළු ගම ම පවුල් හමුවක දි එකට එක් ව මේ ගීය ගායනා කිරීමෙන් ඔවුන් තුළ ආත්ම ශක්තියක් හා ආත්ම අභිමානයක් ඇති වන්නේ දේශ භක්තියක් සහ දේශාභිමානයක් ද ඇති කරවමිනි.

## නගරෝදය

නාගරික ජනතාව ද උසස් දේශීය චින්තනයකට යොමු කොට දේශෝදයක් සඳහා යොමු කර ගත යුතු ය. පරගැතිකම්වලින් ඔවුන් මුදවාගෙන දේශ ප්‍රේමයක් ඔවුන් තුළ වඩවාගත යුතු ය. සිංහල බෞද්ධ සංස්කෘතියේ ශ්‍රේෂ්ඨ නගර නිර්මාණයන් වූ මාගම, අනුරපුර, පොළොන්නරුව ආදී පුරවරයන්හි පැවැති හැදියාව ඔවුනට සිහි කර දී මිනිස්කම් මතු කළ යුතු ය. ඔවුන් ද සර්වෝදය තුළින් සෙසු ග්‍රාමීය ජනතාව සමඟ අත්වැල් බැඳගෙන ජාතික පුනර්ජීවනයක් සඳහා යොමු කළ යුතු ය. නාගරික ජන කොට්ඨාශ සඳහා සංවිධානය වී ඇති නගරෝදය ව්‍යාපෘතිවල දී ගැයෙන්නේ පහත දැක්වෙන නගරෝදය ගීතය යි.

පුර වර වාසි දන එක රාශී වී පෙරමුණට වරෙව්
ගම රට නංවන දැය පණ ගන්වන සර්වෝදයට හැරෙව්
මාගම අනුරා පුරය පොලොන්නරු පුර සිහියට නංවව්
පර ගැති කම් නැති දෑ බැතිකම් ඇති නගරෝදයට යමව් ..... //

මිනිස් කමට මුල් තැන දී
නැති බැරි කම් දුරු කර දී
ලස්සන පිරිසිදු පරිසර ඇති කොට
රෝ දුක් බිය දුරලව්
සොර බිය නැති කරලව්

පුර වර වාසි දන එක රාශී වී පෙරමුණට වරෙව්.....//

පැල්පත් වෙනුවට නිවෙස් තනා දී
දරුවන් යොවුනත් යහ මඟ යාදී
නව පර පුරක් තනව්
නගරෝදයක් සදව්

පුර වර වාසි දන එක රාශී වී පෙරමුණට වරෙව්.....//

**දේශෝදය**

බුදුරජාණන් වහන්සේ ගේ ඉගැන්වීම් සහ ධර්මාශෝක අධිරාජ්‍යයා විසින් බෞද්ධ ධර්මය ආර්ථික, දේහපාලනික සහ සාමාජික පාලන ක්‍රමයකට පරිවර්තනය කළ රාජ්‍ය පාලන ක්‍රමය ශ්‍රී ලංකාද්වීපයේ මුල්බැස ගත්තේ ය. භාරතය විශාල ජනගහණයක් ජීවත්වන භූමිතලයකි. එහෙත් ශ්‍රී ලංකාව පරමාදර්ශී සමාජ ක්‍රමයක් ලෙස දීර්ඝ කාලයක් තිස්සේ නිර්මාණය කොට පවත්වාගෙන යා හැකි සාපේක්ෂව කුඩා වූ අඩු ජනගහණයක් ඇති කුඩා දිවයිනකි. බුද්ධ අශෝක මාර්ගයෙහි ගමන් කොට ධර්මද්වීප ධාන්‍යාගාර නැමැති අරමුණක් සිංහල රාජ්‍ය සමයෙහි දී ශ්‍රී ලාංකිකයෝ සාක්ෂාත් කර ගත් හ. එ ම ධාන්‍යාගාරය ධර්මද්වීපය තුළ සෑම මනුෂ්‍යයකුට ම ඔවුන්ගේ භාෂාව, ආගම සහ සංස්කෘතිය රැක ගනිමින් සමානයන් හැටියට ජීවත්වීමේ වරප්‍රසාදය ලැබුණේ ය. රජකමට පවා පත් වීමට උපතින් සිංහලයකු හෝ බෞද්ධයකු නොවීම නුසුදුසු කමක් නොවීය. සුදුසුකම වූයේ දසරජ දහම ඇතුළු සාර ධර්මයන් පිළිපදින බවට මහා සංඝයා වහන්සේගේ සහ ජනතාවගේ විශ්වාසය දිනා ගැනීම යි.

යටත්විජිත පාලන සමයේ දී ධර්මද්වීපය ධාන්‍යාගාර අරමුණ යටපත් විය. මිසදිටු පරදේශීය සංස්කෘතිය, දේශීය සංස්කෘතිය අභිබවා නැගී සිටියේය. නිදහසින් පසු ද දේශීය වටිනාකම් පිළිගත් උපතින් පමණක් නොව සිරිතෙන් ද ස්වදේශීය වූ ජනතාවට හිස එසවීමට නොහැකි විය. මේ නිසා සංස්කෘතික විප්ලවයක් අවශ්‍ය විය.

ඒ සංස්කෘතික විප්ලවයට නායකත්වය දිය යුත්තේ ශ්‍රී ලංකා මාතාවගේ ප්‍රාණ වායුව රකිමින් නව පණක් දෙන දූ පුතුන් සමූහයක් විසිනි.

ඔවුන්ගේ ඥාන ශක්තිය, කාය ශක්තිය අවදි කොට ජීවිත පරිත්‍යාගයෙන් රට නංවන තත්ත්වයට ඔවුන්ගේ පෞරුෂය දියුණු විය යුතු ය. ධන තණ්හාව, පක්ෂ වෛරය, කුල සහ ජාතිභේද ආදියෙන් පිරිහුණු අන්ධකාර යුගය ඔවුන් ගේ උදා වන පෞරුෂය නැමැති ප්‍රදීපාලෝකයෙන් නැති වී ජාතිය තුළ ධර්ම ශක්තිය සහ දේශ ශක්තිය පදනම් වූ විමුක්තියක් ඇතිවිය යුතු ය.

ඈත එපිට ගම්මානවල සර්වෝදය ශ්‍රමදාන කඳවුරු බැඳගත් තරුණ තරුණියෝ කුලය නිසා හෝ දුප්පත්කම නිසා හෝ නූගත්කම නිසා හෝ සමාජයෙන් කොන්කර තිබූ ජන කොට්ඨාශ අවදි කළේ මේ අදහස් උද්දීපනය වුනු ගී ගයමිනි. "දේශෝදය" නමින් හැඳින්වෙන මේ ජනප්‍රිය ගීය දෙස බලන්න.

ධාන්‍යගාර ධර්මද්වීප බුද්ධශෝක මාර්ගප්‍රාප්ත
සංස්කෘතිය විප්ලවීය ගීතයෙන්
ශ්‍රී ලංකා මාතා ප්‍රාණවායු රක්ෂණී සජීවනී
දුහිතෘ පුත්‍රයෝ වෙමු අපි//

ඥාන වීර්ය කාය ශක්ති පිබිදුණා
ජීව දානයෙන් රටක් උදම් වුණා
පෞරුෂෝදයේ ප්‍රදීප දැල්වුණා
අන්ධකාරයේ යුගේ නිමක් වුණා
වස්තු ලෝභ පක්ෂ ද්වේශ වැනසුණා
ගෝත්‍ර මෝහයෙන් දැයක් ඉවත් වුණා
ධර්ම ශක්ති මතුවුණා-දේශ භක්ති ඇති වුණා
කාලයක් විමුක්තියේ උදා වුණා

ධාන්‍යාගාර ........

වාරිමාර්ග වැව් තටාක ඉදි වුණා
ආකාශ පතිත ජලය බිංදු සුරැකුණා
සාර බෝග සරුබිමේ වගාවුණා
වල් පැළෑටි මාර සෙනග පැරදුණා
ස්වරාජ්‍ය ග්‍රාම තුන් හෙළේම හෙළි වුණා
ස්වදේශ උදය සර්වෝදය සැලසුණා
පව්වු යුගය නිමවුණා-දැහැමි යුගය එළඹුණා
හෙළ ඉතිහස රන් පිටුවක් පෙරළුණා//

ධාන්‍යා ගාර ........

## විශ්වෝදය ගීතය

සම්පත් බෙදා - සාමේ සදා
ලොව පුරා - නෙත් යොමා එක්වෙමු
දම්නැණින් - විදුනැනින් - සව්උදා සලසමින්
විශෝවෝදයේ මඟ යමු ..........//

දාන - ශීල - භාවනා නිසා
ලෝභ - ද්වේශ - මෝහයන් නසා
මනසින් මිනිසා රජ වී - පොදු ජන රජයන් බිහිවේ
බලකොටු ගැලැවේ - අධිරජ මැළැවේ - ලෝකයේ අපේ
සම්පත් බෙදා........//

විරුද්ධ වාද - වර්ණ භේද - පංති භේද සීමා .......
දේශ සීමා ........//
යුද්ධයේ විනාශ හා ලොවෙන් තුරන් ව පිපේවා.........
තුරන් ව යේවා.......//
ධර්ම ශක්ති - දේශ භක්තියේ කුසුම් පිපේවා........
කුසුම් පිපේවා......//
ලෝක සත්ත්වයන් සියල්ල නිදුක් - නිරෝගී වේවා ........//
නිරෝගී වේවා......//

සම්පත් බෙදා........//

මිනිසුන් හැටියට, පවුල හැටියට ගැමි හා නාගරික ජන කොට්ඨාශ හැටියට සහ ජාතියක් හැටියට පමණක් කල්පනා කිරීම ප්‍රමාණවත් නො වේ. සමස්ත මිනිස් පවුලක් හැටියට ද අපි කල්පනා කළ යුතු වෙමු. එ සේ නම් "දේශෝදය" මෙන් ම "විශ්වෝදය" ද වැදගත් වේ. අපේ ඉතිහාසයේ ශ්‍රේෂ්ඨතම යුගය හැටියට සැලකෙන අනුරපුර යුගයේ දී එ වකට පැවැති උසස් සංස්කෘතීන් සියල්ල ම සමඟ අප සම්බන්ධකම් පැවැත්වූ බව ඉතිහාසයෙන් පෙනේ. මේ නිසා අපේ චින්තනයේ විශ්වමය ස්වභාවය ආරක්ෂා විය යුතු ය. හැරත්, අපේ ආභාසය ලොවට ම බෙදා දෙන්නට තරම් අපට ධෛර්යයක් තිබිය යුතු ය.

දේශපාලන බල තරඟවලට අසු නොවී සංස්ථායී හිංසාව මෙන් ම සංස්ථා විරෝධී හිංසා මර්ගයන් ද පිටුදකිමින් යුක්ති ගරුක සාධාරණ සමාජ ක්‍රමයක් ගොඩනැංවීමට සර්වෝදය තෝරාගත් දේශීය සංස්කෘතිය පදනම් වූ අහිංසා ජනතා සංවර්ධන ව්‍යායාමය විකල්පීය මගක් සොයමින් සිටින කාර්මීකරණය නොවූ රටවල මෙන් ම කාර්මීකරණය වූ රටවල ද බුද්ධිමත් ජනතාව ගේ අවධානයට ලක් වූයේ ය. මේ නිසා ඒ දෙපාර්ශවයෙන් ම විවිධ තරුණ පිරිස් පැමිණ සර්වෝදය ආභාසය ලැබූ අතර සර්වෝදය සාම දූතයෝ ද ඔවුන් අතරට ගොස් ඔවුන් ගෙන් ඉගෙන ගතහැකි හොඳ දේ ඉගෙනගෙන ඔවුන්ට ප්‍රයෝජනවත් වූ තම අත්දැකීම් ද

ඔවුන් හා බෙදාගත් හ. බටහිර අප්‍රිකාවේ "මාලි සමූහ ආණ්ඩුවේ" ඉස්ලාමීය ආගමික ගැමි ජන කොට්ඨාශ අතර තුන් වසරක් සේවය කළ සර්වෝදය නංගිලා, මල්ලිලා සිව් දෙනකු ගේ සේවය නිසා අද ඔවුන්ගේ භාෂාව වූ "බම්බරා" බසින් පමණක් නොව සිංහලෙන් ද පහත දැක්වෙන ප්‍රාර්ථනා ගීතය සෙගු ප්‍රාන්තයේ ටෝකෝ ගමේ දරුවන් විසින් ගැයෙනු අදත් ඇසිය හැකිය.

කල් වැසි වසීවා
කෙත් වත් සාර වේවා
සත් සිත් නිවේවා
රජය දැහැමිව ලොවැඩ වේවා

සර්වෝදයට වැඩිම වශයෙන් විදේශ සම්පත් සැපයූ නෙදර්ලන්තයේ "ආමස්පුච්" නගරයේ මෙත්මැඳුර නම් සර්වෝදය නිවසක් ඇත. එහි වාසය කරමින් සේවය කරන විවිධ රටවලට අයත් නේවාසික නේවාසිකාවන් නෙදර්ලන්ත ජාතික බසින් ගායනා කරන්නේ පහත සඳහන් "මෙත්මැඳුර" ගීතයේ පරිවර්තනය යි.

මේ අප මෙත් මැඳුරයි
අපගේ සුව සෙවණයි
මේ අප ජය බිම වෙයි
අප ගේ සැනසුම වෙයි

සොහෝයුරෝ-සොහොයුරියෝ
අපි වෙමු මෙත් මැඳුරේ
මේ අප ...........

දෑ කුල බේද නැතේ-ආගම් වාද නැතේ
උස් මිටි කම් ද නැතේ-සැමදෙස සම ව ඇතේ

එක මව ගේ - දරුවො වගේ
පසුවෙමු අපි සුවසේ
මේ අප ...........

ගුණ දම් සරු කරමු-සිල්ප දැනුම ලබමු
වැඩිහිටි උපදේසේ-අකුරට පිළිපදිමු

මෙත් මැඳුරේ මෙත් කරුණා
පතුරමු අපි එක සේ
මේ අප ...........

නංගී හා මල්ලී-අක්කා හා අයියා
ප්‍රිය වචනෙන් මිහිරී-අමතමු දෙන සිරියා

රට නගනා-රට වැසියෝ
වෙන්නට පුරුදු වෙමු
මේ අප ...........

මා මෙතෙක් විස්තර කළේ සාමාන්‍ය මිනිසාට නොතේරෙන ශාස්ත්‍රීය භාෂාව හෝ මහා ප්‍රාඥයන්ගේ සිද්ධාන්ත හෝ පොදු ජනයා තුළ පටවන්නේ නැති ව ඔවුන්ගේ ම බසින්, ඔවුන්ගේ ම වටපිටාවෙන් තෝරාගත් සිතිවිලි මාලාවක් තුළින් ජන ශක්තිය පුබුදුවීමට අප ගත් එක් සංස්කෘතික ක්‍රියා මාර්ගයකී

## 6
## තිස් වසරක සූදානමක්

සර්වෝදය ශ්‍රමදාන සංසදය ආරම්භ වී තිස් වසරක් ගෙවී ඇති බව මීට ඉහතින් මම සඳහන් කළෙමි. මේ තිස්වසර ආරම්භයේ අප ගේ සිත් ක්‍රියාකළේ කෙ බඳු ආකාරයට දැ යි මෙ තෙක් ඔබ කියවූ දෙයින් අවබෝධවන්නට ඇත. එහෙත් ඔබ සර්වෝදයෙන් බාහිර කෙනකු නම් ජාතියක් වශයෙන් සලකන විට අපේ ප්‍රයත්නය කෙතෙක් දුරට සාර්ථක වී ඇති දැයි ඔබ සිතෙහි සැකයක් ඇති වීම සාධාරණ ය. මේ පිළිබඳව යමක් කීම උචිතය යි හඟිමි.

සර්වෝදය ශ්‍රමදාන සංසදය ක්‍රියාත්මක වූයේ හිස් තැනක නො වේ. නොයෙක් මාදිලියේ සර්වෝදය චින්තනයට පටහැණි වූ දේශීය - විදේශීය මහා බලවේග රාශියක් ක්‍රියාත්මක වූ සමාජ පරිසරයක යි. සර්වෝදය ශ්‍රමදානය ක්‍රියාත්මක වූයේ. ඒ බලවේගවලට තිබූ සම්පත් සහ වාසි රාශියකි. සර්වෝදයට පවතින සමාජ ක්‍රමයෙන් එහි පරමාර්ථ සාක්ෂාත් කර ගැනීමට සාපේක්ෂව පිටුවහලක් නොලැබුණු අතර, වැඩියෙන් ලැබුණේ බාධක බව සඳහන් කළමනා ය. මෙය ඉතා හොඳින් අවබෝධ වීමට නම් පවතින සමාජ ක්‍රමයේ විෂම ලක්ෂණ සහ සර්වෝදය බලාපොරොත්තු වන සමාජ ක්‍රමයේ යහපත් ලක්ෂණ දක්වන පහත සඳහන් සැසැඳීම අධ්‍යයනය කළ යුතුය.

| වර්තමාන සමාජ ක්‍රමයේ ලක්ෂණ | සර්වෝදය සමාජ ක්‍රමයේ ලක්ෂණ |
|---|---|
| 1. ආත්මාවබෝධයෙන් සහ ආත්ම විශ්වාසයෙන් තොරය. | 1. ආත්මාවබෝධය සඳහා ආත්ම විශ්වාසයෙන් යුතු ව වෙහෙසෙයි. |
| 2. අන්ධානුකරණයෙන් භෞතික ඇගයීම් සොයා යයි. | 2. දේශීය, සංස්කෘතිය පදනම් වූ ආධ්‍යාත්මික පූර්ෂාර්ථවලින් ප්‍රබෝධමත් වෙයි. |
| 3. ධනය, බලය, තත්ත්වය පුදයි. ගරු කරයි. බොරුව හිංසාව හා ආත්මාර්ථකාමී බව රජයයි. | 3. ගුණවත් බව, නැණවත් බව හැකියා සත්‍යය, අවිහිංසාව ආත්මහරණය ගරු කරයි. |
| 4. අයිතිය සහ තරඟය මුල් වූ සංවිධාන බලවත් වේ ධනවාදී ආර්ථිකය, නිලධාරී පරිපාලනය සහ බලකාමී පක්ෂ දේශපාලනය ප්‍රධාන සමාජ බලවේග බවට පත් වේ. | 4. බෙදාගැනීම සහ සහයෝගය පදනම් වූ සංවිධාන බලවත් වේ. සමාජ භාරකාරත්වක ආර්ථිකය, ජනතා සහභාගිත්වයෙන් යුතු පරිපාලන ක්‍රම හා පක්ෂවලින් තොර ජනතා දේශපාලනය සැබෑ වේ |
| 5. මිනිසා සතු දුර්ගුණ එක් වේ. ජාති, කුල,එකම ආගම් හා පක්ෂ භේද වලින් සමාජය කඩින් කඩ වේ. | 5. මිනිසා සතු යහ ගුණ එක්තැන් වේ. මිනිස් පවුලක් ලෙස සමාජය එකට බැඳේ. |

| | |
|---|---|
| 6. ආර්ථික සම්පත් වැරදි ලෙස පාවිච්චි වේ. ආර්ථිකය දුර්වල වේ. රැකියා රැකියා විරහිත වේ. | 6. ආර්ථික සම්පත් නිවැරදි ලෙස එක්තැන් වේ. නිෂ්පාදනය ඉහළ යයි. බහුල වේ. |
| 7. යටත්විජිත යුගයෙන් උරුම වුණු වෙළෙඳ භාණ්ඩ නිපදවෙන ආයාත -නිර්යාත අර්ථ ක්‍රමයකි. විදේශීය ණය බරට සහ නව යටත් විජිත වාදයට යටත් වේ. | 7. ජනතාවගේ මූලික අවශ්‍යතා මත පදනම් වූ ස්වයංපෝෂිත අර්ථ ක්‍රමයක්, ණය බරින් මිදුණු ආත්මගරුත්වයක්, ආර්ථික නිදහසක් ඇති ජාතියක් බිහි වේ |
| 8. මහා පරිමාණ සංවිධානවලට වහල් වීම, ප්‍රාග්ධන සූක්ෂමතා, මිනිස් ශ්‍රමය අපතේ යෑම, දූෂණ අධික වීම හා පාරිසරික දූෂණය සිදුවේ. | 8. කුඩා පරිමාණ සංවිධාන මත පිහිටීම, ශ්‍රම සූක්ෂම ලෙස මිනිස් ශ්‍රමයෙන් ඵල ගැනීම, දූෂණ අඩු වීම හා භෞතික මෙන්ම මානසික පාරිසරික දූෂණයෙන් ද ආරක්ෂා වීම සිදුවේ. |
| 9. ගම නගරයට වහල් වෙයි. නගරයට ඇදීයෑම, සදාචාර පරිහානිය, සමාජ | 9. සමබර නගරෝදය-ග්‍රාමෝදය, සදාචාර පුනර්ජීවනය සිදුවේ. |
| 10. දණ්ඩ නීතිය, දණ්ඩ ශක්තිය හා රාජ්‍ය බලය වැඩි වේ. ධර්ම නීතිය, ධර්ම ශක්තිය සහ ජන බලය අඩුවේ. පාලකයෝ සර්ව බලධාරී වෙත් ජනතා ව බලහීන වෙත් | 10. ධර්ම නීතිය ධර්ම ශක්තිය හා ජන බලය මතුවේ. පාලක පංතියක් නැත ජනතාවසර්ව බලධාරී වෙති සර්වෝදය සැබෑ වේ. |

මෙම විග්‍රහය අප ලීවේ තිස් වසරකට පෙරය. එ දා සිට අද වන තුරු හැකි සෑම අයුරකින් ම මේ සමාජ ක්‍රමය විනාශ මුඛයට යොමු වන ආකාරය පෙන්වා දීමෙන් පමණක් අපි සෑහීමකට පත් නො වීමු. මේ විනාශකාරී මාර්ගයට ප්‍රතිවිරුද්ධ ව ගමන් කරන අප නිවැරදි යැයි සැලකූ මාර්ගයක් හෙළිපෙහෙළි කරගැනීමට අපි ක්‍රියාත්මක වීමු. පවතින රාජ්‍ය නීතිය තුළ සිටිමින් ධර්ම නීතිය ද උල්ලංඝනය නො කොට අපි විකල්පීය සමාජ ක්‍රමයක් ජන ශක්තියේ සීමාවන් තුළ ගොඩනැංවීමු. අප ජාතික මූලස්ථානය හෝ ප්‍රාදේශීය මූලස්ථානයක් නරඹන්නට පැමිණි රාජ්‍ය පාලකයන් කිහිපදෙනෙක් ම සර්වෝදය සමාන්තර රජයක් යයි හාස්‍යයෙන් යුතුව කියනු මට ඇසී තිබේ. සැබැවින්ම එය සත්‍යයකි. ධර්මනීතිය රාජ්‍යනීතිය නම්, සර්වෝදය එක්තරා විදියක ධර්ම රාජ්‍යයකි.

ස්වභාවධර්මයා ගේ නීතිවලට පටහැණිව මිනිසා ක්‍රියා කළහොත්, යම් අවස්ථාවක දී සොබාදහම මිනිසාට එරෙහි ව ක්‍රියාත්මක වේ. සොබා දහමට ළංව ස්වභාවික නිති කඩ නොකොට ජීවත් වූ මනුෂ්‍ය කොට්ඨාශයෝ ජන නීති මාලාවක් ද, සම්ප්‍රදායික ව අනුගමනය කළෝ ය. කලින් කල පහළ වූ ආගමික ශාස්තෘවරු මේ ස්වභාව නීතියට සහ ජන නීතියට ධර්ම නීති සමූහයක් ද එකතු කළ හ. ශ්‍රී ලංකාව ගැන කල්පනා කරන විට කර්මය සහ කර්ම විපාකය, පව් - පින් සහ පුනරුත්පත්තිය පිළිබඳ ඉගැන්වීම් මේ ධර්ම නීතියට උදාහරණ වේ.

මනුෂ්‍ය සමාජයක් සඳහා රාජ්‍ය නීති සම්පාදනය කරන්නවුන් ජනතාවගේ යහපත උදාකරන චේතනාවෙන් ස්වභාව නීතියට හා ධර්ම නීතියට අනුකූලව ඒවා සම්පාදනය කරන්නේ නම් සමාජ සාධාරණත්වය සහ සමාජ සහනයට ඒවා තුඩු දෙයි. එහෙත් අප සමාජයේ පවතින්නේ එ වැනි තත්ත්වයක් නො වේ. නීති පොතට ඇතුළත් කරන නීති නැතිනම් සියලු නීතිනට මූලාශ්‍රය වන ජාතික ව්‍යවස්ථාවන් බොහෝ විට සාදා තිබෙන්නේ සමහර වරප්‍රසාද ලත් අයගේ අසාධාරණ වාසි සෙසු අය ගේ මූලික මානව අයිතිවාසිකම් සීමාකොට රැක ගැනීමට යි. එ වැනි නීති පද්ධතීන් සමාජය අවුලෙන් අවුලට පත් කර තිබේ.

අධිකරණය විසින් කරන්නේ ව්‍යවස්ථාදායකය විසින් සම්පාදනය කරන ලද නිති විග්‍රහ කිරීම නිසා බොහෝ විට අවනීතිය යුක්තිය විනිශ්චය කිරීමේ මිනුම් දණ්ඩ හැටියට පාවිච්චි කිරීමට සිදු වෙයි. මේ තත්ත්වය තවත් භයානක වන්නේ ව්‍යවස්ථාදායකය සහ විධායකය යන අංශ දෙකම එක් පාර්ශවයක් අතට පත් වීමෙනි. දැහැමි නීතියකට අනුව අවශ්‍ය අවස්ථාවල දී පොදු සමාජ යහපත සඳහා අවශ්‍ය වන පොලීසිය සහ සන්නද්ධ හමුදා මේ අවනීතිය යටතේ විධායකය අතින් පාලනය වූ විට තත්ත්වය අතිශයින් ම භයානක වේ. පොදු මහ ජනතාව තුල නීතියට, අධිකරණයට, පාලකයනට, ව්‍යවස්ථාදායකයනට, පොලීසියට, හමුදාවනට තිබෙන විශ්වාසය සහ ගෞරවය සම්පූර්ණයෙන් නැති වේ. ඔවුහු එ ම ආයතන ඔවුන්ගේ හතුරන් හැටියට සැලකීමට පුරුදු වෙති. මෙ වැනි තත්ත්වයක අනිවාර්යය ප්‍රතිඵලය වන්නේ ත්‍රස්තවාදය නමින් හැඳින්වෙන හිංසාවාදී ප්‍රතික්‍රියාව යි. මේ සඳහා ස්වභාවයෙන් ම පෙරමුණ ගන්නෝ උගත් තරුණයෝ ය. සාමාජික, ආර්ථික සහ දේශපාලනික පීඩනවලින් පෙළෙන යොවුන් ජනතාව සංස්ථාපිත රාජ්‍ය ආයතන කෙරෙහි විශ්වාසය කඩ කරගැනීම විශ්වවිද්‍යාල, උසස් පාසැල් සහ වෙනත් සමාජ ආයතනවල අවුල් සහගත තත්ත්වයක් ඇති කිරීමට මුල් වේ. මෙය මර්දනය කිරීමට රාජ්‍යමය සහ වෙනත් දණ්ඩබල යෙදවීම හිංසාව තව දුරටත් වර්ධනය කර ගැනීමකි.

අද රටක් තුළ ඇති වන අවුලක් කිසිසේත් ඒ රටේ දේශ සීමාවනට පමණක් සීමා නො වේ. රටක අභ්‍යන්තරයේ ඇතිවන අවුල්වලින් ආර්ථික-දේශපාලන වාසි ලබාගැනීමට රට ඇතුළේ ක්‍රියාත්මක වන බහුජාතික වෙළඳ සමාගම් සහ ආගමික සමාගම් ද, ජාත්‍යන්තර වශයෙන් සුපිරි බලවත්තු ද මැදිහත් වෙති. ශ්‍රී ලංකාවට නුදුරින් ම සිටින සුපිරි බලවතා ඉන්දියාව බව අපි අමතක නොකළ යුතු වෙමු.

ලෝකයේ තිබෙන සරුම වෙළඳාම අවිආයුධ වෙළඳාම යි. රටවල් ඇතුළත හෝ රටවල් අතර හෝ කෙරෙන සටන්වල දී දෙපාර්ශවයට ම ආයුධ විකුණන්නෝ මොවුහු ය. මෙ තරම් සරු වූ ජාවාරමක යෙදෙන්නෝ ගැටුමකට මැදිහත් ව සිටින දෙපාර්ශවය තව තවත් උනුනුන් ගෙන් ඈත් කිරීමට අවශ්‍ය ප්‍රචාරයන් සඳහා විශාල මුදල් වැය කරති. දේශීය සංස්කෘතියට ද්‍රෝහී වූ රට ඇතුළේ ම ජීවත් වන ජාවාරම්කාරයින් කිහිපදෙනකු මොවුන්ගේ මේ තිරස්චීන ක්‍රියාවට සම්බන්ධ කර ගැනීමට මොවුන් පසුබට වන්නේ නැත. අහිංසක මිනිසුන්ගේ ජීවිත හානියත්, වස්තු විනාශයත් ගැන අබමල් රේණුවකවත් තැකීමක් නොකරන මොවුහු බොහෝ සන්නිවේදන මාධ්‍යයන්ට ද විශාල මුදල් ගෙවා මනෝ විද්‍යාත්මක යුද්ධයක් ද දියත් කරති. කුලියට ලියන්නවුන් ලවා දේශීය චින්තකයන් මතු කරන්නවුන්, ජන

ශක්තියක් පිබිදවන්නවුන්, සාමයට ඇප-කැප වුවන් සමච්චලයට භාජනය කොට නොමරා මරති. නැතිනම් මරාදමා නොමැරූ බවක් පෙන්නති.මාරාන්තික සටනක යෙදී සිටින වෙනත් මඟක් නොපෙනෙන තරුණ පෙළට අවි ආයුධ ලබාගැනීමට ඔවුන්ගේම තවත් බහුජාතික ව්‍යාපාරයක් වු මත්ද්‍රව්‍ය ජාවාරම හුරු කරති. සමහර තරුණ කණ්ඩායම් මොවුනට ද ගොදුරු වෙති. මේ අතර සරණාගතයනට පිහිටවීමේ අභිලාෂයෙන් බහුජාතික සම්බන්ධකම් ඇති ආගමික ව්‍යාපාරිකයෝ මුදල් එකතු කොට දහස් ගණන් අසරණයින් එක් ආගමකින් තව ආගමකට හරවති. තීක්ෂණ ව අප සමාජය දෙස බලන ඕනෑ ම කෙනකුට මේ විනාශකාරී බලවේග ක්‍රියාත්මක වන අන්දම මැනැවින් වැටහිය යුතු ය.

සර්වෝදය සංසදය අවුරුදු තිහක් තිස්සේ පියවරෙන් පියවර ගමන් කළේ මෙ වැනි සාහසික බලවේග ක්‍රියාත්මක වන දුර්භාග්‍ය සමයක දි ය. එහෙත් අප ගේ පිරිසිදු අරමුණු ඉටු කරගැනීමට පිරිසිදු මාර්ගයක අප ගමන් කළ නිසා "ධර්මයෙහි හැසිරෙන්නා ධර්මය විසින් ආරක්ෂා කරයි" යන ධර්ම නීතිය නිසා දෝ අප ආරක්ෂා වී දිනෙන් දින ම ව්‍යාප්ත වීමු. මෙය තිස් අවුරුදු සූදානමක් හැටියට සැලකීම වටී ය යි හඟිමි.

අප කෙසේ සූදානම් ව සිටිය යුතුද? පළමු ව දේශීය චින්තනයකින් අපි සවිමත්ව සිටිමු. සියල්ලනට ම පොදුවේ පිළිගැනීමට හැකි වන සේ සර්වෝදය චින්තනය මේ තිස්වසර තුළ දී අපි සකස් කරගෙන ඇත්තෙමු.

සාමාජික ප්‍රශ්න සියල්ලට ම විසඳුමක් සෙවිය හැකි චින්තනයක් මල්පල ගන්නේ එය ක්‍රියාවට නැංවීම සඳහා යෝග්‍ය තාක්ෂණයක් ද ගොඩනඟා ගතහොත් පමණකි. සර්වෝදය ව්‍යාපාරය මෙවැනි තාක්ෂණයක් සඳහා ද අඩිතාලම දමා තිබේ.

සාමාජික, ආර්ථික, දේශපාලනික ව්‍යුහයන් දේශීය අභිප්‍රායන් ඉටු වන අන්දමට වෙනස් කිරීම ද අවශ්‍ය ය. මෙ ම ව්‍යුහමය වෙනස් වීම සඳහා ද ග්‍රාමීය මට්ටමේ සිට ජාතික මට්ටම දක්වා අපි ව්‍යුහමය සැලැස්මක් අත්හදා බලාගෙන යන්නෙමු.

චින්තනීය, තාක්ෂණීය සහ ව්‍යුහමය අංශවල මූලික වෙනසක් හෙවත් පූර්ණ විප්ලවයක් ඇති කිරීමට නම් ඒ සඳහා ප්‍රබෝධමත් වූ, පුහුණු වූ, ඇප-කැප වූ නියමුවෝ අවශ්‍යය. එ වැනි නියමුවන් රාශියක් මේ වන විට අප විසින් සංවිධානය කොට තිබෙන අතර ජාතික පුනර්ජීවන ව්‍යාපාරයක දී නිශ්ශබ්ද ජනතාව අතරින් තව නියමුවන් දහස් ගණනින් මතුවන බවට ද අපට සැකයක් නැත.

පවතින විෂම චක්‍රය විනාශ කොට ධර්ම චක්‍රය නැවත පෙරළීමට තිස් වසරක් තිස්සේ අපි සූදානම් වීමු. මෙම තිස් වසරක සූදානම පිළිබඳ ව සැකෙවින් හෝ විස්තරයක් කිරීම මෙතැනට උචිත වේ යැ යි හඟිමි.

# පූර්ණ පෞරුෂෝදය

අප ජාතියක් වශයෙන් අද මුහුණ දී තිබෙන අර්බුදයට සාර්ථක ව මුහුණදීමට නම් ඉහළ මට්ටමේ තිබෙන ආර්ථික, දේශපාලනික ව්‍යුහයන් පිළිබඳ ව පමණක් පිළියම් සෙවීම හෝ පිළියම් යෙදීම හෝ ප්‍රමාණවත් නො වේ. මිනිසා ගේ හැදීමට ඉවහල් වන විදිහේ වැඩ සටහන් රාශියක් ද අර්ථාන්විත ව සහ සංවිධානාත්මක ව දියත් කළ යුතු ය.

සර්වෝදය සංසදය විසින් මිනිසා හැදීම පරමාර්ථ තුනක් මුල් කොට අරඹා තිබේ. මේවා හඳුන්වනු ලබන්නේ පූර්ණ පෞරුෂෝදය, කුටුම්බෝදය සහ ග්‍රාමෝදය යන වචනවලිනි. මිනිසා, පවුල සහ ගැමි ජන කොට්ඨාශය සහ සජීවී ඒකක තුන එකිනෙකට ජෛනේද්‍රියව බැඳී තිබේ. රට-දැය-සමය ගොඩනැංවීමේ ප්‍රයත්නය ආරම්භ විය යුත්තේ මේ තුන් කොටස එකවර ම නැඟී සිටුවීම සඳහා නිර්මාණාත්මක දූරදර්ශී ක්‍රියාදාමයන් මුදා හැරීමෙනි. සර්වෝදය මේ ව්‍යායාමයේ බොහෝදුරට ගමන් කර තිබේ. එය සැකෙවින් විභාග කර බැලීම මෙතැනට ගැළැපේ.

මව්කුස පිළිසිඳ ගත් අවස්ථාවේ සිට මෙ ලොව එළිය දැක ජීවත් වී මෙලොව හැරයන තෙක් සෑම පුද්ගලයකු තුළම මොහොතක් පාසා වෙනස් වෙමින් ගමන් කරන යම් නාමරූප ස්වභාවයක් තිබේ ද එය අපි පෞරුෂය යන නමින් හඳුන්වමු. අප එකිනෙකාගේ පෞරුෂය අන් අයගේ පෞරුෂවලින් වෙනස් වෙනවා පමණක් නොව, හැම මොහොතක් පාසාම වෙනස් වේ. මේ මනෝමය-කායික ස්වභාවයේ හෙවත් පෞරුෂයේ සම්පූර්ණ උදාව සෑම මිනිස් ජීවිතයකම උත්තරීතර පරමාර්ථය විය යුතුය යනු සර්වෝදය අප පිළිගත් දහම යි.

බුදු දහම අනුගමනය කරන්නකු විසින් පෞරුෂෝදයේ අවසාන ඉලක්කය හැටියට සලකන්නේ නිවන් පසක් කර ගැනීමයි. හින්දු භක්තිකයෙක් තමන්ගේ පෞරුෂය මොක්ෂයේ දී මහා බ්‍රහ්මයාගේ පෞරුෂය හා එක්වීමට අරමුණු කරගනී. මේ අන්දමින්ම ඉස්ලාමීය සහ ක්‍රිස්තු භක්තිකයන් විසින් ඔවුන්ගේ පෞරුෂෝදය දෙවියන් හා එක්වීමට ඉලක්ක කර ගනී. ලෞකික ජීවිතයෙන් එහා යම් පාරලෞකික හෙවත් ලෝකෝත්තර සුවයක් පතන සෑම මිනිසෙක් ම තමන්ගේ මනසට අසුවන ඉහළ ම ඉලක්කයක් දෙසට තම පෞරුෂය මෙහෙයවයි. සර්වෝදය චින්තනයෙහි දී ඒ සෑම පුද්ගලයකුට ම ඔවුන් විශ්වාස කරන පරමාර්ථ මගකට තම පෞරුෂෝදය ඉලක්ක කර ගැනීමට ඉඩ සලසයි.

ලෝකෝත්තර අරමුණක් වුව, ඉටු කර ගැනීමට ලෞකික ජීවිතය සාර්ථක කරගත යුතු ය. ලෞකික ජීවිතයේ සාර්ථකත්වය අර්ථාන්විත වන්නේ ලෝකෝත්තර ජීවිතයකට ද බාධා නොවන අයුරින් එය සකස් කර ගතහොත් පමණකි. මේ නිසයි අපේ දේශීය චින්තනයේ නිතර ම දෙ ලොවක් ගැන සඳහන් කරන්නේ.

අපේ පෞරුෂය එකිනෙකා ගෙන් වෙනස් වූවත් පෞරුෂෝදයක් ගොඩනැවීමට ඉවහල් වන සාධකවල පොදු බවක් තිබේ. මේ ජීවිතයේ දි අපේ පෞරුෂය ආරම්භ වන්නේ මව්කුස තුළ පිළිසිඳ ගැනීමත් සමඟ බව අපි ප්‍රකාශ කළෙමු. මව්-පිය දෙදෙනකු ගෙන් ලැබෙන සෛල දෙකක් මව් කුසේ දි එක් තැන් වී එක ම සෛලයක් බවට පත්වීමෙන් අපේ ජීවිතයේ ප්‍රථම කායික පදනම වැටේ. මෙය ජෛවීය සාධකය හැටියට හඳුන්වමි.

එතැන් සිට සිදු වන ඓන්ද්‍රීය වර්ධනයත් සමඟ ම බෞද්ධ, හින්දු අය විසින් හඳුන්වනු ලබන පෙර ජීවිතයෙන් ඇතුළු වන ශක්තියක් හෙවත් කර්මික ශක්තියක් ද එයට සම්බන්ධ වේ. මවගේ කායික පරිසරය මෙන්ම මානසික පරිසරය ද ඇයගේ කුසේ වැඩෙන ජීවියා කෙරෙහි මෙන්ම මානසික පරිසරය ද ඇයගේ කුසේ වැඩෙන ජීවියා කෙරෙහි බලපායි. මිනිස් සිරුරකට අවශ්‍ය සියලු අවයවවලින් සම්පූර්ණ වූ දරුවෙක් මව්කුසින් බිහි වී මෙ ලොව එළිය දකී. මව්කුසේ තිබුණු උණුසුම් පරිසරයේ සිට ඊට වඩා උණුසුමින් අඩු පිටස්තර පරිසරයකට ඇතුළු වනවිට දැනෙන වේදනාව නිසා ඔහු හෝ ඇය කරන පළමු ප්‍රතික්‍රියාව හැඬීමයි. ඒ හා සමඟ ම පෙනහලු ක්‍රියාත්මක වෙයි. ඇස්, කන්, නාසය, දිව සහ ශරීරය තුළින් ලැබෙන රූප, ශබ්ද, ගන්ධ, රස සහ ස්පර්ශ හේතු කොටගෙන බාහිර ලෝකයේ විවිධ දේවල් හඳුනා ගැනීමත්, ඒවා පිළිබඳ විවිධ හැඟීම් සිතිවිලි සහ චේතනා ඇතිකර ගැනීමත් මේ සියල්ල සමස්තයක් හැටියට එක්තැන් වී සවිංඥානක ජීවියෙක් හැටියට ක්‍රියා කරන්නට පටන් ගැනීමත් අනුපිළිවෙලින් සිදු වේ. වෙනත් වචනවලින් කිවහොත් සිතත්-කයත් නාමයත්-රූපයත් එකිනෙකින් වෙන් කළ නොහැකි අන්දමකට ක්‍රියා කිරීමට පටන් ගනී. මේ නාමරූප ස්වභාවය අපේ පෞරුෂය යි.

නාමරූප ස්වභාවය හෙවත් පෞරුෂය හැඩ ගැස්වීමට ඉවහල් වන ජීව විද්‍යාත්මක සාධකය, කර්මික හෙවත් (පාරභෞතික) සාධකය, පාරිසරික සාධකය සහ චිත්ත සාධකය යන සාධක හතරක් බලපාන බව මෙයින් අපට පැහැදිලි වේ.

මේ සාධක හතර ශක්තිමත් වූ ඵලදායී වූ ගුණාත්මක වූ ප්‍රමාණය අනුව යමකු ගේ පෞරුෂය ශක්තිමත් ඵලදායී ගුණාත්මක පෞරුෂයක් වේ.

මව්-පිය දෙදෙනාගේ ශරීරයෙන් සම්බන්ධ වූ සජීවී සෛල දෙක දුර්වලනම් දරුවා ගේ ජීව විද්‍යාත්මක පදනම දුර්වල වේ. මත්පැන්, මත්ද්‍රව්‍ය, විෂ ආහාර, නිදන්ගත රෝග ආදිය අඩංගු මව්පියන් ගේ රුධිරයෙන් කායික පදනම ලබන දරුවාට එහි විෂම බලපෑමක් ඇති වීම ස්වභාවික ය. මේ අන්දමින් ම මන්දපෝෂණයෙන් පෙළෙන මවක් ඇයගේ කායික පරිසරයේ වැඩෙන දරුවාගේ සාමාන්‍ය කායික වර්ධනයට අවශ්‍ය පෝෂණය දීමට අසමත් වෙයි. දරුවා කුස තුළ වැඩෙන කාලයේ දී මවගේ හැඟීම්-සිතිවිලි සහ මානසික ස්වභාවය ඇයගේ ස්නායු පද්ධතියේ මාර්ගයෙන් ජනිතවන මනෝවිද්‍යාත්මක ශක්තීන් තුළින් දරුවාගේ මනස කෙරෙහි ද බලපෑමක් ඇති කරයි. මෙයින් අපට පෙනෙන්නේ මව්කුස පිළිසිඳ ගැනීමේ සිට මෙ ලොව බිහි වීමේ අවස්ථාව දක්වා තිබෙන දසමසකට අඩු වූ කාලය පවා අපගේ පෞරුෂ හැඩ ගැසීමට බලපාන බව ය.

මෙ ලොව එළිය දැකීමෙන් පසු වෙන කිසි ම සත්ත්වයකුට වඩා මිනිස් සත්ත්වයා ස්වශක්තියෙන් නැගී සිටීමට සාපේක්ෂව වැඩි කාලයක් ගත වේ. මවගේ සහ පවුලේ සෙසු අයගේ ආදරය, උණුසුම, පිළිගැනීම, අනුකම්පාව, ආරක්ෂාව සහ සත්කාරය සිඟිති වියේ දීත් ළදරු වියේ දීත් යොවුන් වියේ දීත් මිනිස් දරුවාට අත්‍යවශ්‍ය වෙයි. කායික සහ මානසික පෝෂණය, කායික මානසික සහ සාමාජික සෞඛ්‍යය සහ සමාජානුයෝජණය නොඅඩුව මිනිස් දරුවාට ලැබුණොත් පමණකි. සාමාන්‍ය අන්දමින් ඔහුගේ යෝජනය හෝ ඇයගේ හෝ පෞරුෂ සංවර්ධනය ඇති වන්නේ.

ජාතික සංවර්ධනය ගැන කතා කරන බොහෝ අය ජාතිය යනු ජනතාව බවත්, ජනතාව සැදී තිබෙන්නේ මිනිසුන් ගෙන් බවත්, මිනිසාගේ ජීවිතය කිසිඳු වෙනසක් නැතිව හැඩ ගැසෙන්නේ මේ දහමට අනුව බවත් අමතක කරති. ඒ නිසාම කොන්ක්‍රීට් කැලෑ ගොඩනැංවීමට යොදන කෝටි ප්‍රකෝටි සංඛ්‍යාත මුදල්වලින් අංශුමාත්‍රයක් වත් මේ පෞරුෂ සංවර්ධනය සඳහා ආයෝජනය කිරීමට ඔවුහු කල්පනා නො කරති. දළ ජාතික නිෂ්පාදිතය, එහි සංවර්ධන ප්‍රවේගය සහ ඒක පුද්ගල ආදායම වැනි මිණුම් දඬුවලින් ජාතික සංවර්ධනය මනිති. බිම්බෝම්බවලින් පිපිරී විනාශ වී යන ගොඩනැඟිලි, බෝක්කු, පාලම්, රථවාහන සහ විවිධ අන්දමේ වෙනත් ජාතික වස්තූන් ගේ සහ මිනිස් ජීවිත විනාශයන්හි පිටුපස තිබෙන්නේ මිනිස් පෞරුෂයන් ගේ පරිහානිය බව ජාතික ප්‍රතිපත්ති සාදන්නෝ අමතක කරති. ඔවුනට එය මතක් වූවත් ඒවාට ධන ආයෝජන කරන්නේ සංවර්ධන ක්‍රියාවක් ලෙස නොව පුණ්‍යසහගත සුභසාධන ක්‍රියාවක් හැටියට ය.

සර්වෝදය සංවර්ධන ක්‍රමයේ ප්‍රධාන ම අවධානය යොමු කර තිබෙන්නේ පූර්ණ පෞරුෂ සංවර්දනයට යි. මිනිසා නො හදා රටක් හැදිය හැකි යයි අපි නො සිතමු. මිනිසා හැදීම යනුවෙන් අප අදහස් කරන්නේ පූර්ණ පෞරුෂෝදයක් දෙසට යොමු වීමට අපට උදව්විය හැකි සෑම මනුෂ්‍යයකුට ම අවශ්‍ය පසුබිම සකස් කරදීම යි.

ගැබිනි මවුන් බිළින්දන්, සිඟිත්තන්, ළමුන් සහ යොවුනන් සඳහා සංකීර්ණ ක්‍රියාදාමයන් රාශියක් සර්වෝදය විසින් පසුගිය තිස් වසර තුළ දී ඉතා සූක්ෂම වශයෙන් අත්හදා බලමින් ක්‍රියාත්මක කළේ මේ ජාතික සංවර්ධන ව්‍යායාමයේ පළමු පියවර වශයෙනි. ඒවා සවිස්තර ව දැක්වීමට මෙහි ඉඩක් නැත. පූර්ණ පෞරුෂෝදයකට තුඩු දෙන වැඩ සටහන් ඉහත සඳහන් කළ වයස් සීමාවලට පමණක් සීමා නො කළෙමු. වැඩිහිටි, උගත් නූගත් ඕනෑම පුද්ගලයකුට ඕනෑම අවස්ථාවක දී සම්බන්ධ ව පූර්ණ පෞරුෂෝදය මඟකට ඇතුළුවීමට "සර්වෝදය සංසදයේ" ක්‍රියාදාමයන් සංවිධානය කොට තිබේ. ගම්වල පවත්වන ශ්‍රමදාන කඳවුරු, විවිධ කාර්යයන් සඳහා යොමු වුණු පුද්ගලයන් වෙනුවෙන් සකස් කරන ලද ආයතනීය සහ ප්‍රජාපාදිත වැඩ සටහන්, පෙර පාසැල් හෙවත් සිඟිතිහමු වැනි විධිමත් මෙන්ම අවිධිමත් අධ්‍යාපන ක්‍රම සමාජ දූෂණයන්ට අනුව ජීවිත අවුල් කරගත් අයට නව දිවියක් ඇරඹීමට අතදෙන සාමෝදය ආදී සියක් නිර්මාණාත්මක වැඩ සටහන් දහස් ගණන් තැන්වල සර්වෝදය විසින් අරඹා ඇත.

අවාසනාවකට සමාජ ආත්මාර්ථකාමය සහ බෙලි කපන තරඟ, පිළිගත් සමාජ සම්ප්‍රදායන් බවට බලවතුන් ගේ ප්‍රබල ආධාර උපකාර ඇති ව සංවිධානය වී තිබෙන රටක, මෙ වැනි ඵලදායී සමාජ ප්‍රතිසංස්කරණයන් ක්‍රියාත්මක කිරිම පහසු නො වේ. සර්වෝදය ඇරඹූ හැම පුළුල් දේශප්‍රේමී වැඩ සටහනක් ම එහි දර්ශනය සහ ජීවය මරා, පවතින විෂම සමාජ ක්‍රමයට පැලැස්තර ඇලවීම සඳහා දෙ වැනි ගණයේ අනුකරණයන් වශයෙන් විවිධ රාජ්‍යමය මෙන්ම රාජ්‍ය නොවන ආයතන විසින්ද විවිධ යුගයන්හි දී අරඹා කලක් පවත්වා විනාශයට ගොස් ඇත. අපක්ෂපාතී පර්යේෂණය යෙදෙනවුනට මෙය ඉතා වටිනා පර්යේෂණ ක්ෂෙත්‍රයක් වනු ඇත. පටු දේශපාලන අරමුණු, පටු පෞද්ගලික වාසි හා ප්‍රයෝජන සහ වෙළඳපොලේ ආගමික ස්වරූපයක් ගත් මේ ව්‍යාපාර ප්‍රතික්‍රියාත්මක අනුකරණ මිස පිරිපුන් චින්තනයක් ඇතුළත කරන ලද ක්‍රියාවක් නොවන බව එ ම පර්යේෂකයන්ට හෙළි වනු ඇත.

## කුටුම්බෝදය

"කුටුම්බ" යනු පවුල යි. පවුල අපේ සමාජ ජීවිතයේ පදනම යි. පූර්ණ පෞරුෂෝදය කෙරෙහි බලපාන මූලික මිනිස් ඒකකය පවුල යි. මිනිසා ගේ උදාවක් ඇති වීමට නම් පවුලේ උදාවක් ඇති විය යුතු ය. පවුලේ උදාව හැඳින්වීමට අප හදාගත් වචනය "කුටුම්බෝදය යි."

පූර්ණ පෞරුෂෝදයක් ඇති වන තැනැත්තා තුළ මෙත්තා, කරුණා, මුදිතා, උපේක්ඛා යන සතර බ්‍රහ්ම විහරණ ධර්මතාවන් ක්‍රියාත්මක වන්නේ යම් සේ ද, කුටුම්බෝදයක් ඇතිවන පවුලක දානය, ප්‍රියවචනය, අර්ථ චර්යාව, සමානාත්මතාවය යන සතර සංග්‍රහවස්තු හෙවත් චර්යාධර්ම ක්‍රියාත්මක වියයුතු ය.

පූර්ණ පෞරුෂෝදයකට බලපාන සාධක හතර මෙන් ම කුටුම්බෝදයකට බලපාන සාධක සමූහයක් ද තිබේ. එයින් සමහරක් ගෙන බලමු. තමා ගේ ම යැයි කිව හැකි නිවහනක් සෑම පවුලකට ම තිබිය යුතු ය. මේ නිවහන අවට කායික ශක්තිය යොදවා සොබා දහමත් සමග සම්බන්ධ වීමට හැකිවන සේ වැඩ කිරීමට අවශ්‍ය අවම භූමි ප්‍රමාණයක් තිබිය යුතු ය. පවුලේ සාමාජිකයිනට ප්‍රමාණවත් සමබල අහරකට හිමි කම් ලැබිය යුතු ය. අවම ඇඳුම් පැළඳුම් ප්‍රමාණයක් සහ සනීපාරක්ෂාව සඳහා අපවිත්‍ර දෑ ඉවත් කළ හැකි වැසිකිළි වැනි මූලික පහසුකම් තිබිය යුතු ය. ප්‍රාථමික සෞඛ්‍ය පහසුකම් සහ සාමාන්‍ය ලෙඩරෝගවලට පහසුවෙන් ප්‍රතිකාර ගැනීමේ ක්‍රමයක් තිබිය යුතු ය. සාධාරණ නීතිවලට යටත් වීම හැර, අසාධාරණ ක්‍රමවලින් ඔවුන් ගේ මානව අයිතිවාසිකම් පැහැර ගැනීමේ තත්ත්වයකට ඔවුන් භාජනය නො කළ යුතුය. පවුලේ අවශ්‍යතා පිරි මැසීමට උවමනා කරන බලශක්තිය සහ ඉන්ධනවලට ඔවුනට අයිතිවාසිකම් තිබිය යුතු ය. සන්නිවේදනය, අධ්‍යාපනික, සංස්කෘතික සහ ආගමික පහසුකම්වලට ඔවුනට සමාන හිමිකම් තිබිය යුතු ය. ඉහත සඳහන් සියලු ම කාරණා සම්බන්ධයෙන් පුළුල් සමාජය සමඟ තීරණ ගැනීමේ සමාන දේශපාලන අයිතිය පවුලට තිබිය යුතු ය. සෙසු පවුල්, ගැමි ජනතාව සහ රට-දැය-සමය වෙනුවෙන් කළයුතු යුතුකම් ඉටු කිරීමට පවුල බැඳි සිටිය යුතු ය.

ඉහත සඳහන් කළ කරුණු දෙස බලන විට කුටුම්බෝදයක් සඳහා භෞතික, දේශපාලනික සහ සාමාජික සාධක රැසක් අවශ්‍ය බව පෙනේ. මේ සියල්ල සම්පූර්ණ කරගැනීමට මූලික වන්නේ පවුලේ ආර්ථික තත්ත්වය යි. මුදල් ආදායමක් මෙන් ම සැබෑ ආදායමක් ද පවුලට ලබාගැනීම සඳහා සාධාරණ මාර්ග විවෘත කරදීම පුළුල් දේශපාලන ආර්ථික සමාජ ප්‍රතිපත්තියේ වගකීම විය යුතු ය. උදාහරණයක් වශයෙන්, එක් පුද්ගලයකුට හෝ පවුලකට තබාගත හැකි උපරිම ඉඩම් ප්‍රමාණය මෙතෙකැයි (අක්කර සීයයි) යනුවෙන් තීරණය කොට රජයට ඉඩම් පවරා ගැනීම එක් විදියක ප්‍රතිපත්තියකි. එහෙත් ගමේ වාසය නොකරන පිටස්තර පවුලකට ගමේ තිබෙන මුළු ඉඩම් අක්කර 200 න් 100 ක් අයිති වේ නම් එ වැනි නීතියකින් ප්‍රශ්නය විසඳී තිබෙන්නේ ඉඩම් අයිති අය සඳහා මිස නැති අය සඳහා නො වේ. ගොවිතැන් කර ආදායම් උපදවන සෑම පවුලක් සඳහා ම රටේ තිබෙන වගා කළහැකි ඉඩම් ප්‍රමාණය අනුව අවම සීමාවන් ඇති කොට නීති පැනවිය යුත්තේ ඔවුනට එම අයිතිය පවරාදීමට මිස අතිරික්තව තිබෙන අය ගේ අයිතිය ටිකක් අඩු කර තහවුරු කරදීමට නො වේ.

මෙ වැනි සීමාවන් යටතේ වුවත්, සර්වෝදය විසින් කුටුම්බෝදය වැඩ පිළිවෙලක් අරඹා තිබේ. බාහිර දේශපාලන ආර්ථික සංස්ථාවන්හි ප්‍රතිපත්තිවල මූලික වෙනසක්ඇති වන තුරු "කුටුම්බෝදය" පරිපූර්ණත්වයකට ගෙන යා නොහැකි ය. එහෙත් කුටුම්බෝදයක් සඳහා ආරම්භයක් කිරීමට අපි පසුබට නොවුණෙමු. වැරදි ආර්ථික, සාමාජික ප්‍රතිපත්ති නිසා කාර්මීකරණය වූ රටවල පවුල් බොහෝදුරට කඩාකප්පල් වී තිබේ. මේ නිසා මානසික රෝග, මත්ද්‍රව්‍යවලට ඇබ්බැහිවීම, සමාජ විරෝධී ක්‍රියා, ඒඩ්ස් වැනි භයානක ලිංගික රෝග, අපරාධ සහ විනාශකාරී ක්‍රියාවලට බොහෝ යොවුනන් ගොදුරු වී තිබේ. මේ තත්ත්වය ඉතා සුළු වශයෙන් හෝ අප රටේ ද සුබෝපභෝගී පවුල්වලට ඇතුළු වන බව පෙනේ. එ ම හේතුව උඩ ම නොවුනත් වාණිජ්‍යමය සමාජ ක්‍රමයේ බලපෑම නිසා සාමාන්‍ය, මධ්‍යම සහ දුප්පත් පවුල්වල තරුණ තරුණියන් ද මෙවැනි අවාසනාවන්ත තත්ත්වයන්ට අද ගොදුරු වන බව පෙනේ. මත්ද්‍රව්‍ය වලට පමණක් ඇබ්බැහි වූ සංඛ්‍යාව 40,000 කට අධික යැ යි පසුගිය දිනක වාර්තා වී තිබිණි. මේ නිසා පවුල් තුළට කුටුම්බෝදය පණිවුඩය ගෙන යෑම අතිශයින් ම අවශ්‍ය ය. සර්වෝදය සංසදය විසින් මේ අංශයෙන් ද අලුත් නිර්මාණ රැසක් කර තිබෙන අතර ඒ ගැන විස්තරයක් මේ පොතෙන් දීම අපහසු ය. අප විසින් අවධාරණය කරන්නේ කුමන අන්දමේ නවීකරණයක් හා නාගරීකරණයක් අපේ නායකයින් මේ රටේ ඇති කිරීමට තැත් කළත් පවුල නැමැති අගනා මිනිස් ඒකකය විනාශ නොවන අයුරින් එවැනි පටු ඉලක්ක ක්‍රියාත්මක කළ යුතු බව ය.

## ග්‍රාමෝදය-ග්‍රාම ස්වරාජ්‍යය

"ග්‍රාමෝදය" යන වදන පූර්ණ පෞරුෂෝදය සහ කුටුම්බෝදය යන සංකල්ප එකතු වන පුළුල් සංකල්පය ප්‍රකාශ කිරීමට අප භාවිතා කරගත් වචනය යි. පුද්ගලයාත්, පවුලත් ජාතික වශයෙන් ප්‍රකාශයට පත් වන්නේ ගම නැමැති භෞතික ඒකකය මුල්කොට ගෙන ය. ඈත අතීතයේ සිට ම "ගම" පුද්ගලයාගේ සහ පවුලේ උදාවට මුල් වූ භෞතික ඒකකය යි.

සර්වෝදය ව්‍යාපාරයේ පරමාධ්‍යාශය සර්වෝදය සමාජ ක්‍රමයක් ගොඩනැංවීම යි. සර්වෝදය සමාජයක වැදගත් ම ආයතනිය ඒකකය වන්නේ ගම යි. වෙනත් ආකාරයකින් කිවහොත් සර්වෝදය දර්ශනයට අනුකූලව ශ්‍රී ලංකා ජන සමාජය යම් දිනෙක සංවිධානය වුවහොත් එදාට ඉතාමත්ම ප්‍රබල වූත් වැදගත් වූත් දේශපාලනික, සාමාජික, ආර්ථික සහ සංස්කෘතික ඒකකය වන්නේ ගම යි.

**සර්වෝදය සමාජයන් යනු කුමන විදිහේ සමාජයක් ද?**

එය සැම දෙනා ගේ ම යහපත, එක සේ අරමුණු වූ සමාජයකි. සැම දෙනාට ම සම අවස්ථාවන් ලැබෙන සමාජයකි. යමකු ගේ උත්පත්තිය නිසා යමෙක් උසස් යැ යි හෝ පහත් යැ යි හෝ නොසැලකෙන එකසේ කාගේත් මනුෂ්‍යත්වය පිළිගැනෙන සමාජයකි. ගමේ තිබෙන ආර්ථික සම්පත් සහ ගමේ තිබෙන ආර්ථික නිෂ්පාදන මාර්ග පොදු වස්තූන් සේ සලකා ටික දෙනෙකුගේ නොව සැම දෙනාගේ ම යහපත සඳහා ප්‍රයෝජනයට ගැනෙන සමාජයකි. ගැමි ප්‍රජාව ගේ ජීවිතයට අදාල සියලුම තීරණයන් ගැනීමේ දී ගැමි ප්‍රජාව ගේ සම්පූර්ණ සහභාගිත්වය ස්ථිර කෙරෙන සමාජයකි. වර්තමානයෙහි ප්‍රාදේශීය පරිපාලනික ආයතනයකට හෝ දිස්ත්‍රික්ක සංවර්ධන ආයතනයකට හෝ පළාත් සභාවකට හෝ මධ්‍යම ආණ්ඩුවකට පැවරී තිබෙන බලතලවලින් වැඩි කොටසක් සර්වෝදය සමාජයක් යටතේ පැවරෙන්නේ ගැමි මට්ටමේ දේශපාලනික ආර්ථික ආයතනයන්ට ය. මෙය දැනට තිබෙන දේශපාලනික, පළාත් පාලනික සහ ආර්ථික ව්‍යුහයේ සම්පූර්ණ පෙරළියකට ය.

**සර්වෝදය ක්‍රමය අනුව ගමට මේ තරම් මූලික තැනක් හිමි වන්නේ ඇයි ?**

සැම සමාජ ක්‍රමයක ම ප්‍රකාශිත  අරමුණ වන්නේ එහි ජිවත් වන මිනිසුන්ගේ ජීවන තත්ත්වය නඟා සිටුවා සමාජ සාධාරණත්වය සාක්ෂාත් කොට ඔවුන් තුළ උපරිම තෘප්තියක් ඇති කිරීම යි. දැනට ලෝකයේ තිබෙන විවිධ සමාජ ක්‍රමවලින් ප්‍රතිඥා දී තිබෙන්නේ මේ අරමුණු ඉටු කරදීමට යි. එහෙත් ධනවාදී වේ වා, සමාජවාදී ප්‍රජාතාන්ත්‍රික වේ වා, ප්‍රජාතාන්ත්‍රික සමාජවාදී ආදී වෙනත් නමකින් හැඳින්වෙන සමාජ ක්‍රමයක් හෝ වේ වා මිනිසාට උපරිම තෘප්තියක් ලබාදීමට ප්‍රයත්න දරන්නේ එම සමාජවල වැඩිම ආර්ථික සහ දේශපාලනික බලය මධ්‍යගත ආයතනවල තබා ගැනීමෙනි. එය නිවැරදි බව සනාථ කිරීම සඳහා ජාතික හෝ ජාත්‍යන්තර හෝ වශයෙන් විවිධ හේතු සාධක ඉදිරිපත් කිරීමට එම සමාජ ක්‍රම සනාථ කරන විද්වත්හු පසුබට නො වෙති. එහෙත් යථාර්ථය ගෙන බැලුවහොත් වැඩි බලය මධ්‍යගත කොට තබාගත් කිසිම සමාජ ක්‍රමයක පෞද්ගලිකව පුරවැසියනට හෝ කුඩා සමූහවලට හෝ සර්වෝදය බලාපොරොත්තු වනවිදියේ නිදහසක් අවශ්‍යතා සැපිරීමක් හා සතුටක් ලැබී ඇති බවක් නො පෙනේ.

පශ්චාත් කාර්මික මහා පරිමාන පාරිභෝගික සමාජ හැටියට හැඳින්වෙන ඉහළින් ම තාක්ෂණය දියුණු වී ඇති රටවල මිනිසුන් ගේ තත්ත්වය ගැන සිතා බලමු. තව දුරටත් ඔවුන් අතරෙහි තිබෙන ප්‍රාථමික පවුල් ඒකකයන් අප සමාජයේ පවුල් ඒකකවල තිබෙන මූලික සම්බන්ධකම් වැනි සමීප සබඳකම්වලට හිමිකම් නො කියයි. අඹුසැමියන් අතර තිබෙන බැඳීම, දෙමාපියන්, දරුවන්, ගුරුන් සිසුන්, නෑදෑ හිතවතුන්, අසල්වැසියන් අතර තිබෙන මානුෂික සම්බන්ධය ආදිය අද එම සමාජවලින් තුරන් වී තිබේ.

පවුලක සාමාජිකයෙක් එම පවුලේ ම තවත් සාමාජිකයකු කෙරෙහි තිබෙන මානුෂික සම්බන්ධයට වඩා බලවත් වූත්, සමහර විට ඊට වඩා හාත්පසින්ම පරස්පර විරෝධී වූත්, ද්‍රව්‍යමය දේ සමඟ තිබෙන සම්බන්ධකම්වලට වඩා ලන්වේ. මේ නිසා ඉතාමත් ම සුළු කරුණක දී පවා ඇති වන්නේ පෞද්ගලිකත්වය ඉස්මතු වී මිනිස් සමාජයේ ස්වභාවික වූත්, නෛසර්ගික වූත්, සාමූහික ජීවිතය කඩාකප්පල්වීම යි. මානසික රෝග, හදිසි අනතුරු සියදිවි නසා ගැනීම්, සෑම ආකාරයකම අපරාධ, තාවකාලික මානසික සුවයක් ලබා ගැනීමේ හෝ ප්‍රශ්නවලින් පැනයාමේ හෝ විලාශයෙන් මත්ද්‍රව්‍යවලට හෝ වෙනත් විනාශකාරී දේවලට හුරුවීම ආදී ප්‍රශ්න මෙවැනි සමාජවල එන්ට එන්ට ම උග්‍ර වේ.

මනුෂ්‍යයකුගේ පෞරුෂයේ පූර්ණ උදාවක් ඇති වීම යනුවෙන් සර්වෝදය අදහස් කරන්නේ ආත්මාවබෝධය මුල් වූ ආධ්‍යාත්මික අරමුණක් ඇති මාර්ගයකට පෞරුෂය යොමු කිරීම යි. මේ සඳහා මූලික පවුල් ජීවිතය, ආර්ථික සබඳතා, අසල්වැසියන් අතර තිබෙන සාමූහිකත්වය සහ අවට ස්වභාවික හා සාමාජික පරිසරයේ තිබෙන සරල බව යනාදී කරුණු සියල්ලම වැදගත් ය. මේවා ආර්ථික හෝ භෞතික හෝ හේතූන් උඩ යම් කාල පරිච්ඡේදයක් ඇතුළත දී විනාශ වී ගියහොත් නැවත ඒවා යම් සමාජයක පුනරුත්ථාපනය කිරීමට පරම්පරා ගණනක් ගත වේ. අද යුරෝපීය කාර්මික සමාජය පත්ව සිටින්නේ ශිෂ්ටාචාරයේ මෙ වැනි මූලික අර්බුදයකට ය. එයට ප්‍රධාන ම හේතුවක් හැටියට මා සලකන්නේ මිනිසා ගේ පාලනයට යටත්ව තිබූ සරල සාමාජික, ආර්ථික, දේශපාලනික ආයතන වෙනුවට මිනිසාගෙන් ඈත් වූ මිනිසා පාලනය කිරිමට තරම් සමත්, මහා පරිමාන ක්‍රම මිනිසා විසින් ම ගොඩනැංවීම නිසා ය.

මෙවැනි තත්ත්වයක් කවරදා වත් අප සමාජයේ ඇතිවීමට අප ඉඩ නො දිය යුතුය. පවුලේ සෙසු සාමාජිකයන්ගේ ආදරය සහ ආරක්ෂාව ලැබෙන මානුෂික පරිසරයක්, මිනිස් සිතට පාලනය කරගත හැකි ස්වභාවික පරිසරයක් සහ කුඩා පරිමානයේ ආයතන අප විසින් රැකගෙන ශක්තිමත් කරගත යුතු ය. එම තත්ත්වයට ඔරොත්තු දෙන එය සමඟ එකට පැවැතිය හැකි දේශපාලනික ආර්ථික සහ තාක්ෂණික ක්‍රම විද්‍යාවන් හා ආයතන ද අප විසින් ගොඩනගා ගත යුතුය.

බටහිර රටවල් අනුගමනය කරමින් අප රට සංවර්ධනය කළහොත් මෙම ආයතන අපට ආරක්ෂා කරගැනීමට නොහැකි වනවා මෙන් ම ඒ වෙනුවට ගොඩනැගෙන ආයතන අපට පාලනය කර ගැනීමට ද නොහැකි වනවා ඇත. කාර්මිකරණය වූ බටහිර රටක පුරවැසියකු ගේ ජීවිතය ගැන සිතමු. නගරයක ජීවත් වූවත් කාර්මිකරණය වූ ගමක ජීවත් වුවත් බාහිර වශයෙන් මොවුන් තුළ යම් ආඪ්‍ය බවක් දක්නට තිබේ. ඇඳුමෙන්, මොවුහු සුඛෝපභෝගීය. ආහාරයෙන් පරිපූර්ණය. විදුලිය, ජලය සහ සනීපාරක්ෂක කසලනල මාර්ග ආදියෙන් අඩුවක් නැත. නිවාසවල ගෘහභාණ්ඩ, රූපවාහිනිය, චිත්‍ර, විසිතුරු කලා කෘති, ගුවන් විදුලි ආදියෙන් සම්පූර්ණ ය. එහෙත් මෙවැනි භෞතික දෙයින් ලැබෙන ආරක්ෂාව හැර පවුල් මට්ටමින් හෝ ප්‍රජා මට්ටමින් හෝ ප්‍රජා මට්ටමින් හෝ ඔවුන්ට ලැබෙන මානසික ආරක්ෂාවක් නැත. තම රැකියාව අහිමි වුවහොත් ඔවුන්ට පිහිට වන්නේ

සාමාජික රක්ෂණ ක්‍රමයක් පමණකි. අසනීපයක් වුවහොත් සෞඛ්‍ය සංරක්ෂණ ක්‍රමයකින් ඔවුනට පිහිට ලැබේ. බාහිර ව බලන විට මෙය ඉතා දියුණු සාමාජික තත්ත්වයක් මෙන් යමකුට පෙනේ.

මෙහි මානුෂික පැත්ත ගෙන බලමු. වයෝවෘද්ධ මවකට හෝ පියකුට ඔවුන් ළඟ සිටගෙන සාත්තු සප්පායම් කිරීමට ආශාව තිබුණත් ඔවුන් පැටලී සිටින ආර්ථික සාමාජික රටාව නිසා ඒ සඳහා අවස්ථාවක් දරුවනට නො ලැබේ. සමහර විට ඔවුන්ට කළ හැකි එකම දෙය නම් අසරණ මවකට හෝ පියකුට රෝහලක ආරක්ෂාව සලසා ඒ සඳහා ගෙවිය යුතු බිල ගෙවීම පමණකි. ඔවුන් මිය ගියහොත් කෙරෙන්නේ ද එවැනි මුදල්මය ගෙවීමක් පමණකි. මිනිස් ජීවිතයේ අලංකාරමය ගුණයන් වූ දයාව, පරිත්‍යාගය, මාතෘ ප්‍රේමය, පීතෘ ප්‍රේමය, සහෝදර ප්‍රේමය ආදී උසස් ගුණ මෙ වැනි සමාජවල දක්නට ලැබෙන්නේ අල්ප වශයෙනි. කෙ තරම් භෞතික සම්පත් තිබුණත් මුදලින් මිලට ගත හැකි කුමන සේවාවක් තිබුණත් තමන් ගේ දරුමුණුපුරන් ගේ ප්‍රසන්න දර්ශනයක් වත්, මිහිරි කටහඬක් වත්, උණුසුම් ස්පර්ශයක් වත් නො ලැබ අවසන් වන ජීවිතයේ සතුටක් කොයින් ද? සිය දරුමල්ලන් වට කරගෙන දුක සැප බෙදාගෙන ජීවිතයේ අවසාන කාලය ගෙවන අප සමාජයේ වැඩිහිටියනුත් මොවුනුත් අතර ජීවත් වීමේ සතුට අතින් කොතරම් වෙනසක් තිබේ ද?

පවුලේ සාමාජිකයින් අතර මෙසේ නම් ප්‍රජාව ගැන විස්තර කිරීම කිසිසේත් අවශ්‍ය නැත. ආර්ථික වශයෙන් මුදල් සම්බන්ධකම්වලින් ලැබෙන අන්තර් පුද්ගල සම්බන්ධතා හැරුණු විට පුද්ගලයන් වශයෙන් ප්‍රජා හැඟීමක් කාර්මීකරණය වූ සමාජවල දක්නට ලැබෙන්නේ කලාතුරකිනි. රැකියාවක් අහිමි වීමෙන් හො විදුලිය, ජලාප්‍රවාහන ක්‍රම ආදියේ ක්‍රියාකාරිත්වය ඇන හිටියොත් හෝ මෙවැනි සමාජ සම්පූර්ණයෙන් අසරණ වේ. ශීත ඍතුවල විදුලිය නොලැබීම නිසා සිය නිවෙස් උණුසුම් කරගත නොහැකි වූ අහිංසක මව්වරුන් ඔවුන් ගේ තනි ව ජීවත් වූ නිවාසවල ජීවිතක්ෂයට පත්ව දින කිහිපයක් ගත වන තුරුත් ඔවුන් ගේ සිරුරු එ ම තැන්වලම තිබුණු අන්දම පිළිබඳ ව සෑම වසරක ම වාගේ එංගලන්තයෙන් වාර්තා වේ. අන්ධානුකරණයෙන් බටහිර රටවල් අනුකරණය කරන්නට ගියහොත් ශ්‍රී ලංකාවේ අපට ද මෙවැනි තත්ත්වයක් උද්ගත නොවේ යැයි කාට කිව හැකි ද? මේ තත්ත්වයෙන් ගැලවීමට නම් අපේ පවතින ගැමි සමාජ ක්‍රමය විනාශ කර නොගෙන තවත් ශක්තිමත් කළ යුතු බව සර්වෝදය අපේ විශ්වාසය යි. මේ නිසා යි, සර්වෝදයෙන් ගොඩනැගෙන සමාජ ක්‍රමයක ගමට මුල්තැන ලැබෙන්නේ.

පසු ගිය දස වසර තුළ දී ගැමි ජීවිතය නවීකරණය කිරීමට රජය විසිනුත්, පෞද්ගලික වාණිජ්‍ය ආයතන විසිනුත් ප්‍රබල මහන්සියක් ගනු පෙනේ. මේවා සඳහා විශාල වශයෙන් මුදල් වියදම් කරනු ලැබේ. විවිධ අන්දමේ සංකල්පයන් ද ඒ ඒ දේශපාලකයා ගේ අභිමතය පරිදි ගොඩනගනු පෙනේ. නගරයේ තිබෙන සමහර භෞතික දේවල් යන්ත්‍රසූත්‍ර, වයිවාරම් මෝස්තර ගැමි ජනතාව අතරට ගෙන ගොස් ප්‍රදර්ශනය කිරීම සංවර්ධනයේ ප්‍රධාන අංශයක් වී තිබෙන බව පෙනේ. මේවායින් කෙරෙන හැම දෙයක් ම අප්‍රයෝජන ය යි අපි නො කියමු. ඒ නිසා ම එ ම ප්‍රයත්නවල සමහර අංශවලට අප ව්‍යාපාරය ද උදව් වී තිබේ.

එහෙත් පැහැදිලි දර්ශනයක් සහ ප්‍රතිපත්ති මාලාවක් ඔස්සේ ජීවිතය පරදුවට තබා නිස්සරණධ්‍යාසීව ක්‍රියා කරන ව්‍යාපාරයක් හැටියට අපට අනුමත කළ නොහැකි එමෙන්ම භයානක පැත්තක් ද ඒවායේ තිබේ.

එයින් භයානක ම අංශයක් නම් ගැමි ජනතාව තුළ ඇති කරන හීනමානය යි. තමන් ගේ ජීවන රටාව, සිරිත් -විරිත්, සංස්කෘතියට වඩා ඉහළ සංස්කෘතියක් නගරයෙන් සහ පිටරටින් ඔවුනට ලබාගත හැකි බව විවිධ සන්නිවේදන මාධ්‍යයන්ගෙන් සහ ඇසට පෙනෙන, කනට ඇසෙන දෙයින් අහිංසක ගැමියනට හැඟීමක් ඇති වේ. මෙය සංස්කෘතික ආක්‍රමණයකි. මේ පිටුපස විශාල වාණිජ්‍ය ආක්‍රමණයක් එයි. එය ආර්ථික ව ගම වඩාත් වහල් තත්ත්වයකට පත් කරයි. ගමේ වැඩට බසිනා අප ගමේ යටගියාව ගැන සිහියට ගැනීම වැදගත් ය. ගමේ ආර්ථික නිදහස ගමේ සංස්කෘතික නිදහස සමඟ වෙන්කළ නොහැකි අන්දමේ බැඳීමක් තිබෙන බව සිහිකළ යුතු ය.

ශ්‍රී ලංකාවේ ගම්මානවල දීර්ඝ ඉතිහාසයක් තිබේ. එම ඉතිහාසයේ යම් අවධිවල දී එයට සාරධර්ම එකතු වීමත් සිදුවිය. තවත් කලක් යනවිට යෝග්‍ය විද්‍යා තාක්ෂණය එකතු විය. මේ නිසා ලාංකික ගම් ගැන සිතීමේ දී ඒවායේ ඓතිහාසික සාරධර්මික සහ විද්‍යාත්මක නියමයන් අප විසින් පැහැදිලිව සොයාගත යුතු ව තිබේ. මුලින් ම ඓතිහාසික වශයෙන් ශ්‍රී ලංකාවේ ගම්වල පදනම වැටුනේ ක්‍රි.පූ. 6 වැනි සියවසේ දී ඇති වූ කෘෂිකාර්මික ජනපදවලින් යැයි අනුමාන කළ හැකි ය. උපතිස්ස, පණ්ඩුවාස, රෝහණ, දීඝායු ආදී කුමාරවරුන් මුලින් ම කෘෂිකාර්මික ජනපද පිහිට වූ බව ඉතිහාසයෙන් කියැවේ. සමහර විට මීට පෙර තිබූ තාරකා, පුලස්ති, රාවණා ආදී යුගවල ශිෂ්ටාචාරයේ යම් යම් ලක්ෂණ ද ඒ ජනපද සමෝදානය කෙරෙන අනුරාධපුර වැනි නගර සියලුම නාගරික සුහසාධන ලක්ෂණයන්ගෙන් යුතු ව ගොඩනැගුණාට සැකයෙක් නැත. මෙ තෙක් විවිධ ප්‍රායෝගික අවශ්‍යතා උඩ මේ ගම්මාන සකස් වූවාමිස ඒවා සංවිධානයෙහි ලා මුල් වූ දර්ශනයක් නොතිබෙන්නට ඇත.

බුදු දහමේ ආගමනයත් සමඟ ම මේ ගම්මානවලට දර්ශනයක් ලැබුණේ ය. මෙය විද්‍යා තාක්ෂණයත් සමඟ එකතු වී දේශීය චින්තනයක් ලෙස ස්ථාවර බවක් ලැබුවේ ක්‍රි.පූ. 3 වන සියවසේ දුටුගැමුණු රජතුමාගේ පාලන සමයේ දී සිට ය. විමසිලිමත් ව මේ යුගය ගැන අධ්‍යයනයක් කරන කෙනෙකුට ආධ්‍යාත්මික, සදාචාර, සංස්කෘතික, සාමාජික, ආර්ථික සහ දේශපාලනික යන අංශ හයෙන් ම යුක්ත වූ ගම පදනම් වූ ශ්‍රේෂ්ඨ ජාතියක් අප රටේ ගොඩනැංවී තිබුණු බව ඉතා හොඳින් අවබෝධ වේ.

මිහිඳු මහ රහතන් වහන්සේගේ ලංකා ගමනේ ප්‍රතිඵලයක් වශයෙන් දෙවන පැතිස් මහ රජතුමා ප්‍රධාන ශ්‍රී ලංකාවාසී ජනතාව බුදුදහම වැළඳ ගැනීම ශ්‍රී ලංකා සමාජ පරිනාමයේ අති විශිෂ්ඨ සිද්ධියකි. ජාතියක් වශයෙන් මිනිස් කොට්ඨාශයක් මනෝවිද්‍යාත්මක ව එකට බැඳීමට නම් එයට මුල් වූ යම් ධර්මතා සමූහයක් තිබිය යුතු ය. මේවායින් සමහරක් නම් තමන් ගේ ජන්මභූමිය හැටියට යම් දේශසීමාවන් තුළ තිබෙන භෞතික භූමි ප්‍රදේශයක් පිළිගැනීම, ආරම්භයේ දී ම නායකත්වයක්

දුන් වෙනත් ජන සමූහයක හෝ ප්‍රහාරයන්ගෙන් ආරක්ෂා වී ස්වාධීනත්වය රැක ගැනීම ආදිය යි. එහෙත් මේවා ධර්මතා පමණකි. එම ධර්මතා සියල්ල ම එකතුව සමස්ත දර්ශනයක් ජාතික චින්තනයක් ගොඩ නැගුණහොත් පමණකි. මේ ධර්මතා සාරධර්ම හෙවත් පුරුෂාර්ථ බවට පත් වන්නේ. දුටුගැමුණු රජතුමාගේ කාලය වන විට බුදු දහමේ ඇසුරෙන් සමස්ත ජාතික දර්ශනයකුත් එක් එක් ජීවන අංශයට අදාළ සාරධර්ම රාශියකුත් හැඩ ගැසීමට තරම් ශ්‍රී ලාංකික සමාජය පරිණත වුනේ යැ යි සැලකිය හැකි ය.

පොදුවේ ජනතාව බුදු දහම පිළිගෙන තිබුණ හ. මහා සංඝයා වහන්සේ බුදු දහම ගිහියනට කියාදෙන, තේරුම් කරදෙන, අර්ථ දක්වන සමාජයේ අති පූජනීය සමාජ කොට්ඨාශය වූ සේක. මහජනතාව ගේ පොදු සම්මතයෙන් රාජ්‍ය පාලනයේ ප්‍රධානත්වය ඉසුලූ මහ රජතුමා මහා සංඝයා වහන්සේගේ මෙන්ම ජනතාවගේ ආරක්ෂකයා විය. සංඝයා වහන්සේ රජතුමා සහ ජනතාව සමාජ ත්‍රිකෝණයේ පැති තුන වූහ. එහි මධ්‍යයේ තිබුණේ නිවී සැනසීම අරමුණු කරගත් අහිංසාවාදී සමාජයකි. නිවීම යනු චිත්තාභ්‍යන්තරයේ ඇතිවන සහනසීලී බවෙකි. සැනසීම යනු භෞතික අවශ්‍යතාවන් සැපිරීම නිසා බාහිර වශයෙන් ඇතිවන සතුටුදායක තත්ත්වයකි. ජාතික මට්ටමෙන් සලකන විට මෙය ධර්මද්වීප ධාන්‍යාගාර අරමුණක් ඇතිව ගොඩනැගුණු සමාජයකි.

ධර්මද්වීප අරමුණ අංශ තුනකට බෙදිය හැකි ය. ඒවා නම්, ආධ්‍යාත්මික, සදාචාර සහ සංස්කෘතික යන අංශ යි. ධාන්‍යාගාර අරමුණක් අංශ තුනකට බෙදිය හැකි ය. ඒවා නම්, සාමාජික, ආර්ථික සහ දේශපාලනික යන අංශ යි. ධර්මද්වීප අරමුණේ නායකත්වය ඉසුලුවේ සංඝයා වහන්සේ වූ අතර ධාන්‍යාගාර අරමුණේ නායකත්වය ඉසුලුවේ රජතුමා ය. මෙම ක්‍රමය සමස්තයක් හැටියට ක්‍රියාත්මකවීමට නම් මේ දෙපක්ෂය ම පොදු වේ බුදු දහමේ ලෝකෝත්තර ඉගැන්වීම් මෙන්ම ලෞකික ඉගැන්වීම් ද පිළිගත යුතු විය. මෙයින් අදහස් වනුයේ බුදු රජාණන් වහන්සේ විසින් ආර්ථිකය, දේශපාලනය, සමාජ සම්බන්ධතා ආදී යම් ලෞකික අංශ පිළිබඳ ඉගැන්වීමක් කර තිබුණේ ද ඒවා ගිහි සමාජය විසින් රජතුමා ගේ නායකත්වය යටතේ ක්‍රියාත්මක කිරීම යි.

සංඝයා වහන්සේ සමඟ කිට්ටු සබඳතාවක් තිබූ නිසා මෙම ඉගැන්වීම ක්‍රියාවට නැංවීමට අවශ්‍ය මාර්ගෝපදේශකත්වය ලබාගැනීමේ අපහසුතාවක් නො වී ය. රටේ සංවර්ධනය, සත්ත්ව ඝාතනය, විෂ මත්පැන් ආදී මිථ්‍යා ඇදහීම්වන් ඈත්කොට අහිංසාවාදී ගොවිතැන සහ ධාර්මික ක්‍රියා මුල්කොට ගොඩනංවා ගැනීමට මේ ත්‍රිකෝණාකාර සම්බන්ධතාව බෙහෙවින් ප්‍රයෝජනවත් විය. එමෙන් ම ආධ්‍යාත්මික වශයෙන් මුහුකුරා ගොස් තිබුණු ගිහියනට පැවිදි බිමට ඇතුළු ව ආධ්‍යාත්මික විමුක්තිය ලෞකික වශයෙන් සොයා යෑමට ද මේ නිසා පහසුවක් ඇති විය.

ජාතික ආපදාවන් ඇති වූ අවස්ථාවල දී ලෞකික සහ ලෝකෝත්තර ජීවිතය අතර සිටි සමහර භික්ෂූන් වහන්සේලා පවා නැවත ගිහිගෙයට වුත් සටන් කළ ආකාරය

මැනැවින් ඉතිහාසයේ සඳහන් වී ඇත. පර සතුරන් ගෙන් රට බේරීමට කළ සටනේ දී මහණ දම් පිරීම තාවකාලිකව අත්හිටුවා දුටුගැමුණු රජතුමාගේ දසමහා යෝධයන්ගෙන් කෙනකු හැටියට සටන් වැදුණු ථෙරපුත්තාභය ගැන අප අසා තිබේ. එමෙන් ම යුද්ධය අවසන් වීමෙන් පසුව නැවත වනගත වී උන්වහන්සේ රහත් වූ අන්දම ගැන ද අප අසා තිබේ. ගිහි ජීවිතයත් පැවිදි ජීවිතයත් අතර මෙන්ම ලෞකික ජීවිතයත් ලෝකෝත්තර ජීවිතයත් අතර තිබුණු කිට්ටු සම්බන්ධය ද මෙයින් පැහැදිලි ව පෙනේ.

දුටුගැමුණු රජතුමා ගේ කාලය වන විට ඉහත සඳහන් කළ අංශ හයේ ම සාරධර්ම මුල් වූ දියුණුවක් ඇති වී තිබුණු බවට සාක්ෂි තිබේ. එ කල ලියැවී තිබුණු ඉතා ගැඹුරු පොත-පත ගැන මෙන් ම වැඩ සිටි දහස් ගණන් රහතන් වහන්සේලා ගැන ද වංශකතාවල සඳහන් ව තිබේ. අනුරපුර යුගයේ දි තිබුණු උසස් සදාචාර මට්ටම ගැන එවක යුග විස්තර කෙරෙන ඓතිහාසික පොතපතින් මොනවට කරුණු සොයාගත හැකි ය. සංස්කෘතික වශයෙන් ලබා තිබූ දියුණුව පිළිබඳ ව ස්වර්ණමාලී චෛත්‍යය රාජයාට වඩා වැඩි සාක්ෂි කුමකට ද? සාමාජික වශයෙන් එ වකට පැවතුණ තත්ත්වය ගැන ථූපවංශය වැනි ග්‍රන්ථයන්හි කරුණු සඳහන් වේ. මහා සෑය සෑදීමේ දී අනුගමනය කළ ක්‍රියාමාර්ගය මේ කාලයේ තිබුණු සමාජ තත්ත්වය පිළිබඳ කදිම උදාහරණයකි.

දුටුගැමුණු මහ රජ එළාර රජ පරදවා අනුරාධපුරය අගනුවර කොට ස්වකීය රාජ්‍ය පාලනය ඇරඹුවේ ක්‍රි.පූ. 116 වෙනි වර්ෂයේ දී ය. වෙන කිසිදු රාජකාරියක් ඇරඹීමට පෙර තම ප්‍රතිමල්ලවයාට උසස් රාජ්‍ය ගෞරව සහිත ආදාහනයක් සිදු කිරීමෙනුත්, ඔහු ගේ නම සිහිවීම පිණිස එළාර සොහොන ගොඩනංවා ඉන්පසු පරම්පරාවලින් පවා ගෞරව දක්වන සේ නියෝග පැනවීමෙන් ගැමුණු රජතුමා තැබුවේ වෙන කිසිම රටක ජයග්‍රාහී සේනාධිනායකයකු නොතැබූ විදියේ සදාචාරමය ආදර්ශයකි. පෞද්ගලික ජීවිතයේ දී පමණක් නො ව රාජ්‍ය පාලනය වැනි අවස්ථාවල දී ද සදාචාර ධර්මයන් අනුගමනය කළ හැකි බවට මෙය අපේ පැරණි ඉතිහාසයෙන් උපුටා දැක්විය හැකි ආදර්ශයකි. එයට වඩා මෑත යුගයේ දී මොණරවිල කැප්පෙටිපොල විසින් "තොපේ ආයුධවලින් තොපට ම පහරදීම තරම් පහත් කෙනෙක් නොවෙමැ යි" කියා සුද්දන්ගේ ආයුධත් තමා භාරයේ සිටි සුදු සොල්දාදුවනුත් ආපසු හතුරන් වෙතට යැවීමට තරම් සදාචාර ධර්මවලට ගරු කිරීමක් යුද්ධයේ දී පවා අනුගමනය කිරීම තවත් කදිම උදාහරණයෙකි.

සිංහල රාජ්‍ය ඉතිහාසයෙන් යුද්ධයේදීත්, ජයග්‍රහණයේදීත්, පරාජයේදීත්, සාමයේදීත් සදාචාර ධර්මයන් පිළිපැදීම පිළිබඳ ව මෙවැනි ආදර්ශ ඕනෑ තරම් දැක්විය හැකි ය. සිංහල ගැමි සංවිධානයේ ආර්ථික අංශය ගෙන බලන විට බොහෝ ආර්ථික ක්‍රියාවන් සිදු වනුයේ අන්‍යොන්‍ය විශ්වාසය මත බව පෙනේ. වර්තමානයේ පවා ගොවි පවුල් අතර ද්‍රව්‍යමය වශයෙන් හෝ මුදල් අතින් කෙරෙන යම් යම් ගනුදෙනු හුවමාරු රාජ්‍ය නීතියේ බැඳීම්වලට වඩා සිදු වන්නේ සදාචාර නීතිය මුල් කැරගෙන ය.

සංස්කෘතික අංශයෙන් සලකා බලන විට ලියැවී තිබුණු පොතපත, පුරුදුවී තිබුණු නැටුම්, ගැයුම්, වැයුම් ආදිය, නිර්මාණය කර තිබූ චිත්‍ර කලාකෘති ආදී මේ සියල්ලක් ම යම් මුඛ්‍ය පරමාර්ථයන් ඉදිරියේ තබාගෙන නිර්මාණය කළ බව පෙනේ. සාමාජික ජීවිතය ගැන සඳහන් කළත් එසේම ය. සරල චාම් දිවිපෙවෙතක් ඔවුන් පුරුදු කළ බව පෙනේ.

එදිනෙදා සතුටින් ජීවත් වීමට අවශ්‍ය දෑ නිෂ්පාදනය කළා මිස ඔවුන් ගේ පරමාර්ථය වුයේ විශාල ධන සම්භාරයක් එකතු කිරීම නොවන බව පැරණි පොතපත කියවන ට හොඳින් පෙනේ.

පවුලේ සහ ගමේ සාමාජික රටාව මෙන් ම දේශපාලනික සහ ආර්ථික රටාව ද දිගු කලක් පැවතිය හැකි සමබර සරල එකක් වු බවට ඉතිහාසයේ මොනවට සාක්ෂි දක්නට ලැබේ. රජ මාළිගා, විහාරාරාම ආදී ආගමික සහ පොදු ගොඩනැගිළි හැරුණු විට පුරාවිද්‍යා නටබුන් අතර කොතැනකවත් පෞද්ගලික නිවාසයක නටබුන් දැකීමට නොලැබේ. මෙයින් පෙනෙන්නේ සිංහල වර්ගයා අර්ථ සංරක්ෂණයේ යෙදුනේ හැකි තරම් දුරට මෙ ම ජීවිතයේ දී භෞතික සම්පත් විඳීම එකම අරමුණ කරගෙන නොවන බවත් මූලික අවශ්‍යතා සම්පූර්ණ කරගත් වහාම ඉතිරි සම්පූර්ණ කාලය ම යෙදුණේ ආගමික සහ සංස්කෘතික ජීවිතයට බරව බවත් ය. මෙම ජීවිත දර්ශනය නිසයි ලංකාව ප්‍රමාණයෙන් සහ ජනගහණයෙන් කුඩා වුවත් ඊට වඩා විශාල ජනගහණයක් ඇති භූමි ප්‍රමාණයක් ඇති රටවලට වඩා දියුණු වූයේ.

මෙම ඓතිහාසික පසුබිමේ සිට අපේ වර්තමාන ලෝක තත්ත්වය අනුව කෙ තෙක් දුරට එම සාරධර්මයන් ප්‍රායෝගිකව ක්‍රියාවට නැංවිය හැකි ද? සර්වෝදය ව්‍යාපාරයේ ප්‍රයත්නය වන්නේ මෙම අත්හදා බැලීම් දිගින් දිගට ම කරගෙන යෑමය. මේ නිසයි බොහෝදෙනා සර්වෝදයේ ග්‍රාමෝදය වැඩ පිළිවෙල බෞද්ධ ධර්මය සංවර්ධන ක්‍රියාවලියක් හැටියට පරිවර්තනය කිරීමේ ප්‍රයත්නයක් හැටියට හඳුන්වන්නේ.

**වත්මන් තත්ත්වය දෙස බලමු.**

ශ්‍රී ලංකාවේ ගම්මාන 23000 ක් පමණ තිබෙතැයි අනුමාන කරනු ලැබේ. මෙම ගම්මාන විසිතුන්දාහ පරිපාලන ඒකක වශයෙන් ග්‍රාමසේවක කොට්ඨාශ හාරදාස් හාරසියපනහකට පමණ බෙදා තිබේ. මේ ග්‍රාම සේවක කොට්ඨාශවල ඉහළින් තිබෙන පරිපාලන කොට්ඨාශය උප දිසාපති කොට්ඨාශයක් වේ. ශ්‍රී ලංකාවේ උප දිසාපති කොට්ඨාශ දෙසිය හතළිස්පහක් පමණ තිබේ. උප දිසාපති කොට්ඨාශවලට ඉහළින් තිබෙන්නේ දිසාපති කොට්ඨාශයන් ය. දැනට ලංකාව දිස්ත්‍රික්ක 24 කටත් පළාත් 9 කටත් බෙදා තිබේ.

ජාතික මට්ටමේ තිබෙන විවිධ අමාත්‍යාංශ තම දෙපාර්තමේන්තු තුළින් සහ සංස්ථා තුළින් ඔවුන් තීරණය කරන ප්‍රතිපත්ති ගම දක්වා ක්‍රියාත්මක කරවයි. සමහර විට මේ සඳහා තම අමාත්‍යාංශවල නිලධාරීන් යොදාගන්නා අතර තවත් සමහර විට ඔවුන් ගේ වගකීම් දිසාපතිවරුන් සහ උපදිසාපතිවරුන් මාර්ගයෙන් ගැමි මට්ටමේ දී ක්‍රියාත්මක කරවයි.

ජාතික මට්ටමේ දී විවිධ දෙපාර්තමේන්තු සහ අමාත්‍යාංශ අතර යම් සමෝදානයක් තිබුණත් ගම ගැන සිතන විට එය දුර්වල එකකි. ගම මධ්‍යම බල කේන්ද්‍රස්ථානවලට ඉතා ඈතින් පිහිටා තිබෙන නිසාය. දිස්ත්‍රික්ක මට්ටමේදී ද දිසාපතිවරයා ගේ මූලිකත්වයෙන් යම් සමෝදානයක් සිදු වෙතත් විවිධ අමාත්‍යාංශ, දෙපාර්තමේන්තු හා සංස්ථා වෙනුවෙන් ඔවුනට තීරණ ගත හැකි බලය සීමිත ය. උපදිසාපතිවරයාගේ මට්ටමට පැමිණෙන විට ගම සමඟ තිබෙන දුර කිට්ටු වූවත් සමෝදානය ඉතාමත් දුර්වල ය. ගැමි මට්ටම ගැන සිතන විට කිසිදු සමෝදානයක් නැති අතර කිසි දු ඒකාබද්ධ සැලසුමක් ද නැත.

දිස්ත්‍රික් මට්ටමේ දී කලින් කල යම් යම් විදියේ සමෝදානයක් කිරීමට ප්‍රයත්න දරා ඇතත් එය එ තරම් ගම කෙරෙහි ප්‍රයෝජනවත් බලපෑමක් ගමේ කටයුතු ඒකාබද්ධ කිරීම වශයෙන් ඇති වූ බවක් නො පෙනේ. විමධ්‍යගත අයවැය නිසා වෙනදාට වඩා යම්කිසි ධන ආයෝජනයක් සිදුවුණත් උප දිසාපති කොට්ඨාශ මට්ටමෙන් හෝ ග්‍රාමීය මට්ටමෙන් එවැනි සමෝදානයක් මෙතෙක් සිදු නොවී ය. මෙය ඉහළින් පහළට තීරණ ඒම නිසා සිදු වූවක් පමණක් නොව පහළින් ජන සහභාගිත්වයෙන් ගොඩනැගුණු සැලසුමක් නොමැති වූ නිසා ද සිදු වූවකි. අපේ පැරණි ගම් සංවර්ධන ක්‍රමය බ්‍රිතාන්‍ය පාලන සමයේ දී සම්පූර්ණයෙන් ම වගේ විනාශ වී ගියේ ය. එය යටත්විජිත ක්‍රමයක ලක්ෂණ විය. පරදේශීන් ගෙන් අපේ රට නිදහස් වූවත් මෙම පාලන ක්‍රමයෙන් අපේ ගම් නිදහස් වූයේ නැති නිසා කිසිදු ක්‍රමික සංවර්ධනයක් අපේ ගම්වල සිදු නොවී ය.

බොහෝ කලක් ගම්සභා පැවතියේ ය. එහෙත් මේ ගම්සභාවලට සංවර්ධනය පිළිබඳ කිසි දු වගකීමක් තිබුණේ නැත. පසුගිය අවුරුදු තුන ඇතුළත දී දිසා ඇමති ක්‍රමයට අමතරව සංවර්ධන සභා ද පිහිටුවීය. එහෙත් මේ සංවර්ධන සභා මහජන ජීවිතයට බලපාන සේ තවම ක්‍රියාත්මක වූයේ නැත. මේ අතර ගැමි මට්ටමේ සියලු ම සමිති සමාගම් එකතු වී ග්‍රාමෝදය මණ්ඩල ද, සියලුම ග්‍රාමෝදය මණ්ඩල එකතු වී ප්‍රාදේශීය මණ්ඩල ද දැනට පිහිටුවාගෙන ඇත.

ග්‍රාම සංවර්ධන ව්‍යාපාරය, සමූපකාර ව්‍යාපාරය, ජනතා කමිටු ආදී විවිධ මාදිලියේ රජය මුල් වී ගමේ ආරම්භ කළ විවිධ සංවිධාන බලාපොරොත්තු වූ තරමට සාර්ථක නොවීමට යම් හේතු තිබුණේ ද එම හේතූන් අදත් එසේ ම තිබේ. මේ නිසා ග්‍රාමෝදය මණ්ඩල, ප්‍රාදේශීය සභා ආදිය ද කෙතරම් ප්‍රගතිශීලී පනත් උඩ සකස් වූවත් ඒවාට ද එම කලදසාව ම නො ලැබේ යැයි කිව නොහැකි ය. මෙයින් ප්‍රධාන හේතු කිහිපයක් ගෙන බලමු.

ඉහත සඳහන් කළ කිසිම සංවිධානයකින් මධ්‍යගත දේශපාලනික හෝ ආර්ථික බලයට අභියෝග නොකරයි. මේ හේතුවෙන් දේශපාලන පක්ෂවලට සහ ආර්ථික බල සංවිධානවලට මේවායේ ශක්තිය දුර්වල කළ හැකි ය. එහි ප්‍රතිඵලය වන්නේ බලයේ සිටින පක්ෂය හෝ බලයට ඒමට මහන්සි ගන්නා පක්ෂය විසින් ඔවුන්ගේ පරමාර්ථයන් ඉටුකර ගැනීම සඳහා මෙම ගැමි සංවිධාන ඉත්තන් කර ගැනීමට පෙලැඹීම යි. ඔවුන් ගමේ මට්ටමේ ග්‍රාමෝදය මණ්ඩල දෙස බලනුයේ සර්වෝදය ව්‍යාපාරය බලන අන්දමට ආර්ථික සහ දේශපාලනික ක්‍රියාවලියේ පදනම හැටියට නොව ගමින් බාහිර වෙනත් තැනක තිබෙන ආර්ථික දේශපාලනික කේන්ද්‍රස්ථානයක අවසන් කෙළවර හැටියට යි. සර්වෝදයෙන් ඉදිරිපත් කැරෙන්නේ මෙයට ප්‍රතිවිරුද්ධ සංකල්පයකි. දේශපාලන සහ ආර්ථික බලයේ කේන්ද්‍රස්ථානය ගැමි ප්‍රජාව සහ නාගරික කොට්ඨාශ වැනි කුඩා ජන සමූහ වියයුතු බව සර්වෝදය විශ්වාස කරයි. පක්ෂ හා බලකාමී දේශපාලනයත්, ධනේශ්වර යටත්විජිතවාදී අර්ථ ක්‍රමයත් පිළිගැනීම ග්‍රාමෝදය ග්‍රාම ස්වරාජ්‍යය සංකල්පය ප්‍රතික්ෂේප කිරීමකි.

වර්තමාන ජාතික සහ ජාත්‍යන්තර ප්‍රශ්නයකට පවා විසඳුම් තිබෙන්නේ කුඩා ජන සමූහ තුළ ඇතිවන විඥානික ප්‍රබෝධනය, තාක්ෂණික දියුණුව සහ සංවිධාන ශක්තිය බව සර්වෝදයේ විශ්වාසය යි. සැබෑ ග්‍රාමෝදය සහ ග්‍රාම ස්වරාජ්‍යයේ පදනම විය යුත්තේ එය යි.

## නගරෝදය

මෙතෙක් අප විස්තර කල උදාවීමේ මගට නාගරික ජන කොට්ඨාශ ද යොමු කිරීම "නගරෝදය" යි නගරයේ ජීවත් වූවත්, පුද්ගලයා සහ පවුල පිළිබඳ අරමුණුවල අපේ වෙනසක් නැත. පූර්ණ පෞරුෂෝදය සහ කුටුම්බෝදය එලෙස ම අරමුණු කරගත යුතුය. නගරයේ ජීවත්වන ජනතාව පවුල් 200-250 ත් අතර ජන කොට්ඨාශවලට වෙන් කරගෙන ග්‍රාමෝදයට සමාන වූ නගරෝදයේ අරමුණක් ඔවුන් සඳහා තබාගෙන කටයුතු ඇරඹීම සර්වෝදය පිළිවෙත යි. එහෙත් නගරෝදයේ වැඩ සටහන නාගරික අවශ්‍යතා අනුව වෙනත් ස්වරූපයක් ගනී. නාගරික ජනතාවට මුහණදීමට තිබෙන ප්‍රශ්න, ගැමි ජනතාව මුහුණදීමට තිබෙන ප්‍රශ්නවලට වඩා වෙනස් නිසා ය. එහෙත් ඒ ප්‍රශ්නවලට මුහුණදෙන ට උපයෝගි කර ගන්නා සාරධර්මවල වෙනසක් නැත. වෙනස්කම් එන්නේ ශිල්පීය ක්‍රම භාවිතයේ දී පමණකි.

බටහිර ජීවන රටාවන් ගම තුළට පිවිසෙන දොරටු හැටියට නගරය උපයෝගී කර ගන්නේ නැතිව, ග්‍රාමීය වටිනාකම් සහ ජීවන රටාවන් ජාතික වශයෙන් සහ ජාත්‍යන්තර වශයෙන් පිළිබිඹු කිරීමේ කාර්යය නගරයෙන් සිදුවිය යුතු බව සර්වෝදයේ පිළිගැනීමයි. අප කලින් විස්තර කළ නගරෝදය ගීය පිළිබඳ ව සිතීමෙන් මේ පරමාර්ථ පැහැදිලි වනු ඇත.

ග්‍රාමෝදය අංශය තරම් ගැඹුරින් සහ පුළුල්ව, සර්වෝදය විසින් නාගරික වැඩ සටහන් ගොඩනඟා නැත. එහෙත් කොළඹ නගරයේ තැන් 50 කට අධිකවත්, යාපනය, ගාල්ල, මාතර, මහනුවර ආදී ප්‍රධාන නගරවලත් විවිධ නගරෝදය වැඩ සටහන් දියත් කර ඇත්තෙමු. සර්වෝදය වැඩ සටහන සමස්තයක් වශයෙන් නාගරික බුද්ධිමතුනට සහ පාලකයිනට අවබෝධවනවාත් සමඟ ම නගරෝදය වැඩ සටහන් ද දේශෝදය සඳහා මල්පල දරන අන්දමට සූදානම් කර ඇති බව පමණක් මෙතැන දී සඳහන් කිරීම ප්‍රමාණවත් ය.

පවතින සමාජ ක්‍රමයේ දුර්වලකම් සහ ඒවා පිටුදකිනු පිණිස මුදාහළ යුතු සමාජ ප්‍රවනතාවන් ගැන විස්තරයක් මෙතෙක් දිනිමි. පූර්ණ පෞරුෂෝදයත්, කුටුම්බෝදයත්, ග්‍රාමෝදය-ග්‍රාම ස්වරාජ්‍යයත්, නගරෝදයත් ජනතා මට්ටමින් මේ අන්දමින් සර්වෝදය සංසදය විසින් මුදාහරිනු ලැබුවත් එය සම්පූර්ණ වන්නේ දේශෝදයක් කරා රට යොමුවන අන්දමට චින්තනීය විප්ලවයක් සිදුවුවහොත් පමණකි.

## දේශෝදය

සමස්ත ශ්‍රී ලාංකික ජනතාවගේ ආධ්‍යාත්මික, සදාචාර, සංස්කෘතික, සාමාජික, ආර්ථික සහ දේශපාලනික ජීවිතය ඒකාබද්ධ ව උදාකරලීම හෙවත් දේශෝදය සඳහා සර්වෝදය දර්ශනය අනුව අරමුණු පහක් පෙරමුණේ තබා ඇත. ධර්මද්වීප ධාන්‍යාගාර පරමාර්ථය විග්‍රහ වන එම දේශෝදය මාර්ගය සැකෙවින් මෙසේ දක්වා ඇත.

1. පෞද්ගලික, පවුල්, සමූහ, ග්‍රාමීය, නාගරික සහ ආයතනීය යන සැම මට්ටමක දී ම මිනිසාගේ ආධ්‍යාත්මික, සදාචාර හා සංස්කෘතික වටිනාකම් නැවත පුරුත්ථාපනය කිරීම.

2. සමාජයේ අන්තයේ සිටින මිනිසුන් ගෙන් පටන් ගෙන ඉහළට සැම මනුෂ්‍යයකු ගේ ම දසවිධ මූලික මානුෂික අවශ්‍යතා සැපිරීම.

3. ඒකාබද්ධ සංවර්ධන අධ්‍යාපන වැඩ සටහන් වඩාත් ක්‍රියාත්මක කිරීම තුළින් ග්‍රාමීය හා නාගරික ප්‍රජාවන් තුළ පහත දැක්වෙන අංශවල සාමාජික සංවර්ධනයක් ඇති කිරීම.

i. තත්ත්වාබෝධය ඇති කිරීම.

ii. තීරණ ගැනීමට ප්‍රජාව සහභාගී කරවීම.

iii. ප්‍රජා සංවිධානය

iv. ප්‍රජා අධ්‍යාපනය

v. සාමාජික සමානාත්මතාව

vi. සෞඛ්‍ය සංවර්ධනය

vii. දේශීය ඒකාග්‍රතාවය

viii. මූලික මානුෂික අයිතිවාසිකම් සම්පූර්ණයෙන් සැබෑ කිරීම.

4. රටේ දේශපාලන බල ව්‍යුහය පහත සඳහන් ප්‍රතිපත්ති මත සංවිධානය කිරිම.

   i. පක්ෂවලින් තොර ප්‍රජාතාන්ත්‍රික සහභාගිත්වක ආයතන ඇති කිරීම.

   ii. ග්‍රාමීය සහ නාගරික මට්ටමේ ප්‍රජාතාන්ත්‍රික ආයතනවලට සම්පූර්ණයෙන් ම විමධ්‍යගත වන සේ බලය බෙදාදීම.

5. ජාතික ආර්ථිකය පහත දැක්වෙන ප්‍රතිපත්ති මත සම්පුර්ණයෙන් ම ප්‍රතිසංවිධානය කිරීම.

   i. මූලික මානුෂික අවශ්‍යතා අතින් ජාතික ස්වයංපෝෂිතභාවය ලබාගැනීම.

   ii. නිෂ්පාදන කාර්යයන් සඳහා කුඩා පරිමාණයේ විමධ්‍යගත සූක්ෂම, යෝග්‍ය තාක්ෂණය ලබාගැනීම.

   iii. දැනට පවතින නිෂ්පාදන සබඳතා සූරාකෑමෙන් තොර භාරකාරත්ව සම්බන්ධකම්වලට නීතියේ බලයෙන් හැරවීම.

   iv. සූරාකෑම පදනම් වූ අන්තර් ජාතික සබඳතාවලින් සම්පූර්ණයෙන් ම මිදී ස්වශක්තිය ගොඩනඟා ගැනීම.

## විශ්වෝදය

පූර්ණ පෞරුෂෝදයේ සිට දේශෝදය දක්වා වූ චින්තනයක් සහ වැඩසටහන් පමණක් නො සෑහේ. විශ්වමය වශයෙන් ද අපට විශාල බලපෑම් ඇතිවන නිසාය. මේ නිසා විශ්වෝදය අරමුණු ද අපි ඉදිරියේ තබාගත යුතු ය.

සර්වෝදයේ විශ්වෝදය අරමුණු සහ ක්‍රියාමාර්ගයන් සකස් කරගැනීමේ පරමාර්ථයෙන් මොරටුව මූලස්ථානයේ දී සහ නෙදර්ලන්තයේ එන්ස්කඩේ නුවර දී සර්වෝදය අන්තර් ජාතික සම්මන්ත්‍රණ දෙකක් 1980 සහ 1982 දී පැවැත්විණි. ඒවායේ දී පිළිගත් සර්වෝදය විශ්වෝදය අරමුණු මෙ සේ ය.

1. ඔවුනොවුන්ගේ ඓතිහාසික හා සංස්කෘතික සැබෑවන්ට අනුකූල වන පරිදි ලෝකයේ සියලු රටවල ප්‍රබෝධමත් වූ පුද්ගලයන් සහ කණ්ඩායම් පෞරුෂෝදය, කුටුම්බෝදය, ග්‍රාමෝදය, නගරෝදය සහ දේශෝදය ව්‍යාපාර ආරම්භ කිරීම, දියුණු කිම සහ බලවත් කිරීම කළ යුතු යි

2. මෙම පුද්ගලයන් සහ සංවිධාන සමීපත්වය සහ සහෝදරත්වය යන අංශ දෙක පදනම් කොට ඉතා කිට්ටුවෙන් අත්දැකීම් හුවමාරු කරගත යුතු අතර ඔවුනොවුනට අන්‍යොන්‍ය ව ආධාරවීම ද කළ යුතු යි

3. විශ්වමය සාරධර්ම මුල් වූ පහත සඳහන් විකල්පීය ක්‍රියාමාර්ග ඔවුන් විසින් පිළිගත යුතු ය.

   i. නව සරල ජීවන රටාවක් ගොඩනැංවීම.
   ii. නිෂ්පාදනය හුවමාරු සහ පරිභෝජනය පිළිබඳ නව ශිල්පීය ක්‍රම සහ ව්‍යුහයන් ගොඩනැංවීම.
   iii. දැනට පවතින මතවාදී සීමා හා දේශපාලන පවුරු අභිබවා ඔවුනොවුනට උදව්වීම.

4. ආදර්ශයෙන් අහිංසාවාදී ආරක්ෂක සංවිධාන සහ ශිල්පීය ක්‍රම, ගොඩනැංවීමේ ප්‍රයත්නවලට සහයෝගය දෙන අතර හිංසක මාර්ග වලට හැමතින්ම විරුද්ධ විය යුතු ය.

5. ලෝකයේ ඕනෑම තැනක සිදු වන ස්වභාව ධර්මය වනසන, පරිසරය දූෂණය කරන, පරිසර අසමතුලිතතාව ඇති කරන, මානසික සහ ආර්ථික දරිද්‍රතාව ඇති කරන නිෂ්පාදන ක්‍රමවලට තරයේ විරුද්ධ විය යුතු ය.

ලෝක සමාජයේ දේශපාලනික සහ ආර්ථික අර්බුදකාරී තත්ත්වය උග්‍ර වීමත් සමඟ ම පසුගිය අවුරුදු කිහිපය තුළ දී සර්වෝදය දර්ශනය කෙරෙහි ලෝක ජනතාව ගේ අවධානය වඩවඩාත් යොමු වන්නට විය.

# 7
# චින්තනීය විප්ලවය

## රට දැය සමය

අප අතිශය භයානක ජාතික අර්බුදයකට යටත්ව තිබෙන බව සිහි මොළය ඇති කාට වුවත් පෙනේ. මෙය ජාතික ජීවිතයේ එක් අංශයක හෝ අංශ කිහිපයක ඇති වී තිබෙන අර්බුදයක් නොවේ. වත්මන් ජාතික අර්බුදයක්, ආර්ථික අර්බුදයක්, දේශපාලන අර්බුදයක්, ජාතිවාදී අර්බුදයක්, තරුණ අර්බුදයක්, ජාත්‍යන්තර සම්බන්ධතාවල අර්බුදයක්, සංස්කෘතික අර්බුදයක් යනුවෙන් එක් අංශයක් පමණක් දෙස බලා නිගමනයකට බැස විසඳුම් සෙවීම ප්‍රඥාගෝචර ය යි මම නො හඟිමි. මේ අර්බුදයට අසු නොවුණු කිසි දු අංශයක් මට නො පෙනේ. රෝගය වැලැඳී තිබෙන්නේ සමස්ත ජාතික දේශයට ම ය. ඒ නිසා ප්‍රතිකාරය සෙවිය යුත්තේ භෞතික ජාතික දේහයට පමණක් නො වේ. ජාතික චින්තනය ද රෝගී වී තිබේ. එම නිසා "දෑ ගත-දෑ සිත" යන අංශ දෙකට ම අප ප්‍රතිකාර සෙවිය යුතු ය.

අපේ ශිෂ්ටාචාරයේ මූලික පැවැත්ම පිළිබඳ මේ තීරණාත්මක අර්බුදය නිසා සාමාන්‍ය මහජනතාව කිසිවක් කරකියා ගත නොහැකි ව එදිනෙදා යැපීම සහ රැකීම ගැන පමණක් ඔවුන් ගේ සිත කය යොදවති. සමාජ නායකයන් හැටියට සැලකිය හැකි උගත්, බුද්ධිමත් පිරිස් වික්ෂිප්ත භාවයට පත්ව යමක් කළයුතු නමුත්, "කළ යුත්තේ කිමෙක්ද" යි තෝරා බේරාගත නොහැකි ව කවුරුන් හෝ නායකත්වයක් දෙන තුරු බලා සිටිති. මේ අතර රටත් දැයත්-සමයත් විනාශයෙන් විනාශයට පත් වේ.

මෙහි රට යනුවෙන් මා අදහස් කරන්නේ ශ්‍රී ලංකා දේශ සීමාව ඇතුළත තිබෙන සමස්ත භූමිය වේ. එහි අඩංගු ව තිබෙන සරු පස, ඛණිජ සම්පත්, ජල සම්පත්, වායු ගෝලය, ජන සමාජයේ පැවැත්ම සඳහා මිනිසා විසින් ම නිර්මාණය කොට ප්‍රයෝජනයට ගන්නා මංමාවත්, බෝක්කු, පාලම්, ගෙවල් දොරවල්, ගොවිබිම්, කම්හල්, බලශක්ති උපදවන ස්ථාන, විද්‍යා ස්ථාන, වෙහෙර විහාර ආදී සියලු ම භෞතික වස්තු, භෞතික ක්‍රියාදාම සහ තාක්ෂණික ක්‍රියාවලිය ද වෙයි. පස සේදී යාම, විවිධ රසායනික විෂ වලින් පස සහ ජල මාර්ග දූෂණය වීම, විෂ වායු වලින් වායු ගෝලය දූෂණය වීම,  මහවැලිය වැනි මහා පරිමාන සංවර්ධන ව්‍යාපෘති නිසා සොබාදහමේ පාරිසාරික සමබර විනාශ වී යෑම, භවබෝග සහ ආහාරයට ගන්නා මසුන් පවා විෂ වීම, කඳුහෙල් නායයෑම, මුහුදු කෑම, සමාජ සට්ටනවලින් මහජන හා පෞද්ගලික දේපල විනාශ වී යෑම ආදී මේ සියල්ලම මා සලකන්නේ 'රට' වැනැසී යාම හැටියට යි.

දැය හෙවත් ජාතිය යනුවෙන් මා අදහස් කරන්නේ ශ්‍රී ලංකා දේශසීමාව තුළ වාසය කරන සියලුම මිනිස්සුය. ශ්‍රී ලංකාවේ ජීවත් වන සියලුම මිනිසුන් සහ ඔවුන් සියලුදෙනා ම "මේ අපේ ජන්ම භූමිය යි" මේ අපේ ජාතිය යි යනුවෙන් මානසිකව සහ ආවේගිකව ඒකාග්‍රතාවයක් ඇති කොට එකට බැඳලන ස්වභාවයකි. දැය යන්න, සිංහල රාජ්‍ය සමයෙහි දී මේ රට සිංහලේ යන නමින් ද හැඳින්විණි.

රුහුණු මායා පිහිටි යන කොටස් තුන ම එකක් හැටියට සලකා තුන් සිංහලේ යැ යි ද අපි භාවිතා කෙළෙමු. මෙහි වැඩි දෙනෙක් සිංහල භාෂාව කතා කරන සිංහලේ ජනතාව වූ අතර, සෙසු අය දෙමළ භාෂාව කතා කරන සිංහලේ ජනතාව වූ හ. සිංහලේ සිංහල කතා කරන බහු ජනතාව සිංහල ජාතිය හැටියට හඳුන්වාගෙන, සිංහලේ දෙමළ කතා කරන ජනතාව දෙමළ ජාතිය හැටියට සලකන්නට පුරුදුවීම නිසා, භාවිතයෙන් සිංහල ජාතිය සහ දෙමළ ජාතිය යනුවෙන් එකම ජාතිය ඇතුළේ ජාති දෙකක් අපි ගොඩනඟා ගත්තෙමු. භාවිතයෙන් දෙ කඩ වූ ජාතියක් භෞතික වශයෙන් ද දෙකඩ වීම හෙවත් වෙනත් වචනවලින් කිවහොත් රටවල් දෙකක් බවට පත් වීම කාලය විසින් ඉටු කරන බවට සැකයක් නැත.

එක ම රටක එකම ජාතියක චින්තනයකින් වෙළුණු එකම ජාතියක් තිබිය හැකි යයි මම විශ්වාස නො කරමි. අවාසනාවකට මෙන් පටු දේශපාලන ගෝත්‍රීය සහ ආගමික අරමුණු ඉටු කැරගැනීමට ජනතාව නොමඟ යැවූ වරප්‍රසාද ලත් අතළොස්සක පිරිස නිසා 'දැය' යන වදනේ යථාර්ථය අමතක වී තිබේ. 'දැය' යන වදනෙහි අන්තර්ගතව තිබෙන පොදු දේශ සීමාවන් ඇතුළත කුමන ගෝත්‍රීය සහ භාෂාමය විවිධත්වයක් තිබුණත් ඒ විවිධත්වය තුළින් මතු වන ජාතික අනන්‍යතාව යි වැදගත් වනුයේ.

ඉංග්‍රීසීන් සමග කන්ද උඩරට ගිවිසුමට අත්සන් කළ සමහර සිංහලේ සිංහල බස කතා කළ ප්‍රධානීන් සිංහලෙන්ද සිංහලේ සිංහල භාෂාව කතා කළ තවත් ප්‍රධානීන් සමහරකු දෙමළ බසින් ද අත්සන් කර තිබීම මා මේ පවසන විවිධත්වය තුළින් ජාතික අනන්‍යතාවයක ඒකීයත්වයක් ඇති වී තිබුණු බවට උදාහරණයකි. පසු ගිය දශක හතරහමාරක ඇතුළත සිංහල සහ ද්‍රවිඩ නායකයන් තුළ ඇති වූ සිහිවිකල්බාවය නිසා මේ රටේ වාසය කරන සියලුම ජනතාව සිංහලේ ජාතිය හැටියට හැඳින්වීමෙහි අපහසුකමක් තිබේ. ශ්‍රී ලාංකික ජාතිය හැටියට හඳුන්වනවාට ද සමහර සිංහලයින් අකමැති වනු ඇත. එහෙත් 'මේ අපේ රට' යැයි ශ්‍රී ලංකා භූමියෙහි වාසය කරන කෙනකුට කීමට හැකි වනවාත් මෙන් ම ශ්‍රී ලංකාවේ වාසය කරන ඕනෑම කෙනෙකුට පොදුවේ ජනතාව දෙස බලා 'මේ අපේ ජාතිය යි' දෑ පෙමින් යුතු ව පැවසීමට හැකි විය යුතු ය. මෙයින් සිංහල භාෂාව කතා කරන සිංහල මිනිසුනට හෝ දෙමළ භාෂාව කතා කරන දෙමළ මිනිසුනට හෝ යන දෙගොල්ලටමත් මුස්ලිම් මිනිසුන්ටත් පොදු ජාතිය ඇතුළේ තමනගේ භාෂාව සාහිත්‍යය, ආගම් හා සංස්කෘතිය රැකගෙන දියුණු කර ගැනීමට කිසි දු බාධාවක් ඇති නොවේ.

සිංහල කතා කරන අය සිංහල ජාතිය හැටියටත්, දෙමළ කතා කරන අය දෙමළ ජාතිය හැටියටත් හඳුන්වමින් අතීතයේ දී කෙසේ වෙතත් අනාගතයේ දී නම් එක ම රටක ජීවත් වන්නට ලැබෙන්නේ නැත. එක ම රටේ ජීවත් වන සියල්ලෝ ම එකම ජාතියට අයත් විය යුත්තෝ ය. ඒ ජාතිය තුළ විවිධ ආගම් අදහන, විවිධ භාෂා කතා කරන, විවිධ සිරිත් විරිත් ගරු කරන ජන කොට්ඨාශ ජීවත් විය හැකි ය. සිංහල ජාතිය, දෙමළ ජාතිය, මුස්ලිම් ජාතිය යනුවෙන් භාවිතා නො කොට සිංහල වර්ගයා, දෙමළ වර්ගයා, මුස්ලිම් වර්ගයා යනාදී වශයෙන් හෝ වෙනත් පොදුවේ

පිළිගත හැකි වචනයකින් හෝ භාෂා ආගමික අනන්‍යතාවය රැකගෙන රට-දැය යන දෙ රුවනේ අනන්‍යතාව ද රැකෙන්නේ නම් එය එක ම රටක එකම දැයක් හැටියට ඉතා ඉක්මනින් පරිවර්තනය වීමට අපට මගක් සැලසේ. රට දෙකට හෝ නවයට හෝ විසිනවයකට හෝ බෙදෙනු දක්නට නොකැමැති අපගේ අභිප්‍රාය නිසාදෝ 'දැය' යන වචනයට මා දෙන තේරුම එය යි. ගෝත්‍රය, වර්ගයා, ආගමිකයෝ ආදී නමක් රට ඇතුළේ තිබෙන භාෂා හෝ ආගමික කොට්ඨාශයකට දී රට සහ ජාතිය සමස්තයක් හැටියට රැක ගැනීමට තරම් අපි බුද්ධිමත් විය යුතු වෙමු.

'සමය' යන වදනින් මා අදහස් කරන්නේ එක් ආගමක් හෝ ආගම් නො වේ. බෞද්ධ ධර්මය සහ හින්දු ආගම ප්‍රධාන ව පසු ව ඉස්ලාම් ආගමේ සහ ක්‍රිස්තියානි ආගමේ ද ආභාසයෙන් සමස්තයක් හැටියට ජනතාව තුළ යම් ආධ්‍යාත්මික ස්වභාවයක් යම් අවස්ථාවක දී පවතී ද එය "සමය" හැටියට මම විග්‍රහ කරමි. වෙනත් වචන වලින් කිවහොත් සමය යන වචනය ඇසෙන විටම මා සිතට නැගෙන්නේ මසුරුකම් අඩු, පරිත්‍යාගශීලීත්වය වැඩි, සුඛෝපභෝගිකත්වය අඩු, සරල චාම් ජීවන ලක්ෂන වැඩි, කුරිරු අදැහැමි ගති අඩු, මෛත්‍රිය දැහැමි ගති වැඩි, ද්‍රව්‍ය වාදිත්වය අඩු අධ්‍යාත්මික නැඹුරුව වැඩි තරගකාරි බව අඩු, සහයෝගිත්වය වැඩි පෞද්ගලිකත්වය අඩු ,සාමූහිකත්වය වැඩි, ජනතාවක් තුළ දක්නට ලැබෙන සමස්ත ගුණ ස්වභාවය යි. මා අදහස් කරන සමයේ මේ ලක්ෂණ දියුණු කිරීමට යම් දුරකට ආගම් ක්‍රියාත්මක වේ ද, එ තෙක් දුරට ආගම් වලින් සමයේ දියුණුවට පිටුවහලක් ලැබේ. යම් හෙයකින් ආගම් වාණිජ්‍යය ස්වරූපයක් ගෙන, අධ්‍යාපනය වෙනුවට ප්‍රචාරය උපයෝගී කරගෙන, අවබෝධය වෙනුවට මුදලින් අසරණයන් මිලට ගෙන, ඔවුන්ගේ ආගම් ලේබල වෙනස් කරමින් කටයුතු කරන්නේ නම්, එමගින් ඒ ආගමික නිකායේ ද්‍රව්‍යමය බල ක්‍ෂෙත්‍රය පුළුල් වනවා හැර මිනිසාගේ ආධ්‍යාත්මික දියුණුවත්, ජාතියේ දියුණුවත් සිදු නොවේ.

'රට' යනු භෞතික ව මිනිස් සමූහයක් එකට එකතුකරගෙන තබන භූමි ඛණ්ඩයක් සහ එයට සම්බන්ධ වූත්, ඒ මත ගොඩනැංවී ඇත්තා වූත්, එයට සම්බන්ධ ව ක්‍රියා කරන්නා වූත්, භෞතික ව්‍යුහය සහ භෞතික ක්‍රියාදාමය යි. 'දැය' යනු, විවිධ සිරිත්-විරිත්, භාෂාවන්, ඇදහීම්, සම්ප්‍රදායයන් ආදිය සමස්ත ජනතාව තුළ එකතු වී "අපි එකම ජන්ම භූමියක රටවැසියන් වෙමු" යි යන හැඟීම යන සිතිවිලි උඩ එකට ජීවත්ව සිටින ජන සමූහය යි. 'සමය' යනු, මේ ජන සමූහයට සහයෝගයෙන් සහ සහයෝගයෙන් යුතුව සහවාසීව ජීවත්වීමට ඉවහල් වන ගුණධර්ම මාලාව යි.

මා විශ්වාස කරන අන්දමට ශ්‍රී ලංකාවේ අඛණ්ඩතාවය ආරක්ෂා වූයේත්, සිංහල ජාතියේ සහ බෞද්ධ ධර්මයේ ආරක්ෂාව ඇති වූයේත් රට-දැය-සමය පිළිබඳ මේ අන්දමේ අර්ථ කථනයක් සිංහල බෞද්ධ විඥානයේ තිබුණු නිසා ය. සිංහල බෞද්ධයා ශ්‍රී ලංකාවේ සංස්කෘතිය කෙරෙහි වැඩි බලපෑමක් ඇති කළේත් සිංහල බෞද්ධයන් නොවන අය පවා එම සංස්කෘතිය තමන් ගේ රටේ ජාතියේ සංස්කෘතිය හැටියට පිළිගත්තේත් මෙ වැනි විඥානයක් ඔවුන් තුළ තිබුණු නිසා ය. ඒ, සිංහල බෞද්ධයා ප්‍රමාණාත්මකව බහු ජනතාව නිසා ම නොවේ. ගුණාත්මක ව ඔවුන් පෙරමුණෙහි සිටි නිසාය.

මේ ගුණාත්මක බව සිංහල බෞද්ධයන් තුළ දුර්වල වූයේ අපරදිගින් ප්‍රජාතන්ත්‍රවාදයේ වැරදි කොන අල්ලාගෙන ලංකාවට ගෙනා තුප්පහි වූ ස්වදේශිකයන් කළ බලවත් වරදක් නිසා ය. ප්‍රජාතන්ත්‍රවාදය ඔළුගෙඩි ගැනීම ප්‍රමාණාත්මක ක්‍රියාවකි. ඔළුගෙඩි ගනින්නාට ඔළුව ඇතුළේ තිබෙන මොළය වත්, මොළය ඇතුලේ තිබෙන අවුරුදු දහස් ගණනක් එකතු වී ආ ගුණාත්මක මතක වත් වැදගත් නොවේ. කොටින් කියතොත් සංස්කෘතික අගය එම සංස්කෘතියෙන් බාහිර වූ ඔවුනට සවිඥානක ව අවබෝධ කරගත නොහැකි ය.

අවාසනාවකට මෙන් සිංහල බෞද්ධ නාමධාරීන් සහ දෙමළ හින්දු නාමධාරීන් ද මේ ඊනියා ප්‍රජාතන්ත්‍රවාදයේ ජාතික ආක්‍රමණයක පිටුපස තිබුණු සංස්කෘතික ආක්‍රමණය දුටුවේ නැත. මිෂනාරි අධ්‍යාපන ක්‍රමයේ බාහිර ආටෝපය යට තිබූ රට-දැය-සමය නැමැති තෙරුවන වැනැසීමේ කුට බහුජාතික කුමන්ත්‍රණය ද ඔවුහු නො දුටුවෝය.

ටික දෙනෙක් ලත් බාහිර ද්‍රව්‍යමය දියුණුව නැමැති දෘඪ ආලෝක කදම්බය නිසා නිලංකාර වූ ඔවුන් ගේ ඇස්වලට මේ ඊනියා ප්‍රජාතන්ත්‍රවාදයට වඩා උතුම් වූත්, සහනසීලී වූත්, සාධාරණ වූත්, සම්මුති වාදයක් ශ්‍රී ලංකා සමාජය තුල තිබූ බව නො පෙනිණි. රට-දැය-සමය පිළිබඳ ව නිරවුල් අදහසක් නොමැති වීම නිසා රට විනාශ විය. දැය දුර්වල විය.සමය අප්‍රාණික විය.

රටේ විනාශය පිළිබඳ විස්තරයක් අවශ්‍ය නොවන්නේ පස සේදීයාම, ඇළ-දොළ-ගංගා සිඳීයාම, වන විනාශය, කඳුහෙල් පාත් වීම, රසායනික ද්‍රව්‍යයන් ගෙන් ගැඩවිල්ලකු - සමනළයකු පවා සොයාගැනීමට නොහැකි වන සේ පස සහ වගාවන් දූෂණය වීම, යකඩ ගොඩවලට ශ්‍රී ලංකා භූමිය සොහොන් පිටි බවට පත් වීම, විදේශීය සමාගම්වලට දිර්ඝකාලීනව රටේ භූමිය සහ භෞතික සම්පත් අයත්වීම ආදී රටේ භෞතික ස්වභාවය පිළිබඳ අංශවල පරිහානිය ගැන කවුරුත් දන්නා නිසා ය.

එක ම දැයක් හැටියට සිතා රටේ ජීවත් වන මිනිසුන් කටයුතු නොකිරීම නිසා පළමු ව සිංහල දෙමළ ගැටුමකටත්, දෙවනුව මුස්ලිම් දෙමළ ගැටුමකටත්, තෙ වනු ව දෙමළ දෙමළ ගැටුමකටත්, හතර වනු ව සිංහල සිංහල ගැටුමකටත් අසු වී අන්තිමට ගැටීමක් නැත්තේ කා අතර දැයි සිතා ගැනීමටත් බැරි අන්දමට දැය කඩින් කඩ වී ඇත. “බහුජනතාව වූ සිංහලයා මුලින් සමගි විය යුතු යැ” යි කියා ගන්නා සිංහලයාටත්, ඔවුන් ගේ අයිතිවාසිකම් ලබාගැනීම සඳහා ද්‍රවිඩයන් හැටියට තමන් එක්සත් විය යුතුයැයි කියා ගන්නා දෙමළ ජාතිකයනටත්, මුස්ලිම්වරුන් හැටියට අපේ අයිතාවාසිකම් අප රැකගත යුතු යැයි හඬ දෙන මුස්ලිම්වරුනටත් අප විසින් කිව යුතු ව තිබෙන්නේ ඒ හැම කොට්ඨාශයක ම ඒකාන්ත විනාශය ඇති වන්නේ මේ අදූරදර්ශී මෝඩ අදහස නිසා බව යි. මෙ වැනි ගෝත්‍රවාදයක් උඩ ජාතික සමගියක් ගොඩනැගිය හැකි යැයි මම විශ්වාස නො කරමි. සමගිය, කරුණාව, මෛත්‍රිය ආදී පුරුෂාර්ථ අඩංගු වචනවලට කට්ටිවාදී හැඟීමක් එන විශේෂණ පද යෙදීමෙන් එහි අර්ථය සම්පුර්ණයෙන් ම සුන් වේ. ඔවුන් ගේ මේ කට්ටිවාදය නිසා දැය දුර්වල වනවා පමණක් නො ව වැනැසී යනවා ද ඇත.

අප උනුනුන් මරා ගනිද්දී බහුජාතික වෙළඳ සමාගම් සමග එක් වී අවි ආයුධ වෙළඳාම හෝ මත්ද්‍රව්‍ය ජාවාරම හෝ ජාති ද්‍රෝහී වෙනත් ක්‍රියාවල හෝ යෙදෙන සිංහල, දෙමළ, මුස්ලිම් යන නම් වලින් හැඳින්වූවන් සැබැවින් ම දැයක් නැතියවුන් බවත් අවසානයේ දී ජය ගන්නේ ඔවුන් බවත් අමතක නොකළ යුතු ය. මේ අන්දමින් කට්ටි ගැසීම් වලට මුල පුරන්නේ සිංහල, දෙමළ හෝ මුස්ලිම් හිතෛෂීන් නොවන බවත්, සාමාන්‍ය ජනතාව ගෝත්‍රවාදයෙන් මුළා කොට ඔවුන් ගේ දේශීය සහ විදේශීය වත්කම් සහ බලය තරකර ගැනීමට හදන වරප්‍රසාද ලත් ජාවාරම්කාර පිරික් බවත් පොදු ජනතාව විසින් අමතක නොකළ යුතු ය.

මේ දේශද්‍රෝහී පිරිස්වල පුරෝගාමීන් හැටියට කටයුතු කරන්නේ කවරහු ද? රට-දය-සමය අමතක කරවා, ජනමාධ්‍යවලින් මවාපාන මුදලට ගතහැකි සුඛෝපභෝගී පස්කම් සැපත් ඉස්මතු කරවා, මුදල් රැස්කිරීම සහ වියදම් කිරීම ශ්‍රේෂ්ඨ ම සාරධර්මය හැටියට පෙන්වා අලුතින් නිර්මාණය කරන ලද සාරධර්ම ශූන්‍ය පන්තියකි. සාමකාමී ජනතා සංවිධාන ත්‍රස්තවාදී ක්‍රම වලින් කඩාකප්පල් කරන්නේත්, ඊනියා ප්‍රජාතන්ත්‍රවාදී ක්‍රම පවා ත්‍රස්තවාදී ක්‍රම බවට පත්කරන්නේත් ඔවුන් විසිනි. ධර්මයට හිස නමන, සදාචාරයට ගරු කරන, රාජ්‍ය නීතිය පිළිපදින පුරවැසියන් අද අසරණ ව, දුබල ව, කරකියා ගතහැකි දෙයන් නොමැති ව පසුබා සිටින්නේ මොවුන් ගේ ප්‍රබලත්වය නිසා ය. මේ නිසා අවසානයේ දි දැය පිළිබඳ සමස්ත ජනතාව ම ඇතුළු වන විදියේ චින්තනයක් ඇතිකර නො ගත හොත් බහුතර ශිෂ්ට සිංහල, දෙමළ, මුස්ලිම්, මැලේ, බර්ගර් ආදී සමස්ත ජනතාවට ම හිමි වන්නේ මෙවැනි අශිෂ්ට සුළු පිරිසකගේ ආඥාදායකත්වය යටතේ ඔවුන් ගේ වහලුන් හැටියට ජීවත් වීමට යි.

සමය ගැන කිව යුත්තේ ද මෙය ම යි. බෞද්ධ ධර්මය පිළිපදින අය හෝ හින්දු ධර්මය පිළිපදින අය හෝ, ඉස්ලාම් ධර්මය පිළිපදින අය හෝ ක්‍රිස්තියානි ධර්මය පිළිපදින අය හෝ වෙනත් මානව ධර්මයක් පිළිපදින අය හෝ වෙත් වා, මතක තබා ගත යුත්තේ එ ම සියලු ධර්මයන් මිනිස් සමාජයට ප්‍රයෝජනවත් බලවේගයන් බවට පත් වන්නේ සංඛ්‍යාවෙන් හෝ ලේබල්වලින් හෝ උනුනුන් අභිබවා නැඟී සිටීමෙන් හෝ නොවන බව ය. අප ඉහතින් සඳහන් කළ ගුණ ධර්මයන් පෞද්ගලික සහ සාමාජික ජීවිතයට ඇතුළු කර ගැනීමෙන් ගොඩනැගෙන ආධ්‍යාත්මික ගුණ සමුච්චිතය උඩ ය. මේ අන්දමට "සමය" ගැන නො සැලකුව හොත් එහි ප්‍රතිඵලය වන්නේ අධිරාජ්‍යවාදී කොල්ලකරුවන් විසින් ශත වර්ෂ දෙක තුනක් ඇතුළත ආගම මුවාවෙන් ජාතීන් වහල් කොට, සංස්කෘතීන් විනාශ කොට ආරම්භ කළ විනාශයෙන් නො නැසී ඉතිරි වූ කොටස ද විනාශ වී යෑම ය.

රට-දැය-සමය පිළිබඳ මේ අර්ථ දැක්වීම පිළිගන්නේ නම්, දැනට ඇති වී තිබෙන විනාශය නවත්වා මේ ශත වර්ෂය නිමවීමට පෙර ලෝක ශිෂ්ටාචාරයේ අද්විතීය රටක්-දැයක්-සමයක් බවට පරිවර්තනය වීමට ශ්‍රී ලංකාවාසීන් වූ අපට හැකි වනු ඇත. මේ සැබෑව නොපිළිගෙන අද ක්‍රියාකරන උම්මන්තක විලාශයෙන් අප තව දුරටත් මේ විනාශකාරී මගෙහි ගියහොත් "සුන්යැට්සෙන්" ගේ චින විප්ලවයට පෙර චීනයේ විවිධ කොටස් අධිරාජ්‍යවාදී රටවලට යටත් ව තිබූ විදියේ

ස්වභාවයකට හෝ වර්තමානයේ ලෙබනනය පත්ව ඇති තත්ත්වයකට හෝ මේ රට පත් වනු ඇත. වෙනසක් හැටියට දැකින්නට ලැබෙනු ඇත්තේ ඕපියම් යුද්ධ වෙනුවට හෙරොයින් යුද්ධ සහ කැසිනෝ යුද්ධ ඇති වීම යි.

රට-දැය-සමය පිළිබඳ මා මේ විග්‍රහයෙන් දැක්වූයේ මේ රටේ ඇති විය යුතු චින්තන පෙරළියක කේන්ද්‍රීය ස්ථානයක් මේ ආකල්ප තුනට ලැබෙන නිසා ය. කෙ තරම් අමාරු දෙයක් වුවත්, කෙ තරම් විවේචන අක්‍රෝශ පරිභවයට ලක් වුවත් රට-දැය-සමය පිළිබඳ ව මේ සම්‍යක් දෘෂ්ඨිය ජනතාව තුළට ඇතුළු කිරීමට යම් පිරිසක් මහන්සි ගන්නේ නම් එයින් ඔවුන් කරන්නේ තම ආගමික හෝ වාර්ගික හෝ ගෝත්‍රීය අනන්‍යතාව නැති කරගැනීම නොව, ඉතිහාසයේ කවර කලක වත් නොතිබුණු අන්දමක එය ඇතිකර ගත හැකි මගකට දැයෙහි අනන්‍යතාවක් ගොඩනංවා ගැනීම ය.

අද අප මුහුණ දී ඇති අර්බුදයේ ජාතික අනන්‍යතාව පිළිබඳ ප්‍රශ්නයට සර්වෝදය අප මුහුණ දුන්නේ මේ ආකාරයට යි. මේ නිසා විවිධත්වයේ අලංකාරය තුළින් සමස්තයේ සජීවී බව ද, සර්වෝදය සේවය කරන මනුෂ්‍ය කොට්ඨාශයන් තුළ අපට ගොඩනගා ගත හැකි විය. අපේ එක ම අභිප්‍රාය ශ්‍රී ලංකාවේ සියලු ම මනුෂ්‍යයන් තුළට සර්වෝදය තුළින් මේ අලංකාරය සහ සජීවික බව පැතිරවීම යි.

## සම්මුති දේශපාලනය, බල ත්‍රිකෝණය සහ බල පිරමිඩය

වත්මන් ප්‍රජාතන්ත්‍රවාදී සමාජ ක්‍රමය ගැන කතා කරන විට අපිට නිතරම ඉගෙන ගන්නට ලැබෙන සිද්ධාන්තයක් නම් බලය ත්‍රිවිධාකාර ව බෙදී තිබෙන බව යි. එ නම් ව්‍යවස්ථාදායකය, විධායකය සහ අධිකරණය යන ක්ෂේත්‍ර යටතේ ය. මෙය සම්පූර්ණයෙන් ම බටහිර සුහසාධන රාජ්‍ය ක්‍රමයෙන් ලබාගත් බල විභේදනයකි.

මේ බල අංශ තුන අතර සමබලතාවක් පැවතීමෙන් මහජනතාවගේ මානව අයිතිවාසිකම් රැකෙන බවටත්, ඒ නිසා ම යම් ප්‍රමාණයක සමාජ සාධාරණත්වයක් සහ සාමයක් එවැනි සමාජයක පැවතිය හැකි බවත් විශ්වාස කරයි. එහෙත් පසුගිය හතළිස් වසර තුළ දී අප රටේ මේ අංශ තුන ක්‍රියාත්මක වූ අන්දම ගැන බලන විට අපට සතුටු විය නොහැකි ය. විධායකයට අවශ්‍ය ඕනෑ ම දෙයක් ව්‍යවස්ථාදායකය මාර්ගයෙන් නීති වශයෙන් සම්පාදනය කර ගැනීමත්, බොහෝවිට වක්‍ර මාර්ගවලින් හෝ අධිකරණයෙහි ස්වාධීනත්වය ව්‍යවස්ථාදායකයට හා විධායකයට යටත් වීමත් මේ කාලය තුළ දී සිදු ව තිබේ. විධායක ජනාධිපතිවරයෙක් හෝ අගමැති සහ ඔහු ගේ (හෝ ඇයගේ) කැබිනට්ටුවක් යටතේ රට පාලනය වුවත්, මේ දෙයාකාරයෙන් ම විධායකය ධර්ම නීතියකට හෝ ජන නීතියකට හෝ පාලනය කළ නොහැකි බවත්, ඒවා පාලනය කළ හැක්කේ පක්ෂ රීතියට බවත් වත්මන් රජය සහ පසුගිය රජයේ ක්‍රියා කලාපය දෙස බලන ඕනෑ ම කෙනකුට පෙනෙනු ඇත. දේශපාලන පක්ෂයකට රජයක් පිහිටුවීම සඳහා බලය දුන්නේ මහජනතාව සතු ප්‍රජාතන්ත්‍රවාදී ඡන්ද බලයෙන් යැ යි අපි පිළිගත් නිසා ව්‍යවස්ථාදායකය සහ විධායකය කුමන

අන්දමකට හැසිරුණත් ඔවුන් ගේ අඩුපාඩුකම්වලට අවසාන වශයෙන් වගකීම බාරගත යුත්තේ සර්වජන ඡන්දය පාවිච්චි කළ මහජනතාව ය යි අපි බොහෝ විට පැවසුවෙමු. ඔවුන් වෙනස් කිරීම වසර කිහිපයකට වරක් පැන්සල් තුඩකින් අපට කළ හැකි යැ යි අපි විශ්වාස කෙළෙමු. ඒ බලාපොරොත්තුවත් තව දුරටත් තබාගත හැකි ද?

අද හෘදය සාක්ෂියට එකඟ ව අපට මේ වගකීම බාරගත හැකි ද? පළමු වන මහා මැතිවරණයේ සිටම යම් ප්‍රමාණයක විවිධ දේශපාලන පක්ෂ විසින් මැරවරයන් යෙදූ බව අවබෝධ කරගැනීමට ඒ හැම මැතිවරණයක්ම දුටු අපට අමුතුවෙන් සාක්ෂි සෙවිය යුතු නො වේ. එහෙත් මැතිවරණ කොමසාරිවරයා, ත්‍රිවිධ හමුදාව සහ පොලීසිය, කොටින් කිවහොත් රාජ්‍ය තන්ත්‍රය, මහජනයා ගේ කැමැත්ත ප්‍රකාශ කිරීමේ වරප්‍රසාදය පක්ෂයක් සඳහා උදුරාදීමට හෝ යටපත් කිරීමට හෝ තැත් නොකළ බව ද අපි පිළිගත යුතු වෙමු. මැරවර බලය පක්ෂවල මැරවරයන් අතළොස්සකට පමණක් සීමා වී තිබුණේ ය. ඒවා මැඩ පවත්වාගෙන ජනතාවගේ ප්‍රජාතාන්ත්‍රික අයිතිය ආරක්ෂා කරදීමට රාජ්‍ය ආයතනවල උසස් තනතුරු දැරූ නිලධාරීනටත්, ඔවුන් යටතේ පැවරුණු පරිපාලන ක්‍රමයටත් ආත්ම ශක්තිය සහ හැකියාව තිබුණේ ය. අද, එ නම් අවුරුදු හතළිහක ඊනියා ප්‍රජාතාන්ත්‍රවාදී පක්ෂ දේශපාලන ව්‍යායාමයකින් පසු, මේ තත්ත්වය ජාතික දේශපාලන ව්‍යුහයේ තිබෙතැයි අපට අවංක ව ප්‍රකාශ කළ හැකි ද? ජනතාවගේ පරාමාධිපත්‍යය සර්ව ජන ඡන්දය තුළින් ප්‍රකාශ කිරීමේ අයිතිය පිරිසිදුව රැකී ඇතැයි කිව හැකි ද?

ප්‍රජාතන්ත්‍රවාදයේ මුර දේවතාවන් හැටියට හඳුන්වන සන්නිවේදන ආයතන මාර්ගයෙන් නිදහස් ව අදහස් ප්‍රකාශ කිරීමේ අයිතිය සහ නිර්මාණාත්මක විවේචනයන් හි යෙදීමේ අයිතිය මහජනතාවට තිබේ ද? ප්‍රජාතන්ත්‍රවාදයේ මූලික අයිතිවාසිකම් මහජනයාට ආරක්ෂා කරදීම සඳහා පුවත්පත, ගුවන් විදුලිය, රූපවාහිනිය ඇතුළු ජන මාධ්‍යයන් කෙ තෙක් දුරට ස්වාධීනව කටයුතු කරන තත්ත්වයක තිබේ ද? නො එසේ නම් ප්‍රකෝපකාරීත්වයකින් මඩිනු ලදු ව ඔවුන් සිටින්නේ කතා කිරීමේ, ලිවීමේ හා ප්‍රකාශනයේ නිදහස පවතින බව ව්‍යාජත්වයෙන් පමණක් පෙන්වා ගෙන නො වේ ද?

මේ පිරිහීමේ වගකීම එකෙකු දෙදෙනෙකු හෝ පක්ෂයක් දෙකක් හෝ පිරිසක් හෝ පිට පැවරීම අපේ ප්‍රතිපත්තිය නො වේ. බුදු රජාණන් වහන්සේ වදාල වචනවලින් පවසතොත් "ඊතලය ආවේ කොයි දෙසින් ද? එව්වේ කවරකු විසින් ද?" යන්න සෙවීමට වඩා රෝගියා සුවපත් කර ගැනීම අපේ අභිලාෂය යි. ඒ නිසා හේතුව යම් ප්‍රමාණයකට අප සොයන්නේ වැරදුණු තැන් සොයාගැනීමට මිස වරද කළ තැනැත්තා සොයා ගෙන දඬුවම් දීමට නො වේ. හේතුව ඉවත් කොට ඵලය වෙනස් කිරීම අපේ අභිප්‍රාය යි.

ප්‍රජාතන්ත්‍රවාදය බේරාගැනීමට නොහැකි තරමට කිළිටි වී, අපවිත්‍ර වී, රෝගී වී තිබේ. ඒ නිසා එම සංකල්පයත්, ඒ සංකල්පය උඩ ගොඩනැගුණු ව්‍යුහය වෙනුවට අප විසින් විකල්පීය සංකල්පයක් සොයා ගෙන, විකල්පීය ව්‍යුහයක් ගොඩනැංවීමට අපේ අවධානය යොමු කළ යුතු වෙමු. ඇත්තවශයෙන් අපට අවශ්‍ය වන්නේ විකල්පීය සංකල්පයක් සෙවීමට වඩා, අපේ තිබුණු දේශීය චින්තනය සොයාගෙන ඒ අනුව දේශපාලන සංකල්පයක් ගොඩනංවා ගැනීම ය. දේශීය චින්තනය අඛණ්ඩ ව ඉදිරියට ගෙන යෑමට නම් වැඩි දෙනා ගේ වැඩි යහපත යන ප්‍රජාතාන්ත්‍රික සංකල්පය ප්‍රතික්ෂේප කොට එයට වඩා ගැඹුරු වූත්, පුළුල් වූත්, ජීවවාදී වූත් සම්මුතිවාදය නැමැති සංකල්පය අප විසින් පිළිගත යුතු වෙමු. සෑම දෙනාගේ ම සම්පූර්ණ උදාව උද්දීපනය කරන සර්වෝදය සමාජ ක්‍රමයෙහි දේශපාලන සංකල්පය වනුයේ සෑම දෙනා ගේ ම තීරණගැනීමේ සහභාගිත්වය ස්ථිර කෙරෙන සම්මුති වාදය යි.

මෙය වත්මන් සමාජයේ බලපවත්වන පක්ෂ දේශපාලන ක්‍රමයට හාත්පසින් වෙනස් වූ සංකල්පයකි. පහත දැක්වෙන්නේ, ප්‍රජාතාන්ත්‍රික දේශපාලන ක්‍රමය සහ සම්මුතිවාදී ජන සහභාගිත්වක දේශපාලනය අතර තිබෙන වෙනස්කම් සංසන්දනය කිරීමකි.

| පක්ෂ දේශපාලන ක්‍රමය | සම්මුති දේශපාලන ක්‍රමය |
|---|---|
| 1. තම පක්ෂයට බලය ලබා ගැනීම අරමුණු කර ගනී. | 1. පොදු මහජනතාවගෙන් පක්ෂ විසින් උදුරාගෙන තිබෙන බලය නැවතත් පොදු මහජනතාවගේ අතට පත් කිරීම අරමුණු කර ගනී. |
| 2. විශේෂයෙන් පක්ෂයේත් වැඩි දෙනාගේත් යහපත සැලසීම අරමුණු කර ගනී. | 2. විශේෂයෙන් සමාජයේ අන්තයේ සිටින ජන තාවගේ උදාවත්, (අන්තෝදය) පොදුවේ සියලු දෙනාගේම උදාවක් අපේක්ෂා කෙරේ. |
| 3. බලය ලබා ගැනීම සඳහා බොරුව, හිංසාව, සහ ආත්මවර්ණනය උපයෝගී කර ගැනීමට බොහෝ විට පසු බට නොවේ. | 3. සත්‍යය, අවිහිංසාව ආත්මහරණය පදනම් වූ සේවා මාර්ග තුළින් සමාජය වෙනස් කිරීමට ප්‍රයත්න දරයි. |
| 4. මධ්‍යගත බලය කෙරෙහි විශ්වාසය තබයි. | 4. ග්‍රාමීය සහ නාගරික ජන කොට්ඨාශ තුළ තිබෙන ස්වයං පාලන ශක්තිය කෙරෙහි විශ්වාසය තබයි. |
| 5. නීති බලය සහ හමුදා ශක්තියෙන් ලැබෙන දණ්ඩ බලය ප්‍රධාන ආධාරකයා කරගනී. | 5. ධර්ම බලය ජන ශක්තිය ප්‍රධාන ආධාරකයා කැරගනී. |
| 6. සංවර්ධන සැලසුම් සෑදීමේදී දේශීය සාරධර්ම සහ දීර්ඝකාලීන ජාතික උන්නතියට වඩා ඊළඟ මැතිවරණය දෙස බලයි. | 6. දේශීය සාරධර්මත් දීර්ඝකාලීන ජාතික උන්නතියක් සෑම විටම සැලකිල්ලට භාජනය කරයි |
| 7. ප්‍රජාවබෝධය සහ ප්‍රජා සහභාගිත්වය පක්ෂ බලයට එරෙහිව වන සාධක හැටියට සලකයි. | 7. ප්‍රජාවබෝධය සහ ප්‍රජාසහභාගිත්වය සම්මුති පාලනක්‍රමයේ හරය ලෙස සලකයි. |
| 8. ජනතාව භේද බින්න කරයි. | 8. ජනතාව එකම පවුලක් සේ එක්තැන් කරයි. |
| 9. පෞද්ගලික ජීවිතය සහ මහජන ජීවිත යනුවෙන් දෙබිඩි ජීවිත අනුමත කරයි. | 9. පෞද්ගලික ජීවිතයත් මහජන ජීවිතයත් එකම කාසියේ දෙපැත්ත හැටියට සලකයි. |
| 10. පක්ෂයට හානි නොවෙතොත් අල්ලස, වංචාව, දූෂණය, දුරාචාරය, හිංසා ව, අකාර්යක්ෂමතාවන් ආදිය නිශ්ශබ්දව අනුමත කරයි. | 10. ජනතාවට හානි කරන සියලුම වැරදි ක්‍රියා හෙළාදකී. |
| 11. මතුපිටින් ප්‍රජාතන්ත්‍රවාදයත් යටින් පක්ෂ තන්ත්‍රවාදයත් බොහෝවිට ක්‍රියාත්මක වේ. | 11. සෑම අවස්ථාවකදීම ජන සහභාගිත්වයත් විවෘත සංවාදයත් පදනම්ව ක්‍රියාත්මක වේ. |
| 12. භෞතික අරමුණුවලට මුල්තැන දී ඇති අතර, ආධ්‍යාත්මික වටිනාකම් පෞද්ගලිකව ජීවිතයට සීමා කර තබයි. | 12. ආධ්‍යාත්මික වශයෙනුත්, භෞතික වශයෙනුත් පුද්ගලයාගේත් සමාජයේත් පූර්ණ උදාවක් අරමුණුව ක්‍රියාත්මක වේ. |

රූප සටහන 2 - ධර්මද්වීප ධාන්‍යාගාර චින්තනය ගැබ් වූ
සම්ප්‍රදායික සමාජ ක්‍රමය



රට-දැය-සමය පිළිබඳව අප තුළ අර්ථ දැක්වීම නැවත සිහියට ගත යුතු ය. මේ නිර්වචනය අනුව පැරණි ශ්‍රී ලාංකික සමාජය දෙස බලන විට රජ, ජනතාව සහ සංඝයා වහන්සේ යන ත්‍රිත්ව බලකෝණයක් පැවැති බව අපට පෙනේ. රජ, රටේ ආරක්ෂකයා ය. ජනතාව (දැය) සම්මුතියෙන් රජු තෝරන අවසාන බලධාරියා ය රජුත් ජනතාවත් මෙලොව පරලොව දෙකේ ම අභිවෘද්ධිය සැලසෙන විදිහට සනාථන ධර්ම නොනසා ක්‍රියා කරත් ද යන බව අධීක්ෂණය කරන්නේ හෙවත් "සමය" රකින්නේ භික්ෂූන් වහන්සේ ය.

රටේ නායකත්වය එදා සිට රජ, භූපති, වෙනුවට අද උසුලන්නේ විධායක ජනාධිපතිවරයෙක් හෝ අගමැතිවරයෙක් (හෝ වරියක්) සහ ඔවුන්ගේ අමාත්‍ය මණ්ඩලය යි. ඔවුහු නීතිය හදති. නීති ක්‍රියාත්මක කරති. නීති විග්‍රහ කරන ආකාරය ගැන අධිකරණයට උපදෙස් දෙති. "දැය" සහ "සමය" රකිනවුනට ඔවුන්ට ආ වැඩීම හැර, ඔවුන් වැරදි මග යනවිට හරි මගට යොමු කරවීමට බටහිරින් ගත් ප්‍රජාතන්ත්‍රවාදයෙන් ඉඩක් ලැබී නැත. ඒ වෙනුවට දශක හතරක් තුළ දී සිදු වූයේ නිර්මාණාත්මක සහනශීලී බල ත්‍රිකෝණයට වඩා විනාශකාරී බල පිරමිඩයක බර මහජනයා තුළ පැටවීම ය.

**රූප සටහන 3 - 1948 නිදහස ලැබෙද්දී තිබුණු බල පිරමිඩය**



1948 දී දේශපාලන නිදහස ලබන අවස්ථාවේ පැවැත්වුනු සමාජ ව්‍යුහය පහත දැක්වෙන පිරමිඩයෙන් දැක්වේ ය යි සිතමු.

මෙහි උඩම තට්ටුවේ සිටියහු නිදහස ලැබෙන අවස්ථාව වන විට වරප්‍රසාද හිමි කරගෙන තුබූ සුළු කොටසක් වේ. මොවුන් ගෙන් වැඩි පිරිස ඉංග්‍රීසි ජාතිකයන් ගේ ජීවන රටාව අනුකරණය කළ අය වූහ. ඔවුන් අතර ඉඩකඩම්, මුදල් හදල්වලට හිමිකම් තිබුණත් දේශීය සාරධර්ම පිළිගත් අය ද ටික දෙනෙක් වූ හ. ඉංග්‍රීසීන් අනුකරණය කළ වැඩි පිරිසෙන් ටික දෙනෙක් එංගලන්තයේ දී අත්දුටු හීනමානය නිසා දෝ ජීවන රටාවෙන් ඉංග්‍රීසීන් අනුකරණය කළත්, අධිරාජ්‍යවාදයට විරුද්ධ වූ ධනවාදය ද ප්‍රතික්ෂේප කළ බටහිර ම උපත ලත් ලිබරල්වාදී සමාජවාදී දර්ශන පිළිගෙන මෙ රටට පැමිණි අය වූ හ. වාමාංශික ව්‍යාපාරයේ මුල්තැන ගත්තෝ ද ඔවුහු වූහ. එහෙත් ඔවුහු අප කලින් සඳහන් කළ රට-දැය-සමය පිළිබඳ විග්‍රහය හෝ සම්මුති වාදයක් ගැන අප කළ සඳහන් හෝ ඔවුන්ගේ විඥානයට ඇතුළුවීමට තරම් උපතින් සහ හැදියාවෙන් අවස්ථාවක් නොලැබූ අය වූහ.

ඒ නිසා සමස්තයක් වශයෙන් ගත් විට මුළු ජාතිය පිළිබඳව ම තීරණාත්මක වේශයන් රංගනය කළේ මේ පිරමිඩයේ ඉහළ ම කොටසේ සිටිය අය පමණකි. එයින් වඩාත් ශක්තිමත් වූයේ විජාතික "සංස්කෘතිය" පිළිගත් දක්ෂිණාංශික හා වාමාංශික පිරිස යි. දේශීය සංස්කෘතිය පිළිගත් අය ක්‍රම ක්‍රමයෙන් දේශපාලන රංග පීඨයෙන් ඉවත් වූ හ.

සර්වජන ඡන්දය ලැබෙනු සමඟ ම මේ පිරමිඩයේ ඉහළ කොටස්වල සිටින අයට පහළ කොටසේ සිටින බහු ජනතාව සමඟ වඩා කිට්ටු සම්බන්ධයක් අවශ්‍ය විය. දේශපාලන නිදහස ලැබෙනු සමඟ ම පක්ෂ දේශපාලන ක්‍රමයක් ද සංවිධානය වූ නිසා බල පිරමිඩයේ ඉහළ සිට පහළට ජනතාව අවනත කර ගන්නා සංවිධාන රටාවක් විවිධ පක්ෂ විසින් ගොඩ නඟා ගන්නා ලදි. එය පහත සඳහන් චිත්‍රයෙන් දැක්වේ.

### රූප සටහන 4 - 1948 නිදහසෙන් පසු ගොඩනැගුණු බල පිරමිඩය



ප්‍රජාතාන්ත්‍රික දේශපාලන කටයුතුවලට මහජනයා සහභාගී වූ මුල් අවදියේ දී විවිධ පක්ෂවලට බෙදුණත් එය මැරවරයින්ගේ නායකත්වය යටතේ සිදු නො වීය. යම්කිසි ප්‍රමාණයක ප්‍රජා වගකීම් තිබුණු පිරිසක් ජන කොට්ඨාශවල විවිධ පක්ෂ කණ්ඩායම්වලට නායකත්වය දීමට සිටිය හ. 1965 දී සිදු වූ පෙරළියේ දි සංඝ-වෙද-ගුරු-ගොවි-කම්කරු යන කොටස් පහ පිළිබඳව අසන්නට අපට ලැබිණි. එහෙත් කාලයා ගේ ඇවෑමෙන් විවිධ දේශපාලන ප්‍රතිපත්ති හෝ මතිමතාන්තර අනුව හෝ නොව, හුදෙක් මන්ත්‍රීවරයන් ගේ මාර්ගයෙන් ජාතික මට්ටමේ පක්ෂ ප්‍රධානීන් දක්වා පෞද්ගලික සම්බන්ධකම් උඩ හැඩගැසුණු කිහිපදෙනෙක් ගැමි මට්ටමේ ප්‍රබලයන් බවට පත් වූ හ. බලයේ සිටින පක්ෂය අනුව මේ දෙතුන් දෙනා වෙනස් වුවත් සීමිත ජන සහභාගිත්වය ස්වභාවයද නැති වී අමුතුම විදියේ "බල පිරමිඩයක්" ගොඩනැගුණේ ය.

බලයේ සිටින පක්ෂය වෙනස් වුණු සමඟ ම බල-පුළුවන්කාර තැරැව්කාර පිරිස ද දේශපාලන තැරැව්කාර පිරිස ද වෙනස් වූ හ. මහජනයා වෙතට රජයෙන් ලැබෙන සම්පත්, රැකීරක්ෂා, උසස් අධ්‍යාපනයක් සඳහා ඇතුළු වීම, දේශීය විදේශීය ශිෂ්‍යත්වයන්, ගමේ මට්ටමේ සිට ජාතික මට්ටම දක්වා කොන්ත්‍රාත්තු, රාජ්‍ය ආයතනවල භාණ්ඩ අලෙවි කිරීමේ නියෝජිත බලතල ආදියේ සිට දැහැමි ආර්ථිකයට කිසිසේත් නොගැලපෙන රේස් බුකී, සූදු පොළවල්, කැසිනෝ, ලොතරැයි ඒජන්සි, අරක්කු තැබෑරුම්, රා පොළවල්, රටබීම සාප්පු ආදී හැම දෙයකට ම අවසර පත්‍ර ලැබුණේ මේ පක්ෂ නියෝජිතයන් ගේ මාර්ගයෙනි. රාජ්‍ය නායකයින් පවා කිසිදු ලැජ්ජා බියක් නොමැති ව මේවාට සම්බන්ධ වූ උත්සවවලට සහභාගීවීමට ඇරැයුම් ලැබුණ විට බාර ගන්නේ ඉතා සන්තෝෂයෙනි. ජනමාධ්‍යවලින් කිසිදු දීර්ඝකාලීන ආර්ථික වටිනාකමක් නැති රට-දැය-සමය ප්‍රපාතයට හෙළන මෙවැනි ක්‍රියාමාර්ගවලට විශාල අනුබලයක් ලැබිණි. මෑතදී සිංහල ජාතියත් බෞද්ධ ශාසනයත් රැකීමට මුරදුන් එක්තරා දිනපතා පුවත්පතක් ඒ ඉලක්කය ඉක්මන් කර ගැනීමට දෝ රේස් ප්‍රවෘත්තිවලට ද පිටු ගණනක් වෙන්කර තිබෙනු හැටි ඔබ දකින්නට ඇත.

ජනතා මට්ටමේ සාරධර්ම ගරුක සහභාගිත්වයකට මහජනතාවට මේ සුළු පිරිස නිසා ඉඩක් නොලැබුණු අතර මහජනයා ක්‍රම ක්‍රමයෙන් දේශපාලනයෙන් ඈත් වූ හ. කාලයාගේ ඇවෑමත් සමඟ ම විවිධ පක්ෂවලට අයත් ගම්වල ජීවත් වූ නියෝජිතයින් දෙතුන් දෙනකු විසින් මුළු රාජ්‍ය බලය ම ඔවුන් ජීවත් වන ජන කොට්ඨාශ තුළ පාලනය කිරීමට තරම් ව්‍යවස්ථා බාහිර බලයක් අත්කර ගැනිණ. පසුගිය රජයෙන් ආරම්භ වූ මේ පරිහානිය වත්මන් රාජය යුගය වන විට සම්පූර්ණ වී තිබේ. හොඳටම සුදුසුකම් තිබෙන දරුවකුට සාධාරණ අවස්ථාවක් ලබා ගැනීම පවා මේ අලුත් ප්‍රජා නායකයින් ළඟට යෑමට මහජනයාට සිදුවූයේ තම ආත්මගෞරවය කෙලෙසා ගනිමිනි. හිත ඇතුළේ කැකෑරෙන පිළිකුලක් තිබුණත්, නැති බැරිකම නිසා වයාජ මුහුණු පෙන්වා ගෙන මහජනයාට මොවුන් ඉදිරියේ දීනව හැසිරීමට සිදු විය. ජාතික දේහයේ රෝගී බවට මුල් වූ ප්‍රධාන විෂ බීජයකි මේ. අද අපේ ගැමි දරුවන්ගේ ජීවිත පවා රැක ගැනීමට යෑමට සිදුව තිබෙන්නේ පොලීසියට හෝ අධිකරණයට හෝ නොවේ. මොවුන්ගේ දෙපා ළඟට ය.

නිදහස් අධ්‍යාපන ක්‍රමය නිසා ස්වභාෂාවෙන් උසස් අධ්‍යාපනය ලැබීමට නව විශ්ව විද්‍යාලවලින් අවස්ථාව ලැබුණු, දේශීය සංස්කෘතියට උරුමකම් කියූ, මව්බසින් උගත් පිරිසක් රාජ්‍ය සේවයට එකතු වූ හ. මේ උගත් පිරිසට අධිරාජ්‍ය ක්‍රමයට හැඩ ගැසුණු නිලධාරී පන්තියට වඩා හොඳින් ජනතාව ගේ ප්‍රශ්න සහ ගැටළු ගැන අවබෝධයක් තිබුණි. එහෙත් ඒවාට විසඳුම් ලැබෙන සේ යම් සංවර්ධන ක්‍රියා මාර්ගයක් දියත් කිරීමට ඔවුන් ගත් සෑම ප්‍රයත්නයක් ම පක්ෂ දේශපාලන ක්‍රමය නිසා බලවත් ව සිටි ඉහත සඳහන් කළ සුළු පිරිසක් වූ දේශපාලන බලධාරීන් නිසා වැඩිදුර යෑමට නොහැකි විය. ජනතා කමිටු, සමූපකාර, ප්‍රජා සංවර්ධන, ග්‍රාම සංවර්ධන, ග්‍රාමෝදය මණ්ඩල, ප්‍රාදේශීය මණ්ඩල සහ දිස්ත්‍රික් සංවර්ධන සභා ආදී, හැම සංවර්ධන දේශපාලන ආයතනයකට ම හෙනහුරුකම් කළේ පක්ෂ ක්‍රමයත්, එහි ගැමි මට්ටමේ සිටි නියෝජිතයනුත් ය. ජාතික මට්ටම දක්වා මොවුනට සම්පූර්ණ රාජ්‍ය බලයේ අනුග්‍රහය ලැබුණේ ය. අවුරුදු තිහක පමණ කාලයක සිට පක්ෂ දේශපාලනයෙන් තොර ව, ජාතික සංවර්ධනයක් ජනතා මට්ටමෙන් සංවිධානය කළ ව්‍යාපාරයක් හැටියට මේ උවදුර ගැන සර්වෝදයේ අපට තරම් ප්‍රත්‍යක්ෂ අවබෝධයක් වෙන කවර හෝ සංවිධානයකට හෝ ඇති දැයි නො දනිමි.

ජනතා මට්ටමේ ප්‍රජාතාන්ත්‍රික රාමුවෙන් සාරධර්ම අගය කළ අය මෙසේ පිටමං වූ අතර බල පිරමිඩයේ පාදය එන්නට එන්නට ම පටු විය. බල පිරමිඩයේ ඉහළ කොටස ද පටු වී ජාතික නායකයෝ පිරමිඩයේ මුදුනින් සෑහෙන ප්‍රමාණයක් ඉහළට තල්ලු වූ හ. වෙනත් වචනවලින් කිවහොත් ඔවුහු මහජනයාගෙන් ඈත් වූ හ. මහජනයා වෙතට නවීන සන්නිවේදන මාධ්‍යවලින් පාලකයන් ගේ පණිවුඩය දුන් අතර මහජනයා ගෙන් ආපසු පාලකයන්ට පණිවුඩ ලැබෙන එකම මාර්ගය වූයේ ඔවුන් අවට සිටි, බොහෝ විට නායකයන්ගේ බලය පෞද්ගලික වාසියට හරවාගත් කීපදෙනෙක් පමණකි. නායකයනට අවංක ව ගරු කරන ජනතාවක් වෙනුවට නායකයනට ව්‍යාජ පක්ෂපාතිත්වයක් පෙන්වා රැවටීමට පුරුදු වූ ජනතාවක් බිහි වූ හ.

පසුගිය දස වසර ඇතුළත දී රට තුළට ගලා ආ විශාල ධනස්කන්ධය නිසා ජනතාව සහ නායකයන් අතර තිබුණු පරතරය සහ ඇති නැති පරතරය අඩු වෙනු වෙනුවට වැඩිවූයේ අප සඳහන් කළ අවස්ථාවාදී අතරමැදියන් නිසාය. මේ අතරමැදියන් කෝටි ප්‍රකෝටිපතියන් වෙනු මහජනයා බලා සිටියේ කැමැත්තෙන් නො වේ. පිරමිඩයේ ඉහළ කොටස එන්නට එන්නට ම බර වැඩි වූ අතර එය රඳා සිටි පහළ කොටස එන්නට එන්නට ම දුර්වල වූයේ ය.

පිරමිඩයේ ඉහළ කොටසේ සිටියවුන්, දිනපතා ම තමන් ගේ රුව සහ හඬ ජනමාධ්‍යවලින් දැකීමට සහ ඇසීමට පුරුදු වූ හ. ප්‍රවෘත්ති නිලධාරීන් වීඩියෝ කැමරා සහ පුවත්පත් ලේඛකයින් පිරිවරා ගෙන විවිධ ප්‍රචාරක මාධ්‍යයන් තුළින් ආත්ම වර්ණනයක් කර ගැනීමෙන් ඔවුහු ජනතාවට කිට්ටු වෙතැ යි සිතීමට තරම් මෝඩ වූහ. පිරමිඩයේ යට කොටස එන්නට එන්නට ම හිස්තැනක් බවට පත්වණු ඔවුහු නොදුටු හ.

මේ හිස්තැන පිරවීම ආරක්ෂක බලකායන් ඇති කිරීමෙන්, රහස් ඔත්තු සේවා වැඩි කිරීමෙන්, විදේශ ණය ඉමක් කොනක් නැතිව ගැනීමෙන්, කොන්ක්‍රීට් වනාන්තර සෑදීමෙන් පිරෙනු ඇතැයි සිතීමට තරම් ඔවුහු මෝඩ වූහ. රටේ පාලකයන් වූ ඔවුන් ගේ කුමන අඩුපාඩුකම් තිබුණත් රට ගැන සිතා අවංක ව කරුණු පහදාදීමෙන් ඔවුන් නිවැරදි ප්‍රතිපත්ති වලට යොමු කළ හැකි යයි නිස්සරණධ්‍යාසීව රට වෙනුවෙන් ඔවුනට උදව් කිරීමට ඉදිපත් වූ විවිධ අවංක පුද්ගලයෝ ද මොවුන් ගෙන් ඈත් වූහ. පිරමිඩයෙහි හිස පාදයට වඩා පුළුල් වී බර වැඩිවුයේ යැ යි අප සඳහන් කළේ මේ පරිවර්තනය ඇතින් සිට බලා සිටි නිසා ය.

ජාතික දේශපාලන සහ ආර්ථික බල පිරමිඩයේ මේ අසමතුලිතතාව සමස්තයක් වශයෙන් නොදුටු ළාබාල තරුණ තරුණියන් පටු ජාතිවාදයකට හෝ අසම්පූර්ණ දේශපාලන වාදයකට හෝ ගොදුරුවීම ස්වාභාවික ය. යුක්තිය සහ සාධාරණය ඉතා අගනා සමාජ ධර්ම හැටියට සලකන, වරප්‍රසාද හිමි කරගැනීමට සහ රැකගැනීමට තරම් වයස නොමේරූ, යොවුන් පෙළ මෙවැනි තත්ත්වයක් යටතේ හිංසක ක්‍රියාමාර්ගවලට යොමුවීම පුදුම නො විය යුතු ප්‍රතික්‍රියාවකි. ඔවුන් මර්දනය කිරීමට දැඩි නීති-රීති පැනවීම ඔවුන් තවත් ප්‍රකෝපකාරී කිරීමකි. එහෙත් බල පිරමිඩයේ අසමතුලිතතාව නිසා එහි මුදුනේ සිටින අය එ වැනි බලයේ නීතිය නීතියේ බලය අභිබවා අනුගමනය කිරීම ගැන ද අපි පුදුම නො වෙමු. මෙහි අවසාන ප්‍රතිඵලය වන්නේ සමතුලිතතාවයක් ඇති වන තුරු බලපිරමිඩයේ කඩා වැටීමකි. මෙය අප බලාපොරොත්තු විය යුතු ය. එයට සූදානම් විය යුතු ය. එයින් විපතට පත් වූ සංඛ්‍යාව හැකි තරම් දුරට අඩු කිරීමට ක්‍රියා කළ යුතු ය. මේ අතර "රට-දැය-සමය" රැකෙන, වැඩෙන, නැගෙන නව ආර්ථික දේශපාලන ක්‍රමයක් ගැන ද කල්පනාව යොමු කළ යුතු ය.

## දේශපාලන ආර්ථිකය

බල පිරමිඩය දේශපාලනයට පමණක් සීමා වූවක් නො වේ. එය දේශපාලනයේ නිවුන් සොහොයුරා වූ ආර්ථිකයට ද දැඩි සේ සම්බන්ධ ය. බොහෝ විට දේශපාලන බලකාමය පිටුපස ඇත්තේ සුඛෝපභෝගී ආර්ථික ජීවන රටාවක් සඳහා තිබෙන දැඩි ආශාව යි. ධනවාදී අර්ථ ක්‍රමයේ ස්වභාවය නම් විවිධ සන්නිවේදන මාධ්‍යවලින් සුඛෝපභෝගී ආර්ථික ජීවන රටාවක තිබෙන ව්‍යාජත්වය වසන් කර එයින් මනුෂ්‍ය ජීවිතයේ ලැබිය හැකි උපරිම සංතෘප්තිය ලැබෙන බව හුවා දැක්වීම යි. එ දා වේල පමණක් යන්තම් ගැටගසා ගන්නා දිළිඳු කෙනෙක් පවා මේ සන්නිවේදන මාධ්‍යයනට ගොදුරු වූ පසු, සාක්ෂාත් කර ගත හැකි සැබෑ ජීවන රටාව අමතක කොට, මානසික තත්ත්වයෙන් ධනේශ්වර ජීවන ආකල්පයේ ම කොටස් කරුවෙක් වෙති. මේ දීනතාවය තිබෙන තුරු සාර්ථක ජීවන රටාවකට මුළු ප්‍රජාව ම යොමු කිරීම අපහසු යි. මේ සංකල්පය ඇති-නැති පරතරය වැඩි කිරීමටත්, ධනේශ්වර ක්‍රමය ස්ථාපිත කිරීමටත්, ඒ හා සමඟ ඇතිවන නාස්තිය, ආධ්‍යාත්මික සදාචාර පරිහානිය, අල්ලස, දූෂණ හා වංචාව සමාජ සංස්ථා බවට පරිවර්තනය කරයි. ශ්‍රී ලංකාව වැනි රටකට ගැළපෙන එක ම යථාර්ථවාදී ප්‍රයෝගික අරමුණ වූ දුප්පත්කමින් මෙන්ම සුඛෝපභෝගීත්වයෙන් ද තොර ජීවන රටාවක් ගොඩනැංවීමේ ඉලක්කය මේ දීනතාව නිසා සාක්ෂාත් කරගත නොහැකි වෙයි.

රූප සටහන 7 - රට දැය සමය නසන විෂම චක්‍රය



සාමාන්‍යයෙන් ආර්ථික දියුණුව යනුවෙන් අදහස් කරන්නේ ජන කොට්ඨාශයකට අවශ්‍ය භාණ්ඩ හා සේවාවන් නිෂ්පාදනය කිරීමේ ප්‍රවේගය සහ ප්‍රමාණය, ඒවා මහජනතාවගේ පරිභෝජනය සඳහා බේදීයන පිළිවෙල සහ ආර්ථික නිෂ්පාදනයේ සාධකයක් ලෙස සලකන භූමිය, ශ්‍රමය, ප්‍රාග්ධනය සහ ව්‍යවසාය විවිධ තාක්ෂණික උපක්‍රමයන් යොදා ගෙන එක් තැන් කරන අන්දම ආදී විෂයයනට සම්බන්ධ අංශයන් පිළිබඳ ප්‍රගතිය මැනීමකි.

සර්වෝදය ඇසින් බලන විට ආර්ථික සංවර්ධනය දෙස බලනු ලබන්නේ මෙයට වඩා පුළුල් වූ දෘෂ්ඨියකිනි. සාර්ථක මනුෂ්‍ය ජීවිතයක් යනුවෙන් කිමෙක් අදහස් වේ ද? එ වැනි ජීවන රටාවක ආර්ථික අවශ්‍යතා මොනවාද? මේ අවශ්‍යතා සපුරාගැනීමට ප්‍රමාණවත් තරම් ජාතික සම්පත් අප සතුව තිබේද ? සම්පත් සහ අවශ්‍යතා සම්බන්ධ කිරීමේදී කුමන අන්දමේ තාක්ෂණයක් අපට ඔරොත්තුදේ ද? කොතෙක් දුරට මානුෂික අවශ්‍යතා සපුරාගැනීමටත්, පොදු අවශ්‍යතා සපුරාගැනීමටත් අපේ සම්පත් බෙ දී යා යුතුද? අවශ්‍යතා සැපිරෙන විමධ්‍යගත ස්වයංපෝෂිත භාවය සහ මධ්‍යගත වෙළඳපොළකට නිෂ්පාදනය කිරීම අතර තබාගත යුතු සමබරතාව කිමෙක් ද? කො තෙක් දුරට කුමන අංශ වලින් කෙ බඳු ප්‍රමාණයකට විදේශීය ආර්ථික ව්‍යුහයක් සමඟ සම්බන්ධකම් ඇතිකර ගත යුතුද? සොබා දහමත්, මනුෂ්‍ය සමාජයත්, සෙසු සත්ත්ව ලෝකයත් සමඟ අපේ ආර්ථික කටයුතුවල දී තබා ගතයුතු සමබර සම්බන්ධතාව කිමෙක් ද? ආර්ථිකය ගැන කතා කිරීමේ දී මේ සියල්ල ම ගැන සර්වෝදයේ අවධානය යොමු වේ. සර්වෝදය විශ්වාස කරන අර්ථ ක්‍රමය සහ වර්තමානයේ බලපවත්වන අර්ථ ක්‍රමය පහත සඳහන් අන්දමින් සසඳා බලමු .

| වර්තමාන අර්ථ ක්‍රමය | සර්වෝදය අර්ථ ක්‍රමය |
|---|---|
| 1. මිනිසාගේ ආශාවන් සැපිරීමට ක්‍රියා කරයි. | 1. මිනිසාගේ අවශ්‍ය තා සැපිරීමට ප්‍රධාන අවධානය යොමු කරයි. |
| 2. කාර්මික සමාජ ආදර්ශයට ගෙන දේශීය සම්පත්වලට ඔරොත්තු නොදෙන ජීවන රටාවකට ජනතාව හුරු කිරිමට ආධාර දෙයි. | 2. ආධ්‍යාත්මික, සදාචාර, සංස්කෘතික ආභාෂයකින් සහ සාමාජික යථාවබෝධයකින් යුතුව හැඩගසා ගතයුතු ජීවන රටාවකට ජනතාව හුරු කිරීමට වෙහෙසෙයි. |
| 3. මහාපරිමාන යෝජනා ක්‍රම නවතම කාර්මික ශිල්පීක්‍රම, විශාල ප්‍රාග්ධන ආයෝජන සහ වානිජ බලවේග කෙරෙහි විශ්වාසය තබයි. | 3. කුඩා ප්‍රමාන යෝජනා ක්‍රම යෝග්‍ය කාර්මික ශිල්පීය ක්‍රම කුඩා පරිමානයේ ප්‍රාග්ධන ආයෝජන සහ ජනතා පාලනයට යටත්වන සමූපකාර වාණිජ සංවිධානයක් කෙරෙහි විශ්වාසය තබයි. |
| 4 . මුදල් ආදායම මුල් වූ නිෂ්පාදන වලට මුල් තැන දී අවශ්‍යතා සපුරාගැනීම ආදායම් මට්ටමට පැවරේ. ජීවන රටාවේ දියුණුව ප්‍රමාණාත්මකව මනී. | 4. අවශ්‍යතා වැපිරීම මුල් වූ නිෂ්පාදනයට මුල් තැන දී ජීවන රටාව ගුණාත්මක මිනුම්දඬු වලින් සහ සැබෑ ආදායමෙන් මනී. |
| 5. භූමිය, ශ්‍රමය, ප්‍රාග්ධනය, ව්‍යවසාය සහ ආර්ථික නිෂ්පාදන සාධක සතර, ආර්ථික සැලසුම් සැදිමේ මූලික සිද්ධාන්ත හැටියට සලකයි. | 5. සොබා දහම, මනුෂ්‍යයා, සමාජය සහ විද්‍යා තාක්ෂණඥානය ආර්ථික ප්‍රගතියේ මූල සාධක හැටියට සලකයි. |

| | |
|---|---|
| 6. සමාජයේ සියලුම දෙනාට එක්තරා වයසකින් පසු පෞද්ගලික වේතනයක් හෝ ආදායමක් හෝ ලැබිය යුතු ය යන සංකල්පය පිළිගෙන ප්‍රධාන වශයෙන් රැකියා නියුක්තය ඉලක්ක කොට සැලසුම් සාදයි. | 6. නිවැරදි ජීවන මාර්ගයක් තුළින් (සම්මා ආජීවය) මානුෂික අවශ්‍යතා සැපිරි මේ (ආර්ථික) ව්‍යායාමයක සියලු ම මනුෂ්‍යයන් යෙදිය යුතුය යන සිද්ධාන්තය උඩ සැලසුම් සාදයි. |
| 7. විදේශීය ආධාර, විදේශීය ණය, විදේශීය කළමනා කාරිත්වය, විදේශීය තාක්ෂණය සහ ආයාත-නිර්යාත ආර්ථිකය කෙරෙහි විශ්වාසය තබා කාර්මික රටවල් පාලනය කරන නව යටත්විජිත ජාත්‍යන්තර ආර්ථික ව්‍යුහයකට ශ්‍රී ලාංකික ආර්ථිකය බැඳ තබයි. | 7. ස්වශක්තිය, දේශීය සම්පත්, දේශීය ඉතිරි කිරීම්, දේශීය ආයෝජන, දේශීය කර්මාන්ත, දේශීය නිර්මාණත්වය, යෝග්‍ය තාක්ෂණය සහ ජාතික ස්වයංපෝෂණය කෙරෙහි විශ්වාසය තබා ස්ව ශක්තියෙන් යුතු ව නැගී සිට විදේශීය ආර්ථික ග්‍රහනයෙන් මිදී දේශීය ආත්මගරුත්වයෙන් යුතු ව විදේශීය ආර්ථිකයන් සමඟ සම්බන්ධය පැවැත්වීම විශ්වාස කරයි. |
| 8. ග්‍රාමීය ආර්ථිකයේ සාරය නගරවලට සහ විදේශයනට ඇදී යාමට මං සලසයි. | 8. ග්‍රා මීය ආර්ථිකයට ධනය ඇදී ඒමට සහ ග්‍රාමීය ආර්ථිකයට පණ පෙවීමට මං සලයසි. |
| 9. මිනිසා විෂම අර්ථ චක්‍රයට අසු වූ අසහනකාරී පුද්ගලයකු බවට පත් කරයි. | 9. මිනිසා සේවා සුවයක් ලබන සහනදායි පුද්ගලයකු බවට පත් කරයි. |
| 10. ධන සම්පත් සුළු පිරිසකගේ අතට පත් කොට ඔවුන් සුඛෝපභෝගී, විනෝදකාමී නාස්තිකාරයන් කරන අතර බහු ජනතාව වඩ වඩාත් අඟහිඟකම්වලින් පිරුණු ප්‍රකෝපකාරී පිරිසක් බවට පත් කරයි. | 10. සියලුම දෙනා මානුෂික අවශ්‍යතා සම්පූර්ණ කරගත් පිරිසක් බවට පත් කරන අතර ඔවුන් ගේ ජීවන රටාව තෘප්තිමත් නිර්මාණාත්මක සරල සංස්කෘතික ජීවිතයක් දෙසට යොමු කරවයි. |

සර්වෝදය ආර්ථික අරමුණු සමහරක් වත්මන් සමාජයේ පවතින ස්වභාවයන් සමඟ මේ අන්දමින් සංසන්දනය කළ හැකි ය. ජනතාව ගේ දෛනික ජීවිතයෙන් සහ සිතුම් පැතුම් වලින් බාහිරව ජීවත් වන ගමන්, මනෝරාජික - ප්‍රජාතන්ත්‍රවාදය සහ සමාජවාදය ගැන සිද්ධාන්ත හදන සමහර වරප්‍රසාද ලද්දෝ පහත සඳහන් සංසන්දනය සහ වෙනත් අප දැක්වූ බොහෝ අදහස් හාස්‍යයට භාජනය කරනු ඇත. ඔවුන් ගේත්, අපේත් වෙනස නම් ඔවුන් ගේ දර්ශනය වචනයට සීමා වී ඇති අතර අප මෙහි දක්වන සෑම අදහසක් ම යම් ප්‍රමාණයකට හෝ කාගේත් ඇස් ඉදිරිපිට ක්‍රියාත්මක කිරීමට වැර වඩා තිබීම යි. සර්වෝදයේ ආර්ථික ක්‍රියාදාමයන් තුළින් ලත් අත්දැකීම් බොහෝ ය. ඉන් සමහරක් මෙහි සඳහන් කරනු වටී.

ප්‍රජාවක ආර්ථික සංවර්ධනය සෙසු ඉහත සඳහන් කළ ආධ්‍යාත්මික, සදාචාර, සංස්කෘතික, සාමාජික සහ දේශපාලන යන සංවර්ධන අංශ පහ සමඟ කිට්ටුවෙන් බැඳී සිටී. මේ නිසා ශ්‍රමදාන කඳවුරක් වැනි ක්‍රියා මාර්ගයක් තුළින් ප්‍රජාව තුළ මනෝ විද්‍යාත්මක පදනමක් දැමීම, භෞතික අවශ්‍යතාවන් කිහිපයක් පෙරමුණේ තබාගෙන අනුගමනීය කඳවුරු මාර්ගයෙන් ඒවා එක් දිගට ම සැපිරීම, විවිධ සාමාජික හවුල්වලට ප්‍රජාව සංවිධානය කොට දශවිධ මානුෂික අවශ්‍යතා ඔස්සේ ඒවා ක්‍රියාත්මක කරවීම, නිජ නායකත්වයක් විශේෂයෙන් සාමූහික නායකත්වයක්

ගැමි මට්ටමින් ගොඩනැගෙන පරිසරයක් සාදා ඔවුනට ප්‍රජා නායකත්ව පුහුණුවක් දීම, ගමේ අවශ්‍යතාවන් සහ ගම පත්ව ඇති සංවර්ධන මට්ටම අනුව අවශ්‍ය වූ ශිල්පීය පුහුණුවක් ලබාදීම, ඉතිරි කිරීම්-ණයදීම්-ආයෝජනය යන ත්‍රිවිධ මාර්ග ඔස්සේ මැද වෙළෙන්දන්ගෙන් මිදීමට මෙන්ම අවශ්‍ය ප්‍රාග්ධනය සොයා ගැනීමට මගක් සාදා ගැනීම, පොදු වෙළඳසැල්, සමූපකාර සාමූහික ආර්ථික- ව්‍යාපෘති ආදිය මගින් ගැමි ආර්ථික නොවහල් බව ඇති කරගැනීම ආදිය, පියවරෙන් පියවර සර්වෝදයෙන් ක්‍රියාත්මක වී තිබෙන ප්‍රජා සහභාගිත්වමය ආර්ථික පුනර්ජීවන මාර්ගය යි. මෙය ස්වයං සංවර්ධන ආර්ථික ක්‍රමයකට පරිවර්තනය වන්නේ ජාතික මට්ටමේ ආර්ථික - ප්‍රතිපත්ති සහ දේශපාලනික ප්‍රතිපත්ති ඉහත දැක්වූ අන්දමට වෙනස් වූ විට ය. එහෙත් ඒ වනතුරු අපි නිහඬව නොසිට අප වැඩ කරන ගම්මානවල අපේ ශක්ති ප්‍රමාණයෙන්-ශක්තිමත් ආර්ථික පුනර්ජීවන පදනමක් දමන්නෙමු.

ආර්ථික සංවර්ධනය ගැන සලකා බලන විට කාර්යක්ෂම ව නිෂ්පාදනය කිරීම, නිෂ්පාදනය කරන දේ ආරක්ෂා කරගැනීම මෙන් ම නිෂ්පාදනයේ දී ඉවහල් කර ගන්නා මූල සම්පත් විනාශ නොකිරීම, නිෂ්පාදනය සිදුවන සාමාජික පරිසරයෙහි මනුෂ්‍යත්වය ආරක්ෂා කරගැනීම සහ නිෂ්පාදනයේ ප්‍රතිඵලය ලෙස යමකුට හිමි වූ භාණ්ඩ හෝ සේවාවන් හෝ ආදායම හෝ සකසුරුවම්කමින් ප්‍රයෝජනයට ගැනීම යන කාරණා ද වැදගත් ය. පරිසර දූෂණය සහ පාරිසරික අසමතුලිත බව, පවුල් ජීවිතය අවුල්වීම, ඇති-නැති පරතරය වැඩිවීම, මානසික රෝග අධිකවීම, අපරාධ වැඩිවීම, හදිසි අනතුරුවලින් මිය යන සංඛ්‍යාව වැඩිවීම, ආහාර විෂවීම ආදී විනාශකාරී ප්‍රතිඵලවලින් බේරී අපේ ආර්ථික සංවර්ධනය සිදු විය යුතු ය.

## සර්වෝදය ආර්ථික දර්ශනය

සර්වෝදය ආර්ථික දර්ශනයක් ගැන කතා කරන විට මුලින් ම මතක තබාගත යුතු කරුණ නම් සර්වෝදය ආර්ථික දර්ශනය වනාහී පොදු සර්වෝදය දර්ශනයේ ම අනිවාර්යව අන්තර්ගත කොටසක් බව යි. පොදු සර්වෝදය දර්ශනය අමතක කොට වෙන ම ආර්ථික දර්ශනයක් ගැන කතා කළ හැකි නොවේ. ආර්ථික දර්ශනයක් යනුවෙන් අප නම් කරන චින්තන රටාවක් ගොඩනඟා ගැනීමට අපට හැකි වන්නේ පොදු සර්වෝදය දර්ශනයක් ගොඩනැඟිය හැක්කේ සමස්ත සර්වෝදය දර්ශනයේ සීමාවන් තුළ මිස ඒ සීමාවලින් බාහිර ව නො වේ. සර්වෝදය දර්ශනය සමස්තයක් වශයෙන් තේරුම් ගැනීමට හෝ පිළිගැනීමට නුපුළුවන් වේ. මේ නිසා මුලින් ම අප පැහැදිලි කරගත යුත්තේ ඉතා සැකෙවින් වුවද සර්වෝදය දර්ශනයේ මූලාශ්‍රයන් කිහිපයකි.

සර්වෝදය දර්ශනය ජීව අජීව ලෝකය දෙස බලන්නේ සමස්තයක් ලෙසිනි. මනුෂ්‍ය වර්ගයා දෙස බලන්නේ ද සමස්තයක් වශයෙනි. මනුෂ්‍යයා දෙස බලන්නේ ඔහුගේ පූර්ණ පෞරුෂය ම හසු වන ලෙසයි. ආධ්‍යාත්මික වශයෙනුත්, සදාචාර, සංස්කෘතික, සාමාජික, දේශපාලන සහ ආර්ථික අංශවලිනුත් සමස්තයක් වශයෙන්

උපරිම උදාවක් සෑම පුද්ගලයෙක් තුළත් ගැමි සහ නාගරික ජන කොට්ඨාශයක් තුළත් දේශයන් සහ ලෝකය වශයෙනුත් ඇති කිරීම සර්වෝදයෙහි පරමා දර්ශය යි. පූර්ණ පෞරුෂෝදය-ග්‍රාමෝදය-ග්‍රාමස්වරාජ්‍යය, නගරෝදය, දේශෝදය සහ විශ්වෝදය යන සංකල්ප සහ අරමුණුවලින් මෙය අප විවිධ අවස්ථාවන්හි දී සවිස්තර ව විග්‍රහ කර තිබේ. එ මෙන් ම ආධ්‍යාත්මික, සදාචාර, සංස්කෘතික, සාමාජික, ආර්ථික සහ දේශපාලනික සංවර්ධනය යනුවෙන් සර්වෝදය දර්ශනයෙන් අදහස් වන්නේ කිමෙක් දැයි යන්න අද අප විසින් විවිධ අවස්ථාවන්වල දී සවිස්තර ව විග්‍රහ කර ඇත. මේ නිසා මෙහිදී නැවත මා මේ සංකල්ප දොළහ පිළිබඳ විස්තරයක් කිරීමට අදහස් නො කරමි. ආර්ථිකය ගැන කතා කිරීමේ දී අවශ්‍ය කොටස් කිහිපයක් ගැන අදහස් ප්‍රකාශ කිරීමට කැමැත්තෙමි. මේ හැම අංශයක් මෙන් ම පුද්ගලයා ගේ සිට ලෝකය දක්වා ම වූ හැම මානව මට්ටමක් ම අතර අන්තර්ක්‍රියා සිදුවිය යුත්තේ සමබලව බව පමණක් සඳහන් කරමි. මෙම සමබලතාව උඩ පුද්ගලයාගේ සිට ලෝකය දක්වා ම වූ සාධාරණත්වය, සාමය සහ සතුට රඳා පවතින බව පමණක් සඳහන් කිරීම ප්‍රමාණවත් යී

වත්මන් ආර්ථිකය, වත්මන් දේශපාලනයත් සමඟ එකට බැඳී තිබෙන්නකි. ආර්ථිකය ගැන කතා කරන ඕනෑ ම ගිවිසුමක දී දේශපාලනය පිළිබඳ ව ද අවබෝධයකින් යුතුව එය කළ යුතු ය. පක්ෂවලට බෙදී කරන බලකාමී දේශපාලනය සහ එයට සම්බන්ධ වූ සියලුම හිංසාවාදී ආයතනීය ව්‍යුහයන්, තාක්ෂණයන් සහ න්‍යායයන් සර්වෝදය විසින් ප්‍රතික්ෂේප කරනු ලබයි. ඒ වෙනුවට විකල්පීය වශයෙන් ගොඩනැඟිය යුතු ජන සහභාගිත්වක සහ ජන සේවා දේශපාලනයක් ගැනත් අහිංසාවාදී දේශපාලන ව්‍යුහයන් සහ ක්‍රියාදාමයන් ගැනත් සර්වෝදය විශ්වාසය තබන අතර එවැනි මඟකට ජනතාව යොමු කිරීමට ප්‍රයත්න දරයි.

වත්මන් අර්ථ ක්‍රමය ස්වභාවික වර්ධනයක ප්‍රතිඵලයක් නො වේ. එය ජීව වස්තුවක ඓන්ද්‍රිය වර්ධනය ඉක්මන් කිරීම සඳහා ආගන්තුක වශයෙන් සිදුකරන ලද බද්ධ කිරීමකට සමාන ය. යටත් විජිතවාදයත් සමඟ ම ලෝකයේ රටවල ජනතාවට ආගන්තුකව බද්ධ කරන ලද දේශපාලනික ආර්ථිකයකි. අද ලෝකයට උරුම ව ඇත්තේ මේ දේශපාලනික ආර්ථිකයකි. අද ලෝකයට උරුම ව ඇත්තේ මේ දේශපාලන ආර්ථිකය බහු ජනතාවක් බලහීනව දරිද්‍රව තබා සුළු කොටසක් බලවත් ව සුඛෝපභෝගී ව තබයි. ස්වභාවික සම්පත් නැවත පිළිසකර නොවන සේ විනාශ කර දමයි. මිනිස් සම්පත් නිර්මාණාත්මක අරමුණු වලට වඩා න්‍යෂ්ටික සම්ප්‍රදායික විනාශකාරී අවි ආයුධ නිපදවීමටත් ඒවා පෞද්ගලික හිංසා සහ වස්තු විනාශයට පමණක් නොව සාමූහික හිංසා සහ ශිෂ්ටාචාරයේ විනාශයට ද යොමු කරයි. මිනිස් සමූහ විසින් සංවිධානය කරනු ලැබූ ලෝභය, ද්වේශය සහ මෝහය විසින් කාලාන්තරයක් තිස්සේ ගොඩනැගූ හිංසක දේශපාලන ආර්ථික ව්‍යුහයක් මිනිසුන්ට පාලනය කරගත නොහැකි අන්දමට ස්වාධීනව මිනිස් සමාජ විනාශ කරමින් ස්වයං ක්‍රියාත්මක තත්ත්වයකට පත් ව තිබෙයි.

ඒවා පාලනය කරන්නට හදන අය ඒවායේ ම සිරකරුවන් වී තමනුත් පොදු ජනතාවත් විනාශය කරා යොමු කරන තත්ත්වයකට පත්ව සිටිති. රාජ්‍ය ත්‍රස්තවාදය, වාණිජ්‍ය සංස්ථා ත්‍රස්තවාදය, දේශපාලන ත්‍රස්තවාදය, රාජ්‍ය බාහිර පෞද්ගලික සහ සාමූහික ත්‍රස්තවාදය යන සියල්ල ම මෙම දේශපාලන-ආර්ථික ව්‍යුහයේ ස්වයංක්‍රීය ප්‍රතිඵල මිස ඒවායේ හේතුව නො වේ. හේතුව වැරදි දේශපාලන-ආර්ථිකය යි. ඒ විසින් කරනු ලැබූ ආධ්‍යාත්මික, සදාචාර සහ සංස්කෘතික පරිහානිය යි. එයට උපස්ථම්බක වූ වැරදි අධ්‍යාපනික, සෞඛ්‍ය, නායකත්ව ව්‍යුහයන්, ජනවාර්ගික සබඳතා, නීති රීති සහ විධි යි.

සර්වෝදය ආර්ථිකයක් ගැන කතා කිරීමේ දී ආර්ථිකය යනු ජනතාවට අවශ්‍ය හෝ ජනතාවක් ආශා කරන භාණ්ඩ සැපයීම, බෙදා හැරීම සහ පරිභෝජනය කිරීම යන්න පිළිබඳ ක්‍රියාවලියක් පමණක් නොව, ඒවා සිදු වන්නේ කුමන සාරධර්ම මුල් කරගෙන ද? කුමන අන්දමේ සාමාජික වැයකට යටත්ව ද? කුමන අන්දමින් සම්පත් ප්‍රයෝජනයට ගනිමින් ද? කුමන ජීවන රටාවක් සඳහා ද? කාගේ වුවමනාවන් සඳහා ද? යන ප්‍රශ්න ද අපගේ විමර්ශනයට සහ අවධානයට භාජනය වේ.

වැඩි වන ජනගහනයකට අවශ්‍යය ආහාර, ඇඳුම්-පැළඳුම්, නිවාස, අධ්‍යාපනය, සෞඛ්‍ය පහසුකම්, බලශක්තිය ආදී මූලික භාණ්ඩ හා සේවාවන් නොපමාව නිෂ්පාදන කළයුතු බවට තර්කයෙක් නැත. මෙම බහුතර ජනතාව සඳහා මෙ වැනි පූර්වතා ලැයිස්තුවක් සම්පාදනය කිරීමේ දී සර්වෝදය මුල්තැන දෙන්නේ බහු ජනතාවගේ අවශ්‍යතාවලට මිස ආශාවනට නො වේ. අසාරධාරණ ආයතනගත මාර්ගවලින් දේශීය හා විදේශීය නිෂ්පාදනයන් ගෙන් වැඩි කොටසක් උරුම කරගෙන සිටින පිරිසක් විසින් ආශාවන් මුල්කොට ගොඩනගා ගත් ජීවන රටාවකට අවශ්‍ය සුඛෝපභෝගී භාණ්ඩ හා සේවාවන් සමස්ත ජනතාවට ම අවශ්‍ය සේවා සහ භාණ්ඩ හැටියට ඔවුන්ගේ විඥ්ඤාණයට ඇතුළු කිරීමට වත්මන් සන්නිවේදන විද්‍යාව වැරදි ලෙස ප්‍රයෝජනයට ගෙන තිබේ. ස්වභාවයෙන් ම මිනිසා තුළ තිබෙන ආශාවන් සංයමයෙන් යුතු ව අවශ්‍යතාවයන් බවට හැරවීමට මෙම සන්නිවේදන මාධ්‍ය උපයෝගී කැර නො ගැනේ. ඒ වෙනුවට සන්නිවේදන මාධ්‍යය ද විශාල ම ධනෝපායන මාර්ගයක් නිසා ඔවුන් විසින් කැරෙන්නේ මෙ ම ආශාවන් තවත් උද්දීපනය කිරීම ය. මෙහි වත්මන් ප්‍රතිඵලය වී ඇත්තේ ලොවැ පුරා ම පවතින දිළිඳුකම, පාරිසරික සහ චිත්ත දූෂණය, අසහනය, න්‍යෂ්ටික තර්ජනය, යුද්ධ, මත්ද්‍රව්‍ය භාවිතය, ත්‍රස්තවාදය, අසාධාරණය, දේශපාලන වියවුල සහ සමාජ අසහනයන් ආදියේ අනිෂ්ට ඵලවිපාක සාමාන්‍ය අහිංසක ජනතාවට භුක්තිවිඳීමට සිදු වී තිබීම ය.

සර්වෝදය ආර්ථික දර්ශනයක් ගොඩනැඟීමේ දි වත්මන් ආර්ථිකයේ දුර්විපාක ගැන අප කල්පනා කළ යුතු ය. මේවා මධ්‍යයේ ම අපට අප ගේ ආර්ථික ක්‍රියාවල යෙදීමට සිදුවන අතර හැකි තරම් දුරට අප කරන ක්‍රියාවලින් එම දුර්විපාක තවදුරටත් වැඩීමට ඉඩ නො තැබිය යුතු ය. අප ගේ ආර්ථික දර්ශනය තුළින් මතු වන ප්‍රතිපත්ති සමුහයක් පැහැදිලි ව අපේ මඟ සලකුණු වශයෙන් තබාගත යුතු වෙමු. මෙයින් කිහිපයක් කලින් සඳහන් කළෙමි.

## ජන සහභාගිත්වය පෙරමුණට

සර්වෝදය දර්ශනය ගැන කතා කිරිමේදී සඳහන් කළ යුතු තවත් වැදගත් අංශයෙක් තිබේ. එනම් අප විශ්වාස කරන පරමාදර්ශී සමාජය පිළිබඳ ප්‍රශ්නය යි.

යටත්විජිත වශයෙන් තිබී මේ ශත වර්ෂයේ මැද භාගයේ සිට නිදහස ලත් බොහෝ රටවල පාලකයන් විසින් ඔවුන්ගේ රටවල් සඳහා ගොඩනැඟිය යුතු පරමාදර්ශී සමාජ ක්‍රමය හැටියට පිළිගත්තේ යුරෝපීය රටවල් පිළිගෙන තිබූ සුභසාධන රාජ්‍ය සංකල්පය යි. සුභසාදන රාජ්‍ය සංකල්පය සර්වෝදය විසින් ප්‍රතික්ෂේප කරනු ලබයි. ඒ වෙනුවට සුභසාධක සමාජ සංකල්පයක් ගැන සර්වෝදය විශ්වාසය තබයි. සුභසාධක සමාජ සංකල්පයේ ගැබ්ව ඇත්තේ රාජ්‍යයේ පරමාධිපත්‍යයයි. සුභසාධක සමාජ සංකල්පයේ ගැබ්ව ඇත්තේ ජනතාවගේ පරමාධිපත්‍යයයි. රාජ්‍යයක් විසින් ජනතාවගේ සුභසාධනය සඳහා සම්පූර්ණ වගකීම පවරා ගැනීමේ දී ජනතාව විසින් ම ජනතාවගේ යහපත සඳහා කටයුතු කිරීමේ සම්ප්‍රදාය සහ පුරුද්ද දෙ වැනි තැනට වැටේ. මිනිස් ජීවිතයේ උසස් ගුණයන් වූ දයාව, කරුණාව, මෛත්‍රිය, පරිත්‍යාගය, සාමූහිකත්වය ආදිය උද්දීපය කිරීමට තිබෙන ඉඩකඩ සීමාවේ. සෑම මිනිස් සේවයක් ම ජන ශක්තියට වඩා රාජ්‍යයේ දණ්ඩ ශක්තිය යොදා ඉටු කිරිමට ඉඩ සැලසේ. රාජ්‍ය තන්ත්‍රය මෙහෙයවන්නන් ගේ බලය ද නිලධාරීවාදය ද ජන බලය අභිබවා ඉස්මතු වේ. පාලන ව්‍යුහයන් සහ කාර්යක්ෂම තාක්ෂණයත් මානව ධර්ම අභිබවා යයි. පක්ෂපාතීත්වය, දූෂණය, මධ්‍යගත වීම, රාජ්‍යය සහ ජනතාව අතර ලන් කළ නොහැකි දුරස්ථභාවයක් ඇතිවීම ආදිය මෙහි ප්‍රතිඵලය වේ. ජන ජීවිතයේ ගුණාත්මකභාවය දියුණු කිරීමට යොදාගත හැකි මූල්‍ය හා මානව සම්පත් යථෝක්ත යෝධ ව්‍යුහයන් සහ මිල අධික තාක්ෂණයන් නඩත්තු කිරීමට නාස්ති වේ.

## ජනතා මධ්‍යගත ක්‍රමයක්

සුභසාධන සමාජයක ආරම්භය පුද්ගලයා, පවුල සහ ග්‍රාමීය හා නාගරික ජන කොට්ඨාශය යි. මොවුන්ගේ මූලික මානුෂික අවශ්‍යතා ද ද්විතීයික මානුෂික අවශ්‍යතා ද සම්පූර්ණ වීමේ දී ඔවුන්ගේ ම ස්වශක්තිය, සාමූහිකත්වය සහ සාරධර්ම මුල් තැන ගතයුතු අතර රාජ්‍යය මැදිහත් විය යුත්තේ එම සුභසාධන සමාජ සංකල්පයේ ක්‍රියාකාරිත්වයට තිබෙන නීතිමය බාධා ඉවත් කිරීමට සහ එම ක්‍රියාදාමවලට අවශ්‍ය සම්පත් සහ යෝග්‍ය තාක්ෂණය ජනතාවගේ අපේක්ෂාවනට අනුකූල ව ලබාදීමට යි.

මෙහි දී විමධ්‍යගත කිරීම යන බටහිර සංකල්පය පැන නොනගී. විමධ්‍යගත කිරීම යන බටහිර සංකල්පයෙන් අදහස් වන්නේ මහා පරිමාන නිෂ්පාදන පුළුල් ව පතුරුවා, විසුරුවා හැර විමධ්‍යගත කිරීමකි. එහි මෙහෙයවීම මධ්‍යගතය. ජන ස්වරාජ්‍යය, ජන සම්මුති, සංකල්පය ඉස්මතු කිරීම සිදු විය යුත්තේ මෙම කුඩා ඒකකවල අනන්‍යතාවක් ගොඩනැඟෙන පරිදි සාමාජික, දේශපාලනික සහ ආර්ථික ව්‍යුහයන් ඒකරාශී කිරීමයි. ඒ මගින් ජාතික අනන්‍යතාවක් ගොඩනැංවීමට මඟ පෑදීම යි.

## අවශ්‍යතා මුල්තැනට

මූලික මානුෂික අවශ්‍යතාවන් යනුවෙන් අප මෙහිදී සඳහන් කරන්නේ මනුෂ්‍ය ජීවිතය ගෙනයෑමට අවශ්‍ය පරිසරය, ජලය, ඇඳුම්, ආහාර, නිවාස, සෞඛ්‍යය, බලශක්තිය, සන්නිවේදනය, අධ්‍යාපනය, සංස්කෘතිය, සහ ආධ්‍යාත්මික දියුණුව ආදී අවශ්‍යතා ය. ද්විතීක අවශ්‍යතාවන් යනුවෙන් හඳුන්වන්නේ පාසැල්, රෝහල්, තැපැල්හල්, මංමාවත්, වාහන පහසුකම්, වාරිමාර්ග වෙළඳපල, සිද්ධස්ථාන, ක්‍රිඩාභූමි ආදී සාමූහිකව අවශ්‍ය වන දේවල් ය. තෘතියික අවශ්‍යතා යනුවෙන් අදහස් කරන්නේ ප්‍රජා මට්ටමට ඉහළින් දේශීය මට්ටමෙන් සම්පූර්ණ කරගත යුතු මහාමාර්ග සේවා, දුම්රිය සේවා, පොලිස් සේවා, ජාතික ආරක්ෂක සේවා, විදේශීය සම්බන්ධතා, ජාතික ආර්ථිකය, ජාතික අධිකරණය ආදී අංශ යි.

## සන්නිවේදන මුලාව

සුභසාධන සමාජ සංකල්පයේ ප්‍රධාන ම ලක්ෂණයක් වන්නේ සුභසාධක රාජ්‍ය සංකල්පයෙන් මහජනයා මත පැටවෙන පීඩනය සහ මර්දනය ඉවත් කිරිම අපේක්ෂා කිරීමයි. බලවත් මධ්‍යගත රාජ්‍ය බොහෝවිට හසුරුවනු ලබන්නේ කුඩා බල කණ්ඩායම් විසිනි. මොවුහු සන්නිවේදන මාධ්‍යයන් සහ ජාතික ආර්ථිකය ද පාලනය කරති. නවීන සන්නිවේදන මාධ්‍යය යොදා බහුතර ජනතාවට සාක්ෂාත් කරගත නොහැකි ආර්ථික රටාවක් ජනතා විඥ්ඥාණය තුළ ආරෝපිත කොට ඔවුන් තුළ එම සමාජ ක්‍රමය ගැන ව්‍යාජ විශ්වාසයක් ඇති කරති. මේ සන්නිවේදන මුළාවට පොදු මහජනතාව පමණක් නොව කල්යෑමේ දී ඒවා හසුරුවන අය ද අසු වෙති.

ජනතාව ගේ මූලික අවශ්‍යතා සැපිරීමට සම්බන්ධ වූ ස්වයංපෝෂිත ගැමි ආර්ථික ඒකකයන් පවා මධ්‍යගත වාණිජ්‍ය ආර්ථික යන්ත්‍රයක දැති රෝද බවට පත් කොට අසාධාරණ බහු ජාතික දේශපාලන ආර්ථිකයකට, සමස්ත ජනතාව ම යොමු කිරීමට මොවුහු සමත් වෙති. ධනවාදි සුභසාධක රාජ්‍යවලට පමණක් නොව සමාජවාදී සුබසාධක රාජ්‍යවලට ද මේ විෂම දේශපාලන ප්‍රවේශයෙන් මිදීමට අපහසු තත්ත්වයක් අද ඇති වී තිබේ.

සර්වෝදයෙන් ඉදිරිපත් කරන සුබසාධන සමාජ සංකල්පය වනාහි ධනවාදි සහ සමාජවාදී සුභසාධක රාජ්‍ය සංකල්පයේ සීමාවන් බිඳගෙන යන නව දේශපාලන ආර්ථික ප්‍රවනතාවයකි. මේ තීරණාත්මක කාර්යය ඉටු කරන්නේ ඔවුන්ගේ සංස්කෘතික සාරධර්ම, මූලික හා ද්විතීයික අවශ්‍යතා සහ ප්‍රජා සංවිධාන ඇතුළත සංවිධාන වන ජන කොට්ඨාශ විසින් ම ය. තෘතීයික අවශ්‍යතා සැපයීමේ ව්‍යුහයන් ගොඩනැගෙන්නේ මේ ජනතා සහභාගිත්වය ව්‍යුහයන්ගේ ඕනෑ එපාකවලට අනුව මිස වරප්‍රසාද ලත් සුළු පිරිසකගේ වරප්‍රසාද රැක ගැනීම යටිහිතේ තබාගෙන නොවේ.

## ජනතා ක්‍රියාදාමයන්

අපි දශක තුනක පමණ කාලයක් තුළ දී අනුක්‍රමයෙන් ගම්මාන අට දහසකට පමණ මේ සුභසාධක සමාජ සංකල්පය ව්‍යාප්ත කර ඇත්තෙමු. එම සංකල්පය ජනතා ක්‍රියාදාමයක් බවට පත්වන අන්දමට විවිධ ශිල්පීය ක්‍රම හඳුන්වා දී ඇත්තෙමු. සිඟිත්තාගේ සිට වැඩිහිටි ගම්වැසියන් තෙක් වූ විවිධ වයස් සීමාවලට අයත් වන සමූහවලට කාර්යබද්ධ ව සංවිධානය විය හැකි ශිල්පීය මාර්ග ද මේවාට ඇතුළත් ය. පවතින නීතියේ අඩුපාඩුකම් වලට අවධානය යොමුකර ඇති අතර ප්‍රායෝගික වශයෙන් එම නීති රාමුව තුළ සමිති වශයෙන් සංස්ථාපිත වී ජනතාවගේ වාසියට කටයුතු කළ හැකි අන්දම පිළිබඳ ව දොරවල් විවෘත කර ගත හැකි ආකාරය පොදු ජනතාව ලවා ම සොයාගැනීමේ මාර්ග සාදා ඇත්තෙමු. පවතින සමාජ ක්‍රමයත් එයින් ජනතාවට වන වාසි අවාසිත් ගොඩනැංවිය යුතු සමාජ ක්‍රමයක් එයින් වන වාසි අවාසීන් පිළිබඳ ප්‍රජාවබෝධයක් ඇති වීමට ඉඩ සැලැස්වීම සර්වෝදය සංවර්ධන අධ්‍යාපන ව්‍යායාමයේ විශේෂ ලක්ෂණය විය.

## අර්බුද හසුරුවීම

දේශපාලන ආර්ථිකයේ විෂමතාව ඉස්මතු වන්නේ නිතැතින් ම දේශපාලන සහ ආර්ථික ක්ෂෙත්‍රවල විද්‍යමාන වන පරස්පර විරෝධීතාවන් තුළින් නො වේ. යම් යුගයක දී මේ සංස්ථා මෙහෙයවන අය විසින් වත්මන් සන්නිවේදන යන්ත්‍රය පාවිච්චි කොට ඔවුන් පමණක් භුක්තිවිඳින ප්‍රජාතන්ත්‍රවාදය ජනතාවගේ පොදු ගැලවුම්කරු බවත් ඔවුන් පමණක් සාපේක්ෂව වැඩි වාසිවිඳින නිදහස් ආර්ථිකය ජනතාවගේ පොදු ආරක්ෂකයා බවට ඒත්තු ගන්වනු ලබයි. හදිසිනීති, ත්‍රස්තවාදය වැළැක්වීමේ පණත්, දණ්ඩබලය, හමුදාබලය යෙදවීම ආදිය මහජනාරක්ෂාව සඳහා ප්‍රජාතාන්ත්‍රවාදයේ හා ආර්ථික සුභසාධනයේ සුරක්ෂිතභාවය සඳහා ගනු ලබන පියවර බවත් මෙ වැනි යුගවල දී පාලන පක්ෂය ප්‍රකාශ කරයි. ප්‍රජාතාන්ත්‍රික විරෝධතා පෑමේ අයිතිය නැතිවීම, වෘත්තීය අයිතිවාසිකම් මැඩලීම, ජීවිතාරක්ෂාව සඳහා පොදුවේ පැතිර යන බිය, සමාජ සාමය පවතින බව ඒත්තු ගැන්වීමට යොදා ගන්නා ජන මාධ්‍ය උපායයන්, ආර්ථික නිෂ්පාදිතය ණයවලින් හා පාරිතෝෂික දීමනාවලින් ආනයනය කරන ලද භාණ්ඩවලින් කෘතිම ලෙස ප්‍රසාරණය කොට සමෘධිමත් වෙළඳපලක් මවා පෙන්වීම ආදී සූක්ෂම මාර්ගවලින් පොදු ජනතාව නිෂ්ක්‍රීය කර තැබීමට වරප්‍රසාද ලත් දේශපාලන ආර්ථිකය මෙහෙයවන්නෝ කල්පනා කරති. මේ කාරණා නිසා දේශපාලන ආර්ථිකයේ විෂමතාව සැබෑ ලෙස දැකීමේ අවස්ථාව පොදු ජනතාවට නොලැබී යයි. එහෙත් මෙය තාවකාලික ස්වභාවයෙකි.

## විෂම තත්ත්වයන්

මන්දපෝෂණය ඉහළ යයි. සාක්ෂරතාව පහළ බසියි. සියදිවි නසා ගැනීම් ඉහළ යයි. අපරාධ, දූෂණ, වංචා වැඩිවෙයි. කය වෙහෙසා අවංක ව ජීවිකාවක් කරගන්නට ඩාදිය හෙළන ගොවියා, කාර්මිකයා හා කම්කරුවා අතරමැදි වංචනිකයන් පොහොසත් කරයි.

විශ්ව විද්‍යාල පන්ති පැවැත්වෙන කාල සීමාවට වඩා වැඩි කාලයක් වර්ජන විරෝධතාවලට ගතවෙයි. කලින් නොඇසූ විරූ අපරාධ හා ප්‍රතිඅපරාධ ඒවායින් වාර්තා වෙයි. පාසැල් අධ්‍යාපනයේ සිටිය යුතු තරුණ තරුණියෝ ජාතික රජයට පමණක් නොව ලොවැ බලවත් රාජ්‍යයෙක හමුදාවලටත් පාලනය කරගත නොහැකි අන්දමට අවි සටන්වල යෙදෙති. මේ ආදී දහසක් සමාජ අසහනයනට පදනම් වී ඇත්තේ දේශපාලන, ආර්ථික ව්‍යුහය බවත් බාහිර ව පෙනෙන සියලු ම වෙනත් සිද්ධීන් එහි බාහිර ප්‍රතිඵල බවත් අපි තේරුම් ගතයුතු වෙමු. වෙනස් කළ යුත්තේ ඒ දේශපාලන-ආර්ථික ව්‍යුහය යි.

## අගනා අවස්ථාවක්

පවතින සමාජ ක්‍රමය අහිංසාවාදී විප්ලවීය මාර්ගයක් තුළින් වෙනස් කිරීමට සර්වෝදය බැඳී සිටී. එ සේ නම් නව දේශපාලන ආර්ථිකයක අරමුණ ඔස්සේ අපි අපේ ආර්ථික ක්‍රියාදාමයන් මෙහෙයවිය යුතු වෙමු. ශ්‍රී ලංකාවේ සිවිල් පාලනය බොහෝ ප්‍රදේශවල දුර්වල වෙමින් පවතින අතර පළාත් දෙකක සම්පූර්ණයෙන් ම වාගේ බිඳ වැටී තිබේ. ජනතා මට්ටමින් නව දේශපාලන-ආර්ථිකයක බීජය රෝපනය කිරීමට මෙය හොඳ අවස්ථාවකි. එහෙත් පවතින ක්‍රමය සම්පූර්ණයෙන් බිඳ වැටී නොමැති නිසාත් විකල්පීය සිවිල් පාලනයක් ගොඩනැගී නැති නිසාත් මේ අතරේ සිට ජන සහභාගිත්වය හා විශ්වාසය දිනා ගනිමින් නව ප්‍රවේශයන් හඳුන්වාදීමේ අභියෝගයන්ට මුහුණ දීමට සර්වෝදයට සිදු වේ.

## සර්වෝදය ආර්ථික ප්‍රතිපත්ති

ධනවාදී ආර්ථික විද්‍යාඥයන් කතා කරන මිශ්‍ර ආර්ථිකය රජයේ සහ පෞද්ගලික අංශයේ සංකලනයකි. තව දුරටත් ඉහත සඳහන් කළ පෙදෙස්වල එහි ජීවයක් දක්නට නො ලැබේ. මිශ්‍ර ආර්ථිකය ගැන කතා කරන ඔවුන් ගේ මනසේ තිබෙන්නේ මහා පරිමාන ජාතික මට්ටමේ ආර්ථික ක්‍රියාවලි වෙයි. අප ගේ අවධානයට මුලින් යොමු වන්නේ ගැමි ජන කොට්ඨාශයන් විසින් ඔවුන් ගේ ග්‍රාම සීමාවන් තුළ තිබෙන මානව සහ ස්වභාව සම්පත් ඔවුන්ගේ මූලික අවශ්‍යතාවන් පිරිමැසෙන අන්දමට නිෂ්පාදන කාර්යයෙහි යොදවා ගැමි ආර්ථිකය නිවහල් මඟකට යොමු කිරීම ය. එයට එරෙහි වන සම්බාධක අහිංසාවාදී සංවර්ධන මාර්ගවලින් හා නීතියේ වෙනස් කිරීම තුළින් ඉවත් කිරීමට යම් වරප්‍රසාද ලත් කොටස් එරෙහි වුවහොත් හිංසාවාදී ක්‍රියාමාර්ගවලින් ජීවිත විනාශවන අරාජික

තත්ත්වයකට මුහුණ දීමට ඔවුන් සූදානම් විය යුතු ය. අසාධාරණ දේශපාලන-ආර්ථිකයක් අහිංසාවාදී ව සාධාරණත්වය දෙසට නො හැරුණොත් සිදු වන්නේ එම ඵල විපාකය යි. මේ තත්ත්වය යටතේ අප අනුගමනය කළ යුතු ආර්ථික ප්‍රතිපත්ති කීපයක් මීළඟට සඳහන් කරනු කැමැත්තෙමි. ඒවා නම්,

(1) ඒකාබද්ධ ප්‍රජා සංවර්ධන ව්‍යායාමය තුළින් ආධ්‍යාත්මික සදාචාර සංස්කෘතික හා සාමාජික සංවර්ධනයක් දෙසට යොමු වී තිබෙන අපේ ගම්මාන ශක්තිමත් විකල්පීය දේශපාලන-ආර්ථික ප්‍රවණතාවයකට යොමු කිරීම.

(2) ජීවන තත්ත්වයේ ක්‍රියාත්මක වර්ධනයකට තුඩුදෙන්නා වූත්, මූලික මානුෂික අවශ්‍යතා ජන කොට්ඨාශ මට්ටමෙන් සැපිරෙන්නා වූත් නිෂ්පාදන ක්‍රියාවලියනට පූර්වතා දීම.

(3) ගම් ගොණු වශයෙන් සංවිධානය කොට මූලික හා ද්විතීයික මානුෂික අවශ්‍යතා සම්පූර්ණ කෙරෙන සංවර්ධන ව්‍යායාමයන් විද්‍යානුකූලව දියත් කිරීම සහ බාහිර වෙළඳපොල විසින් එම භාණ්ඩ හා සේවා ආක්‍රමණශීලීව ගැමි ජනතාව පිට පැටවීම සඳහා ගෙන ඇති ක්‍රියාමාර්ග පිළිබඳව ඒ සමඟ ම ගැමි ජනතාවට අධ්‍යාපනයක් දීම.

(4) ධනවාදී හිංසාවාදී ආක්‍රමණශීලී බාහිර වාණිජ්‍ය ආර්ථිකයට මුහුණ දිය හැකි පරිදි සර්වෝදය ගම් සහ ගම් ගොණුවල නිෂ්පාදනය, බෙදාහැරීම හා පරිභෝජනය විධිමත්ව ප්‍රාදේශීය හා දිස්ත්‍රික්ක මට්ටම්වල ද සංවිධානය කිරීම තුළින් පොදු ජනතාව ආරක්ෂා වන ආර්ථික ආවරණයක් ගොඩනැංවීම.

(5) ස්වශක්තිය, සාමූහිකත්වය, ස්වයංපෝෂණය සහ ජාතිකත්වය ඉස්මතු වන අන්දමට මේ විකල්පීය ආර්ථික ක්‍රියාවලිය ජාතික හා ජාත්‍යන්තර මට්ටම දක්වා අනුක්‍රමයෙන් පුළුල් කිරීම.

(6) ගනු ලබන සෑම පියවරකදී ම අවශ්‍යතා සැපිරීම, අඩුම ආදායම් ලබන කොටස්වල ආදායම් වැඩි කිරීම, රැකියා සැපයීම, යෝග්‍ය තාක්ෂණය උපයෝගී කරගැනීම. ජනතා කළමනාකාරිත්ව නිපුණත්වය දියුණු කිරීම, සුබෝපභෝගීත්වය පිටුදැක චාම් සරල ජීවන රටාවකට යොමු කිරීම, නාස්ති වැළැක්වීම සහ පාරිසරික සහ සෞඛ්‍ය සංරක්ෂණය ගැන අවධානය දැක්වීම යන ප්‍රතිපත්ති අනුව කටයුතු කිරීම.

(7) පක්ෂ සහ බල දේශපාලනයට හසු නොවී අඩුවාසි ලබන දිළිඳු කොටස්වලට වැඩි වාසි ලැබෙන අන්දමට පමණක් සකස් වූ රාජ්‍යමය, මූල්‍ය ආයතනමය සහ ආධාරක ආයතනීය පහසුකම් ප්‍රයෝජනයට ගැනීම.

(8) මෙම ආර්ථික ප්‍රවණතාව ඇති කිරීමේ දී දශක තුනක් තුළ ගොඩනඟා සර්වෝදය තුළින් පරිණාමය වී ඇති මිනිස් හා ව්‍යුහමය සම්පත් උපරිම වශයෙන් ප්‍රයෝජනයට ගැනීම.

(9) පුහුණු ආගන්තුක මිනිස් ශ්‍රමය, නව තාක්ෂණය සහ කළමණාකාරිත්වය සර්වෝදය ආර්ථික කටයුතුවලට උපයෝගී කර ගැනීම අවශ්‍ය වන අතර එසේ උපයෝගි කර ගැනීමේ දී ඒවා ගොඩනංවා තිබෙන්නේ අප අරමුණු කරන සාධාරණ ජනතා ආර්ථිකයක් සඳහා නොවන බව සිහියේ තබාගෙන අවශ්‍ය ආකල්පීය හා ක්‍රම විද්‍යාත්මක වෙනස්කම්වලට භාජනය කොට ප්‍රයෝජනයට ගැනීම සහ

(10) විදේශාධාර විදේශීය සම්පත් හා විදේශීය ආර්ථික සම්බන්ධතා ඇති කර ගැනීමේ දී දැනට පවතින ඒක පාක්ෂික යටත් විජිත ආර්ථික ආකල්ප හා ව්‍යුහවලට අසු නොවී සමානාත්මවාදී ද්විපාක්ෂික අන්‍යොන්‍ය සබැඳියාවන් ගොඩනැඟෙන අන්දමට පමණක් එම සම්බන්ධතා ඇති කර ගැනීම යි.

ඉහත සඳහන් කළ ප්‍රතිපත්ති දහය අනුගමනය කිරීමෙන් දැනට පවතින අසාධාරණ දේශපාලන-ආර්ථිකය එක වර ම වෙනස් කළ හැකි ය යි අපි නො සිතිය යුතුවෙමු. එහෙත් අපට අවශ්‍ය වනුයේ නව දේශපාලන-ආර්ථික දර්ශනයක් කෙරෙහි ජනතාවගේ අවධානය යොමු කිරීම. අප කරන ආර්ථික ක්‍රියාමාර්ග තුළින් උත්තේජකයක් වශයෙන් ක්‍රියා කිරීම සහ ආර්ථිකයේ පූර්ණ අහිංසාවාදී විප්ලවීය වෙනසක් සඳහා සර්වෝදයේ මෙන් ම බාහිර දේශපාලන සහ වෙනත් ආයතනවල ද අවධානය යොමු වන ප්‍රායෝගික ක්‍රියාමාර්ග දියත් කිරීම යි.

## ප්‍රජා සංවර්ධනය තුළින් ආර්ථික ක්‍රියා මාර්ගයකට

ජන කොට්ඨාශ අට දහසක, තිස් ලක්ෂයක් පමණ වූ ජනතාවක් සහභාගී කරගෙන අප අරඹා ඇති ප්‍රජා සංවර්ධන ක්‍රියාදාමයන් අපේ ජාතික ආර්ථික ප්‍රවිෂ්ඨතාවේ අඩිතාලමේ විය යුතු ය. මෙයින් ගම් 5000 ක් තෝරාගෙන අපි ජීවනාලිය වැඩ සටහන් ක්‍රියාත්මක කරමු. සාමාන්‍යයෙන් ගමක් මානසික, සාමාජික, ආයතනීකරණීය අවස්ථා පසුකළ පසු සතරවැනි අවස්ථාවේ දී යි. අප විසින් ආර්ථික ක්‍රියාමාර්ග සඳහා ආයෝජනයන් කරන්නේ. එහෙත් එය නොවෙනස් කළ හැකි සිද්ධාන්තයක් යැයි නො සිතා අවශ්‍ය මූලික සාධක සම්පූර්ණ වී තිබේ නම් සම්පත් සොයාගත හැකි නම් කෙළින් ම යම් ග්‍රාමීය හෝ නාගරික දුප්පත් ජන සමූහයකගේ ආදායම් තත්ත්වය හා රැකියා සැපයීමට තුඩු දේ නම් ආර්ථික ව්‍යාපෘතියක් ඔවුන් ගේ ම වගකීම යටතේ ඇරැඹීමට උදව්වීමට අපි නො පසුබට වෙමු.

සර්වෝදයට කළමනාකාරිත්ව පුහුණු ආයතනයක් ද තිබේ. පරමාර්ථයක් දෙසට ගමන් කිරීමේ දී එහි නායකත්වය සංවිධානාත්මක ක්‍රියාකාරකම්වල යෙදෙන

විද්‍යාව හා කලාව කළමනාකාරිත්වය යනුවෙන් සැලකිය හැකිය. ග්‍රාමීය හා නාගරික කුඩා ජන කොට්ඨාශ පදනම් කොට ක්‍රියාත්මක වන දීප ව්‍යාප්ත ව්‍යාපාරයක් නිසා සර්වෝදයේ කළමනාකාරිත්ව පුහුණුව ඉලක්ක වන්නේ එම කොට්ඨාශවලටය.

කළමනාකරණය පිළිබඳ න්‍යාය ධර්ම සහ ක්‍රියාමාර්ග එක් සංස්කෘතියක සිට තවත් සංස්කෘතියකට සමස්තයක් වශයෙන් මාරු කළ හැකි නො වේ. බොහෝ නවීන කළමනාකරණ සිද්ධාන්ත හා විධි බටහිර කළමනාකාරිත්ව තාක්ෂණයෙන් උපුටා ගත් ඒවාය. අපට අවශ්‍ය වන්නේ ගැමි ජනතාවගේ අවශ්‍යතා ව්‍යුහයට සරිලන අන්දමේ කළමනාකාරිත්ව තාක්ෂණයකි. එය අප විසින් ම නිර්මාණය කරනු ලැබිය යුතු ය. අපේ ගැමි ජන සමාජවල අනන්‍යතාවන් හා සාමාජික සංස්කෘතික පසුබිම අනුව එම නිර්මාණය සිදුවිය යුතු ය.

මා කලින් සඳහන් කළ පරිදි මේ කාර්යයන් කළ යුතු ව තිබෙන්නේ පවතින සැබෑ තත්ත්වයන් යටතේ ය. විශේෂයෙන් අසාධාරණ හිංසක පරිසරයක් තුළ ය. බලවතුන් අන්ත දෙකක සිට සටන් වැදී අතරමැද සිටින අහිංසකයන් ලවා දෙ පැත්තට ම වන්දි ගෙවන යුගයක ය. අහිංසාවාදී විප්ලවීය මගක් හැර අපට වෙනත් විකල්පයක් නො පෙනේ. එම මගෙහි ශක්තිමත් ජන සහභාගිත්වක දේශපාලන-ආර්ථික පදනමක් දැමීම ද සර්වෝදය අපේ ශක්ති ප්‍රමාණයෙන් කරමු. සැතපුම් දහසක් යැමට වුවත් පළමු පියවරක් පෙරට තැබිය යුතු ය.

## සාමාජික සංවර්ධනය

"රට-දැය-සමය" දේශපාලනය සහ ආර්ථිකය පිළිබඳ ව මෙන් ම සාමාජික සංවර්ධනය ගැන ද පැහැදිලි චින්තනයක් අප තුළ තිබීම අතිශයින් ම වැදගත් ය. සාමාජික යන වචනයෙන් අප අදහස් කරන්නේ කුමක්දැයි දෙවෙනි පරිච්ඡේදයේ දී විස්තර කළෙමු. එහි අංශ අටක් ගැන අපි සඳහන් කළෙමු. එයින් අංශ හතරක් ගැන පමණක් එනම්, අධ්‍යාපනය, මානව අයිතිවාසිකම් සහ යුතුකම්, සෞඛ්‍යය සහ දෑ සමගිය යන අංශ හතර ගැන පමණක් මෙහි දී සර්වෝදය අදහස් දක්වනු ලැබේ. සෙසු අංශ ගැන මේ පොතේ වෙනත් තැන්වලසඳහන් කර තිබේ.

## අධ්‍යාපනය

වත්මන් සමාජ අර්බුදය පැහැදිළිව දිස්වන තැනකි. අපේ අධ්‍යාපන ආයතන, විශ්ව විද්‍යාල වැනි උසස් අධ්‍යාපන ආයතනවල මතු වී තිබෙන අසහනකාරී තත්ත්වය ගැන කවුරුත් දනිති. විශ්ව විද්‍යාල විවෘත කර තිබෙන දින ගණනට වඩා පන්ති නොපවත්වා තිබෙන කාලසීමාව වැඩිය. විශ්ව විද්‍යාල තුළ ඇති වී තිබෙන පරිහානිය, ශිෂ්‍ය ප්‍රශ්න විසඳීමට රජය ඇතුළු බාහිර ආයතන පමණක් නොව විවිධ මැරවර කණ්ඩායම් ද විශ්ව විද්‍යාල තුළට පිවිස ශිෂ්‍යයනට පහරදීම් සඳහා මැදිහත්වීම් ආදියෙන් පෙනේ.

සමහර විට ශිෂ්‍යයන් විසින් ශිෂ්‍යයන්ට තුවාල කිරීම් සහ ජීවිත හානි කිරීම් ගැන අසන්නට ලැබේ. පොලිස් හා ආරක්ෂක හමුදා ද විශ්ව විද්‍යාලවල කලබල මැඩ පැවැත්වීමට විශාල වශයෙන් මේ යුගයේ යොදාගෙන තිබේ.

විශ්ව විද්‍යාලවල ඉගෙන ගන්නා අයියලා, අක්කලාගේ ප්‍රශ්න, ද්වීතියික කනිටු සහ ප්‍රාථමික පාසැල්වල නංගිලා මල්ලිලා වෙත ද කාලයත් සමඟ ළඟාවීම බලාපොරොත්තු විය යුතු සාමාජික ස්වභාවයකි. පසුගිය දා බොහෝ ප්‍රදේශවල දෙ වැනි, තුන් වැනි පන්තිවල සිසුන් පවා පන්තිවලින් එළියට බැස සටන්පාඨ උසුලාගෙන පෙළපාලි පැවැත්වූ බව බොහෝ ප්‍රදේශවලින් අපට වාර්තා විය.

මෙ වැනි බාහිරින් පෙනෙන සිද්ධීන් පිළිබඳ ව ශිෂ්‍යයනට හෝ ගුරුවරුනට පමණක් දෝෂාරෝපනය කොට ඒවා නිවැරදි කිරිමට දණ්ඩබලය පමණක් පාවිච්චි කිරිම අනුවණ කමකි. නොඑසේ නම් විදුහල්පතිවරුන්ට සහ දෙමාපියනට හෝ දේශපාලන කන්ඩායම්වලට දොස් නැගීම ද ප්‍රශ්නයට පිළිතුරක් නො වේ. වරද හරි ගැස්විමට නම් ප්‍රශ්නය ගැඹුරින් තේරුම් ගැනීම වැදගත් ය. මෙහි දී ඉහත සඳහන් කොටස්වලට පමණක් හෝ එම කොටස් විසින් රජයට හෝ චෝදනා හා ප්‍රතිචෝදනා කිරීමෙන් පමණක් ප්‍රශ්නය තවත් අවුල්වන බව අපි ප්‍රකාශ කරමු. යම් යම් ප්‍රශ්නවලට කොටස් වශයෙන් සම්මුතිය ඇති කරගෙන තාවකාලික ව එම ප්‍රශ්න කොටස්වලට කඩින්-කඩ තාවකාලික විසඳුම් යෙදීම කොහෙත් ම විසඳුම් නොයෙදීමට වඩා හොඳය. එහෙත් නිවැරදි ක්‍රමය වන්නේ ප්‍රශ්නය දෙස සමස්තයක් වශයෙන් දීර්ඝකාලීනව බලා පළමු පියවර තැබීම ය.

අපේ අධ්‍යාපනයේ ඉලක්කය විය යුත්තේ සෑම දරුවකු ම විශ්ව විද්‍යාලයකට යොමු කිරීම නො වේ. පූර්ණ පෞරුෂෝදයකට යොමුකරවීම යි. පූර්ණ පෞරුෂෝදයක පදනම වැටෙන්නේ විධිමත් ද්විතියීක සහ උසස් අධ්‍යාපන ආයතන මුල් වී නො වේ. එය සිදු වන්නේ පවුලට සහ ගමට සමීප වූ පූර්ව ප්‍රාථමික අධ්‍යාපනය ශක්තිමත් පදනමක පිහිටුවීමෙනි. මෙම අධ්‍යාපනය ප්‍රජාපාදිත අධ්‍යාපන ක්‍රමයක් වියයුතු බව අපේ නිගමනය යි.

ආයතනීය පාදිත ද්විතීයික සහ උසස් අධ්‍යාපන ක්‍රමයකින් සිදුවිය යුත්තේ පූර්ණ පෞරුෂෝදයක් සඳහා පදනම වැටුණු බාල පරම්පරාවක් සඳහා "රට-දැය-සමය" ආරක්ෂාව, පැවතීම සහ සාධාරණ සංවර්ධනයක් කෙරෙහි අවශ්‍ය වූ චින්තනීය සහ තාක්ෂණික ප්‍රවීණතාවන් ලබාදීම යි.

ප්‍රජාපාදිත සහ ආයතනීය පාදිත අධ්‍යාපන ක්‍රමයන් අතර කිට්ටු සම්බන්ධයක් තිබිය යුතුය. එ මෙන් ම මෙ ම විධිමත් අධ්‍යාපන ක්‍රමය පූර්ණ ජාතික අධ්‍යාපන ක්‍රමයක් බවට පරිවර්තනය වන්නේ අවිධිමත් සහ නොවිධිමත් අධ්‍යාපන ක්‍රමයන් ද ඒවා සමඟ එකතු වූ විට ය. බොදු ඇසින් බලන විට "චක්ඛු උදපාදි - ඥානං උදපාදි- පඤ්ඤා උදපාදි - විජ්ජා උදපාදි - ආලෝකෝ උදපාදි" යනුවෙන් දේශිත පරිදි නිවන් පසක් කර ගැනීම තෙක්ම විහිදෙන ආත්මාවබෝධනීය ක්‍රියාදාමය සැබෑ අධ්‍යාපනය යි.

යාවජීව අධ්‍යාපනය යනුවෙන් නූතන අධ්‍යාපනඥයෝ අධ්‍යාපනය ගැන සඳහන් කර ඇත්තේ මේ අන්දමට අධ්‍යාපනය අඛණ්ඩ ක්‍රියාදාමයක් හැටියට සැලකිල්ලට ගැනීමෙනි.

වත්මන් අධ්‍යාපන ක්‍රමයෙහි මේ අන්දමේ අඛණ්ඩ භාවයක් හෝ පරිපූර්ණ භාවයක් හෝ නැත. එය සකස් කර තිබෙන්නේ වයස් සීමාවන්, පන්ති කාමර, පත-පොත, විභාග, අධ්‍යයන නිර්දේශ විෂය මාලාවන් කලා-විද්‍ය-වාණිජ ආදී විෂය ක්ෂෙත්‍රයන් පවතින අසාධාරණ සමාජ ක්‍රමයේ දේශපාලන ආර්ථික අවශ්‍යතාවන් ආදී වූ අංශයන් ගැන පමණක් සලකා බැලීමෙනි. මේ සියල්ල ම වැදගත් බවට කිසිදු ප්‍රශ්නයක් නැත. එහෙත් යම් ජාතියක අධ්‍යාපන දර්ශනය එම ජාතියේ පොදු චින්තනයේ ම කොටසක් වියයුතු අතර එයට ගැලපෙන්නක් ද විය යුතු ය.

මෙ තෙක් ශ්‍රී ලංකාවේ සිදුකරන ලද අධ්‍යාපන ප්‍රතිසංස්කරණයන් විවිධ ප්‍රශ්නවලට මුහුණ දීම සඳහා කරනු ලැබූ ප්‍රතික්‍රියාවන් මිස වත්මන් තත්ත්වය සමස්තයක් හැටියට  අපක්ෂපාතීව සලකා බලා කරණ ලද නිර්මාණාත්මක ක්‍රියාවක් හැටියට මම නො සලකමි. එ ම ප්‍රතිසංස්කරණයන් ගෙන් යම් යම් යහපත් ප්‍රතිඵල ඇති නො වූයේ යැ යි නොකියමි. මා සඳහන් කරන්නේ සමස්තයක් හැටියට පුද්ගලයා-පවුල-ගම-නගරය-රට සහ ලොව ගැන සිතා ආධ්‍යාත්මික, සදාචාර, සංස්කෘතික, සාමාජික, ආර්ථික සහ දේශපාලන ක්ෂේත්‍රයන් ගැන ද සාධාරණ අවධානයක් යොමු කොට අධ්‍යාපන ක්‍රියාදාමයන් සමස්තයක් හැටියට මුදා හැරීමට මෙතෙක් කිසිම අධ්‍යාපන ප්‍රතිසංස්කරණ වැඩ පිළිවෙලක් උත්සාහ දරා නොමැති බව යි. තිබෙන දේ අත් හරින්නට අපි බිය වෙමු. අලුත් දෙයක් අත්හදා බැලීමට ද අපි බිය වෙමු. වහලකු බැඳ තබන දම්වැල්වලට කාලයක් තිස්සේ හුරු වීම නිසා මෙම දම්වැල් ඉවත් කිරීමට වඩාත් ම අකමැති වන්නේ වහලාම නිසා කවුරු කොතරම් මහන්සියකින් ඔහුට නිදහස ලබා දීමට වෙහෙසුණත් ඔහු ගේ විඥ්ඥාණය අවදි කරන තුරු එයින් ප්‍රතිඵලයක් ඇති නො වේ. අපේ අධ්‍යාපන ප්‍රතිසංස්කරණ ක්‍රමය ගැන ද කිව යුත්තේ මෙය ම යි. දෙවෙනි වසරේ ඉගෙන ගන්නා පාසැල් දරු දැරියන් ගේ සිට විශ්ව විද්‍යාලවල ඉගෙනුම ලබන ගිහි පැවිදි තෘතීයික අධ්‍යාපන මට්ටමේ ශිෂ්‍යයන් දක්වා කලබල කරමින් මහපාරට බසින තත්ත්වයට, සිරගෙවල්වලට යොමුවන තත්ත්වයට, පොලිස් සන්නද්ධ හමුදාවල වෙඩි පහරවලට ගොදුරුවන තත්ත්වයට, අධ්‍යාපනය පහළ වැටී තිබෙන මේ අවස්ථාවේදීත් අපේ විඥ්ඥාණය අවදි කරගෙන මළ බැඳුනු දම්වැල් කඩා දමන්නට අප අසමත් වුවහොත් අපට තව ශත වර්ෂයකින්වත් ජාතියක් වශයෙන් හිස එසවීමට නොලැබෙනු ඇත. මේ නිසාය, තිබෙන අධ්‍යාපන ක්‍රමය නොබිය ව සම්පූර්ණ වෙනසකට හෙවත් විප්ලවීය වෙනසකට යොමු කළ යුතුයැයි සර්වෝදයේ අපි මෙම පොතෙන් යෝජනා කර ඇත්තේ.

## සෞඛ්‍යය

සාමාජික සංවර්ධනය මනින තවත් මිණුම් දණ්ඩකි සෞඛ්‍යය. වකුගඩු බද්ධ කිරීමට, හෘදයේ ශල්‍යකර්ම කිරීමට සහ වීදුරු නළ දරුවන් ඉපද වීමට තරම් දියුණු වෛද්‍ය ශිල්පයක් අද අප රටේ තිබේ. ලෝකයේ ඕනෑම වෛද්‍යවරුනට සම කළ හැකි උසස් වෛද්‍යවරු ද අප රටේ සිටිති. එහෙත් මේ සියල්ල දියුණු වන අතර සාපේක්ෂ වශයෙන් ප්‍රමුඛ අවශ්‍යතාව විය යුත්තේ කායික, මානසික සහ සාමාජික රෝග වළක්වාගෙන සෑම රට වැසියකු ගේ ම සාමාන්‍ය සෞඛ්‍ය තත්ත්වය උසස් මට්ටමකට පත්කළ හැකි විදිහේ සෞඛ්‍ය සේවාවකි. මෙවැනි සේවාවක පදනම විය යුත්තේ පොදු මහජනතාවයි. ඔවුන්ගේ සෞඛ්‍යයට මූලික වශයෙන් වගකිව යුත්තෝ රජය නොව ඔවුහුම ය. මෙය සිදුවිය හැක්කේ ජනතාව ගෙන් ම මතු වන සෞඛ්‍ය සේවාවක් තුළිනි. පහළ සිට ඉහළට සංවිධානය වන සෞඛ්‍ය අධ්‍යාපනයත්, නිරෝගී පරිසරයක්, යෝග්‍ය තාක්ෂණයත් සහ ප්‍රජාපාදිත සෞඛ්‍යය සේවා බලඇණියක් තුළින් දේශීය වෛද්‍ය ක්‍රමය උපරිම වශයෙන් ප්‍රයෝජනයට ගනිමින් ඉහළින් පහළට එන ඒකාධිකාරී සෞඛ්‍යය ක්‍රමය වෙනුවට පහළින් ඉහළට සංවිධානය වූ ඓන්ද්‍රීය ක්‍රමයක් ගොඩනැංවිය යුතුය. අධ්‍යාපනය මෙන් ම සෞඛ්‍ය අංශයේ ද විප්ලවීය ක්‍රමයකි. සර්වෝදය විසින් යෝජනා කරන්නේ, එහි වැඩිබර ජනතාව සහ ප්‍රජා නායකයින් විසින් ඉසිලිය යුතු අතර රජය විසින් කළ යුත්තේ ඔවුනට අවශ්‍ය තාක්ෂණය ශිල්පීය නිපුණත්වය සහ මූල්‍යමය පහසුකම් සපයාදීම යි.

## මූලික මානව අයිතිවාසිකම්

ජීවිත ආරක්ෂාව සහ ජීවිතය පවත්වාගෙන යෑමට අවශ්‍ය මූලික පහසුකම් පිළිබඳ සුරක්ෂිතභාවය නොමැතිව මනුෂ්‍යයකුට පැවතිය නොහැකි ය. එන්නට එන්නට ම මූලික මානුෂික අයිතිවාසිකම් අපේ ජනතාවට අහිමි වෙමින් පවතී. මෙය මුළු ප්‍රජාතාන්ත්‍රික මෙන්ම අප විශ්වාස කරන සම්මුතිවාදී පදනම දෙදරා යෑමකි. වහාම මේ තත්ත්වය වෙනස් කළ යුතු ය. ඕනෑ ම රාජ්‍ය නිලධාරියකුට හෝ දේශපාලකයකුට මෙම මිනිස් අයිතිවාසිකම් උදුරාගැනීමට යම්තමින් හෝ ඉඩ නොසැලසෙන අන්දමට රාජ්‍ය නීති සංශෝධනය කළ යුතු ය. එමෙන්ම නීතිය යටතේ පුද්ගලයකුට තිබෙන අයිතිවාසිකම් පිළිබඳ සෑහෙන අවබෝධයක් පොදු මහජනතාවටත්, විශේෂයෙන් ප්‍රජා නායකයනටත් ලබාදිය යුතු ය. මෙය කළ හැක්කේ සාධාරණ රාජ්‍ය නීති පද්ධතියක් එක් අතකිනුත්, අනිත් අතින් ඒ නීති පද්ධතිය පිළිබඳ මහජනතාවට අවබෝධයක් ලබාදීමට හැකි වන අයුරින් සංවිධානය වන නීති සාක්ෂර සේවයකුත් ජනතා මට්ටමේ ක්‍රියාත්මකවීම තුළිනි. සර්වෝදය නීතිසහන සේවයෙන් කෙරෙන්නේ මේ නීති සාක්ෂරතාව ලබාදීම පෙරටු කොට සෑම අන්දමකම නීතිසහන සේවාවන් ක්‍රියාත්මක කිරීම යි. මෙවැනි කාර්යයක දී ජනතාව කෙරෙහි මෙන්ම සාධාරණ නීතිය කෙරෙහි වගකීමක් උසුලන නීතිඥයන් විනිශ්චයකාරවරුන්, ආගමික, අධ්‍යාපනික සහ ප්‍රජා නායකයන් සම්බන්ධ කරගැනීමෙන් නීතියේ පරමාධිපත්‍යය පිළිබඳවත්, අධිකරණයේ සාධාරණත්වය පිළිබඳවත්, මහජනයාට විශ්වාසයක් ඇති වේ.

## ජාතික සමගිය

සාමාජික සංවර්ධනය සඳහා අවශ්‍ය ම සාධකයක් වන්නේ ජාතික සමගිය යි. වත්මන් යුගයේ ජාතික සමගියට එල්ල වූ විශාල ම තර්ජනය වූයේ 1983 ජූලි මාසයේ සිදු වූ අවාසනාවන්ත සිද්ධි ය. ඒ අවස්ථාවේ දී උපරිම වශයෙන් සහන සේවා, පුනරුත්ථාපන සහ සුහදතාව ගොඩනැගීමේ කටයුතුවල යෙදුනු සර්වෝදය 1983 ඔක්තෝම්බර් මස 1 සහ 2 දිනයන් හි කොළඹ බණ්ඩාරනායක ජාත්‍යන්තර සම්මන්ත්‍රණ ශාලාවේ 1800 කගේ සහභාගිත්වයෙන් සාම සමුළුවක් පැවැත්වීය. එම සමුළුව අවසානයේ දී සම්මත කරගත් ජාතික සාමය සහ සුහදතාව පිළිබඳ ප්‍රජා ප්‍රකාශනයේ කොටසක් පහත දක්වමි.

මෙම ප්‍රකාශනයේ සඳහන් අදහස් අදත් අප පිළිගන්නා අතර ජාතික සමගිය ගොඩනැංවීම සඳහා ඒ මගම ගමන් කළයුතු බව අපේ විශ්වාසය යි.

### අප සමාජයේ විද්‍යමාන වන පොදු පිරිහීමේ ලක්ෂණ

යම් සමාජයක ස්ථායි බව, සාමකාමී බව සහ ප්‍රගතිය රඳා පවතින්නේ ඒ සමාජයේ ආධ්‍යාත්මික, සදාචාර, සංස්කෘතික, සාමාජික, ආර්ථික සහ දේශපාලනික අංශ මත පදනම් වී තිබෙන සාරධර්ම පිළිබඳව මහජනතාව තුළ තිබෙන අවබෝධය, ගරුත්වය සහ ඒවා එදිනෙදා ජීවිතයේ දී පිළිපැදීම යන කරුණු මත බව අපේ පිළිගැනීම වන අතර,

දෙවන ලෝක සංග්‍රාමයෙන් පසු යුගයේ දී අනු ක්‍රමයෙන් මේ හැම අංශයෙන් ම අප සමාජය පිරිහී ගිය අතර,

දේශපාලන වාදභේද මුල් කොට හෝ ජාතිවාදී අදහස් ඉස්මතු වූ නිසා හෝ වෙනත් හේතූන් නිසා හෝ හිංසාවාදී සිද්ධීන් නිසා හෝ ඇති වූ පිරිහීම 1983 ජූලි මාසයේ දී උග්‍ර තත්ත්වයට පත්වීමේ හේතුවෙන් සිදුවූ විවිධ සාපරාධී සිද්ධීන් ගෙන් අප සමාජයේ මූලික පදනම දෙදරුම්කා තිබෙන බව අපට ප්‍රත්‍යක්ෂ වී තිබෙන අතර, ඒවා අනුපිළිවෙලින් සඳහන් කළහොත්

පළමු ව, අවුරුදු දහස් ගණනක් මුළුල්ලේ ශිෂ්ට මනුෂ්‍ය සමාජයක් වශයෙන් හොඳ නරක, පව් පින්, හරි වැරදි, සාධාරණ, අසාධාරණ, යුක්තිය, අයුක්තිය, මානුෂික, අමානුෂික ආදී වශයෙන් අප පොදුවේ පිළිගත් ධර්මතා කිසිසේත් ගණන් නොගන්නා, ඒවා නොපිළිපදින, කුඩා වුවත් ඉතා බලවත් වූ කණ්ඩායම් කිහිපයක් අප සමාජයේ ජීවත් වන බවත්,

දෙ වනු ව, ඔවුන් දේශපාලනික, ආර්ථික, සාමාජික ආදී ඕනෑම ප්‍රශ්නයකට විසඳුම් සොයන්නේ රටේ පිළිගත් නීතියට පරිබාහිර වූ හිංසාවාදී මැරවර බලයෙන් බවත්,

තෙ වනු ව, ඔවුන් සත්ත්ව ජීවිතයට තබා මිනිස් ජීවිතයටවත් අල්පමාත්‍ර වූ තැකීමක් නොකරන බවත්,

සිව් වනු ව, පෞද්ගලික සහ පොදු දේපළ විනාශ කිරීමෙන් මොවුන් සිතාමතා හෝ නොසිතා හෝ ඉමහත් මානසික තෘප්තියක් විඳින බවත්,

පස් වනු ව, මොවුන් ඉදිරියේ දී අප සමාජයේ සාරධර්මවල මූලික භාරකරුවන් වූ ආගමික නායකයන් පවා බලහීන වී ඇති බවත්,

සය වනු ව, මොවුන් නිසා සමාජයේ සනාථනික ධර්මතාවලට මිනිස් ජීවිතයට සහ සමස්තයක් වශයෙන් ජාතියට වන විපත ගැන නො තකා පටු දේශපාලනික සහ ආර්ථික වාසි අපේක්ෂාවෙන් සමහර දේශපාලකයින්, බලවතුන් සහ ධනවතුන් මොවුනට ආරක්ෂාව සලසන බවත්,

හත් වනු ව, මේ තත්ත්වයන් යටතේ පොලීසියේ නීතිය සහ සාමය ආරක්ෂා කිරීමේ ශක්තිය දුර්වල වී ඇති බවත්,

අට වනු ව, අධිකරණය, සිරගෙවල් ආදී නීතිය පසිඳලීමේ සහ ක්‍රියාත්මක කිරීමේ ස්ථාන පවා අනාරක්ෂිත තත්ත්වයකට පත් වී ඇති බවත්,

නව වනු ව, කුමන හේතුන් නිසා හෝ පොලීසිය හා ත්‍රිවිධ සන්නද්ධ හමුදා තුළ ද ජාතික ආපදාවක  ඉදිරිපත්වීමේ චිත්ත ධෛර්යය දුර්වල වී ඇති බවත්,

දහ වනු ව, සාරධර්ම වලට පිටුපාමින් රටේ නිතිය උල්ංඝනය කරමින් යම් පිරිස් හැසිරෙන විට ඔවුනට එරෙහි ව නැඟී සිට සාරධර්ම සංරක්ෂණයටත් නීතියේ සහ සාමයේ බලපැවැත්මටත් අවශ්‍ය ජන මතය පුබුදුවා ජන ශක්තිය දීමට ගුණගරුක, නීතිගරුක මහජනතාව තුළ සැකයක් සහ බියක් ඇති බවත්,

එකොළොස් වනු ව, වත්මන් සමාජයේ බලවත්ම පිරිස වූ දේශපාලන නායකයන් පොදු ජාතික විපතක දී පවා භේදභින්න නොවී සමගිව ජනතාවට නායකත්වය දීමට අසමත් බවත්, සහ

දොළොස් වනු ව, මේ සියල්ලේ ම ප්‍රතිඵලයක් වශයෙන් ජාතියේ ස්වෛරීභාවයට ද තර්ජනයක් ඇති වන ලෙස විදේශීය බලවතුන් ද රටේ අභ්‍යන්තර ප්‍රශ්න කෙරෙහි නොමනා අන්දමට උනන්දුවීමත් නිසා

සිංහල වේ වා, ද්‍රවිඩ වේ වා, යෝනක වේ වා, මැලේ වේ වා, බර්ගර් වේ වා අප රටේ ජීවත් වන සියළු ම ජන කොටස් මේ පොදු පිරිහීමේ ලක්ෂණ අවබෝධ කරගැනීම මේ ඓතිහාසික මොහොතේ දී අතිශයින් ම වැදගත් බවත් අපි විශ්වාස කරමු.

## රූප සටහන 8 - ධර්ම චක්‍රය පෙරළීම



## පිරිහීමට හේතු

### 1. සාරධර්ම පද්ධතියේ විනාශවීම

අප සමාජයේ යථෝක්ත පොදු පිරිහීම්වලට හේතු වූ සාධක අතර මුල් තැන ගන්නේ ශත වර්ෂ ගණනාවක් තිස්සේ පෝෂණය වෙමින් සමාජයේ ශිෂ්ටත්වය ආරක්ෂා කිරීමට මූලික වූ සාරධර්ම පද්ධතිය විනාශ වීම බවත්,

මේ සාරධර්ම පද්ධතිය ගොඩනැගුණේ පණට ගරු කිරීම සහ වෙසෙසින් මනුෂ්‍ය ජීවිතයට ගරුකිරීම සිද්ධාන්ත කොට ගත් පෞරාණික හින්දු-බෞද්ධ ධර්මතා සමුහයෙන් බවත්,

මෙම ධර්මතා අපේ ශිෂ්ටාචාරයේ උපරිම දියුණුව ඇති වූ යුගවලදී වෙසෙසින් බෞද්ධ ධර්මයේ ආභාසය ඉහළින් ම ලැබූ කාල පරිච්ඡේදවල දී ප්‍රාණඝාත නොකිරීම, හොරකම් නොකිරීම, වැරදි හැසිරීමෙන් වැළකීම, මුසාවාදයෙන් වැළකීම සහ සුරාපානයෙන් වැළකීම යන පන්සිල් රැකීම මුල් වී සමාජය සංස්ථාපිත වූ බවත්,

පසු කලෙක අප සමාජයට එක් වූ ක්‍රිස්තු ධර්මය සහ ඉස්ලාම් ධර්මයේ ඉගැන්වීම් ද, නෛසර්ගික වශයෙන් මෙම පන්සිල් රැකීමේ සාරධර්ම පද්ධතියට පටහැණි නොවූ බවත්,

සිංහල සහ දෙමළ භාෂාවලට මුල් වූ සංස්කෘත හා පාලි භාෂා සාහිත්‍යය මෙම සාරධර්ම පෝෂණය කළ අතර, මිනිසා ස්වභාවධර්මය සමඟත්, මිනිසා මිනිසා සමඟත් ඇති කරගෙන තිබූ සියලුම සාමාජික, ආර්ථික සහ දේශපාලනික සංස්ථාවන් ද ඒවායින් පෝෂණය වූ බවත්,

බටහිර අධිරාජ්‍යවාදීන් ගේ සංක්‍රමණයත් සමඟ ම මේ ආධ්‍යාත්මික සංස්කෘතික බෙලහීන වී කෘෂි ආර්ථිකය බිඳ වැටී වාණිජ සංස්කෘතිය ඉස්මතු වූ බවත්, මේ නිසා ආධ්‍යාත්මික ජීවිතය සෙසු සාමාජික ජීවිතයෙන් ක්‍රමයෙන් ඈත් වී සහමුලින් ම වාගේ වාණිජ වටිනාකම්වලට නැඹුරු වූ සමාජයක් ඇති වූ බවත්,

එම වාණිජ අපේක්ෂාවන් තහවුරු කිරීමට ග්‍රීක්, ලතින් භාෂාවල මූලාශ්‍රය ඇති ඉංග්‍රීසි භාෂාවට මුල් තැන ලැබීමත් මේ නිසා බහුතර සිංහල දෙමළ ජනතාව ආධ්‍යාත්මිකව පෝෂණය කළ භාෂා මූලාශ්‍රයන් දුර්වල වී සම්පූර්ණයෙන් ම උල්පත් සිඳුණු ජලාශයක් මෙන් ජන ජීවිතය විදේශීය සිතුම් පැතුම්, සිරිත් විරිත් සහ භෞතික ජීවන රටාවකට යොමු වූ බවත්,

මේ නිසා නිදහසෙන් පසු දේශීය භාෂාවලින් සිතාමතා කටයුතු කළ සාමාන්‍ය සිංහල දෙමළ ජනතාව ඔවුනොවුන්ගෙන් මානසිකව ක්‍රම ක්‍රමයෙන් ඈත්වූවාක් මෙන්ම බටහිර වටිනාකම් හා ජීවන රටාවට හුරුවූ වරප්‍රසාද ලත් සිංහල දෙමළ සුළු පිරිසක් ඉංග්‍රීසි මාධ්‍යයෙන් ඔවුනොවුනට ළං වූ අතර යථෝක්ත සාමාන්‍ය ජනතාවගෙන් ඈත් වූ බවත්,

මේ සියල්ලේ ප්‍රතිඵලයක් වශයෙන් එ තෙක් පණට මිනිස් ජීවිතයට ගරු කිරීම මුල් වූ පන්සිල් රැකීම පදනම් වී තිබුණු සිංහල දෙමළ සාමාන්‍ය ජනතාවගේ ජීවන රටාව ධනය, බලය භුක්ති විඳි බටහිර ආභාෂය ගත් සුළු වරප්‍රසාදලත් පිරිසකගේ අපේක්ෂාවන් වෙත ම නැඹුරු වූ නිසාත් යථෝක්ත අන්දමින් අපේ සාරධර්ම පද්ධතිය විනාශ වී ගිය බව අපි විශ්වාස කරමු.

## 2. අධ්‍යාපන ක්‍රමයේ විෂමතා

පරම්පරාවෙන් පරම්පරාවට පෝෂණය වෙමින් සාරධර්ම පද්ධතියක් ඉදිරියට ගෙන යන්නේ අධ්‍යාපන ක්‍රමය නිසා බව ද අපට තුබූ පාරම්පරික අධ්‍යාපන ක්‍රමය විසින් ආර්ථික, දේශපාලනික, සංස්කෘතික සහ සාමාජික ජීවිතය ගෙන යාමට අවශ්‍ය දැනීම සහ පුහුණුව දෙනු ලැබුයේ ආධ්‍යාත්මික හා සදාචාර සාරධර්ම පදනම් කොට බව ද,

වාණිජ්‍ය සංස්කෘතියකට නැඹුරුවීමෙන් පසු අධ්‍යාපන විෂය ක්ෂේත්‍රය අධ්‍යයන ශිල්පීය ක්‍රම, ඇසුරු කළ පොත-පත, ගුරුගෝල සම්බන්ධය, අධ්‍යාපනය සිදු වූ මානසික හා භෞතික පරිසරය, අධ්‍යාපන ආයතන සහ සමාජය අතර තිබූ සම්බන්ධය, අධ්‍යාපන ආයතන සහ සමාජය අතර තිබූ සම්බන්ධය, අධ්‍යාපන ක්‍රියාවලියෙහි ලා ගුරු සිසුන් සමඟ දෙමාපිය වැඩිහිටියන් අතර තිබූ සම්බන්ධය, විවිධ ගෝත්‍ර හා ආගම්වලට අයත් සිසුන් එකම ජාතියක පුරවැසියන් ලෙස ඒකාග්‍ර කිරීමේ ගුණය, ආදී මේ සියලු ම කාරණා වාණිජ්‍යමය තරඟකාරී ස්වරූපයක් ගත් බවද, අධ්‍යාපනයත් සමඟ කිට්ටුවෙන් සම්බන්ධව තිබූ ආධ්‍යාත්මික නායකත්වය දුර්වල වූ බව ද,

මේ සඳහා අධ්‍යයන කේන්ද්‍රස්ථාන වශයෙන් පැවති පූජනීය ස්ථාන සහ ඒවාට නායකත්වය දුන් කුලදේවතාවුන් වහන්සේලාගේ බලපෑම විධිමත් ව විනාශ කර දැමූ බව ද, මෙහිදී සඳහන් කරන අතර පොදු ජාතික පිරිහීම්වලට උපස්ථම්භක වූ ප්‍රධාන සාධකයක් වශයෙන් මෙන්ම සිංහල, දෙමළ ජනතාව ඔවුනොවුන්ගෙන් ඈත්වීමට හේතු වූ ප්‍රධාන සාධකයක් වශයෙන් ද අපේ අධ්‍යාපන ක්‍රමයේ විෂමතාව සඳහන් කළයුතු වෙමු.

## 3. සිරිත් විරිත් සහ රාජ්‍ය නීතිය කැඩීමට විළිබිය නැති වීම

සාරධර්ම පද්ධතිය පදනම් වූ මනුෂ්‍යයාගේ පූර්ණ පෞරුෂ සංවර්ධනය අරමුණු වූ අධ්‍යාපන ක්‍රමය නිසා පවුල්වලත්, ගම්වලත්, නගරවලත් ජාතික වශයෙනුත් සදාචාර විරෝධී හෝ නීතිවිරෝධී හෝ ක්‍රියාවන් කිරිමට මිනිසුන් තුළ ලැජ්ජාවක් හා බියක් තිබූ බව ද

නීතියක් උල්ලංඝනය කළහොත් රජයෙන් දඬුවම් ලැබෙන බව ද

සදාචාර ධර්ම උල්ලංඝනය කළහොත් සමාජයෙන් කොන්වන බවත් දැන සිටි නිසා ලජ්ජා-භය බලවත් සමාජ බලවේගයන් ලෙස පැවති බව ද

පසුගිය දශක කිහිපය තුළ දී විශේෂයෙන් නිදහස ලැබීමෙන් පසුව මේ තත්ත්වය වෙනස් වී ධනය, බලය, නිලය උපයෝගී කොට ගෙන රාජ්‍ය නීති කඩා බේරෙන්නට පුළුවන් බවටත්, සමාජය පිළිකුල් කළත් ප්‍රජාව බිය ගන්වා ගෙන ජීවත් වන්නට සමහර අයට පුළුවන් බවටත් පොදුවේ මහජනතාව තුළ හැඟීමක් ඇතිවූ නිසා රාජ්‍ය නීතියට හා සදාචාර රීතියට තිබෙන බිය සහ ගෞරවය මහජන ජීවිතයෙන් ගිලිහී ගිය නිසා ලජ්ජා භය නැති සමාජ විරෝධී, නීතිය නොතකන පිරිස් අප සමාජයේ ඇති වූ බව අපේ පිළිගැනීම බව ප්‍රකාශ කරමු.

## 4. ප්‍රජා නායකත්වය දුර්වල වීම

බටහිර අධිරාජ්‍යවාදයේ බලපෑම නිසා රාජ්‍ය නීතිය හා දණ්ඩ ශක්තිය ජන ශක්තිය හා ධර්ම ශක්තිය අභිබවා සිටින තත්ත්වයක් නිදහස ලැබෙන අවදිය වන විට අප රටේ ඇතිව තුබූ නිසාත්,

බටහිර පාලකයන්ගේ තැන දේශපාලන පක්ෂවලට සහ දේශපාලන නායකයින්ට නිදහස ලැබීමත් සමඟ ම උරුම වූ නිසාත්,

රට-දැය-සමය ආරක්ෂාවට සාරධර්ම පදනම් කොට නායකත්වය දුන් මහා සංඝරත්නය සහ සෙසු ප්‍රජා නායකයිනුත් අභිබවා යථෝක්ත දේශපාලන පක්ෂ හා නායකයින් නැඟී සිටීම නිසා ද බහුතර බෞද්ධ ජනතාවත් ප්‍රධාන සුළු ජාතිය වූ දෙමළ හින්දු ජනතාවත් ක්‍රිස්තියානි සහ මුස්ලිම් ජනතාවත් පක්ෂග්‍රහණයට හසු වී බෙදීයෑම නිසාත්,

ක්‍රම ක්‍රමයෙන් ගමේ සිට ජාතික මට්ටම ප්‍රජාවට ජන නීතිය හා ධර්ම ශක්තිය මත නායකත්වය දීමට හැකි ප්‍රජා නායකයින්ගේ සංඛ්‍යාව අනුක්‍රමයෙන් අඩු වී ගොස් වර්තමානය වන විට සම්පූර්ණයෙන් ම වාගේ නැති වූ බවත් අපි පිළිගනිමු.

## 5. රාජ්‍ය සේවය බාහිර බලපෑම්වලට යටත් වීම

ධර්ම ශක්තිය දුර්වල වුවත් රාජ්‍ය නීතිය අපක්ෂපාතී නම් යම් ප්‍රමාණයකට සමාජ සංවරය සහ සමාජ සාමය ආරක්ෂා විය හැකි නමුදු පක්ෂග්‍රාහී දේශපාලන බලපෑම් නිසා මහජන මුදලින් මහජනයාගේ ම ආරක්ෂාව සඳහා පවත්වා ගෙන යනු ලබන රාජ්‍ය සේවය, පොලීසිය හා හමුදාව වැනි පොදු ආයතනවලට තිබිය යුතු සාධාරණ බලතල ගෞරවය සහ සැලකීම පිරිහෙන පරිදි ප්‍රසිද්ධියේ ම සමහර නායකයින් වගකීමෙන් තොර ව කටයුතු කිරීම නිසා නීතිය සහ සාමය ආරක්ෂා කිරීමට පොදු මහජන සේවා ආයතන වශයෙන් ඒවාට තිබූ ශක්තිය දුර්වල වූ බව ද ඒ නිසා ම ඒවායේ සේවය කළ වුන්ගේ සදාචාර ශක්තිය හා ධෛර්ය හීනවීම ද අප සමාජය එම අන්ධකාර සතියේ දී අරාජික තත්ත්වයකට පත්වීමට හේතු වූ බව ද අපි පිළිගනිමු.

## 6. වැරදි ජීවන රටාවක් ඉස්මතු කිරීම

ආධ්‍යාත්මික අවශ්‍යතාවයනුත් භෞතික අවශ්‍යතාවයනුත් සමබර ව සපුරා ගැනීමට තුඩුදුන් අප ගේ ආවේනික ජීවන රටාව ක්‍රමයෙන් අවශ්‍යතාවන් සපුරා ගැනීමට වඩා සුඛෝපභෝගීත්වය දෙසට යොමු වීමත්,

නැතියවුන් ගෙන් බොහෝ දුරට ඈත් වූ ඇතියවුන් විසින් විවිධ ජන සන්නිවේදන මාධ්‍ය ප්‍රයෝජනයට ගෙන බටහිර අනුකරණය කර ආටෝපවත් කෘතිම ජීවන රටාවක් ඉස්මතු කළ බවත්, මෙම ජීවන රටාව දෙසට ගින්නට ඇදෙන මෙරුන් සමූහයක් සේ නැතියවුන් හැටියට ගැනෙන බහුතර ජනතාව ද ආකල්ප වශයෙන් හෝ ආශාවන් වශයෙන් හෝ පසුගිය අවුරුදු කිහිපය තුළදී ඇදී ගිය බවත්,එහෙත් ඔවුනට එම ආශාවන් ඉටු කර ගැනීමට තරම් ඉඩ පහසුවක් එම තරගකාරී ක්‍රමයෙන් නොලැබුණ නිසා මානසික වශයෙන් ඔවුන් අතුරෙන් වැඩි දෙනා ඉච්ඡා භංගත්වයට පත් වූ බවත් ඒ නිසා ම කුඩා කණ්ඩායම් විසින් ඇතිකරනු ලබන දේශපාලන හෝ ජාතිභේදවාදී හෝ ගැටුම් ඇති වූ අවස්ථාවල දී එම මානසික අපේක්ෂාවන් ඉටුකර ගැනීමට නොහැකි වූ පිරිස් විශේෂයෙන් සාරධර්ම, රාජ්‍ය නීතිවලින් හෝ අධ්‍යාපනයකින් සංයමයක් නොලත් සමහර පිරිස් කොල්ලකෑම්, ගිනිතැබීම්, දේපළ විනාශ කිරීම් ආදී ක්‍රියාමාර්ග වලින් ඔවුන් තුළ තිබූ ඉච්ඡා භංගත්වයට සමාජ විරෝධී ක්‍රියා තුළින් ප්‍රතික්‍රියා කළ බවත්, අපි පිළිගනිමු.

### පිරිහීමේ හේතු නැති කිරීම

ජාතික සාමය සහ සුහදතාවය අප සමාජයේ යළි ප්‍රතිෂ්ඨාපනය කිරීමට නම් දේශපාලනික විසඳුම් පමණක් ප්‍රමාණවත් නොවන බව අප විශ්වාස කරන අතර දේශපාලන විසඳුම්වලට පවා පදනම වැටිය යුත්තේත් තිබෙන ප්‍රශ්න තවත් සංකීර්ණ ප්‍රශ්න බවට පරිවර්තනය වීම වැළැක්වීම හැක්කේත් අප සමාජයේ පොදු පිරිහීම්වලට හේතු වූ ලක්ෂණ පළමුව ඉවත් කිරීමෙන් බව අපි අවධාරණය කරමු.

වගකිවයුතු පුරවැසියන් වශයෙන් පළමු ව සාරධර්ම පද්ධතිය යළි සංශෝධනය කළයුතු බවත්,

දෙ වනු ව, වර්තමාන අධ්‍යාපන ක්‍රමය සම්පූර්ණයෙන් ම ප්‍රතිසංශෝධනය කළ යුතු බවත්,

තුන් වනු ව, සදාචාර සිරිත් විරිත්වලට තිබූ සමාජ ගෞරවය නැවත ඇති කළ යුතු බවත්,

හතර වනු ව, බලපෑම්වලින් තොර ව, අපක්ෂපාතී ව, සාධාරණ ව රාජ්‍ය නීතිය ක්‍රියාත්මක වන තත්ත්වයක් රට පුරා ඇති කළ යුතු බවත්,

පස් වනු ව, සමාජයේ ස්ථායී බව, සංවර බව සහ සාමකාමී බව ඇතිවීමට නම් දේශපාලන පක්ෂවල හා දේශපාලන නායකයන්ගේ නායකත්වය පමණක් නොව ඒ හා සමානව ම සාරධර්ම ආරක්ෂා කරන්නා වූ ආධ්‍යාත්මික හා සෙසු අංශවල ප්‍රජා නායකත්වයක් යළි සංස්ථාපනය කළ යුතු බවත්,

සය වනු ව, මහජන ආරක්ෂක සේවාවන් ඇතුළු රාජ්‍ය සේවය ධර්ම නීතියටත්, රාජ්‍ය නීතියටත් එකඟව බලපෑම්වලින් තොරව යළි ක්‍රියාත්මක වීමට ඉඩ සැලසිය යුතු බවත්,

හත් වනු ව, අන්ධානුකරණයෙන් බොල් බටහිර ආර්ථික රටාව හිස් මුදුනින් පිළිගනු වෙනුවට ගැඹුරු, නොවූ සරල, චාම්, ඉසිලිය හැකි ජීවන රටාවකට බර වූ විශේෂයෙන් හැදෙන පරපුරේ මානසික හා කායික සෞඛ්‍යයට තුඩුදෙන පරිදි, ගැලපෙන ආර්ථික ජීවන රටාවක් යළි ගොඩනැඟිය යුතු බවත්,

අට වනු ව, දැනට අප සමාජයේ තිබෙන බොහෝ ප්‍රශ්නවලට හා පිරිහීමට මූලික සාධකයක් හා බටහිර නිර්මාණයක් වූ පක්ෂ දේශපාලන ක්‍රමය වෙනුවට අපේ සාරධර්ම වලට සහ අවශ්‍යතාවලට ගැලපෙන වෙනත් දේශපාලනි ක්‍රමයක් නොපමාව ම නිර්මාණය කර ගැනීමට අවධානය යොමු කළ යුතු බවත්, අප පිළිගන්නා අතර මේ සඳහා අපේ මුළු ශක්තිය යොදා කටයුතු කිරීමට අපි අපට ම ප්‍රතිඥා දෙමු.

ගෝත්‍රීය සහ වාර්ගික වෙනස්කම් භේදයකට හෝ හිංසාවනට හේතුන් නොවිය යුතුය. සෑම මිනිස් කොට්ඨාශයකගේම සිරිත්විරිත් භාෂාව ආගමික සම්ප්‍රදායයන් හා චතාවත්, නැටුම් ගැයුම් වැයුම් ආදී කලා ශිල්ප, භාෂා සාහිත්‍යය ආදිය ජාතියක් බෙදීමට හේතුන් නොවි ය යුතු අතර, ජාතියක අලංකාරය වැඩි කරන සාධක හැටියට හරවා ගත යුතු ය. එය කළ හැක්කේ රට-දැය-සමය පිළිබඳ අපි සඳහන් කළ අන්දමේ චින්තනයක් පොදු ජනතාව තුළ පමණක් නොව ජන නායකයන් තුළ ද ක්‍රියාත්මක වුවහොත් පමණකි.

අන්හැම උපක්‍රමයකට ම වඩා සිතින් සහ හදවතින් අවංකව උත්පාදනය වන සිතිවිලි සහ හැඟීම් මේ සඳහා අවශ්‍යය. ජාතික වශයෙන් මෙම හැඟීම් සහ සිතිවිලි ආධ්‍යාත්මික ශක්තියක් වශයෙන් සමස්ත ජනතාව තුළ ම මතු කළ යුතුය. සර්වෝදය විසින් පසු ගිය අවුරුදු පහ තුළ සංවිධානය කළ විවිධ අන්දමේ සාම භාවනාවල අරමුණ වුයේ දැ සමගියට තුඩුදෙන චිත්තාාවකාශයක් ගොඩ නැඟීමයි. මේ පිළිබඳ වැඩි විස්තරයක් තාක්ෂණික විප්ලවය යන පරිච්ඡේදයේ ඇතුළත් කර ඇත.

ලංකා සිතියමක ඉරි ඇඳ තිබෙන ආකාරයෙන් වත් විවිධ ගෝත්‍රවල සංඛ්‍යා ලේඛන දැක්වෙන වගුවලින් වත් ජාතික සමගියට පිටුවහලක් නො ලැබේ. ආධ්‍යාත්මික පරිසරයක් ගොඩනගා ඒ පරිසරය තුළ විවිධ ගෝත්‍ර, භාෂාවර්ගවලට අයත් මිනිසුන් උනුනුන් කෙරෙහි අන්තර් පුද්ගල සම්බන්ධතා තබාගන්නා ආකාරයෙන් පමණකි. මිනිසුන් අන්‍යෝන්‍ය වශයෙන් උනුනට ගරු කරන්නට, උනුනුන්ගේ සංස්කෘතීන් අගය කරන්නට පටන් ගන්නේ. මෙම ආධ්‍යාත්මික සහ සදාචාර පරිසරය හරිහැටි ගොඩනැංවීම සහ ආර්ථික සහ දේශපාලන අසාධාරණකම් ඉවත් කිරීම සමාන්තරව සිදුවිය යුතු ක්‍රියාමාර්ග දෙකකි.

ජන කොට්ඨාශ තුළ සහ ජන කොට්ඨාශ අතර තිබෙන වෙනස්කම් ගෝත්‍රිය-වාර්ගික සම්මතවලට යොමුකොට ජාතික අසමගියක් ඇති කරන්නෝ ඒ ජන කොට්ඨාශවල වරප්‍රසාද විඳින්නෝය. ඒවායින් ප්‍රයෝජන ලබන්නෝ ද ඔවුහුය. එහෙත් ඒවායින් දුක්ගැහැට හිරිහැර කරදර ජීවිත හානිවලට ගොදුරු වී සරණාගතයන් වන්නෝ අහිංසක වරප්‍රසාද නොලත් මිනිස්සු ය. මේ බව සාමාන්‍ය ජනතාවට අවබෝධ නොවන තුරු ඔවුහු ද මේ සම්මතවල කොටස්කරුවෝ වෙති.

සිංහල බහුතරය සහ දෙමළ සුළුතරය යනුවෙන් වර්ග නො කොට පොදුවේ සමස්ත ජනතාව ම ජාතියක් හැටියට සලකා දේශපාලන සහ ආර්ථික වරප්‍රසාද බුක්තිවිඳින සුළුතරය ගැන අප කල්පනා කළහොත් ජාතික සමගිය පිළිබඳ ප්‍රශ්නය විසඳාගැනීමට වඩා සාර්ථක මගක් පෑදේය යනු අපේ විශ්වාසය යි.

එ වැනි ස්ථාවරයක පිහිටියහොත් සෑම පුද්ගලයකුට ම සාධාරණත්වය ඉටු වන අන්දම භාෂාව, ඉඩකඩම්, රැකියාවන්, අධ්‍යාපන පහසුකම්, දේශපාලන තීරණ ගැනීමේ අයිතිය සහ මානව අයිතිවාසිකම් ඉටු කිරීම සඳහා වෛරයෙන් හෝ හිංසාවෙන් හෝ නොව අන්‍යෝන්‍ය විශ්වාසයෙන් හා ගෞරවයෙන් කටයුතු කළ හැකි ය.

ජාතික සමගිය පිළිබඳ ප්‍රශ්නය පොදු ජන විඤ්ඤාණය අවදි කිරීම පිළිබඳ ප්‍රශ්නයක් බව අවබෝධ වුවහොත් පමණකි. දේශීය වරප්‍රසාද ලත් පන්තිය සහ මේ ප්‍රශ්නයෙන් ජාත්‍යන්තර වාසි බලාපොරොත්තු වන විජාතික දේශපාලන සහ ආගමික බලවේගයන්ගේ විවෘත හා සියුම් බලවේගයන් ගෙන් මිදිය හැක්කේ. මේ සිද්ධාන්තයේ පිහිටමිනුයි. සර්වෝදය ව්‍යාපාරය සහන සේවා, සමගි සන්ධාන සේවා සහ පුනරුත්ථාපන සේවා මාර්ගයෙන් අනුක්‍රමයෙන් සරණාගත ජන කොටස් පොදු සර්වෝදය සංවිධාන ක්‍රමයට යොමු කළේ. ඒ කිසි දු අවස්ථාවක දී යමකු ගේ ආගම ගෝත්‍රය හා වර්ගයා උනුනුන් වනසා ගැනීමට හේතුවක් නොවි ය යුතු බවත්, එම විවිධත්වය තුළින් එය වඩා උසස් වූ මානව සහ ජාතික අනන්‍යතාවක් ඉස්මතු කළ හැකි බවත් අවබෝධ වී තිබේ. අවශ්‍ය වන්නේ මෙම ප්‍රායෝගික ක්‍රියාමාර්ගය දේශීය වශයෙන් ව්‍යාප්ත කිරීම යි.

සාමාජික සංවර්ධනයක් යටතේ මෙ ම කරුණු හතර පමණක් විස්තර කිරීම ප්‍රමාණවත් යැ යි මම සිතමි. සෙසු අංග හතර පිළිබඳ ව පොතේ වෙනත් තැන්වල විස්තර කර ඇත.

# 8
# තාක්ෂණික සහ ව්‍යුහාත්මක විප්ලවය

දේශපාලන, ආර්ථික, සංස්කෘතික ආදී විෂයයන් ගැනත් ඒවා හසුරු වන්නන් ගැනත් අප විසින් බොහෝවිට තර්ක විතර්ක, චෝදනා ප්‍රතිචෝදනා කරනු ලබනු මිස සමාජයක අර්බුද වලට හේතු වන තවත් වැදගත් විෂයයන් දෙකක් අමතක කරනු ලැබේ. ඒවා නම් සමාජය උපයෝගි කර ගන්නා තාක්ෂණිය සහ ව්‍යුහාත්මක ස්වභාවය යි.

දේශපාලනය ගැන කතා කිරීමේ දී අපට දේශපාලකයන් ගේ සහ දේශපාලන පක්ෂවල නම් ඇඳා ගත හැකි ය. ඔවුන් කරන හරි-වැරදි ගැන දොස් පරොස් සෙවිය හැකි ය. ආර්ථික හා සංස්කෘතිය ගැන කතා කරන විට ද යම් යම් පුද්ගලයින්, සමාගම් හා ඒවායේ හොඳ - නරක විවේචනයට භාජනය කළ හැකි ය. එහෙත් තාක්ෂණය හා එයට සම්බන්ධ සමාජයේ තිබෙන ව්‍යුහාත්මක ස්වභාවය ගැන කතා කරන විට ඒවා එ සේ පුද්ගලයන් ගේ නම් හා සම්බන්ධ කිරීම පහුසු නැත. ඒවා ස්වාධීන ලෙස පවතින සමාජ ක්‍රියාදාමයන් හැටියට සැලකීමට අපට පුරුදු වේ.

**උදාහරණ කිහිපයක් ගෙන බලමු.**

අපි කුඩා කාලයේ අඟුරු කැල්ලක් හපමින් ඒ කුඩුවලින් අපේ දබර ඇඟිල්ල පාවිච්චි කරමින් දත් මැද්දෙමු. සමහර විට දැහැත් කූරක් ද අපි පාවිච්චි කළෙමු. පසුව ගම් පෙදෙසේ ම නිෂ්පාදනය කරන ලද දත් කුඩු පැකැට්ටුවක් සුළු මිලකට ගෙන ඇඟිල්ලෙන් දත් මැද්දෙමු. තවත් කල් ගතවන විට පිටරට කර්මාන්ත ශාලාවල නිෂ්පාදිත නයිලෝන් කෙඳිවලින් සාදන ලද දත් බුරුසුවක් සහ ටියුබ්වල අසුරන ලද කෘතිම දන්තාලෙපයන් පාවිච්චි කිරීමට පුරුදුවීමු. දත් මැදීමේ තාක්ෂණය සොබා දහමින් නොමිලයේ ලබාදුන් අඟුරු කැල්ලෙන්, දැහැත් කූරෙන් පටන් ගෙන ගමේ සම්පත් වලින් ගැමියෙකු විසින් නිපදවූ දත් බෙහෙත් තුළින් බහු ජාතික සමාගම් විදේශ සම්පත් පාවිච්චි කොට නිපදවා වැඩි මිලකට අපට විකුණූ දත්බුරුසු, කෘතිම දන්තාලේප ආදිය පාවිච්චි කිරීමේ තාක්ෂණය දක්වා වෙනස් විය.

තම පරිසරයේ තිබුණු ස්වභාවික පොහොර සහ සම්ප්‍රදායික ව පාවිච්චි කළ බිත්තර වී යොදා ගොවියෙක් කුඹුරු අක්කරයක් වගා කොට පැරණි තාක්ෂණයෙන් අක්කරයකට වී බුසල් 35 ක අස්වැන්නක් ලැබුවේ යැ යි සිතමු. මේ ගොවියාම පැල සිටුවීමේ තාක්ෂණය අනුගමනය කරමින් තම අස්වැන්න අක්කරයකට වී බුසල් 10 කින් වැඩිකර ගත්තේ යැ යි සිතමු. ඊළඟ අවස්ථාවේ දී රසායනාගාරයක කරන ලද පර්යේෂණ වලින් උපදවාගත් වී වර්ගයක් ද ඒ වී වර්ගය සමඟ පාවිච්චි කළයුතු කෘතිම පොහොර ද ගෙන අක්කරයකට ලැබෙන අස්වැන්න බුසල් 45 කින් වැඩිකර ගත්තේ යැ යි සිතමු. සහතික කරන ලද වී බීජ වලටත් කෘතිම පොහොරවලට සහ කෘමි නාශකවලටත් වියදම් වූ මුදල වී බුසල් 20 ක වටිනාකමකට සමාන නම් නව තාක්ෂණය නිසා ඔහුට වී බුසල් 25 ක වැඩි ආදායමක් ලැබේ.

එහෙත් ඊළඟ කන්නවල දී කෘතිම පොහොර, කෘමිනාශක ද්‍රව්‍ය, සහතික කළ වී බීජ ආදියෙහි මිල ඉහළ ගියොත් ඔහුට ලැබෙන ලාභය එන්ට එන්ට ම අඩු වේ. කලට වේලාවට බීජ නොලැබුණහොත් මුළු කන්නය ම පාළුවේ. නව තාක්ෂණය ලැබීමට පෙර අඩුම වශයෙන් යන්තම් යැපීමට ප්‍රමාණවත් අස්වැන්න ලද ගොවියා දැන් ණයකරුවෙක් බවට පත් වේ. ඔහු ගේ ඉඩම් සහ ශ්‍රමය පිළිබඳ වාසිය ලබන්නේ මේ නව තාක්ෂණය පාලනය කරන බාහිර පුද්ගලයෙකි. සමහර විට ඔවුන් වාසය කරන්නේ අගනුවරවල හෝ විදේශවලය. ගොවියා දුප්පත් වන අතර පොහොසත් ඔවුහු ගොවි ශ්‍රමයෙන් තවත් පොහොසත් වෙති. තමන්ගේ පාලනය යටතේ නොතිබෙන තාක්ෂණයක් උපයෝගී කර ගන්නට යෑමෙන් ගොවියා ළිපට වැටේ.

මේ සුළු උදාහරණය ජාතික වශයෙන් සලකා බැලුවහොත් තත්ත්වය කිමෙක් ද? වසරකට ටොන් දස දහස් ගණනක කෘතිම පෝරවලට ලොව පුරා ටෙන්ඩර් කැඳවීමට රජයට සිදු වේ යැ යි සිතමු. මේ විදේශ විනිමය වටිනාකම ඩොලර් ලක්ෂ ගණන් වනු ඇත. බහු ජාතික සමාගම් විසින් මේ මිලට ගත යුතු කාගෙන් දැයි තීරණය කරන දේශපාලකයන් හා පරිපාලනික වගකිවයුත්තන් කෙරෙහි විවිධ දූෂිත බලපෑම් ඇති කිරීමට වෙහෙසෙනු ඇත. ඒවාට යමකු අසු වුවහොත් ඒ පුද්ගලයා කවරදා වත් මෙ ම පොහොර අවශ්‍ය වූ තාක්ෂණය ගොවියාට බලපාන්නේ කෙසේ දැ යි සොයා නොබලනු ඇත. ඔහු කියනු ඇත්තේ වැඩි වන ජනගහනයට වැඩියෙන් ආහාර වුවමනා නිසා ගොවියාට වැඩි අස්වැන්නක් නිපදවීමට පොහොර අවශ්‍ය බවත් මෙම පොහොරවල මිල ලෝක වෙළඳපළේ ඉහළ යන බවත් ඒ නිසා රජය පාඩු විඳ ගොවියාට සහන මිල කට පොහොර ලබාදිය යුතු බවත් ය. රජය මේ සහනය සලසන්නේ වෙනත් ක්‍රමවලින් මහජනතාව ගෙන් ලබාගන්නා අයබදු තුළිනි.

එහෙත් වසරෙන් වසර මේ ප්‍රශ්නය උග්‍ර වනු හැර ගොවියාට අවශ්‍ය පොහොර සහ බීජ ගැමි මට්ටමේ දී ම ගොවියාට වැඩි ප්‍රයෝජනය ලැබෙන අන්දමට නිෂ්පාදනය කිරීමේ යෝග්‍ය තාක්ෂණයක් ගැන අවබෝධය යොමු නො වේ. මේ තාක්ෂණය ඔවුන් පිට පැටවීමට පෙර තිබූ පාරම්පරික ස්වභාවික පොහොර පාවිච්චිය ද සෙසු තාක්ෂණ ද අභාවයට යයි.

දුම්කොළ සමාගම් විසින් කඳුබෑවුම් එළි කොට දුම්කොළ වගා කිරීමට ගොවියනට අවශ්‍ය සියලුම දේම සපයනු ලැබේ. කඳුබෑවුම් එළි කිරීම නිසා පස සේදීයාමට පටන් ගනී. මතුපිට හියුමස් පසුත්, සුළු කෘතීම පොහොර ප්‍රමාණයකුත්, වෙනත් තාක්ෂණික ක්‍රමත් නිසා පළමු වන කන්නයේ දී දුම්කොළ වවන ගොවියා හොඳ ආදායමක් ලබයි. දෙ වැනි වසර වන විට මතු පිට සරු පස් සෑහෙන ප්‍රමාණයක් සේදී ගොස් හමාර ය. වැඩි වැඩියෙන් කෘත්‍රිම පොහොර යෙදීමට ගොවියා ට සිදු වේ. සමහර විට දුම්කොළ සමාගම අයිති ව්‍යාපාරිකයනට ම අයිති තවත් සමාගමක් විසින් කෘත්‍රිම පොහොර, කෘමිනාශක, රසායනික ද්‍රව්‍ය ආදිය නිපදවනු ඇත. තමන් නිපදවන දුම්කොළවලට හෝ ඒවා වැවීම සඳහා මිලට ගතයුතු බීජ, පොහොර ආදී දේට මිල නියම කිරීම පිළිබඳ සම්පූර්ණ ඒකාධිකාරී බලය තිබෙන්නේ දුම්කොළ සමාගම අතේ මිස ගොවියා අතේ නො වේ.

වසරින් වසර ගොවියාගේ ආදායම අඩු වනවා පමණක් නොව ඔහු එක්තරා විදියක ආර්ථික විෂම චක්‍රයකට අසුවී දුම් කොළ සමාගමේ වහල් කම්කරුවෙකු බවට පත් වේ. මේ අතර දුම්කොළ සමාගම ද, ණය දුන් බැංකු ද, අතරමැදියන් ඇතොත් ඔවුන් ද සියලු දෙනා ම පොහොසත් වෙති. පස සේදීයාම නිසා ගංගා ගොඩ වේ. කඳු බෑවුම් නායයාමේ තර්ජනවලට අසු වේ. ගංගා ගොඩවීම නිසා ජල ගැලීම්, පස සේදීයෑම් ආදිය ද එන්ට එන්ට ම වැඩි වේ. පොහොර සහ කෘමිනාශකවල රසායනික විෂ කුඹුරුවලට යෑම නිසා කුඹුරු පාළු වී ගොවිතැන් නැසෙයි. මනුෂ්‍යයන් සහ සතුන් බීමට සහ නෑමට පාවිච්චි කරන ජල මාර්ග විෂවීම නිසා ඒවා පරිහරණය කිරීමෙන් සාමාන්‍ය මිනිසුනට නොඇසූ විරූ ලෙඩ රෝග වැළඳේ.

මේ අතර වෙළෙඳ සමාගම්, බැංකු මෙම සමාජ විනාශයේ වැය ගණනකට නොගෙන විශාල ලාභාංශ පෙන්වයි. ඔවුන්ගේ ව්‍යාපාර වස්තු වැඩි මිලට කොටස් වෙළඳපළේ  අලෙවි වෙති. මුදල් හදල් තිබෙන අය මේවායේ තවතවත් කොටස් මිල දී ගනිති. මේ සියල්ලම රටේ දළ ජාතික නිෂ්පාදිතයට සහ ආර්ථික වර්ධන ප්‍රවේගයට එකතු වී ප්‍රවෘත්ති පත්‍රවල සහ සන්නිවේදන මාධ්‍ය වල රට සංවර්ධනය වූ බව පෙන්වා මහත් ප්‍රසිද්ධියක් ලබති.

විෂම අයෝග්‍ය තාක්ෂණයක්, ඒවාට ම ගැලැපෙන ණය දෙන ආයතන, බැංකු සහ වෙළඳ සමාගම් ආදී ආර්ථික කළමනකාරිත්ව රාජ්‍ය සංස්ථා , සන්නිවේදන ආයතන ආදියේ ව්‍යුහය සමග එකතු වී දුප්පත් කම, රෝගීබව, අසරණ බව ආදී බලවේග අඩංගු  විෂම චක්‍රයක් මුදා හරී. තුන්වන ලෝකයේ බොහෝ රටවල මේ අයෝග්‍ය තාක්ෂණය සහ එයින් සිදුවන ඇති - නැති පරතරයේ වැඩිවීම, පාරිසාරික දූෂණය, සෞඛ්‍යයට සිදුවන අනතුරු දායක තත්ත්වය සහ සාරධර්ම පරිහානිය පිළිබඳ ප්‍රමාණවත් සැලකිල්ලක් යොමු කොට නැත. මේ පිළිබඳ වගකීම භාරගත යුත්තේ මේවායේ විෂම ප්‍රතිඵල භුක්ති විඳින නමුත් එහි සංකීර්ණ හේතු නොදන්නා වූත්, දැනගත්තත් ඒවා පාලනය කිරීමට නොහැකි වූ පොදු ජනතාව නොව, මේවා ගැන හොඳින් දන්නා, එයින් මහත්ඵල මහානිසංස විඳින, වරප්‍රසාද ලත් ව්‍යාපාරිකයෝ ද,  රාජ්‍ය නිලධාරී හූද දේශපාලන බලවත්තු ද වෙති.

අප රටට ගැලපෙන, ඒවා උපයෝගී කර ගන්නා ගොවීන් සහ කම්කරුවන් විසින්ම පාලනය කළ හැකි, යෝග්‍ය තාක්ෂණය පිළබඳ ජාතික ප්‍රතිපත්තියක් වහාම සාදා ගත යුතුය. ඒ තාක්ෂණය සමග කිට්ටු සම්බන්ධයක් ඇති නිෂ්පාදන කළමනාකරණ ව්‍යුහයන් ද ජනතාවගේ පාලනයට යටත් වන පරිදි නොපමාව ප්‍රතිසංවිධානය විය යුතුය.

මා මෙහි සඳහන්  කළේ සාමාන්‍ය  ජනතාවගේ  ආර්ථික  ක්ෂෙත්‍රයට  අදාල කරුණු දෙකක්  පමනි. එහෙත්  මනුෂ්‍ය  ජීවිතයට සම්බන්ධ ඕනෑ ම කටයුත්තක දී එහි පිටුපස තිබෙන දර්ශනය පමණක් නොව  තාක්ෂණය සහ ව්‍යුහාත්මක ස්වභාවය ද වැදගත් ය. අදට වඩා සහනසීලී යුගවල දී අප සමාජයේ තිබුණ දර්ශනය, තාක්ෂණය සහ ආයතනීය ව්‍යුහයන් පොදු ජනතාවගෙන් ඈත්වූ ඒවා නො වී ය. පටිච්ච  සමුප්පාද  ධර්මය හා  චතුරාර්ය සත්‍යය තේරුම් ගැනීමට හැමෝටම එකසේ අපහසු  වූවත්  කුඩා දරුවනට පවා හොඳ නරක, පව් පින් ගැන බහතෝරන වියේ දිම සංස්කෘතික හැදියාව විසින් හැඟීමක් දී තිබුණේ ය.

අත හොඳට සෝදා ගෙන ආහාර ගැනීම, වතුර කළය පුරුද්දක් වශයෙන් පිරිසිදු පොල් කට්ටකින් වසා තැබීම, කටුමැටියෙන් සාදාගත් ගෙයක වුවත් අවශ්‍ය කාළයේ දී පොල් අතු ටික වියාගෙන වහල සෙවිළි කැරගැනීම සහ ගොම මිශ්‍ර කොට මැටි අනා බිම සහ බිත්තිය මුල් කොටස ආලේප කිරීම ආදී තාක්ෂණයන් හොඳ පුරුදු වශයෙන් හෝ සිරිත් විරිත් වශයෙන් හෝ පැවතුනේ ය. විවිධ උත්සවවල දී උනුනුනට තෑගි බෝග මුදල් හදල් දීම, ණය ගණුදෙනු, බිත්තර වී හුවමාරු, සාමූහික ශ්‍රමය යෙදවීම ආදි සෑම කටයුත්තක් පිටුපසම යම් කිසි අන්දමක සංවිධානාත්මක ව්‍යුහයන් ක්‍රියාත්මක විය. මේ සෑම දේකම වැදගත් කම තිබුණේ ඒවා ජනතාවගේම පාලනයට යටත් වී ජන කොට්ඨාශයේම සැබෑ අය (ආදායම) වැඩිකළ ගමේ ධනය පිටතට ඇදී යාමට ඉඩනොදුන් ක්‍රියාදාමයන් වීම ය.

සමාජ කොට්ඨාශයක් තුළ පවතින ආත්ම විශ්වාසය, ස්වශක්තිය, සාමූහිකත්වය සහ මූලික සැලසුම් ගත ක්‍රියා මාර්ගයන් සජීවී සොබාවයකින් පැවතුණහොත් පමණකි. ජන කොටස් අතර මෙන්ම ජාතික වශයෙන් ද ශ්‍රම සූරාකෑමෙන් තොර, සොබා සම්පත් ආරක්ෂා වන, ජීවන තත්වය නගා ලිය හැකි, සාමාජික ආර්ථික තත්වයක් ඇති කළ හැක්කේ. පසුගිය 40 වසර තුළ දී කට්ටිවාදී බල තරඟවල සහ අසාධාරණ ධනෝපායන මාර්ගවල යෙදී පොදු ජනතාවට වැරදි නායකත්වයක් දුන් වරප්‍රසාද ලත් සුළු පිරිසක් විසින් හඳුන්වා දුන් විෂම තාක්ෂණයකට අප හසු වී සිටිමු. "රට- දැය- සමය" නිසි මඟකට යොමු කරන්නට නම් ඉදිරි දශකය තුළ දී අපට ගැළපෙන යෝග්‍ය තාක්ෂණික ක්‍රම අප විසින් තීරණය කොට භාවිතා කළ යුතු ය. ඇත්ත වශයෙන් ම අවශ්‍යව ඇත්තේ තාක්ෂණික හා ව්‍යුහමය විප්ලවයෙකි.

තාක්ෂණය යන වචනය අප පාවිච්චි කරන්නේ ඉතා පුළුල් අර්ථ දැක්වීමක් යටතේ ය. තාක්ෂණය වනාහි ආර්ථිකය, සෞඛ්‍යය, අධ්‍යාපනය ආදියට පමණක් සීමා වූවක් නොවේ. එය යන්ත්‍රසූත්‍රවලට සීමා වූවක් නොවේ. අප තාක්ෂණයට අර්ථ දක්වන්නේ යම් චින්තනයක පිහිටා අරමුණක් සාක්ෂාත් කැරගැනීමට යෑමේ දී උපයෝගී කැරගන්නා ශිල්පීය ක්‍රම, ක්‍රම විද්‍යාවන්, මෙවලම් උපකරණ ආදී සමස්ථයට යි.

තාක්ෂණය යෝග්‍ය ද අයෝග්‍ය ද යනුවෙන් තීරණය වන්නේ එම තාක්ෂණය ප්‍රයෝජනයට ගන්නා ජන කොට්ඨාශයට පහසුවෙන් පාලනය කරගත හැකි ද? එහි වරදක් සිදුවුවහොත් එය පහසුවෙන් ලබාගත හැකි ද? නැතිනම්, විදේශයකින් විදේශ විනිමය වියදම් කොට කාලය ගෙවා ගෙන්වා ගැනීමට සිදු වේද? එයට අවශ්‍ය ඉන්ධන ආදිය ප්‍රාදේශීය හෝ රට ඇතුළෙන් සොයා ගත හැකි ද? ඒ තාක්ෂණය නිසා පරිසරය දූෂණය වේ ද? වියදම සහ ආදායම ගැන හිතන විට එම තාක්ෂණයේ ප්‍රයෝජන නිෂ්පාදනය කරන්නාට ලැබේ ද? යනාදී වූ කාරණා රැසක් මත ය.

අප ජීවත් වන සමාජයේ මනුෂ්‍යයන් ගේ සිත්වලින් පිට වන ලෝභය, තරහව, වෛරය ආදී දූෂිත චිත්තවේග නිසා චිත්තභ්‍යාවකාශය විෂ වන බැව් අපි කලින් ප්‍රකාශ කළෙමු. විෂ වූ චිත්තභ්‍යාවකාශයේ ජීවත් වෙමින් සිටින සාමාන්‍ය මනුෂ්‍යයා ගේ සිත ද දූෂණය වේ.

මේ චිත්ත දූෂණය ඉවත් කිරීමට යොදාගත යුතු තාක්ෂණය යන්ත්‍රසූත්‍ර හෝ කළමනාකරණ ක්‍රමයක් නො වේ. අපේ සංස්කෘතියෙන් අපට උගන්වා ඇති ආධ්‍යාත්මික ශක්තිය ජනිත කිරීමේ ව්‍යායාමයකි. ඒ සඳහා උදාහරණයක් වශයෙන් පහත සඳහන් "ආධ්‍යාත්මික" තාක්ෂණය ඉදිරිපත් කරමි.

**ආධ්‍යාත්මික ශක්තිය පිබිදවීම**

**හැඳින්වීම**

පුද්ගලයන් වශයෙනුත් පවුල් වශයෙනුත් ජන කොට්ඨාශ වශයෙනුත් අප කෙරෙහි බලපාන මූලික බලශක්ති කිහිපයක් තිබේ. අපේ සිත හා කය කෙරෙහි ඒ ශක්තීන්ගේ බලපෑම සමබර ව තබාගැනීමෙන් අපේ මානසික සහ ශාරීරික සෞඛ්‍යය ආරක්ෂා වේ. සමාජ සාමය හා සොබා පරිසරය ආරක්ෂා වේ.

පුද්ගලයින්, පවුල් හා ජන කොට්ඨාශ තුල තිබෙන ස්වභාව ශක්තීන්, කායික ශක්තීන් සහ චිත්ත ශක්තීන්ගේ සමබරතාව නැති වූ විට මිනිස්සු සොබා පරිසරය ද සමාජ සාමය ද වනසමින් තමනුත් වැනැසෙමින් මහා විනාශවල යෙදෙති. එ වැනි තත්ත්වයක් වෙනස් කළ හැක්කේ සෑම මනුෂ්‍යයකු තුළ ම තිබෙන ආධ්‍යාත්මික ශක්තිය මතු කිරීම හා හරිමගට යොමු කිරීම තුළිනි.

**පළමු අවස්ථාව:**

(1) පහසු ආකාරයට වාඩි වෙන්න. පැයක් පමණ වේලා පහසුවෙන් සිටීමට හැකි වේ යැයි සිතන ආකාරයට වාඩිවෙන්න. කොන්ද බෙල්ල හිස සෘජුව සිටින සේ වාඩි වී ඇත් දැයි සොයා බලන්න. විටින් විට ඉරියව්ව නිවැරදි දැ යි විමසා එය නිවැරදි කැරගන්න.

(2) අත්දෙක ඇඟිලි තුඩුවලින් සම්බන්ධ වන සේ හෝ වම් අත උඩ දකුණු අත තිබෙන සේ හෝ පහසු ආකාරයට සිනහ රැල්ලක් මුවග රැඳෙන පරිදි මුව සරසා ගන්න.

(3) මාපට ඇඟිලිවලින් ආරම්භ කොට හිස් මුදුන දක්වා මාංශපේශී යෙන් මාංශපේශියට, අවයවයෙන් අවයවයට ක්‍රමයෙන් සිත යොමු කරවමින් ඒ ඒ ස්ථාන සැහැල්ලු කර ගන්න. මෙ ලෙස මුළු සිරුර ම සැහැල්ලු කරගන්න. කය සෘජුව තබාගත යුතුමුත් දරදඬු නො විය යුතු ය.

(4) පපුව පිරෙන සේ හුස්ම ඇතුළට ගන්නා ගමන් තමා තුළට විශ්ව ශක්තීන් ඇතුළු වේවා යැයි සිතන්න. හුස්ම පිට කරන ගමන් තමා තුළ යම් විසම ශක්තීන් ඇතොත් ඒවා පිට විය යුතු ය යි සිතන්න. මෙය තෙ වරක් කරන්න.

(5) ඉක්බිති ව ස්වභාවයෙන් සිදු වන ආශ්වාස ප්‍රශ්වාස කෙරෙහි පමණක් අවධානය තබා ගන්න. ආශ්වාසය සිදු වන විට එය ආශ්වාසයක් බව

(

දැනගන්න. ප්‍රශ්වාස සිදුවන විට එය ප්‍රශ්වාසයක් බව දැනගන්න. දීර්ඝ නම් දීර්ඝ බව දැනගන්න. කෙටි නම් කෙටි බව දැනගන්න. එකම හුස්ම වාරයක් වත් තමන් නොදැනුවත් ව සිදුනොවන ලෙස, ඉහළ පහළ යන හුස්ම කෙරෙහි අඛණ්ඩ අවධානය පවත්වන්න. මොනයම් අරමුණක් වෙත සිත යොමුවුවත් එහි රැඳී සිට විභාග කරන්න නොගොස් ආශ්වාස ප්‍රශ්වාස කෙරෙහි ම යොමු කරන ලද සිහියෙන් ඉන්න.

(6) ඇතුල් වන හුස්ම හෝ පිට වන හුස්ම නාස්පුඩු කෙළවරේ යම් ස්ථානයෙක ගැටේ. එ ම ස්ථානය සොයා ගෙන එහි සිහිය තබා ගෙන, හුස්ම එහි ගැටෙන සලකුණෙන් හුස්ම වැටීම දැනගන්න. මෙ සේ පුහුණු කිරීමෙන් සිත වෙන කිසි ම අරමුණකට නොදුවා ඒකාග්‍රතාවය ඇති වේ. සිත වෙනත් අරමුණක් කරා යොමු වුවත් නැවත නැවතත් ඉහතින් දැක්වූ ස්ථානයට ම යොමු වන්නේ නම්, එහි ම සිත රැඳේ නම්, ඔබ ධර්ම ශක්තිය ලැබීමටත්, ඉන් ජනිත වන ආධ්‍යාත්මික මෛත්‍රී ශක්තිය සියලු සත්ත්වයන් වෙත විහිදුවීමටත් සුදුසු භාවයකට පත් වී ඇති බැව් සලකා **සාම භාවනාවේ දෙ වැනි අවස්ථාව ක්‍රියාත්මක කරන්න.**

(7) මෙ සේ සිතන්නඃ මගේ ශරීරය සැහැල්ලු යි. විවේකී යි. ස්වභාව ධර්මයේ ශක්තීන්ට මගේ ශරීරය දැන් වඩා සම්බන්ධ යි. මා හුස්ම ගැනීමත් සමඟ ම ස්වභාව ශක්තීන් මා තුළට ඇතුළු වී මගේ ශරීරය ශක්තිමත් කරයි. මගේ ශරීරය මෙන්ම මගේ සිත ද සුවපත් විය යුතු යි. මගේ සිතේ තිබෙන ලෝභකම් දුරු විය යුතු යි. ඊර්ෂ්‍යා, තරහ දුරු විය යුතුයි. දැන් මගේ ගත මෙන් ම සිත සුව පත්. මගේ මෙන් ම මගේ මව ගේ ... ( මේ අන්දමින් සිත, කය සුවපත් වේවායි සිතන්න.) මගේ පියාගේ .... භාර්යාව ගේ, ස්වාමියා ගේ, වෙනත් අයගේ .... සියලුම ලංකාවාසීන් ගේ ... සියලුම ලෝකවාසීන් ගේ, සියලුම සත්ත්වයන්ගේ ආදී වශයෙන් තමන් ගෙන් පටන් ගෙන මුළු ජීව ලෝකය ම සිතින් කයින් සුවපත් වෙත් වා ය යි සිතන්න. මේ සිතිවිලි අතරතුර එන සෑම මොහොතකම ආශ්වාස ප්‍රශ්වාස දෙස සිත යොමු කරන්න.

(8) තමා මෙසේ දියුණු කරගත් මෛත්‍රී ශක්තිය තවත් ශක්තිමත් කර ගැනීම පිණිස බුදුන් වහන්සේගේ, ධර්මයාගේ, සංඝයාගේ මෛත්‍රී ගුණය (බෞද්ධයින් විසින්) සිහි කොට ඒ ශක්තීන් තමා තුල ද වැඩිය යුතු යැ යි අධිෂ්ඨාන කරන්න. සෙසු ආගමිකයින් තමා අදහන ශාස්තෘන් වහන්සේ ගේ ගුණය මෙනෙහි කොට ඒ ශක්තිය ලබා ගන්න. හුස්ම ඇතුළට ගන්නා විට මේ මෛත්‍රී ශක්තීන් තමා තුලට ද එක් වේ වා යි සිතන්න. හුස්ම පිට කරන විට තම සිතේ තිබෙන සියලු බෙදීම් පිට වී ජීව ලෝකයේ ම තමා තුළ මෙන් ම මෛත්‍රී ශක්තිය දියුණු වේවා යි සිතන්න.

(9) ශ්‍රී දළදා වහන්සේ, ශ්‍රී මහා බෝධීන් වහන්සේ, රුවන්වැලි මහා සෑය ආදී පූජනීය වස්තූන්ට සම්බන්ධ ශක්තීන් ද තමා තුළට ඇතුළු වී තමාගේ මෛත්‍රී ශක්තිය තව තවත් වැඩි වේ වා යි සිතන්න. ඒ වස්තූන් හා සම්බන්ධිත විවිධ සම්‍යක් දෘෂ්ටික දේව ශක්තීන් ද තමා තුළට ඇතුළු වී තමාගේ මෛත්‍රී ශක්තිය තව දුරටත් ශක්තිමත් වේ වා යි සිතන්න. මේ සිතිවිලි අතරතුර තිබෙන සෑම මොහොතකම නැවත ආශ්වාස ප්‍රශ්වාසය දෙස සිත යොමු කරන්න.

තුන්වන අවස්ථාව:

(1) ජාති, කුල, ආගම්, පක්ෂ, භාෂා ආදී භේද මිනිසා මිනිසා ගෙන් වෙන් කරන සූක්ෂම උපක්‍රම බව සිතන්න. මනුෂ්‍යත්වයේ උසස් ලක්ෂණය නම්, තමාටත් අන්‍යයනටත් හිංසාවක්, පීඩාවක්, හිරිහැරයක් නොවන පරිදි බුද්ධිමත් ව සිහි කල්පනාවෙන් තම චින්තනය, වචනය, හා ක්‍රියාව හසුරුවාගැනීම බවත් තමා මෙන්ම සියලු සත්ත්වයෝ ම හිංසාවට අකමැති බවත්, නිදුක් නිරෝගී බියෙන් තොර සැනසිලිදායක සාමකාමී පරිසරයක ජීවත් වීමට කැමති බවත් අවබෝධ කොට ගෙන එ වැනි පරිසරයක ජීවත්වීමට ලැබෙන්නේ නම් එය කොයි තරම් අගනේ දැ යි ස්වල්ප වේලාවක් මෙනෙහි කරන්න.

(2) අප ජීවත් වන ලංකාද්වීපයෙහි දෙවුන්දර තුඩුවේ සිට පේදුරු තුඩුව දක්වාත් පුත්තලමේ සිට මඩකලපුව දක්වාත් ජීවත් වන ලක්ෂ සංඛ්‍යාත පිරිසකට, මනුෂ්‍යයනට සහ සත්ත්වයනට මෙ වැනි පරිසරයක මෙ වැනි සිතිවිලි ඇති ව, වචන ඇතිව, ක්‍රියා ඇතිව, ජීවත් වීමේ වාසනාව ඇති වේ වා යි ඉත සිතින් පතන්න. තුන් වරක් මේ අන්දමට මෙනෙහි කැර ප්‍රාර්ථනා කරන්න.

(3) ඉක්බිති ව ඒ පරාර්ථකාමී ධර්ම මෛත්‍රී ධාරා සංඛ්‍යාත චිත්ත ශක්තිය මා ගේ චිත්ත සන්තානයේ පහළ වේ වා, පිහිටා වා යි මිනිත්තු 20 ක් පමණ වේලා එකම අධිෂ්ඨානයෙන් සිටින්න.

(4) මේ වන විට ඔබේ සිතට කවර දාක වත් නොදැනුණ ශාන්තියක්, ඒ වගේ ම දුකට පත්, බියට පත්, සොවට පත් සත්ත්වයා වෙනුවෙන් මා යමක් කළ යුතු ය යන මෛත්‍රී සහගත සිතිවිලි පැන නඟිනු ඇත.

(5) ඉනික්බිතිව මෙ සේ ඔබ ගේ මාර්ගයෙන් ක්‍රියාත්මක වන ආධ්‍යාත්මික ශක්තිය විහිදුවීම සඳහා මෙසේ අධිෂ්ඨාන කරන්න. මගේ සන්තානය කේන්ද්‍ර කොට ගෙන උල්පතකින් නැගී එන පිරිසිදු සිසිල් ජල ධාරාවක් සේ මෙ ම මෛත්‍රී ධර්ම ශක්ති ධාරා මා අවට සිටින සියලු දෙනා ගේ සිත් සතන්වලට ඇතුළු වී ක්‍රමයෙන් ඈතට ඈතට හතර වටේ ම ශ්‍රී ලංකාවේ අස්සක් මුල්ලක් නැර ජීවත් වන සියලු දෙනා වෙත ම පැතිරේවායි මිනිත්තු දහයක පමණ වේලාවක් භාවනාවෙහි යෙදෙන්න.

(6) තවදුරටත් මෙ සේ අධිෂ්ඨාන කරන්න.
මෙ ම ආධ්‍යාත්මික ශක්තියට එරෙහි ව කිසි හිංසාකාරී අධම බලවේගයකට හිස එසවිය නොහැකි ය. මෙ ම ආධ්‍යාත්මික ශක්තියේ බලයෙන් බොහෝ දෙනෙනු ගේ සිත්වලට අරක් ගෙන ඇති හිංසාකාරී අධම අදහස් නැති වී, ධර්මානුකූල ව ජීවත් වන පිරිසක ගෙන් යුත් සුඛිත මුදිත සාමකාමී වාතාවරණයක් ඇති ප්‍රදේශයක් බවට ශ්‍රී ලංකාව පත් වේ වා යි භාවනාවේ යෙදෙන්න.

(7) අප ශ්‍රී ලංකාවේ සිට ජනිත කරන මේ ආධ්‍යාත්මික ශක්තිය විවිධ රටවල සිටින අපේ මිතුරෝ ද මේ අන්දමේ ම භාවනාවල යෙදී අපේ ආධ්‍යාත්මික ශක්තියට එකතු කිරීමට ඔවුන් ගේ ද ආධ්‍යාත්මික තරංග එවනු ඇත. ඒවා ද අප හා එක් වේ වා ය යි සිතන්න.

(8) නැවත ශරීරය දෙස සිතින් බලා ශරීරය සැහැල්ලු කැරගන්න. නාස් පුඩු කෙළවර හුස්ම ඇතුළු වන පිට වන දෙස බලන්න. හුස්ම ඇතුළට ගන්නා ගමන් ස්වභාව ශක්තීන් මෙන් ම සැම දෙනා ගේ ම මෛත්‍රී ශක්තීන් තමන් තුළට ඇතුළු වන බව සිතන්න. දැන් තමා තුළ තිබෙන සියලු ශක්තීහු පිරිසිදු ය. ශක්තිමත් ය. දැන් තමා හුස්ම පිට කරන විට තමා ගේ මෛත්‍රී ශක්තියෙන් ස්වභාව පරිසරයත්, සියලුම මිනිස්සුත් සාමකාමී වෙත් වා, සුව පත් වෙත් වා යි සිතන්න, මේ අන්දමින් මෛත්‍රී ශක්තිය ඇතුළු කරමින් පිට කරමින් හුස්ම ඉහළ පහළ ගන්නා අතර තමා ගේ සිත ලංකාවේ සියලු ම ප්‍රදේශවලට මෛත්‍රිය පතුරවමින් යවන්න. මෙ සේ භාවනා කරන දස දහස් සංඛ්‍යාත භාග්‍යවන්ත පිරිස ගේ පිරිසිදු චේතනාවෙන් ජනිත වන්නා වූ ආධ්‍යාත්මික ශක්තිය අපේ ශ්‍රී ලංකාව පුරා විහිද ගොස් සැම දෙනාගේ ම සිත් මෛත්‍රීයට අහිංසාවට සාධාරණත්වයට සාමයට යොමු වේ වා යනු වෙන් අධිෂ්ඨාන කරන්න.

සැම භාවනා පැයක් ම නිම වන්නේ ප්‍රාර්ථනා ගීතය සැම දෙනා ම එක් ව ගැයීමෙනි.

**කල්වැසි වසී** **වා**
**කෙත්වත් සාර වේ** **වා**
**සත් සිත නිවේ** **වා**
**රජය දැහැමිව ලොවැඩ වේ** **වා**

## විශ්ව ධර්ම ශක්ති ගීතය

ස්වභාව ශක්තී සජීව ශක්තී
විශ්ව ධර්ම ශක්තී
මෙත් මුදිතා ගුණ චිත්ත වේග වී
ස්වස්ති සිඬි ජයතු //

අහස පොළොව ඉර හඳ තරු තුරුලිය
දෙව් බඹ මිනිසුන් නඟන සවී
හද තුළ එක් වී මහ සවියක් වී
සාම කිරණ ජන නී

ස්වභාව ශක්තී //

සිරි දළදා සිරිමාබෝ රන්මැලි
මහ සෑ මා සමිඳුන් සවිය යි
හද තුළ එක් වී මහ සවියක් වී
සාම කිරණ ජනනී

ස්වභාව ශක්තී //

තිස්සමහාරාමය කිරි වෙහෙර ද
මියුගුණ ගිරිහඬු සෑ සවිය යි
නාගදීප කැලණිය සිරි සමනොළ
ගිරිහිස රැඳි සිරිපා සවියයි
අප තුළ එක් වී මහ සවියක් වී
සාම කිරණ ජනනී

ස්වභාව ශක්තී //

ශ්‍රී දළඳා මාළිගාවේ සිට ශ්‍රී මහා බෝධීන් වහන්සේ දක්වා 1987 ජුනි 3-11 අතර පැවැත්වූ සාම සක්මන් භාවනාව සඳහා රචනා කළ අමරදේව ශූරීන් විසින් ගැයූ විශ්ව ධර්ම ශක්ති ගීය.

සදාචාර අංශය දෙස බලමු. මත්ද්‍රව්‍ය, මත්පැන් භාවිතය අතිශයින් ම ව්‍යාප්ත වී ගෙන යයි. මේවාට ගොදුරු වූ විශේෂයෙන් තරුණ පෙළ බේරාගැනීමට අපේ ම දේශීය තාක්ෂණයන් එ ම ප්‍රශ්නයට ගැළැපෙන සේ යොදාගැනීමට අපට සිදු වේ. එ වැනි ක්‍රම දැනට සර්වෝදය ව්‍යාපාරය මගින් මධ්‍යස්ථාන කිහිපයක උපයෝගී කරගෙන තිබේ.

මැලේරියා උවදුර ශ්‍රී ලංකාවේ සමහර පෙදෙස්වල ඉතා භයානක ප්‍රශ්නයකි. මැලතියන් පාවිච්චියෙන් මැලේරියා මදුරුවා විනාශ කිරීමේ රසායනික තාක්ෂණයක් දැනට භාවිතා කරයි. ඊට කලින් ඩී.ඩී.ටී පාවිච්චි විය. එයින් සිදු වන පරිසර දූෂණය නිසා එය ලොව පුරා තහනම් කරන ලදි. එමෙන්ම ඩී.ඩී.ටී වලට මදුරුවා පුරුදු විය. මැලතියන් ද ඉතා පරිස්සමින් පාවිච්චි කළයුතු විෂ රසායනික ද්‍රව්‍යයකි. එයට ද මදුරුවා බෝවන තැන් නැති කිරීමෙන් ද දේශීය ක්‍රම පාවිච්චි කිරීමෙන් මැලේරියා උවදුරට මුහුණදීමේ නව තාක්ෂණයන් සොයාගැනීමට වසර කිහිපයක සිට ගම් හැටහතක් මුල් කොට පර්යේෂණයක් කරගෙන යනු ලැබේ. සමහර විට මේ සඳහා යෝග්‍ය තාක්ෂණයක් අපට සොයාගන්නට හැකි වනු ඇත.

අපේ රට දුප්පත් රටකි. මූලික මානුෂික අවශ්‍යතා සපුරාගැනීමට කාර්මීකරණය වූ පොහොසත් රටවල් යොදාගත් ශිල්පීය ක්‍රම අපට යෝග්‍ය නො වේ. අපට ම සරිලන ශිල්පීය ක්‍රම අප විසින් සොයාගත යුතු ය.

# 9
# පවතින විෂම චක්‍රය

මෙ තෙක් මේ පොත කියා වූ පාඨකයාට අපේ රට-දැය-සමය අසු ව තිබෙන විෂම චක්‍රය පිළිබඳ අවබෝධයක් ලැබෙන්නට ඇත. මේ විෂම චක්‍රය විනාශ කොට ඒ වෙනුවට රට-දැය සමය නංවාලිය හැකි ධර්ම චක්‍රය නැවත පෙරළීම මේ යුගයේ ජීවත් වන බුද්ධිමත් ලොකු කුඩා හැම ගේ ම වගකීම විය යුතු ය.

වත්මන් සමාජ අර්බුදය ගැන විමැසීමේ දී ඒකහේතුක විග්‍රහයන්හි යෙදීම නිෂ්ඵල ක්‍රියාවක් බව මගේ හැඟීම යි. අනුමාන කළහැකි සෑම හේතුවක් ගැන ම සොයා බලා විෂම චක්‍රයකට බල ශක්තිය දෙන හේතුන් අප විසින් දුර්වල කොට ධර්ම චක්‍රයකට බල ශක්තීන් දෙන හේතුන් අප විසින් ශක්තිමත් කළ යුතු ය.

පුද්ගලයෙක් ගැන සිතමු. ඔහු ගේ හෝ ඇය ගේ හෝ පෞරුෂය වනාහි අප සඳහන් කළ ජෛවීය , පාරිසාරික, කර්මික සහ චිත්ත සාධකයන් විසින් සපයනු ලැබූ බල ශක්තීන් යම් අවස්ථාවක දී සමබර වී තිබෙන තත්වයකි. ඊළඟ මොහොතේ දී මේ තත්ත්වය වෙනත් තත්ත්වයකට හැරීමට පිළිවන. මේ හේතුන් පිළිබඳ ආත්මවබෝධයක් තිබෙන තැනැත්තා චිත්ත සාධකය සහ පරිසර සාධකය ඉස්මතු කරගෙන තමාට අභිමත දෙසකට තමා ගේ පෞරුෂය හැරවීමට අනිත් සාධකවල බලය දුර්වල කරයි. අප විසින් සමාජ විෂම චක්‍රය දෙස බැලිය යුත්තේ ද මේ අන්දමිනි.

පවතින විෂම චක්‍රය බිඳැලීම පමණක් නොවේ. ඒ වෙනුවට ධර්ම චක්‍රය පෙරැළීම ද එක වර ම සිදුවිය යුතුය. විනාශ කළ යුතු දේ විනාශ කිරීමත්, ගොඩනැංවිය යුතු දේ ගොඩනැංවීමත් එක වර ම කිරීමට සිදු ව තිබේ. මෙය පහසු කටයුත්තක් නො වේ. අසත්‍යය, හිංසාව සහ ආත්මාර්ථකාමිත්වය මුල් කොට කළ හැක්කක් ද නොවේ. ඒවා මුල් වුවහොත් සිදු වන්නේ තත්ත්වය තවත් විෂ වීම යි. අප සොයාගන්නා මාර්ගය සත්‍යයෙන් අසත්‍යයට මුහුණු දීමටත්, අහිංසාවෙන් හිංසාවට මුහුණ දීමටත්, ආත්මහරණයෙන් ආත්මාර්ථකාමිත්වයට මුහුණ දීමටත් පුළුවන් මාර්ගයක් විය යුතුය. බොහෝ දෙනෙක් මේ විෂම චක්‍රය වෙනස් කිරීමට දේශපාලන බලය අල්ලාගැනීම පමණක් ප්‍රමාණවත් යැ යි සිතති. විශාල බලාපොරොත්තු ඇති ව සර්වජන ඡන්ද බලය පාවිච්චි කිරීමෙන් එක් පක්ෂයක් පරාජය කොට වෙනත් පක්ෂයකට බලය ලබාදීමේ කාර්යය කිහිප වරක්ම මහජනයා විසින් බුද්ධිමත් ව සිදුකර තිබේ. එහෙත් දශක හතරකට පසු ආපසු හැරී බලන කෙනෙකුට පෙනෙන්නේ මේ හැම බල තට්ටු මාරුවක් සමග ම පාලන තන්ත්‍රය බලවත් වූ අතර, ප්‍රජාතන්ත්‍රය දුර්වල වූ බව යි. පාලන තන්ත්‍රය සතු ව දණ්ඩ බලයක් තිබේ. පොලීසිය, හමුදා, අධිකරණ, සිරගෙවල් ආදිය මේ දණ්ඩ බලය ක්‍රියාවට නංවන ආයතන යි. පාලන තන්ත්‍රය පාලනය කරන ටික දෙනා මෙ ම ආයතන සියල්ල ම ඔවුනට ඕනෑ හැටියට පාලනය කරති. ඔවුන්ගේ ක්‍රියාවලට නීතිය හරස් වුවහොත් නීතිය ද අවශ්‍ය අන්දමට වෙනස් කැරගනිති

ප්‍රජාතන්ත්‍රය ජන ශක්තිය මත පිහිටා තිබේ. ජන ශක්තිය ප්‍රකාශ වන්නේ අදහස් පළ කිරීම, නිදහසේ රැස්වීම් තැබීම, ලිවීම, සාමකාමීව විරෝධය දැක්වීම, අධිකරණය ඉදිරියේ අයිතිවාසිකම් තහවුරු කිරීමේ මාර්ග ආදී ක්‍රම උඩ යි. ආපසු හැරී බලන විට දණ්ඩ ශක්තිය බලවත් කරමින් ජන ශක්තිය දුර්වල කිරීමට බලයේ සිටි සෑම පක්ෂයක් ම ක්‍රියාකර තිබෙන බව පිළිගත යුතු ය

අප බොහෝ විට මේ තත්ත්වය, ළිඳක ජලය පනිට්ටුවකින් ගැනීමට සමාන කර තිබේ. එක් පනිට්ටුවකින් ජලය නොඑන විට පනිට්ටුව මාරු කර ජලය ලබා ගැනීමට අපි තැත් කරමු. කිහිප වරක් ම පනිට්ටු මාරු කළත්, පන්ට්ටුව ළිඳට දමා ආපසු ගන්නා විට ජලය නො ලැබේ. මේ නිසා පනිට්ටුව මාරු කරනු වෙනුවට "ළිඳේ ජලය ඇත් ද යි" බලනු වටී. 'රට-දැය-සමය' නැමැති ළිඳට ජලය ගලා එන ආධ්‍යාත්මික, සදාචාර, සංස්කෘතික, සාමාජීක, ආර්ථික සහ දේශපාලනික උල්පත් සියල්ල ම සිඳී තිබෙද්දී පනිට්ටු මාරු කිරීම හෝ ඒවා එකිනෙකට හැප්පීමේ තේරුමක් ඇතැ යි මට නො සිතේ. කළ යුත්තේ පනිට්ටු සියල්ල ම අයිනකට දමා ඒවා හසුරුවන්නන් සහ මහජනතාව ද සමස්තයක් හැටියට සංවිධානය වී උල්පත් පෑදීමට සූදානම් වීම යි. අද අපේ රටට අවශ්‍ය ව තිබෙන්නේ මෙ ම උල්පත් පෑදීමේ ව්‍යායාමය පටන් ගැනීම ය.

පළමුව ආධ්‍යාත්මික උල්පත දෙස බලමු. මේ උල්පත වසා තිබෙන්නේ මොනවායින් ද? ඒ පාදාගන්නේ කෙසේ ද? අධ්‍යාත්මයෙන් මතු වන්නේ පුදුම විදියේ ශක්තියෙකි. ලෝභය, තරහව සහ මුළාව එකිනෙකට සම්බන්ධ වී විෂම චක්‍රයක් හැටියට ක්‍රියා කරන විට මිනිසුන් ගේ සිත් වලින් මතු වන්නේ අධ්‍යාත්මයෙන් පිටවන ශක්තියක් නො වේ. මානසික මට්ටමින් විෂ දුමක් මෙන් පිට වන ලෝභයේ, තරහවේ සහ මුළාවේ හෙවත් අවිද්‍යාවේ ශක්තිය. චිත්තාභ්‍යාවකාශය මෙම විෂම ශක්තියෙන් අපිරිසිදු වූ විට මිනිසා මෘර්ගයකුටත් අන්ත අන්දමට ක්‍රියා කිරීමට පටන් ගනී. ඉවක් බවක් නැතිව අහිංසක මිනිසුන්, ගැහැනුන්, දරුවන් වද හිංසාවලට යටත් කොට ඔවුන් ගේ සිරුරු පවා විකෘති කොට තිරශ්චීන අන්දමට මරා දමා මළමිනී පවා විනාශ කරන තත්ත්වයෙන් මිනිසුන් හැසිරෙන්නේ මේ විෂම වූ චිත්තශ්‍යාවකාශය ඔවුන් ගේ මනස කෙරෙහි බලපා ඇති නිසා ය. වරක් මෙවැනි දරුණු ක්‍රියාවක යෙදුනු තැනැත්තා තමන්ගේ මනස තවත් දූෂණය කරගෙන එම වරද ම වැඩි ප්‍රමාණයෙන් යුතුව නැවත නැවත කරයි. දරුණු විෂම චක්‍රයට ඔහු අසු ව තිබෙන බව ඔහුට නො තේරේ.

චිත්තශ්‍යාවකාශයට බලපාන මේ විෂම ශක්තීන් වෙනුවට ධර්ම ශක්තීන් මුදා හරින්නේ කෙ සේ දැයි ඊළඟ පරිච්ඡේදයෙන් අපි විග්‍රහ කරන්නෙමු.

දෙ වැනි ව සලකා බැලි යුත්තේ සදාචාර මට්ටමේ හෙවත් අන්තර පුද්ගල සම්බන්ධතා මට්ටම ගැන යි. වත්මන් සමාජයෙහි සදාචාර ජීවිතය ද විෂම චක්‍රයකට අසු ව තිබේ. පෞද්ගලික ජීවිතයේ දී මෙන් ම සදාචාර ජීවිතයේ දී අප ව්‍යවහාර කරන වචන සහ කරන ක්‍රියාවන් දෙස විමසා බැලූවහොත් ආධ්‍යාත්මික පිරිහීම නිසා අප සදාචාර පිරිහීමකට අසුව තිබෙන බවත්, එම සදාචාර පිරිහීම නිසා තව දුරටත් ආධ්‍යාත්මික පිරිහීම වැඩි වන බවත් පෙනේ. මේ අංශ දෙක විෂම චක්‍රයක් හැටියට අප කෙරෙහි බලපාන අන්දම අපට අවබෝධ විය යුතු ය.

විෂ කෘමිනාශක ද්‍රව්‍ය කූට මාර්ගවලින් ගොවියාට විකුණන ව්‍යාපාරිකයා ආධ්‍යාත්මික ව පිරිහුනු තැනැත්තෙකි. ඔහු කරන්නේ ආහාර විෂ කිරීම තුළින්, බලවත් සදාචාර විරෝධී ක්‍රියාවකි. එයින් ඔවුන් ගේ ලාභාංශ වැඩි වන නිසා ඔවුහු තව තවත් එ වැනි සමාජ විරෝධී නිෂ්පාදන හා වෙළහෙළඳාම්වල යෙදෙති. මත්ද්‍රව්‍ය, මත්පැන්, සූදු ආදී නීත්‍යානුකූල හෝ නීති විරෝධී ව්‍යාපාරයන් ගැන කිව යුත්තේ ද මෙය ම ය. මෙ සේ වැරදි මාර්ගවලින් උපයාගන්නා ධනය සාධාරණ මාර්ග වලින් උපයාගන්නා ධනයට වඩා ඉක්මන් වැඩි ධනයක් නිසා ඔවුන් ගේ ජීවන රටාව ද සුඛෝපභෝගී වේ. මේ තත්ත්වය රැකගැනීමට ඔවුන් තව තවත් මුදල් ඉපයිය යුතු ය. ඒ සඳහා දේශපාලනයේ, පරිපාලනයේ, පොලීසි, හමුදාවල බලවතුන් හැකි පමණ දුරට ඔවුන් විසින් අවනත කර ගත යුතු ය. එයට තිබෙන මාර්ගය අල්ලස්, දූෂණ, වංචා ක්‍රම මගින් ඔවුන් දිනා ගැනීම යි. ඔවූහු ද සාධාරණව උපයා ගන්නා ආදායමට වඩා වැඩි වියදමකට පුරුදු වන නිසා මේ විෂම චක්‍රයේ කොටස් කරුවෝ වෙති.

අධ්‍යාපන ක්ෂේත්‍රය ගැන සිතමු. උසස් පාසැලකට දරුවෙකු ඇතුළු කිරීමට මුදලින් හෝ වෙනත් ක්‍රමවලින් හෝ බලපෑම් කළ හැකි බොහෝ දෙමව්පියන් එ සේ දරුවන් ඇතුලු කරන්නේ දරුවන්ට තිබෙන ආදරය නිසා ය. සමහර විට පාසැලට නුදුරු නිවසක බොරු ලිපිනයක් යෙදූ සැටි කුඩා දරුවා ද දැනගනී. ජීවිතය සාර්ථක කර ගැනීමට නම්, රැවටීම අවශ්‍ය ගුණයක් බව දරුවා ගේ යටි හිතට වටහේ. ඉන්පසු බොරු කියන්න හෝ යමකු රවටන්න හෝ ඔහු පැකිලෙන්නේ නැත. වරප්‍රසාද ලත් අයගේ අනුග්‍රහය ඇති වන නිසා මෙ ම පාසල්වලට විශාල වශයෙන් රජයේ සහ පිටස්තර ආයෝජන ලැබේ. මේ අතර මෙ ම පාසැල්වල ශිෂ්‍ය සංඛ්‍යාව දහස් ගණනින් ඉහළ යයි. කුඩා පාසැල් සාපේක්ෂ ව අඩු පහසුකම් ලබා අධ්‍යාපන මට්ටම ද දුර්වල කරගනී. විශාල පාසැල්වල ද විනය තත්ත්වය සහ අධ්‍යාපන තත්ත්වය ප්‍රමාණාත්මක බව නිසා ම දුර්වල වේ. උසස් අධ්‍යාපනයේ යෙදී සිටින ශිෂ්‍යයෝ සමාජ සාධාරණත්වය යන මිම්මෙන් සමාජ ප්‍රශ්න දෙස බලා කලකිරීමකට පත් වෙති. අධ්‍යාපනය සාර්ථක ව නිම කොට, රැකියා ලබා ගැනීමට යෑමේ දී ද මෙ වැනි ම බලපෑම් අවශ්‍ය නිසා ඔවුන් ගෙන් වැඩි දෙනෙක් පවතින ක්‍රමයට විරුද්ධ වෙති.

ගොඩ නැංවිය යුත්තේ කිමෙක් ද යි නොදන්නා අතර තිබෙන දේ විනාශ කිරීමට ඔවුහු සැරසෙති. බලධාරීහු මෙය වැළැක්වීමට විවිධ බලතල පාවිච්චි කරති. නොවැලැක්විය හැකි ගැටුම් ඇති වී විෂම චක්‍රය තවත් භයානක වෙති.

ආර්ථික ක්ෂෙත්‍රයේ සිදු වන දේ දේශපාලන ක්ෂෙත්‍රයටත්, දේශපාලන ක්ෂෙත්‍රයේ සිදුවන දේ සෞඛ්‍ය ක්ෂෙත්‍රයටත් අධ්‍යාපන ක්ෂෙත්‍රයටත් , අධ්‍යාපන ක්ෂෙත්‍රයේ සිදුවන දේ සෞඛ්‍ය ක්ෂෙත්‍රයේ සිදුවන දේ වෛද්‍ය ක්ෂෙත්‍රයටත් ආදී වශයෙන් ශරීරයේ හැම තැන ම පැතිරෙන පිළිකාවක් මෙන් මුළු ජාතික දේහයම මේ විෂම චක්‍රයට අසු වී විනාශ වේ.

මෙයින් පැහැදිලිව ම පෙනෙන්නේ එක් හේතුවක් උඩ අර්බුදය දෙස නො බලා තිබෙන සංකීර්ණ වූත්, එකිනෙකට බලපාන්නා වූත් සමස්ත විෂම ස්වභාවය දෙස බලා පූර්ණ විසඳුමක් සෙවීමට අප උනන්දු විය යුතු බව ය. ආධ්‍යාත්මික, සදාචාර, සංස්කෘතික, සාමාජික, ආර්ථික සහ දේශපාලනික යන ළිඳේ උල්පත් හයම අපට නැවත පෑදීමට සිදුව තිබේ. 'රට-දැය-සමය' යන ළිඳ නැවත වරක් පිරිසිදු ජලයෙන් පිරෙන්නේ එ විට ය. ළිඳ පිරුණු පසු කුමන පතිට්ටුවක් දමා ලබා ගත්තත් කම් නැත.

# 10

# ධර්ම චක්‍රය නැවත පෙරළීම සහ එහි නියමුවෝ

මේ පරිච්ඡේදයෙන් අප අදහස් දක්වන්නේ පවතින විෂම චක්‍රය අභිබවා ධර්ම චක්‍රය නැවත පෙරළීම සම්බන්ධවයි. විෂම චක්‍රය පෙරළීමට බල ශක්තිය සපයන විෂම චින්තනය, විෂම සංකල්පනා, විෂම භාෂා රටාව, විෂම ක්‍රියාමාර්ග සහ විෂම ජීවන රටාවන් පිළිබඳව අදහස් රැසක් ම මෙතෙක් කියවූ කොටස්වල සඳහන් කර ඇත. මෙම විෂම චක්‍රයෙන් ආත්ම සිද්ධිය ඉටු කරගන්නා පුද්ගලයින් සහ සංවිධාන ගැන ද ඔවුන් උපයෝගී කැරගන්නා තාක්ෂණය හා ව්‍යුහයන් ගැන ද සාමාන්‍යයෙන් සඳහන් විය.

ධර්ම චක්‍රය පෙරළීමට අවශ්‍ය දේශීය චින්තනයත්, සම්‍යක් සංකල්පනාවත්, භාෂා ශෛලිය, අර්ථ චර්යාත්මක ක්‍රියාමාර්ග සහ ජීවන රටාවන් පිළිබඳ ව ද සඳහන් කළෙමු. සර්වෝදය සංසදය තුළින් විෂම චක්‍රයට එරෙහි ව මෙ තෙක් මුදාහළ ශිල්පීය ක්‍රම හා ව්‍යුහයන් පිළිබඳ ව ද සැකෙවින් සඳහන් කළෙමු. මීළඟට අවශ්‍ය වන්නේ සමස්තයක් වශයෙන් විෂම චක්‍රයට එරෙහි ව ධර්ම චක්‍රයට පක්ෂපාතී ව පොදු ජනතා මට්ටමේ සිට ජාතික, ජාත්‍යන්තර මට්ටම දක්වා ක්‍රියා කළ යුතු ආකාර ය යි.

ශ්‍රී ලංකා සමාජයේ යථාර්ථය අනුව මේ ධර්ම චක්‍රය පෙරළිය යුත්තේ සංස්කෘතිය, ආර්ථිකය සහ දේශපාලන යන අංශ තුන ඇතුළත් වන පරිද්දෙනි. සංස්කෘතික අංශයේ නායකත්වය, ධර්ම ශක්තිය විසින් මෙහෙයවනු ලැබූ පොදු මහජනයාට ම හිමි වේ. දේශපාලන හා ආර්ථික විප්ලවයේ නායකත්වය සම්මුතිවාදී දේශපාලන ක්‍රමයකට රට-දැය යොමු කළ හැකි,පොදු ජනතාව තුළින් ම පැන නගින, පොදු ජනයා තුළින් ම මතුකර ගත හැකි නව නායකත්වයකට හිමි විය යුතු ය. මේ ගැන ටිකක් සවිස්තර ව සොයා බලමු.

"රට-දැය-සමය" පුනරුදය සඳහා වගකීම ඉසිලිය යුත්තේ කා විසින් ද? ධර්ම චක්‍රය නැවත පෙරළීමේ වගකීමට පුරෝගාමී විය යුතු නියමුවෝ කවරු ද? යන අමාරු ප්‍රශ්නයට අප විසින් මේ අවස්ථාවේ දී මුහුණ දිය යුතු ය. 'නියමුවෝ කවරුද' යි තීරණය කිරීමේ දී වැදගත් වන්නෝ පවතින සමාජයේ විවිධ සම්ප්‍රදායික වරප්‍රසාද හිමිවූවනට වඩා අප අරමුණු කර ගත් ජාතික පරමාර්ථ ඉටු කැරගැනීමට ඉදිරිපත් විය හැකි කාර්යබද්ධ නායකයෝ ය. කාර්යබද්ධ නායකයන් ගැන කතා කළ හැක්කේ ඔවුන් විසින් වහා ම ඉටු කළයුතු කාර්යයන් මොනවා ද යි සොයා බැලීමෙනි.

## ශ්‍රී ලාංකික අනන්‍යතාව

"මම ශ්‍රී ලාංකිකයෙක්මි. මගේ මව් බස සිංහල යි. මගේ මාතෘ භූමිය ශ්‍රී ලංකාවයි." යනුවෙන් කතා කරන සිංහලයෙක් ශ්‍රී ලාංකික ජාතික අනන්‍යතාවක් ගොඩනැංවීමට හවුල් වෙන්නෙකි. ඔහු ගේ සිංහල කමට කිසි දු හානියක් එයින් ඇති නො වේ.

“මම ශ්‍රී ලාංකිකයෙක්මි. මගේ මව් බස දෙමළ භාෂාව යි. මගේ ජන්ම භූමිය ශ්‍රී ලංකාවයි” යනුවෙන් කතා කරන ද්‍රවිඩයෙක් ශ්‍රී ලංකික ජාතික අනන්‍යතාවක් ගොඩනැංවීමට හවුල් වෙන්නකි. ඔහු ගේ දෙමළ කමට කිසිඳු හානියක් එයින් ඇති නො වේ

ශ්‍රී ලංකාව සිංහලේ යනුවෙන් හැඳින්වූ කාලයට වඩා වත්මන් යුගය වෙනස් බව යථාර්ථවාදී ව අපි පිළිගත යුතු වෙමු. අප ඉදිරියේ තිබෙන ප්‍රධාන ප්‍රශ්නය මෙ ම රට දෙ කඩ වීමෙන් වළක්වාගැනීමයි. ඒ වැනි දෙකඩ වීමකින් සිංහලයනට හෝ දමිලයනට හෝ කිසිම සෙතක් සිදු නොවනු ඇත. එයින් ජීවන තත්ත්වයත්, සංස්කෘතියත් නගා සිටුවීමට වැය කළ යුතු කාලය, ශ්‍රමය සහ සම්පත් සියල්ල ම දේශ සීමාවන් වල ආරක්ෂාවටත්, උනුනුන් වනසාගැනීමේ යුද්ධවලටත් යොමු වනු ඇත. එ පමණක් ද නොව මේ තත්ත්වයෙන් ප්‍රයෝජන ගැනීමට මාන බලමින් සිටින විදේශික බලවේගවලට ද එයින් අපේ රට තවත් අවුල් කොට විනාශ කිරීමට මඟක් පෑදෙනු ඇත. එවිට, සමස්තයක් වශයෙන් සිංහල, දෙමළ දෙවර්ගයාට ම සිදු වන්නේ විදේශික බලවේගවලට යටත්වීමට ය. දැනට මත් පසු ගිය දශක කීහිපය තුළ සිංහල, දෙමළ යන දෙවර්ගයා විසින් ම වර්ගය වෙනුවට ජාතිය යන්න යොදා ගැනීම නිසා සිංහල ජාතිය සහ දෙමළ ජාතිය යනුවෙන් බෙදී සිදුකර ගත් විනාශය ප්‍රමාණවත් ය.

සිංහල සහ දෙමළ පමණක් නො ව මුස්ලිම් ආදී වෙනත් වර්ගයනටත් මෙම කරුණ මෙසේ ම සැබෑ වේ. ජාතිය හෙවත් දෑය ශ්‍රී ලාංකික හැටියටත්, ගෝත්‍රය වර්ගය හෝ භාෂාව සිංහල, දෙමළ හෝ වෙනත් එකක් හැටියටත් සැලකුවාට කමෙක් නැත. එ විට තමන් ගේ භාෂාව, සාහිත්‍යය, කලාව ආදිය දියුණු කර ගැනීම තුළින් ඒ ඒ වර්ගවලට පොදුවේ ජාතියේ භාෂා සාහිත්‍ය කලා දියුණුවට සමස්තයක් වශයෙන් හවුල් විය හැකිය. මෙයින් හැම දෙනා ට ම සෙතක් සිදු වනු මිස කිසිවෙකුටත් පාඩුවක් සිදු නො වේ.

පසු ගිය දශක කිහිපයේ දී අපේ රටේ මේ ජාතික අනන්‍යතාව පිළිබඳ ප්‍රශ්නය විසඳා නොගත් නිසා විශ්ව සාහිත්‍යයට හෝ විශ්ව කලාවට හෝ විශ්ව දර්ශනයට හෝ විශ්ව තාක්ෂණයට හෝ ජාතියක් වශයෙන් අපට සෑහෙන දෙයක් එකතු කිරීමට හැකි වූයේ යැ යි අවංක ව කිව හැකි ද? නැතිනම් කලින් විශ්ව සමාජයට ශ්‍රී ලාංකික ජාතියක් හැටියට අප විසින් එකතු කොට තිබූ යමක් ඇත්නම් එය ද විනාශ නො කළේ ද?

දෙමළ වර්ගයා ගේ අංශයෙන් බැලුවහොත් මුළු ජනගහනයෙන් අඩකට වඩා ජීවත් වන්නේ උතුරු නැගෙනහිර පළාත්වල නොව සෙසු සිංහල යැයි ගැනෙන පළාත්වල ය. ඒ නිසා දෙමළ ජාතිය යනුවෙන් භාවිතා කිරීම වෙනුවට ශ්‍රී ලාංකික ජාතිය යනුවෙන් ව්‍යවහාර කිරීමෙන් ඔවුන්ට වැඩක් මිස අවැඩක් සිදු නො වේ. සිංහලයන් ගේ බිය තිබෙන්නේ හය කෝටියක් දෙමළ ජනතාව දකුණු ඉන්දියාවේ වාසය කිරීම යි. ශ්‍රී ලංකාවේ වෙසෙන දෙමළ වර්ගයා ශ්‍රී ලාංකික අනන්‍යතාව පිළිගතහොත් සිංහලයනට මෙසේ බියවීමට හේතුවක් නැතිවේ.

ශ්‍රී ලංකාවට වඩා දකුණු ඉන්දියාවට පක්ෂපාත කමක් දක්වතැ යි යන පුහු මතය ම සිංහලයින් විසින් ඉවත් කරගත යුතු ය. භාෂාව දඩමීමා කරගෙන පටු දේශපාලන අරමුණු ඉටු කරගැනීමට ගොස් සමහර සිංහල සහ දෙමළ නායකයන් විසින් ඇති කළ මේ අවුල ලිහීමට (දූය) ජාතිය ශ්‍රී ලාංකිංක වශයෙන් පොදුවේ පිළිගැනීම අත්‍යවශ්‍ය බව මගේ පිළිගැනීම යි. ශ්‍රී ලාංකික ජාතිය අමතක කොට සිංහල වර්ගයා, සිංහල ජාතිය යනුවෙන් හඳුන්වා ගන්නට යෑමෙන් සිදු වන්නේ පළාත් කීපයකට පමණක් ඔවුන් කොන්වී, ජාතිය පමණක් නොව වර්ගයා ද පාරම්පරික ව මේ රටේ තිබූ උරුමය නැතිකර ගැනීමයි. ඒ නිසා රට සමස්තයක් වශයෙන් සලකා "දූය" ද සමස්තයක් වශයෙන් සැලකීම සිංහල වර්ගයා ගේ ආරක්ෂාවට සහ ජාතියේ ඒකීයභාවයට පමණක් නො ව ජාතික අනන්‍යතාවක් ඇති කරගැනීමට ද එකම මගයි.

මේ ජාතික අනන්‍යතාව ඇති කර ගැනීමට පුරෝගාමීත්වය දිය හැකි වන්නේ වාර්ගික හෝ ගෝත්‍රීය නායකයනට නොව ජාතික නායකයනට ය. එයින් ගෝත්‍රීය වශයෙන් ඔවුන්ගේ භාෂාවට, කලාවට, සාහිත්‍යයට, සංස්කෘතියට ඔවුන් විසින් කළ හැකි සේවය සීමා නොවන අතර, ඒවායේ අගය ජාතික වශයෙන් උද්දීපනය වීමක් ද සිදු වේ. සිංහලයිනට සිංහලකම අත් හරින්නට හෝ දෙමළ අයට දෙමළකම අත් හරින්නට හෝ මේ නිසා සිදු නො වේ. වත්මන් ශ්‍රී ලංකාවට ජාතික නායකයන් ගේ විරල බවක් සිදු ව ඇත්තේ වාර්ගික හෝ ගෝත්‍රීය වශයෙන් හෝ නායකත්වය දෙනවුන් බොහෝ දෙනෙක් සැබැවින් ම එම වාර්ගික හෝ සංස්කෘතියට අයිති නැති තුප්පහි සංස්කෘතියක් පිළිගෙන ඊනියා ශාස්ත්‍රීය ලිවීමෙන් හෝ කතාවෙන් හෝ පමණක් ජාතිකවාදී වන්නට හැදීම නිසා ය. සිංහල භාෂාව හෝ සාහිත්‍ය හෝ ඉතිහිසය හරිහැටි නො දන ජාතික අනන්‍යතාවක් ගැන කතා කරන්නවුන් ගැන හෝ දෙමළ භාෂාව හෝ සාහිත්‍යය හෝ ඉතිහාසය ගැන නොදන ජාතික අනන්‍යතාවක් ගැන කතා කරන්න වුන් ගැන හෝ මගේ අබමල් රේණුවක විශ්වාසහක් නැත. තමන් ගේ ම සංස්කෘතියක් ගැන නො දන අනුන්ගේ භාෂාවෙන් සිතා, ලියා, කියා බහුජාතිකත්වය ගැන කතා කරන්නෝ ආත්ම වංචනයක යෙදෙන්නෝය. ඔවුන් වනාහි පරාධීන යුගවල දී ස්වදේශිකත්වය අමතක කොට විදේශිකයන් ගේ භාෂාව හා සංස්කෘතිය වැලැඳගෙන, බහුජාතික කතාවක් තුළින්, විජාතික නොවූ සිංහල, දෙමළ බහුතරය තමන් වැටී සිටින තුප්පහි වලට ඇද දමන්නට මහන්සි ගන්නා අයය. බහුජාතික කතාව පදනමක් නැති බහුබූත කතාවකි. "සිංහල දෙමළ සහගිය ඉංගිරිසි භාෂාව තුළින් ඇති කළ යුතුයැ" යි මුර දෙන්නෝ ද මොවුහු ය. රටක වර්ග කිහිපයක් හෝ ගෝත්‍ර කිහිපයක් හෝ තිබෙන්නට පුළුවන. එහෙත්, එකම රටක තිබිය හැක්කේ එකම ජාතියකි. එකම ජාතිය තුළ උනුනුන්ට ගරු කරන, සමානත්වයෙන් සලකන, විවිධ ගෝත්‍රයන් හෝ වර්ගයන් හෝ භාෂාවන් හෝ තිබිය හැකිය. අපේ රට ශ්‍රී ලංකාවයි. එහි සිංහල, දෙමළ, බර්ගර්, මැලේ ආදී වාර්ගිකයෝ ජීවත් වෙති.

# ආගම තුළින් සමය

පුද්ගලයා ගේත්, සමාජයේත් ප්‍රගතියට තුඩුදෙන සාරධර්ම හෙවත් පුරුෂාර්ථ, සමය යනුවෙන් අපි හැඳින්වීමු. එදා බුදු සමයේ සහ හින්දු ධර්මයෙන් මෙ ම සාරධර්ම ජන ජීවිතයට ඇතුළු කර තිබිණි. ඉස්ලාම් ධර්මයෙන් සහ ක්‍රිස්තු ධර්මයෙන් ද පසු කලෙක මේවා තවත් පෝෂණය විය. දානය, සීලය, පරිත්‍යාගය,ඍජුකම, මධ්‍යස්ථ භාවය, නිවුණු ගතිය, ක්‍රෝධ නැති ගතිය, අවිහිංසාව, සමාවදීම, ඉවසීම, පළිනොගැනීම ආදී ගුණ දශරාජ ධර්මය යන නමින් අපි හඳුන්වමු. මෙම සාරධර්මවලට බෞද්ධ, ක්‍රිස්තු, හින්දු, ඉස්ලාම් ආදී විශේෂණ පද අවශ්‍ය නැත. ක්‍රිස්තියානි ප්‍රේමයක් ගැන හෝ බෞද්ධ මෛත්‍රියක් ගැන හෝ හින්දු අවිහිංසාවක් ගැන හෝ කතා කිරීම එම ධර්මයන්හි හරය අමතක කිරීමකි. මෛත්‍රිය මෛත්‍රය ම යි. කරුණාව කරුණාව ම යි. අහිංසාව අහිංසාව ම යි. ඒවාට බෞද්ධ, හින්දු, ඉස්ලාම්, ක්‍රිස්තියානි ආදී වශයෙන් විශේෂණ පද යෙදූ විගසම ඒවායේ අර්ථය ශුන්‍ය වේ. ආධ්‍යාත්මික ගුණය වනසා ගෙන ආගමික ලේබලයක් රැක ගැනීම පමණක් එයින් සිදුවේ. “සමය” යන උතුම් සංකල්පය විනාශ වේ. සමය විනාශ වූ විට ආගම මිනිසාට යහපතක් සිදු කරනු වෙනුවට මිනිසාගෙන් ඈත් කරන බෙදීමේ හිංසක බලවේග බවට පත් වේ. සත්‍යය ආයතනීකරණය කළ නොහැකිය. අහිංසාව ආයතනීකරණය කළ නොහැකි ය. සත්‍යය සහ අහිංසාව විශ්වමය ධර්මයෝ ය.

සමය රැකුණොත් පමණකි, විවිධ ආගමික සංවිධානවලින් මනුෂ්‍ය සමාජයට යහපතක් වන්නේ සර්ව සාධාරණ අධ්‍යාත්මික නීති උල්ලංඝණය කොට බෞද්ධ හෝ හින්දු හෝ ඉස්ලාමීය හෝ ක්‍රිස්තියානි හෝ ආගම්වල නාමයෙන් ඒවා අදහන්නවුන්ගේ අයිතිවාසිකම් රැක ගැනීමට හෝ සංඛ්‍යාව පුළුල් කර ගැනීමට හෝ යෑම සමය විරෝධී ක්‍රියාවකි. විවෘත ආර්ථිකයේ තිබෙන අල්ලස්, දූෂණ, වංචා, මිනීමැරුම් ආදිය අඩංගු බෙලි කපන වෙළඳපොළේ තරඟයකට සමාන තත්ත්වයකට සමහර ආගම් ඇත්තේ මේ නිසාය. හාමතෙන් පෙළෙන්නකුගේ අසරණබාවය ප්‍රයෝජනයට ගෙන ආහාර ටිකක් දී, රෝගයකින් පෙළෙන කෙනෙකුට බෙහෙත් ටිකක් පරිත්‍යාග කොට ආදී වශයෙන් උපකාරයක් කර මිනිසුන් එක් ආගමක සිට තවත් ආගමකට හැරවීම සමය විනාශ කිරීමකි. කළයුතු හරි දෙය නම්, තිබෙන ආගමික සංවිධාන ප්‍රයෝජනයට ගෙන මිනිසුන් ගේ ලේබල් ගැන නො තකා එක් අතකින් මිනිසුනට උදව්වීමත්, අනෙක් අතින් මිනිසුන් ගේ ආධ්‍යාත්මික ගුණ වගාව දියුණු කිරීමත් ය. එවැනි ක්‍රියාමාර්ගයකින් පමණකි, මිනිසකු තමත් මිනිසකුට ගරු කරන, උදව් කරන, අනුකම්පා කරන, සමානාත්මතාවාදීම සලකන තත්ත්වයක් ඇතිකර ගත හැක්කේ. රට සහ දැය ගැන සමස්තයක් වශයෙන් සිතන ආකාරයෙන් ම සමය ගැන ද සමස්තයක් වශයෙන් සිතිය හැකිකේ මෙ වැනි මගකට පිළිපන්න හොත් පමණකි.

මේ සංකල්පනාව අනුව කටයුතු කළහොත් බුද්ධ ශාසනයේ පිබිදීමක් ඇති වනු ඇත. හින්දු ආගමේ ඉමහත් ප්‍රගතියක් ඇතිවනු ඇත. ක්‍රිස්තියානි සහ මුස්ලිම් බැතිමතුන්ගේ ද ඉමහත් ආගමික ප්‍රබෝධයක් ඇති වනු ඇත. සමස්තයක් වශයෙන් මුළු ශ්‍රී ලංකාවේ ම ආධ්‍යාත්මික ප්‍රගතියක් ඇති වී වත්මනෙහි පවත්නා හිංසාව,

අසමගිය සහ අසාධාරණකම් අඩු වී තුරන් වී යනු ඇත.

ශ්‍රී ලාංකික ජනතාවගේ ආධ්‍යාත්මික ජීවිතය සංවර්ධනය කිරීමට අවශ්‍ය වන්නෝ මෙවැනි මඟක ගමන් කරන කාර්යබද්ධ නියමුවෝ ය. ඔවුන් කුමන ආගමික පසුබිමකින් මතු වුවත් කමෙක් නැත. අවශ්‍ය වන්නේ මුළු වර්ගයා කෙරෙහි ම, සත්ත්ව වර්ගයා කෙරෙහි ම, උපේක්ෂාවෙන් ඔවුන් ආධ්‍යාත්මික වශයෙන් උසස් තත්ත්වයට නංවාලීමට නායකත්වය දීමට හැකි වීම පමණකි.

## සම්මුති දේශපාලනය

පක්ෂ සහ බලකාමී දේශපාලකයෝ ඕනෑවටත් වඩා මෙ රටේ සිටිති. ඔවුනට පව් සිදු වන්නට මෙ රට මෝඩයන් ගේ පාරාදීසයක් බවටත්, සාමාන්‍ය ජනතාවගේ නරකාදියක් බවටත් අප රට පත්ව තිබේ. සෑම පක්ෂයක ම හොඳ මිනිසුන් මෙන්ම නරක මිනිස්සු ද සිටිති. ප්‍රශ්නය ඔවුහු නොවෙති. මිනිසා මිනිසාට හතුරකු කරන පක්ෂ ක්‍රමය යි. අපට අවශ්‍ය වන්නේ පක්ෂ ක්‍රමය පිටු දකින පක්ෂවලින් තොර දේශපාලන ක්‍රමයක් ගොඩනගන්නට සමත් දේශපාලන නායකයින් පිරිසකි. අප සම්මුතිවාදය යන්නෙන් නම් කළ විදියේ දේශපාලන ක්‍රමයක් මෙ රටට ගොඩනගන්නට සමත් ආත්ම ත්‍යාගී බුද්ධිමත් පිරිසකි. තමනට බලය ගැනීමට නො ව මහජනතාවට අහිමි වූ මානුෂික අයිතීන් දේශපාලන බලය නැවත මහජනතාව අතරට පත් කිරීමට කැප වන පිරිසකි.

උදාහරණයක් ගෙන බලමු. සිවිල් යුද්ධයක් මෙන් ක්‍රියාත්මක වන පක්ෂ දේශපාලන බල තරඟ වල දී ලජ්ජා බය තිබෙන සාමාකාමී, නීතිගරුක මිනිසුනට ලැබෙන්නේ දෙවැනි තැනකි. මැරවරකම් කරන, චන්ඩිකම් කරන, කලකෝලාහල කරන සුළු පිරිසකට පවතින ක්‍රමයේ ප්‍රධාන තැනක් දේශපාලන පක්ෂවලින් දී තිබේ. පක්ෂ ක්‍රමයට අසු වූ විට මිනිස්සු රකුසන් මෙන් හැසිරෙති. මිනිසුන්, මිනිසුන් හැටියට දේශපාලනය කළහැකි ක්‍රමයක් නැද්ද? සමහර විට සම්මුති දේශපාලන සංසදය (ස.දේ.ස) වැනි නමකින් පක්ෂ ක්‍රමයට අකැමැති සියලු දෙනාම සංවිධානය කළ හැකි වේ. ස.දේ.ස විසින් පක්ෂ ක්‍රමයේ සිට සම්මුති ක්‍රමයකට සමාජය පරිවර්තනය වන තුරු ජනතාවට ක්‍රියාත්මක කළ හැකි දේශපාලන ක්‍රියා මාර්ගයක් සැකැසීමට පුළුවන් විය යුතු ය. මෙ තෙක් මේ පොතේ අප දැක්වූ කරුණු අනුව යමින් එම සම්මුති දේශපාලනයේ මූලධර්ම, ප්‍රතිපත්ති, පරමාර්ථ සහ ක්‍රියා මාර්ග සකසා ගැනීමේ අපහසුවක් නැත. එම සංවිධානය මගින් බිහිසුණු තත්ත්වයකට පත් ව ඇති අධර්මිෂ්ඨ, අවිනීත, සාපරාධී පක්ෂ දේශපාලන ක්‍රමයෙන් රට-දැය-සමය මුදාගෙන ශ්‍රී ලංකා ඉතිහාසයට නව පරිච්ඡේදයක් එකතු කිරීමට ශක්තිය ලැබෙනවා නො අනුමාන ය.

පවතින ක්‍රමය අනුව යම් අවස්ථාවක දී බලය අල්ලාගෙන සිටින්නෝ එය අත්හල විට ලැබෙන ප්‍රතික්‍රියාවලට බියෙන් බලය අත්හැරීමට බිය වෙති. ඔවුන් බලයේ සිටින අවස්ථාවල දී විවෘතව දේශපාලනය කළහොත් දඬුවම් ලැබෙතැයි බියෙන්

තවත් සමහරෙක් සැඟැවී පවතිනබල ව්‍යුහයට පහර දෙති. මෙය විෂම චක්‍රයක් මෙන් ඔවුනොවුන් ගේ සැකය සහ බිය වැඩි කරමින් එයට මැදි වූ ජනතාව ත්‍රස්තවාදයට අසු කර ඇත්තේ ය. මේ දෙපක්ෂයේ ම බිය සැක හැරීමට තිබෙන එක ම මඟ, අප ඉදිරිපත් කළ විග්‍රහය අනුව, මේ දෙපක්ෂයට ම වඩා වැඩි සංඛ්‍යාවක් සිටින අපක්ෂපාතී සාධාරණ ජනතාවට ප්‍රතික්‍රියා තුළින් නො ව දේශීය චින්තනයක් සහ අර්ථ චර්යාත්මක ක්‍රියාවක් තුළින් එක් වීමට තුන්වැනි මඟක් සාදාදීම යි. වර්තමානයේ සිදු වන ජීවිත විනාශයත්, ආර්ථික පරිහානියත්, අසහනයත්, යුද්ධකරණයත් වැළැක්විය හැක්කේ මෙවැනි නවතම සම්මුති දේශපාලන ක්‍රමයක් තුළින් බව අපේ විශ්වාසය යි. එයට නායකත්වය දෙන්නේ. දේශීය සාරධර්ම පිළිගත් ජනතා පරමාධිපත්‍යය ගරු කරන රට-දැය-සමයට පමණක් පක්ෂපාතී පිරිසකි.

මෙම කර්තව්‍යය සඳහා කාර්ය බද්ධ නියමුවන් පිරිසක් පොදු ජන සමාජය තුළින් මතුවිය යුතු ය. අපක්ෂපාතී ප්‍රජා නායකයන්, අධ්‍යාත්මික නායකයන්, සමාජ නායකයන්, වෛද්‍ය, නීතිඥ, විද්‍යා, පරිපාලන, තාක්ෂණ ආදී අංශයන් හි නියුතු විවිධ සූරීන් මෙම තීරණාත්මක යුගයේ දී සම්මුති දේශපාලන සංවිධානයක් තුළින් පූර්ණ අහිංසාවාදී දේශපාලන විප්ලවයක් සඳහා ඉදිරිපත් විය යුතු ය. දැනට නීත්‍යානුකූලව හෝ නීති විරෝධී හෝ පක්ෂ සහ බලකාමී දේශපාලන තරඟයෙහි යෙදී සිටින වුන් ද උපේක්ෂා සහගතව බේරාගත හැක්කේ මෙවැනි දේශපාලන සංවිධානයක් තුළින්. මේ ගැන සිතීමට නොව වහාම ක්‍රියාත්මක වීමට දැන් කාලය පැමිණ තිබේ.

අපේ මුඛ්‍ය අරමුණ වූ දහම් දිවයිනක් ධාන්‍යාගාරයක් බවට අප රට පරිවර්තනය කිරීමට නම් දේශපාලන ව්‍යුහයේ විප්ලවීය  වෙනසක් සිදු විය යුතුය. එය හිංසාවාදීව සිදුකළ හැකි මගකි, සම්මුති දේශපාලන ක්‍රමය. හිංසාවෙන් මෙය සිදුවන්නට ඉඩ තැබීම කබලෙන් ළිපට වැටීමක් ද විය හැකිය. ඒ නිසා බුද්ධිමත් දෑ හිතැතියන්ගේ විශේෂ අවධානය සඳහා මගේ සිතට මේ පිළිබඳ පැනනැඟුණු අදහස් කීපයක් විස්තර කරමි. මෙය සාකච්ඡාවටකට තුඩුදීම සඳහා ලියැවුනක් මිස අවසාන නිගමනයක් ඉදිරිපත් කරන්නක් නොවේ.

දේශපාලනය යන වචනය අපේ කටටත් කනටත් හොඳට හුරු වචනයකි. මේ වචනය ඇසෙන විට ම අපේ හිතට නැගෙන්නේ දේශපාලන පක්ෂ ක්‍රමය සහ බල තරඟය පිළිබඳ කල්පනාව ය. ඒ සමඟ ම ආත්මාර්තකාමිත්වය, තරහව, වෛරය, බිය, බලලෝභය, පළිගැනීම, අල්ලස්, දූෂණ, වංචා, අපරාධ, වදහිංසා, මිනීමැරුම් ආදිය ද අපේ හිතට නැගේ. මේ නිසා ම සාමය සහ සාධාරණත්වයට කැමති බහුතර ජනතාව තුළ දේශපාලනය යන වචනය ඇසෙන විට විශාල පිළිකුලක් ද ඇති වේ.

මේ අදහස් සහ හැඟීම්වලට වහල් නො වී ටිකක් ගැඹුරට කල්පනා කළහොත් අප ඇත්ත වශයෙන්ම මේ අදහස් සහ හැඟීම් උපදවා ගෙන තිබෙන්නේ දේශපාලනය ගැන නොව පක්ෂ සහ බලකාමී දේශපාලනය ගැන බව අවබෝධ වේ. ඇත්ත වශයෙන් ම පක්ෂ සහ බලකාමී දේශපාලනය සැබෑ දේශපාලනයක් නොව දේශනාශනයකි. ඒ බව අවබෝධ කර ගැනීමට නිදහසින් පසුගිය අවුරුදු 40 දෙස ආපසු හැරී බැලීම පමණක් ප්‍රමාණවත් ය. මෙම පක්ෂ සහ බලකාමී දේශනාශනය 1988 ලබන විට ස්වකීය විනාශකාරී දූත මෙහෙවර සම්පූර්ණ කර ඇතැයි අපට හැඟේ. පොදු මහජනතාව විසින් වත්මත් දේශනාශන ක්‍රමයේ ආදීනව දැන්වත් තේරුම්ගෙන වෙනත් විකල්පීය සැබෑ දේශපාලන ක්‍රමයකට ඔවුන් ගේ සිත් යොමු කරනු ඇතැයි යන අපේක්ෂාවෙන් මෙම පොත් පිංච ලීවීමට අදහස් කළෙමු.

ඉදිරිපත් කරන විකල්පීය ක්‍රමයට සුදුසු ම නාමය "සම්මුති දේශපාලනය" යැ යි කීමට අදහස් කළෙමු. ප්‍රජාතන්ත්‍රවාදය නැමැති බටහිර සංකල්පය අපේ දේශීය ව්‍යවහාරයෙහි පැවතුණ බව අපි සැම දනිමු. පක්ෂවල බෙදී කරන දේශනාශනය වෙනුවට ජන එකතුවෙන් කළ හැකි දේශසාධනයක් අරමුණු කොට ක්‍රියා කිරීමට කාලය පැමිණ ඇතැ යි අපි කල්පනා කරමු. මෙම දේශපාලන ක්‍රමයට සම්මුති දේශපාලනය යැ යි නම් කරමු.

වත්මන් පක්ෂ සහ බලකාමී දේශපාලන ක්‍රමයේ සිට විකල්පීය ජන සහභාගිත්වක සම්මුති දේශපාලනයකට සමාජය පරිවර්තනය විය හැක්කේ කෙසේ දැයි පැහැදිළිව අපි නො දනිමු. එහෙත් පවතින ක්‍රමයේ නිස්සාර විනාශකාරී බව අවබෝධ කර ගැනීම වාගේම ඵලදායී විකල්පීය දේශපාලන ක්‍රමයක් පිළිබඳව පැහැදිලි සංකල්පයක් නිර්මාණය කර ගැනීම ද වැදගත්වේ. අපේ ව්‍යායාමය සම්මුති දේශපාලන ක්‍රමයක් නිර්මානය කිරීම සඳහා බුද්ධිමත් පොදු ජනතාව ගේ අවධානය යොමු කිරීම ය. පවතින ක්‍රමයෙන් නිර්මාණය කරන ක්‍රමයට පරිවර්තනය වීමේ උප ක්‍රමයක් ද එවිට යථා කාලයේ දී පොදු ජන සහභාගිත්වයෙන් ම නිර්මාණය වනු ඇත.

වර්තමානයෙහි ශ්‍රී ලංකාවෙහි බලපවත්වන පක්ෂ හා බලකාමී දේශපාලන ක්‍රමයෙහි ලක්ෂණ කිහිපයක් ගැන සොයා බැලීමෙන් අප බලාපොරොත්තු වන විකල්පීය ක්‍රමය වූ සම්මුති දේශපාලනයෙහි වැදගත් බව සහ සාපේක්ෂව එහි ඇති උසස් බව අපට අවබෝධවේ. පක්ෂ දේශපාලනයෙහි මූලික අරමුණ දේශපාලන පක්ෂ විසින් බලය ලබාගැනීම සහ එම ලබාගත් බලය කෙසේ හෝ ආරක්ෂා කර ගැනීමට මුල් තැන දීම යි. පක්ෂ විසින් විවිධ කොටස්වලට බෙදනු ලබයි. තමන්ට වාසිදායක ප්‍රතිචාරවලට මුල්තැන දී ආත්ම වර්ණනයක යෙදෙන අතර තමා ගේ ප්‍රතිමල්ලවයනට දෝෂාරෝපණය කිරීමට හෙවත් අවාසිදායක ලෙස ප්‍රචාරයන්හි යෙදීමට සැම ප්‍රයත්නයක් ම දරයි. අන් සියලුම ශිෂ්ට රීති වලට ඉහළින් පක්ෂ විනයට යටත්වේ. නායකත්වය මධ්‍යගත ඉහළ තැනක සිට ජනතාව මත පටවනු ලබයි. සුදුසු නොසුදුසු කම් ගැන නො බලා පක්ෂයේ අනුගාමිකයන් ගෙන් වගකිවයුතු තනතුරු පුරවයි.

විදේශීය ජීවන රාටාවන්ට හා ද්‍රව්‍යවාදී වටිනාකම්වලට වඩා නැඹුරු වෙයි. බල කේන්ද්‍රය එන්නට එන්නට ම මහජනතාවගෙන් ඈත් වන නිසා දූෂණ, වංචා, අසාධාරණකම්, අපරාධ හා හිංසා වැඩිවේ. පක්ෂ හා බලකාමී දේශපාලනය බොහෝ විට ආත්මලාභී ටික දෙනෙකු ගේ ජීවන වෘත්තියක් බවට පත් වී පොදු ජනතාව අසරණ තත්ත්වයට පත් කරයි. බුදු දහමේ දැක්වෙන ඡන්දය, ද්වේශය, භය සහ මෝහය යන සතර අගතීන්ට අනුබල ලැබී මුළු සමාජය ම පූර්ණ සමාජ පරිහානියකට පත් කරනු ලබයි. ප්‍රජාතන්ත්‍රවාදය වචනයට සීමා වී බොහෝ විට ක්‍රියාවෙන් පක්ෂ තන්ත්‍රවාදයක් බවට පත් වෙයි. නීති බලය, රාජ්‍ය සේවය, ත්‍රිවිධ හමුදාවන් ආදී ජනතාව ගේ ස්වාධිපත්‍යය සහ නිදහස ආරක්ෂා කෙරෙන පොදු මහජන ආයතන පවා පක්ෂවල පටු පරමාර්ථ ඉටු කරගැනීමට විවිධ ආකාරයෙන් යොදාගනු ලබයි

සම්මුති දේශපාලන ක්‍රමය යනුවෙන් අප අදහස් කරන්නේ ඉහත සඳහන් ලක්ෂණවලට හාත්පසින් ම වෙනස් වූ දේශපාලන ක්‍රමයකි. මෙහි මුඛ්‍ය ලක්ෂණය වන්නේ ජනතා සේවය යි. ඒ සඳහා සෑම සම්මුති දේශපාලන සංස්ථාවක් ම සංවිධානය වන්නේ එකමුතු කිරීමට යි. ප්‍රචාරවලට නො ව සත්‍යයට සහ ප්‍රජා අධ්‍යාපනයට මෙහි මුල් තැනක් ලැබේ. ආධ්‍යාත්මික සහ සදාචාර විනයට අන් සෑම දේශපාලන රීතියක් ම යටත්වේ. අවශ්‍ය නායකත්වය විශේෂයෙන් ගැමි ජනතා මට්ටමෙන් විමධ්‍යගත ව මතු වේ. කිසි දු පක්ෂපාතිත්වයකින් තොරව හුදෙක් සුදුසුකම් උඩ ම සුදුස්සාට සුදුසු තැන ලැබේ. දේශීය ජනතා අභිප්‍රායන් සහ සාරධර්ම පදනම් කොට ජීවන රටාවක් ඉදිරිපත් කරයි. බලකේන්ද්‍රය, ඍජු සහභාගිත්වය තුළින් මහජනතාවට ළං ව තිබෙන නිසා අල්ලස්, දූෂණ, වංචා, අසාධාරණකම් ආදිය අඩු වේ. සමස්ත මහජනතාව ම තමන් ගේ ජීවනෝපායන්හි යෙදෙන අතර තම දක්ෂතාවන් සහ හැකියාවන් අනුව උපරිම වශයෙන් තීරණ ගැනීම සඳහා සෑම මට්ටමකදීම ඔවුන් ඍජු ව සහභාගී වන අතර වෘත්තීය දේශපාලක පංතිය අහෝසි වේ. ජන සහභාගිත්වක සැබෑ ප්‍රජාත්‍රන්තවාදී සහභාගිත්වක දේශපාලනයක් ගොඩනැගේ. දානය, සංවිභාගය හෙවත් සාධාරණ ව බෙදාගැනීම, ප්‍රිය වචනය, අර්ථචර්යාව සහ සමානාත්මතාව යන සතර සංග්‍රහ වස්තූන් උඩ සමාජය සකස් වී සමාජයේ පූර්ණ ප්‍රගතියක් ඇති කිරීමට සමස්ත ජනතාව ම බලාපොරොත්තු වේ.

ඒ සඳහන් කළේ සම්මුති දේශපාලන ක්‍රමයක් මාර්ගයෙන් වත්මන් පක්ෂ හා බල දේශපාලන ක්‍රමය වෙනස් වන ආකාරය යි. යථෝක්ත ලක්ෂණ 12 ට අමතරව තවත් ලක්ෂණ රැසක් ඉදිරිපත් කළ හැකි ය. එහෙත් බුද්ධිමත් ලාංකික ජනතාව විසින් ම තමන් ගේ මනස වෙහෙසා මේ කරුණු දොළස ගැන පමණක් කල්පනා කළත් විකල්පිය ක්‍රමයක අවශ්‍යතාව තේරුම් ගැනීමට ඒවා ප්‍රමාණවත් ය.

පක්ෂ සහ බලකාමී දේශපාලන ක්‍රමය යටතේ රටේ සංවර්ධනයට විශාල වශයෙන් හවුල් විය හැකි අවංක බුද්ධිමත් දේශ ප්‍රේමී ගිහි පැවිදි විශාල පිරිසක ගේ බුද්ධිය දැනීම සහ විවිධ දස්කම් අද ජාතියේ සංවර්ධනය සඳහා අහිමි වී තිබේ. වත්මන් සමාජය මුහුණ දෙන මූලික ආර්ථික සහ සාමාජික ප්‍රශ්නවලට ජන සහභාගිත්වයෙන් විසඳුම් සොයා වඩා සහනදායී සාධාරණ සමාජයක් ගොඩනැංවීමට නම් සම්මුති දේශපාලන ක්‍රමයක් වඩා ඵලදායි වනු ඇත.

දේශපාලන පක්ෂ විසින් දැනට ජනතාව සංවිධානය කරන්නේ කණ්ඩායම්වලට බෙදී තරඟ කිරීමට ය. මේ වෙනුවට සෑම දෙනා ම එකතු වී අරමුණක් ඉටු කරගැනීමට කණ්ඩායම්වලට නොබෙදී සම්මුතිවාදීව සංවිධානය විය නොහැකි ද? අපේ කල්පනාව එසේ සංවිධානය විය හැකි බව යි. බෙදී සටන් කරනු වෙනුවට එකතු වී සහයෝගී ව කටයුතු කිරීමට වත්මන් දේශපාලන ක්‍රමය හැඩගැසී නොතිබීම මෙයට ඇති ප්‍රධාන ම බාධකය බව යි.

වත්මන් දේශපාලන ක්‍රමයේ මුල කිමෙක්ද? එය අපේ ආණ්ඩු ක්‍රම ව්‍යවස්ථාව යි. ඩොනමෝර් ආණ්ඩු ක්‍රමය සහ සෝල්බරි ව්‍යවස්ථාව බ්‍රිතාන්‍යයන් විසින් අප වෙනුවෙන් සකස් කළ ව්‍යවස්ථාවන් වන අතර 1972 සහ 1978 සම්මත කරගත් ව්‍යවස්ථාවන් ඒ අනුව යමින් අපම හදාගත් ව්‍යවස්ථාවෝ ය. ඩොනමෝර් ව්‍යවස්ථාව හැර අන් සෑම ව්‍යවස්ථාවක් ම ජන සම්මුතියට වඩා ජන භේදයකට තුඩු දුන්නේ ය. මෙ ම ව්‍යවස්ථා සියල්ලක් ම බටහිර සාරධර්ම, අවශ්‍යතාවන් සහ දේශපාලන විධි අනුව සංවිධානය වූ ඒවා ය. මේ නිසා පළමුවෙන් ම කළ යුත්තේ අපේ දේශීය සාරධර්ම දේශීය අවශ්‍යතාවන් හෝ අපේක්ෂාවන් සහ දේශීය දේශපාලන ක්‍රම අනුව සකස් කරගත් ආණ්ඩු ක්‍රම ව්‍යවස්ථාවක් සකස් කර ගැනීම ය. මෙයට සම්මුති දේශපාලනය පදනම් වූ ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාවක් යැයි කියමු.

**ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාවඃ**

සම්මුති දේශපාලන ක්‍රමයකට සුදුසු වන සේ ශ්‍රී ලංකා ආණ්ඩු ක්‍රම ව්‍යවස්ථාව වෙනස් විය යුතු බව අපේ අදහස යි. අප යෝජනා කරන ආණ්ඩු ක්‍රම ව්‍යවස්ථාව පහත සඳහන් අරමුණු ද ඉටු කර ගැනීමට සමත් විය යුතු බව අපේ හැඟීම යි.

1. එහි දේශපාලන පක්ෂ ක්‍රමයට නීතියෙන් ඉඩක් නො තිබිය යුතු ය.

2. වෘත්තීය වශයෙන් දේශපාලනයෙහි යෙදෙන පිරිස් ඇතිවීමට තිබෙන ඉඩකඩ ව්‍යවස්ථාවෙන් ඇහිරිය යුතු ය.

3. ජනතාව විසින් ප්‍රජාතාන්ත්‍රික තීරණ ගැනීම්වලට මැදිහත්වීම වක්‍ර ව නො ව සෘජු ව සිදු විය යුතු ය.

4. සෑම මට්ටමකම තෝරාගනු ලබන නියෝජිතයින් ඕනෑම අවස්ථාවක දී ජනතාවගේ විශ්වාසය කඩ වුවහොත් වෙනත් නීතිවලට බාහිරව වුව ද ආපසු කැඳවීමේ බලය මහජනයා වෙත ම තිබිය යුතු ය.

5. ජාතික මට්ටමේ නියෝජිත මණ්ඩලය අත්‍යාවශ්‍ය විෂයයන් උඩ සෑම නියෝජිතවරයකු ම යම් කමිටුවකට ඇතුළත් වන සේ කමිටු ගණනකට බෙදිය යුතු ය. වසරින් වසර වෙනස් වන සේ මේ කමිටු වලින් තෝරාගනු

ලබන කමිටු සභාපතිවරයා හෙවත් ඇමතිවරයා වෙනස් විය යුතුය. එම කමිටුවලට සමාන්තරව එම කමිටුවලට උපදෙස්දීම සඳහා නියෝජිත මණ්ඩලයෙන් බාහිර ව උපදේශක මණ්ඩල එක් එක් විෂයට පත් කළ යුතු ය.

6. අගමැතිවරයා මුළු නියෝජිත මණ්ඩලයේ ම වැඩි ඡන්දයෙන් තෝරාගත යුතු අතර ඔහුගේ / ඇයගේ එක දිගට වගකීම උසුලන කලසීමාව අවුරුද්දකට සීමා විය යුතු ය.
7. අධිකරණයේ ස්වාධීනත්වය ජාතික නියෝජිත මණ්ඩලයට වගකියන අධිකරණ කොමිෂන් සභාවක් මාර්ගයෙන් සහතික විය යුතු ය.

8. මහ බැංකුවේ ස්වාධීනත්වය ජාතික නියෝජිත මණ්ඩලයට වගකියන මුදල් කොමිෂන් සභාවක් මගින් සහතික විය යුතු ය.

9. ත්‍රිවිධ හමුදාවේ සහ පොලිසියේ ස්වාධීනත්වය ජාතික නියෝජිත මණ්ඩලයට වග කියන ජාතික ආරක්ෂක මණ්ඩලයක් මගින් සහතික විය යුතු ය.

10. රාජ්‍ය පරිපාලනයේ ස්වාධිනත්වය ජාතික නියෝජිත මණ්ඩලය වගකියන රාජ්‍ය පරිපාලන කොමිෂන් සභාවත් තුළින් සහතික විය යුතු ය.

11. මැතිවරණ කොමසාරිස්වරයා ගේ ස්වාධීනත්වය ජාතික නියෝජිත මණ්ඩලයට වගකියන මැතිවරණ කොමිෂන් සභාවක් තුළින් සහතික විය යුතු ය.

12. ජාතික විගණකාධිවරයා ගේ ස්වාධිනත්වය ජාතික නියෝජිත මණ්ඩලයට වගකියන විගනක කොමිෂන් සභාවක් තුළින් සහතික විය යුතු ය.

**සෘජු ඡන්ද ක්‍රමයක්:**

වත්මන් වක්‍ර ඡන්ද ක්‍රමය වෙනුවට සෘජු ඡන්ද ක්‍රමයක් නිර්මාණය කර ගැනිම වැදගත් ය. උදාහරණයක් වශයෙන් මේ සඳහා අනුගමනය කළ හැකි ක්‍රමයක ලක්ෂණ කිහිපයක් පහත දක්වමු.

1. අවුරුදු 18 ට ඉහළ සෑම රට වැසියෙක් ම සර්වජන ඡන්දයට හිමිකරු වෙකි. වයස 18 පිරුණු සෑම රට වැසියෙක් ම අනිවාර්යයෙන් ම ජාතික ඡන්දදායක ලයිස්තුවට ඇතුළත් වේ.

2. සෑම ඡන්ද දායකයින් 200 ක්ම ප්‍රාථමික මැතිවරණ කොට්ඨාශයක් හැටියට සැලකේ. මේ අනුව රටේ සිටින මුළු ඡන්ද දායක සංඛ්‍යාව මිලියන අටක් නම් මුළු රටපුරාම ප්‍රාථමික මැතිවරණ කොට්ඨාශ 40,000 ක් වේ. මෙය අඩු වැඩි වන ජනගහනය අනුව වෙනස් විය හැකිය.

3. ප්‍රාථමික මැතිවරණ කොට්ඨාශ 200 ක් එක් ද්විතීක මැතිවණ කොට්ඨාශයක් හැටියට සැලකේ. මේ අනුව එක් ද්විතීක මැතිවරණ කොට්ඨාශයකට ඡන්ද දායකයින් 40,000 ක් අයත් වේ. මුළු රටේම ද්විතීක මැතිවරණ කොට්ඨාශ 200 කි. මෙය ද අඩු වැඩි වන ජනගහනය අනුව වෙනස් වේ.

4. ඡන්ද දායකයෝ 200 ක් එකතු ව සෘජු ඡන්දයෙන් එක් ප්‍රාථමික නියෝජිකයකු තෝරා ගනිති. ඔහුගේ කාලසීමාව අවුරුදු 5 ක් වේ. එහෙත් ඡන්ද දායකයන්ගෙන් 50 දෙනෙකු එකතු ව ඔහු කෙරෙහි විශ්වාසය නොමැති බව ලිඛිත ව මැතිවරණ කොමසාරිස්වරයාට දන්වීමෙන් ඔහු ගේ ප්‍රාථමික නියෝජිත බව අවලංගු වී වෙන කෙනෙක් එ තැනට පත් කරගත හැකි ය.

5. ප්‍රාථමික නියෝජිතයන් 200 ක් එක් ව සෘජු ඡන්දයෙන් එක් ද්වීතීක නියෝජිතයෙක් වසර 5 ක කාලයකට තෝරාපත්කරගනු ලබයි. එහෙත් ප්‍රාථමික නියෝජිතයන් 50 දෙනෙක් එක්ව ලිඛිතව මැතිවරණ කොමසාරිස්වරයාට දන්වීමෙන් ඔහුගේ නියෝජිත බව නැති කර වෙනත් කෙනෙක් ඒ වෙනුවට පත්කර ගත හැකි ය.

6. ජාතික රාජ්‍ය සභාව හෙවත් පාර්ලිමේන්තුව සමන්විත වන්නේ මේ ද්විතීක නියෝජිතයන් 200 ක් දෙනා ගෙන් ය. ඔවුන්ගේ කාලසීමාව (ආපසු කැඳනොවූවොත් ) වසර 5 ක් වනු ඇත. මෙම නියෝජිතයින් 200 දෙනා විසින් අග්‍රාමාත්‍යවරයෙක්, ජාතික රාජ්‍ය සභාවේ සභාපතිවරයෙක් ආදීන් තෝරාගනු ඇත. නියෝජිතයින් 200 දෙනා පහත සඳහන් මණ්ඩල 10 ට බෙදනු ඇත. එක් එක් මණ්ඩලය විසින් වසරක කාල සීමාවක් සඳහා එක් අයකු සභාපතිවරයා හෙවත් ඇමතිවරයා වශයෙන් පත්කර ගනු ඇත.

7. මෙම සභාව විසින් එක් එක් මණ්ඩලයට නියෝජිත මණ්ඩලයෙන් බාහිරව ඒ ඒ විෂයයන් සඳහා ප්‍රවීනත්වයක් ඇති විශේෂඥඋපා දේශක සභාවක් ද බැගින් පත් කරනු ඇත.

8. මෙම මණ්ඩල හෙවත් අමාත්‍යංශ 10කට වැඩි නො විය යුතුය. නීතිය සහ අධිකරණය, අධ්‍යාපනය සහ සංස්කෘතිය, ආර්ථිකය සහ සංවර්ධනය, විද්‍යාව සහ තාක්ෂණය, සෞඛ්‍ය සහ පරිසරය, ගමනා ගමනය සහ ප්‍රවාහනය, විදේශ සම්බන්ධතා, ආරක්ෂක කටයුතු, තැපැල් සහ සන්නිවේදනය, උදාහරණ වශයෙන් දිය හැකි ය.

9. ජනාධිපතිවරයකු සහ උප ජනාධිපතිවරයකු ජාතික රාජ්‍ය සභාවේ යෝජනා ස්ථිරත්වයෙන් තෝරාගෙන ඒ නම් අනුමැතිය සඳහා ප්‍රාථමික නියෝජිතයන් 40,000 වෙත ඉදිරිපත් කළ යුතුය.

10. ජාතික රාජ්‍ය සභාව විසින් සම්මත කරන නීති ක්‍රියාත්මක කරන්නේ ජනාධිපතිතුමාගේ විධායක අනසක යටතේ ය.

11. ප්‍රාථමික ඡන්ද ජනවාරියේ දී ද, ද්විතීක ඡන්ද පෙබරවාරියේ දී ද,ජාතික රාජ්‍ය සභාව පිහිටුවීම, මාර්තුවේ දී ද සහ ජනාධිපතිතුමා තේරීම අප්‍රේල් මාසයේ දී ද පස් වසරකට වරක් කළ හැකි ය. අවශ්‍ය නම් ජනාධිපතිවරයා අවුරුදු හයකට තෝරාගෙන නව ජනාධිපති වරයා තේරීම ඊළඟ වසරේ ද කළ හැකි ය. ජනාධිපතිවරයා වෙනස් කිරීම ද ජාතික රාජ්‍ය සභාවේ සිය දෙනෙකු ගේ ඡන්දයෙන් කළ හැකිය.

12. පරිගනක යන්ත්‍ර 200 ක මාර්ගයෙන් මැතිවරණ කොමසාරිස් වරයාට මේ විකල්පීය සෘජු මැතිවරණ ක්‍රමය ක්‍රියාක්මක කළ හැකි ය.

**ප්‍රතිපත්තිඃ** පොදු රාජ්‍ය ප්‍රතිපත්තීන් මාලාවක් ද ව්‍යවස්ථාවට ඇතුළත් වියයුතු අතර පහත සඳහන් ප්‍රතිපත්තීන්ට විශේෂ තැනැක් ලැබිය යුතු ය.

1. ආධ්‍යාත්මික ප්‍රබෝධයකට හා සදාචාර සංරක්ෂණයට සියලු ම අවස්ථාවල දී මුල්තැන දී කටයුතු කිරීම.

2. සරල චාම් ජීවන රටාවක් තුළ සියලුම මනුෂ්‍යන් ගේ මූලික මානුෂික අවශ්‍යතා සැපිරීමට ආර්ථික සංවර්ධනයේ පූර්වතා දීම.

3. ප්‍රාදේශීය භෞතික සහ මානව සම්පත්වලට සහ යෝග්‍ය තාක්ෂණ යට මුල් තැන දීම.

4. මුදලින් මණින යටත් විජිතවාදී ආර්ථික මිණුම්දඬු වෙනුවට ස්වභාව සම්පත් සංරක්ෂණය වන, බලශක්ති පරිභෝජනය කාර්යක්‍ෂමව සිදුවන, මිනිස් සම්පත් වර්ධනය කෙරෙන, මිණුම්දඬු ෙ ත ා ් ර ා ග ැ න ී ම .

5. පාරිසාරික, සාමාජික සදාචාර සංරක්ෂණය සිදුවන පරිදි ආර්ථික ව්‍යාපෘති කුඩා පරිමාණ වශයෙන් සංවිධානය කිරීම.

6. මූලික මානුෂික අවශ්‍යතා සැපිරීම සම්බන්ධයෙන් වූ ස්වයංපෝෂිත අර්ථක්‍රමයක් උපරිම ලෙස ප්‍රාදේශිය වශයෙන් දියුණු කිරීම.

7. මහා පරිභෝජන ජීවන රටාවන් ධෛර්යවත් නො කොට කෘෂි නිෂ්පාදන සහ කෘෂිකාර්මික ජීවන රටාව පදනම් මූ දේශීය සංස්කෘතිය ධෛර්යවත් කිරීම.

8. දේශීය වෛද්‍ය ක්‍රම, දේශීය කලා ශිල්ප, දේශීය සාහිත්‍යය, දේශීය කෘෂි හා කාර්මික නිෂ්පාදන, ප්‍රාදේශීය අර්ථ ක්‍රමය හා සම්බන්ධ කිරීම.

9. මත්පැන්, මත්ද්‍රව්‍ය, සත්ත්ව ඝාතනය, විෂ රසායනික ද්‍රව්‍ය නිෂ්පාදනය හා භාවිතය ආදී ක්‍රමවලින් ආර්ථිකය නඟාලීමේ ප්‍රතිපත්තිය ප්‍රතික්ෂේප කිරීම සහ

10. සිංහල දෙමළ භාෂාවලට රාජ්‍ය භාෂා තත්ත්වය දී සෑම රට වැසියකුට ම භාෂා දෙක ම ඉගෙනීමට අවශ්‍ය පහසුකම් ලබාදීම.

## යුද්ධකරණය වෙනුවට ශාන්තීකරණය

උතුරේ සහ නැගෙනහිර පැනනැගුණු සටන්කාමී තරුණ පිරිස්වල ක්‍රියාකාරිත්වය හේතු කොටගෙන ඒවා මැඩ පැවැත්වීම සඳහා රාජ්‍ය සතු ත්‍රිවිධ හමුදා සහ පොලීසිය පෙර නොවූවිරූ අන්දමට පසු ගිය පස් වසර තුළ දී නවීකරණය කරනු ලැබීය. ඒ අතර ම විවිධ බලධාරීන් යටතේ විශේෂ සන්නද්ධ සේනාංක ද සංවිධිනය කරනු ලැබී ය. ඉන්දු-ලංකා සාම සම්මුතියෙන් පසු උතුරු නැගෙනහිර පළාත්වල සටහන්කාමීන් මර්දනය කිරීම ඉන්දියානු හමුදාව වෙත පැවැරුණු නිසාත්, සෙසු පළාත්වල ඇති වූ ආණ්ඩු විරෝධී සන්නද්ධ ක්‍රියා නිසාත්, ශ්‍රී ලංකා රජයේ හමුදා සෙසු පළාත්වලට යවනු ලැබී ය. මේ අතර දේශපාලකයන්ගේ සහ වෙනත් පෞද්ගලික ආරක්ෂාව අපේක්ෂා කළවුන් ගේ ආරක්ෂාව සඳහා ද අවි ආයුධ නීත්‍යානුකූලව සපයා ඇති බව නොරහසකි. මේ අතර පෙර නොතිබුණු විවිධ පුද්ගලයන් සතුව නීති විරෝධී ලෙස ගිනි අවි තිබෙන බව පෙනේ. මේ ගැන පොදුවේ සලකන විට නීත්‍යානුකූල වත්, නීතිවිරෝධී වත්, යුද්ධකරණයක් රට තුළ සිදුවන බව අප පිළිගත යුතු වෙමු.

යුද්ධකරණයක් වීම යනුවෙන් අදහස් කරන්නේ ජනතාවක් තුළ අහිංසාවාදී ව, සාමකාමී ව ප්‍රශ්න විසඳාගැනීමට තිබෙන හැකියාව දුර්වල බව යි. මෙය පොදුවේ සෑම පුරවැසියකු ම කල්පනාකාරී වියයුතු තත්ත්වයකි. විෂම චක්‍රයකට අසු ව වඩ වඩාත් විනාශකාරී තත්ත්වයකට පත්වන බවට පූර්ව දර්ශනයකි.

මෙ වැනි තත්ත්වයක් යටතේ පළමු වන වගකීම තිබෙන්නේ නීත්‍යානුකූල ව අවි අතට ගත් හමුදා සහ පොලීසි කෙරෙහි ය. පොදු මහජනතාව මෙම නීත්‍යානුකූලව සාමය රැකීම සඳහා ජනතාව වෙනුවෙන් අවි අතට ගත්තවුන් ගෙන් ඉහළ ම මට්ටමේ ආදර්ශමත් සේවයක් මේ අවස්ථා වේ දී බලාපොරොත්තු වේ.

සමාජයේ ජීවත් වන සියලු දෙනා ම සාධාරණ සාමාකාමී මිනිස්සු නො වෙති. විවිධ හේතූන් නිසා අසාධාරණ හිංසාවාදී මගකට පිවිස සමාජ සාමය නැති කරන අය ද බොහෝ අවස්ථාවල දී සෑම රටක ම පාහේ සිටිති. මේ හේතුවෙන් නිදහස් ස්වෛරී ප්‍රජාතාන්ත්‍රික සමාජවල පැවැත්ම සඳහා ස්වභාව නීතිය, ජන නීතිය, ධර්ම නීතිය සහ රාජ්‍ය නීතිය පමණක් ප්‍රමාණවත් නො වේ. මේ නීතීන් යටතේ, විශේෂයෙන් රාජ්‍ය නීතිය යටතේ, දණ්ඩ නීතිය ක්‍රියාත්මක වන විශේෂ අංශ ද පිහිටුවා තිබේ. මේවා පොලීසිය, පාබළ හමුදා, ගුවන් හමුදා සහ නාවික හමුදා වශයෙන් සංවිධානය කොට රජයේ ප්‍රධානියා යටතේ අවශ්‍ය අවස්ථාවල දී ක්‍රියාත්මක වේ.

සාමාන්‍ය රාජ්‍ය පරිපාලනය යටතේ මහජනතාව ගේ ප්‍රශ්නයක්, පරිපාලන රීති හෝ අධිකරණය මාර්ගයෙන් හෝ බලය නො යොදා විසඳා ගැනීමට නොහැකි වූ විට පොලීසියේ සහාය රජයට ලබාගැනීමට සිදුවේ. පිළිගත් ශිෂ්ට නීති යටතේ පොලීසිය ක්‍රියාත්මක වී අධිකරණයේ නියෝග පරිදි සිර දඬුවම් ඇතුළු ක්‍රමවලින් යුක්තිය පසිඳවනු ලබයි. රටේ අභ්‍යන්තරික සාමයට හෝ රටේ ස්වාධීනත්වයට හෝ බැරෑරුම් තර්ජනයක් පැමිණි විට විශේෂ රාජ්‍ය නීති යටතේ, අවශ්‍ය නම් යුද්ධ නීතිය යටතේ, ඒ තත්ත්වයෙන් රටත් ජනතාවත් ආරක්ෂා කිරීමට සන්නද්ධ හමුදා ද උපයෝගී කරගැනීමට රජයකට සිදු වේ. ප්‍රජාතන්ත්‍රවාදී රටක ඒ සියල්ල සිදු වන්නේ නීති පද්ධතියක් ඇතුළත පොදු මහජනතාවගේ ම ආරක්ෂාව සහ සුභ සිද්ධිය පිණිස මිස යම් කණ්ඩායමකගේ පටු අභිමතාර්ථ ඉටු කරගැනීම පිණිස නො වේ.

රටක රජයක් විසින් දණ්ඩ බලය පාවිච්චි කරන්නේ මෙ වැනි ප්‍රතිපත්ති වලට යටත් ව ය. පරමාදර්ශී වශයෙන් සලකන විට එය අසීරු අවස්ථා වකට මුහුණ දෙන ශිෂ්ට ක්‍රමයකි. රටවල් අතර පවතින යුද්ධයක දී පවා ශිෂ්ට මනුෂ්‍යයන් මෙන් සටන් කිරීමට ජිනීවා සම්මුතිය වැනි ජාත්‍යන්තර නීති ශිෂ්ට ලෝකය විසින් පිළිගෙන තිබේ.

අද ශ්‍රී ලංකාව ගැන හිතන විට එතෙක් දුරට දණ්ඩ බලය උපයෝගී කැර ගැනීම මේ නීතිවලට අනුකූල ව කර තිබේ ද යි යන ප්‍රශ්නයට උත්තර දීමට අපි බලාපොරෙත්තු නො වෙමු. මෙහි දී යුද්ධකරණය යනුවෙන් මා අදහස් කරන්නේ රාජ්‍ය නීතිය සහ රාජ්‍ය අනුග්‍රහය අනුව විශාල වශයෙන් ඉතාමත් බලවත් අවි ආයුධ

අද රාජ්‍ය සේනාංක අතට පත්වීම පමණක් නො වේ. උතුරු නැගෙනහිර පමණක් නො ව චකුණේ ද නීති විරෝධී කණ්ඩායම් විසිනුත් පුද්ගලයන් විසිනුත් අවි ආයුධ හසුරුවනු ලැබේ. දිනපතා ම කොතැන හෝ කා විසින් හෝ මෙ ම ආයුධ මෙහෙයවා මිනිස් ජීවිත වසනස හැටි වාර්තාවේ. මේ අතර උතුරේ සහ නැගෙනහිර ප්‍රශ්නයට සාමකාමී විසඳුමක් සෙවීමට පැමිණි ඉන්දීය හමුදා ද දස දහස් ගණනකි. ඒ සියල්ල ම සමස්තයක් වශයෙන් ගත්විට සාමකාමී වාතාවරණයක් වෙනුවට රටපුරා ම යුද්ධකාමී තත්ත්වයක් ඇති වී තිබීම ශෝචනීය තත්ත්වයකි. මේ සියල්ලට ම මැදි වුණ නිරායුධ අහිංසක පොදු ජනතාව වශයෙන් අප කළ යුත්තේ කිමෙක් ද? නීත්‍යානුකූල සන්නද්ධ හමුදා විසින් පොදු ජන අභිවෘද්ධිය උදෙසා කෙසේ ක්‍රියා කළ යුතු ද? මේ ප්‍රශ්න දෙකට ම අප පිළිතුරු සෙවිය යුතු ය.

පළමුවෙන් ම පොදු ජනතාව පැත්තෙන් සිතමු. පොදු ජනතාවට පාලනය කළ හැකි ශක්තීන් ද පාලනය නොකළ හැකි ශක්තීන් ද තිබේ. ජන කොට්ඨාශයක් තුළ සාධාරණත්වය සහ සාමය ස්ථිර කරන අන්දමට ඔවුන් ධර්ම නීතිය සහ ජන නීතිය ඇතුළත ජීවත් වන්නේ නම් විශාල ජන ශක්තියක් ඔවුනට ජනිත කළ හැකි ය. මේ ජන ශක්තිය ධර්මානුකූල අහිංසාවාදී ජන ශක්තියක් වූ ප්‍රමාණයට, අන්තිම ම්ලේච්ඡ දණ්ඩ ශක්තියක් හැර, සාමාන්‍ය රාජ්‍ය හමුදා විසින් හෝ දේශපාලන හේතූන් උඩ අවිගත් පිරිස්වලින් හෝ ඔවුනට කරදරයක් සිදු වන්නේ නැත. පොදු මහජනතාව ධර්ම ශක්තියෙන් හීන වුවහොත් ජන ශක්තියෙන් ද දුර්වල වේ. එ විට ඔවුන් ගේ දුර්වලකම නිසාම රාජ්‍ය දණ්ඩ ශක්තිය හෝ රාජ්‍ය විරෝධී දණ්ඩ ශක්තිය පාලනය කරගැනීමට නොහැකි ව ඔවුන් ගේ ගොදුරු බවට මහජනතාව පත් වේ. ගැමි හෝ නාගරික ජන කොට්ඨාශ ජීවත් වන ප්‍රදේශ කුඩා යුදපිටි බවට පත් වේ. උතුරු සහ නැගෙනහිර පළාත්වලට ඉන්දීය හමුදා ගෙන්වීමට තරම් දරුණු තත්ත්වයක් ඇති වූයේ මේ නිසා ය.

තමන් ගේ ගම් පෙදෙස් සාමකාමී ව තබාගැනීම ඉබේ ම සිදු වන්නක් නො වේ. කුමන අන්දමේ බාධක තිබුණත් යම්කිසි පැහැදිලි ස්ව සංවර්ධන මගකට යොමු වීමෙන් පමණක් ය. එ වැනි තත්ත්වයකට අවශ්‍ය පසුබිම සාදාගත හැක්කේ. වෙනත් වචනවලින් කිවහොත් අවට කුමන අන්දමේ අවුල් සහගත තත්ත්වයක් තිබුණත් තමන් ගේ ගම් තුළ ඒ තත්ත්වය මගහැර ගත හැක්කේ එම ගම්වාසීන් පිළිගත් සමාජ ක්‍රමයක් ගම ඇතුළේ ගොඩනැංවීම සඳහා ඔවුන් සංවිධානාත්මක ව කටයුතු කරගෙන ගියහොත් පමණකි.

සර්වෝදය ව්‍යාපාරයෙන් ජන සහභාගිත්වය ඇති කිරීම, ජනතාව සංවිධානාත්මක මට්ටමකට ගැනීම, සිඟිති, ළමා, යොවුන්, වැඩිහිටි ආදී සෑම කණ්ඩායමක් ම හවුල් වශයෙන් සංවිධානය කිරීම, ඔවුනොවුනට බලපාන මූලික මානුෂික අවශ්‍යතා හඳුනා ගෙන ඒවා සැපිරීමට ස්ව ශක්තිය සහ සාමූහිකත්වය මුල් වූ වැඩ සටහන් ක්‍රියාත්මක කිරීම, ඔවුන් ගේ නිෂ්පාදන සහ පරිභෝජන කටයුතුවලට යෝග්‍ය වූ තාක්ෂණික පුහුණුව ලබාදීම, ශාන්තිසේනා, නීතිසහන සේවා, ආධ්‍යාත්මික කටයුතු, සංස්කෘතික ක්‍රියාමාර්ග ආදී ක්‍රමවලින් ඔවුනට ඔවුන්ගේ අනාගතය පිළිබඳ වගකීම බාර ගැනීමට උදව් වේ.

වත්මන් යුගයෙහි පොදු ජනතාව මුහුණ දී තිබෙන්නේ නීතිය කෙරෙහි සම්පූර්ණ විශ්වාසයක් ඇති කරගැනීමට බැරි තත්ත්වයකට ය. මෙයට ප්‍රධානම හේතුව පසුගිය දශක දෙක තුන ඇතුළත දී විවිධ දේශපාලන මැදිහත්වීම් තුළින් පොලීසිය සහ රාජ්‍ය තන්ත්‍රයේ අපක්ෂපාතිත්වය පිළිබඳ විශ්වාසය මහජනයා තුළ අඩු වීම ය. මෙය රාජ්‍ය පාලන ක්‍රමය පිළිබඳ ඕනෑම සමාජයක පදනම දෙදරා යෑමකි. මේ පිළිබඳ සම්පූර්ණ වගකීම දේශපාලන පක්ෂ විසින් බාර ගත යුතු ය. ත්‍රස්තවාදයන් උත්පාදනය වීමටත්, වැඩිවීමටත් බෙහෝ දුරට උදව් වන්නේ නීතිය සහ සාධාරණය හරි හැටි ක්‍රියාත්මක නොවීම යි.

දැනට සිදුවී ගෙන යන පොදුවේ අවි ආයුධ පරිහරණය වීම හෙවත් යුද්ධ කරණය රට-දැය-සමයේ යහපත් අනාගතයකට හොඳ ලකුණු නො වේ. පොදු මහජනතාව මෙන් ම රාජ්‍ය හමුදාවල, සන්නද්ධ පිරිස් ද මේ තත්ත්වය මග හැරලීමට ක්‍රියා කිරීම අතිශයින්ම වැදගත් වේ. පවුලක යම් සාමාජිකයෙක් නීති විරෝධීව කටයුතු කළ විට එම පවුලේ හැම දෙනාට ම දඬුවම් දීමත්, පවුලක් වරදක් කළ විට මුළු ගමකට ම දඬුවම් දීමත් සාධාරණ නො වේ. හැරත් එයින් වන්නේ ත්‍රස්තවාදීන් යනුවෙන් හඳුන්වන නීති විරෝධී පිරිස් සංඛ්‍යාව වැඩි කිරීම ය. සාමාන්‍ය තත්ත්වය යටතේ අධිකරණයකට හිමිවන දඬුවම්දීමේ බලය හිංසාවාදී පරිසරයක දී අවිගත් ඕනෑම නිලධාරියකුට නීතියෙන් නොවුනත් අවස්ථාව අනුව පැවරේ. මේ නිසා ජනතාවගේ ජීවිත ආරක්ෂා කිරීම කෙරෙහි විශාල මානුෂික වගකීමක් පොලීසිය හා සන්නද්ධ හමුදා කෙරෙහි රැඳී තිබේ. ඒවායේ නායකයන් හැටියට අණ දෙන්නවුන් විසින් ධර්ම නීතියත්, රාජ්‍ය නීතියත් දෙක ම ආරක්ෂා කර ගෙන ජන විශ්වාසය දිනා ගැනීම අතිශයින් ම වැදගත් ය.

තමන් හරි යැයි පිළිගත් හිංසාවාදී ක්‍රම වලින් සාධාරණත්වය ලබාගැනීමට යන අවිගත් පිරිස්වලට ද මෙහි දී වචනයක් කිව යුතු ය. හිංසාවෙන් කිසි දු ප්‍රශ්නයක් විසඳිය හැකි යැ යි අපි විශ්වාස නො කරමු. එහෙත් හිංසාව පාවිච්චි කරන්නේ පොදු ජනතාවට සාධාරණත්වය ඉටුකර දීමට නම් පොදු ජනතාවට තිබෙන ආරක්ෂාව විනාශ කොට සාධාරණත්වය ලබා ගැනීමට යෑම යුක්තිසහගත නො වේ. අද බොහෝ ප්‍රදේශවල දුක් විඳින්නේ මේ පොදු  ජනතාව ය. ඔවුන් ආරක්ෂා කිරීම හෝ ඔවුන් අනාරක්ෂිත තත්ත්වයකට පත් නොකිරීම හෝ ඔවුන්ගේ වගකීම ද විය යුතු ය.

හිංසාවාදි ක්‍රියාවලින් ජනතාව රැකගැනීම සඳහා නියමුවන් විය යුත්තේ පක්ෂග්‍රාහී නොවන මධ්‍යස්ථ ප්‍රජා නායකයන්, නීතියේ සාධාරණත්වය කඩ නො කොට තම රාජකාරිය ඉටු කරන හමුදා නිලධාරීන් සහ රාජ්‍ය විරෝධී වුවත් පොදු ජනතාවට අවහිරකම් සිදු වන විදියේ දේවලට මැදිහත් නොවන සටන්කාමී නායකයන් ගේ ක්‍රියාකාරිත්වය උඩ බව සඳහන් කරනු කැමැත්තෙමි. මේ තුන් කොටස ම කල්පනාකාරීව ක්‍රියා කොට, ප්‍රජා ජීවිතය තුළින් අසාධාරණත්වය සහ හිංසාව පිටමං වන, අහිංසාව සහ සාධාරණත්වය තහවුරු වන, සංවර්ධන මාර්ගයකට මුළු ප්‍රජාව ම යොමු කිරීමේ ප්‍රයත්නයකට සහයෝගය දුනහොත් පමණකි, ශීඝ්‍රයෙන් යුද්ධකරණය වීම නතර කළ හැක්කේ. භික්ෂූන් වහන්සේ වැනි ප්‍රජා නායකයෝ ය මෙවැනි අවස්ථාවල දී ඉදිරිපත් වී නියමුවන් හැටියට පෙරමුණ ගෙන සෙසු අයට ද නායකත්වය දිය යුත්තෝ. මෙ තරම් භේද භින්නකාරී තත්ත්වයක් තිබිය දී වුවත් සර්වෝදය සංසදයට දීප ව්‍යාප්ත ව අදත් සේවය කරන්නට හැකි වී තිබෙන්නේ මෙවැනි සංවර්ධන මාර්ගයක ගමන් සන්නිවේදන තාක්ෂණය

අප ජීවත් වන්නේ සන්නිවේදන තාක්ෂණයන් ඉතා ඉහළින් දියුණු වූ යුගයක ය. හඳට ගොඩබසින ගගනගාමියා ගේ රුවත් හඬත් දෙක ම පොළෝ තලයේ සිට අපට දකින්නටත්, අසන්නටත් පුළුවන. කුමන තහංචි පැනවුවත් ලෝකයේ ඕනෑ ම රටක ඕනෑම මුල්ලක සිදු වන දෙයක් ලොව පුරාම ජනතාව ගෙන් වැඩි කල් සඟවා තැබීමට නවීන සන්නිවේදන තාක්ෂණය ඉඩ නො දෙයි.

ලාභ ඉපැයීමේ මුඛ්‍ය පරමාර්ථයෙන් සංවිධානය වූ ජාතික සහ බහු ජාතික කාර්මික වාණිජ්‍ය සංකීර්ණයන් නවීන සන්නිවේදන තාක්ෂණය අසාධාරණ ලෙස අයිති කරගෙන තිබේ. මේ හැරුණු විට මෙ ම සංකීර්ණයේ ම දේශපාලන අංශය වූ ජාතික සහ ජාත්‍යන්තර පක්ෂ සහ බලකාමී දේශපාලන ව්‍යූහයන් විසින්

සන්නිවේදන තාක්ෂණය ඔවුන් ගේ වරප්‍රසාද බලතල රැකගැනීමට සහ විශාල කරගැනීමට උපයෝගී කරගනු ලැබේ. ඡන්ද කාලවල දී බහුජාතික සමාගම්වලින් කෝටි ගණන් ධනය ප්‍රචාරක කටයුතු සඳහා දේශපාලන සංවිධානලවට පරිත්‍යාග කිරීමෙන් ම මේ දෙ පක්ෂය අතර තිබෙන කිට්ටු සබැඳියාව පෙනේ. කරන නිසා ය. යුද්ධකරණයට නොව ශාන්තිකරණයට ප්‍රායෝගික මගක් අනුගමනය කරන නිසා ය

යුද්ධායුධ නිපදවීමේ කර්මාන්තයට ලෝකයේ ඉහළ ම විද්‍යාඥයන් සහ තාක්ෂණිකයන් පමණක් නො ව සන්නිවේදකයන් ද විශාල පඩිනඩි ගෙවා යොදාගෙන තිබෙන්නේ සන්නිවේදනයේ බලය ඔවුන් අවබෝධ කරගෙන තිබෙන නිසා ය.

කුඩා ශ්‍රී ලංකාවේ ද සන්නිවේදන විද්‍යාව සහ තාක්ෂණය විශාල වශයෙන් යොදාගෙන තිබෙන්නේ වෙළඳ පොළේ සහ දේශපාලනයේ ප්‍රචාරවලට මිස ජනතාව ගේ දැනීම දියුණු කිරීම සඳහා අධ්‍යාපන මාධ්‍යක් වශයෙන් නො වේ. මේ නිසා දුප්පත්, පොහොසත් පරතරය තවත් වැඩි වෙනවා පමණක් නො ව සදාචාර සහ සංස්කෘතික පරිහානියක් ද එයින් ඇති වේ. ශ්‍රී ලංකාවේ පළ වන පුවත්පත්, පොත්, සඟරා ආදී ලිඛිත මාධයන් ද, ගුවන්විදුලිය, රූපවාහිනිය ද වැඩි වශයෙන් පාවිච්චි වන්නේ ඉහත සඳහන් කළ ව්‍යාපාරිකයන් ගේ සහ දේශපාලකයන් ගේ ප්‍රචාරක මාධ්‍යයන් හැටියට ය.

මුදලට හෝ තනතුරු ලෝභයට හෝ වහල් නො වී මෙ ම මාධ්‍යය රට-දැය-සමය නංවාලීමේ අරමුණින් උපයෝගී කරගන්නා සන්නිවේදන සූරීන්ගේ සංඛ්‍යාව ඉතා අල්ප ය. මාධ්‍යවල අයිතිය හෝ පාලනය හෝ ඔවුනට නැතිවීම මෙ සේ කුලියට වැඩ කොට ජනතාවට ද්‍රෝහී වීමට අවසරයක් නොවන බව මගේ කල්පනාව යි. රට-දැය-සමය විනාශ මුඛයෙන් බේරාගැනීමට නම්, මෙම අගනා ප්‍රජාවබෝධන මාර්ගයන් තම ශක්ති ප්‍රමාණයෙන් රට-දැය-සමය, "රැකුමට-වැඩුමට-නැගුමට" කැප කිරීම සඳහා කැප වුණු සන්නිවේදන නියමුවන් සහ සංස්කෘතික ප්‍රබෝධයන් අපට අවශ්‍ය වේ.

සංවර්ධනය පිළිබඳ මිත්‍ර්‍යා අදහස්, විවිධ වාර්ගිකයන් අතර තිබෙන සැක සහ බිය, මානව අයිතිවාසිකම් උල්ලංඝණය කිරීම පිළිබඳ සැබෑ තත්ත්වයන්, නීතිය සහ සාධාරණත්වය පිළිබඳ ව යථාවබෝධය, හිංසක සහ අහිංසක මාර්ගවල අයහපත් සහ යහපත් ආදීනව පිළිබඳ ව යථාවබෝධය මහජනතාවට ලබාදිය හැක්කේ සන්නිවේදන තාක්ෂණ ප්‍රචාරක කටයුතු සඳහා නො ව අධ්‍යාපන කටයුතු සඳහා යොදාගැනීමෙන් බව මෙහි දී අවධාරණය කළ යුතු ය.

මෙම සංස්කෘතික සන්නිවේදන විප්ලවය සඳහා පුරෝගාමීන් විය යුත්තේ ලේඛකයන්, පුවත්පත්වේදීන්, කලාකරුවන් සහ ඒ අංශවලට විද්‍යා තාක්ෂණය සපයන ශිල්පීන් හා සූරීන් විසින් ය.

ශ්‍රී ලංකාවේ භාවිතා වන සිංහල සහ දෙමළ භාෂාවන් මිනිසුන් අතර පවතින ප්‍රශ්නයක් හැටියට නොව පොහොසත් සාහිත්‍ය දෙකකින් ලැබෙන සම්පතක් හැටියට පරිවර්තනය කළ හැක්කේත් සන්නිවේදන තාක්ෂණය තුළින් ය. සිංහල සහ දෙමළ භාෂාවන් සඳහා පොදුවේ ප්‍රයෝජන ගතහැකි යතුරු ලියනයන් හා පරිඝනක යන්ත්‍රයන් දැනට මත් ශ්‍රී ලංකාවේ පාවිච්චියට ගැනේ. භාෂා වෙනස්කම් ජනතාව ගේ බෙදීමකට හෝ ගැටුමකට හෝ තව දුරටත් තුඩුදීමට අවශ්‍ය නැත. භාෂා ප්‍රශ්නය සන්නිවේදන තාක්ෂණයෙන් විසඳා තිබේ. අවශ්‍ය වන්නේ බේද සහ ගැටුම් අමතක කොට එම සන්නිවේදන තාක්ෂණය ප්‍රගුණ කොට ප්‍රයෝජනයට ගැනීම යි. නියමුවන් අවශ්‍ය වන්නේ මේ කාර්යය සඳහා යි.

## නව අධ්‍යාපන විප්ලවයක්

විධිමත් අධ්‍යාපන ක්ෂෙත්‍රයේ තිබෙන අර්බුදය තව දුරටත් තාවකාලික ප්‍රතිකාර තුළින් විසඳිය නොහැකි ය. පැලැස්තර ඇලවීමෙන් අවසානය කල් දමනවාට වඩා රෝග නිදානය ඉවත් කිරීමට ශල්‍යකර්මයක් කිරීමේ කාලය දැන් පැමිණ තිබේ.

පවතින විධිමත් රාජ්‍ය අධ්‍යාපන ක්‍රමයට සමාන්තර ව ප්‍රජාවේ මට්ටමින් විධිමත් ප්‍රජා අධ්‍යාපන ක්‍රමයක් වහා ම සංවිධානය කළ යුතු ය. ඒ සඳහා නීතියෙන් තිබෙන බාධක ඉවත් කිරීමෙන්, සමාන පිළිගැනීමක් ලබාදීම රජය විසින් කළ යුතු ය. මෙයින් අදහස් කරන්නේ වරප්‍රසාද ලත් පන්තියක දරුවන් සඳහා පෞද්ගලික අධ්‍යාපන ආයතන වෙළඳාමක් ඇරඹීම නො වේ. පවතින රාජ්‍ය අධ්‍යාපන ක්‍රමයෙන් විසඳිය නොහැකි වූ සමාජ ප්‍රශ්නවලට සමාන්තර ව මුහුණදිය හැකි වූ ප්‍රජා අධ්‍යාපන ක්‍රමයක් ඇති කිරීමේ අවශ්‍යතාව යි.

ප්‍රධාන වශයෙන් මෙ ම අධ්‍යාපන සේවා මට්ටම් දෙකකින් සංවිධානය විය යුතු ය. පළමු වැන්න, ද්විතියික අධ්‍යාපන ක්‍රමය, ප්‍රාථමික අධ්‍යාපන ක්‍රමය සහ පූර්ව ප්‍රාථමික අධ්‍යාපන ක්‍රමය ඇතුළත් වන පොදු ප්‍රජා අධ්‍යාපන සේවය යි. දෙ වැන්න, විශ්ව විද්‍යාල සහ සාමාන්‍යයෙන් තෘතීයික අධ්‍යාපනය යනුවෙන් හැඳින්වෙන උසස් ප්‍රජා අධ්‍යාපන සේවය යි.

පොදු ප්‍රජා අධ්‍යාපන සේවයේ පරමාර්ථය වන්නේ සෑම මනුෂ්‍යයකුගේ ම පූර්ණ පෞරුෂෝදයටත්, සෑම පවුලක ම කුටුම්බෝදයකටත්, සෑම ප්‍රජාවක ම ග්‍රාමෝදය

ග්‍රාම-ස්වරාජ්‍යයකටත් අවශ්‍ය වන්නා වූ පෝෂණය, සෞඛ්‍යය, මානසික සහ සාමාජික වැඩීම, භාෂා සාහිත්‍යමය ප්‍රගුණතාව, ඓතිහාසික සහ සංස්කෘතික පසුබිම සහ පරිසරය, මූලික මානුෂික අවශ්‍යතා සපුරාගැනීම සඳහා අවශ්‍ය දාර්ශනික තාක්ෂණික සහ කළමනාකාරිත්ව පුහුණුව ලබාදීම යි

මේ පරමාර්ථ ඉටු කර ගැනීම සඳහා අවශ්‍ය සම්පත් සියල්ල ම ලැබෙන්නේ ඒවායේ පරිපාලනය පැවරෙන්නේ ප්‍රජාව තුළ ම ජීවත් වන නායකයනට ය. මෙම පොදු ප්‍රජා අධ්‍යාපන සේවයෙන් දනට කිසි දු සහභාගිත්වයකට ඉඩක් නො සැලැසී තිබෙන උගත් භික්ෂූන් වහන්සේ, දේශීය වෛද්‍යවරුන්, කලාකරුවන්, තාක්ෂණිකයින්, භාෂා විශාරදයන් ආදී සෑම දෙනාටම හැදෙන වැඩෙන පරපුරේ චරිත සංවර්ධනයට සහ ඔවුන් අර්ථ චර්යාත්මක සමාජානුයෝගයකට පත් කිරීමට සහභාගී වීමේ අවස්ථාවක් ලැබේ. දනට ඉඳහිට ප්‍රයෝජනයට ගන්නා විහාරාරාම, පොදු ගොඩනැගිලි ආදිය එදිනෙදා ප්‍රජා ජීවිතයට අවශ්‍ය අධ්‍යාපන කාර්යයන් පමණක් නො ව, ජීවත් වීමට අවශ්‍ය සෑම කාර්යයක් සඳහා ම ප්‍රයෝජනයට ගැනෙන තැන් බවට පත් වේ. කෙත්වතු, වනපෙත්, හරකබාන, ජලමාර්ග ආදී සෑම ජීව අජීව වස්තුවක් ම අධ්‍යාපන කාර්යයට ඉවහල් කරගත හැකි සම්පත් බවට පත් වේ.

උසස් ප්‍රජා අධ්‍යාපන සේවය වනාහි, පොදු ප්‍රජා අධ්‍යාපන සේවයේ ම අඛණ්ඩ ව අතිනවීන තත්ත්වය දක්වා දැනීම සහ ප්‍රායෝගය අතින් ඉහළට යෑමට ආශා කරන සෑම ශිෂ්‍යයකුට ම ඉඩ සලසන, අධ්‍යාපන ක්‍රියාදාමයකි. එය දේශෝදය සහ විශ්වෝදයකට අවශ්‍ය දර්ශනය, තාක්ෂණය සහ කළමනාකාරිත්ව දොර විවෘත කිරීමකි. මෙය ක්‍රියාවට පරිවර්තනය වන්නේ උසස් ප්‍රජා සහ ග්‍රාමීය විශ්ව විද්‍යාල තුළිනි. මේ ආයතන දෙවර්ගය ම ආරම්භ කිරීමටත්, පවත්වාගෙන යෑමටත් අවශ්‍ය සියලු ම සම්පත් ප්‍රජාවන් තුළ ම තිබේ. අඩුවකට තිබෙන්නේ මුදලක් වේතනයක් බලාපොරොත්තු නොවී තමන් ගේ දැනීම සහ දක්කම් යොදවා දේශභක්තියෙන් මානව දයාවෙන් ඉදිරිපත් වීමට සිටින බුද්ධිමතුන් ගේ අඩුවයි. එහෙත් උසස් ප්‍රජා අධ්‍යාපන ක්‍රමයක් සහ ග්‍රාමීය විශ්ව විද්‍යාල ක්‍රමයක් යම් රට-දැය-සමයට හිතැති පිරිසක් විසින් සංවිධානය කරන්නේ නම් මේ අඩුව ද පිරිමසාගත හැකි බව මගේ විශ්වාසය යි.

මේ අන්දමින් ප්‍රජා අධ්‍යාපනය සේවාවක් සංවර්ධන අධ්‍යාපනය නමින් සර්වෝදය විසින් ආරම්භ කොට සාර්ථක ව ලංකාවේ සෑම ප්‍රදේශයක ම කරගෙන යනු ලැබේ. ඒ අත්දැකීම උඩ අපට ප්‍රකාශ කළ හැක්කේ සෞඛ්‍ය සම්පන්න පෞරුෂයකින් යුත් ඕනෑම නවීන තාක්ෂණයකට මනස සහ දෑත හුරු කළ හැකි ග්‍රාමීය සිඟිති, යොවුන් පිරිසක් අප ජාතියට උරුම ව තිබෙන බවත්, මෙ වැනි විප්ලවීය ප්‍රජා අධ්‍යාපන ක්‍රමයක් තුළින් අප රටේ නැවත ධර්ම චක්‍රය පෙරළීමට සමත් පිරිසක් ඔවුන් තුළින් මතුකර ගත හැකි බවත් ය.

අධ්‍යාපනයේ බාහිර අරමුණ වශයෙන් ආදායම් ලබා ගැනීමට තරුණ තරුණියන් රැකියාවන් සඳහා පුහුණු කළ යුතුය වන මතය සාවද්‍ය බව අපි ප්‍රකාශ කරමු. ඒ වනාහි මිනිසා ද අජීවී ද්‍රව්‍යයක් හෝ වස්තුවක් ලෙස සලකා මානව සම්පත් දියුණු කිරීම සඳහා අධ්‍යාපනය සහ පුහුණුව ලබාදෙන විෂම චක්‍රයකට අසු වීමකි. රැකියාව සහ ආදායම් ලැබීම ඉලක්ක කරගත් විට නිරායාසයෙන් ම අවශ්‍යතා සපුරා ගැනීමට වඩා ආශාවන් පසුපස සුඛෝපභෝගිත්වය දෙසට යොමු වීමේ ස්වභාවයක් ඇති වේ. මේ වංගගිරි ගමනට අසු වන අය ගෙන් වැඩි දෙනෙක් මංමුළා වෙත්. මේ වෙනුවට අවශ්‍යතාවලට මුල්තැන දී අවශ්‍යතා සපුරාගැනීම තුළින් සම්මා ආජීවයකට නොහොත් යහපත් ජීවන රටාවකට පුද්ගලයා යොමු වන විදියේ ප්‍රජා අධ්‍යාපන ක්‍රමයක් කෙරෙහි අපේ විශ්වාසය තැබිය යුතු ය. එ විට වර්තමානයෙහි මුදල් සහ පරිභෝජන සමාජයකට අසු වී තිබෙන ජනතාව සහනසීලී ගුණාත්මක ජීවන රටාවත් ගොඩනගන ජනතාවක් බවට පත් වේ. දුප්පත්කමත්, සුඛෝපභෝගිත්වයත් දෙක ම ප්‍රතික්ෂේප කළ දැහැමි සමාජයකට අඩිතාලම දැමීමට මේ වැනි ප්‍රජා අධ්‍යාපන ක්‍රමයක් සමත් වෙනු ඇත. මෙහි සාර්ථකත්වය උඩ, පවතින විධිමත් රාජ්‍ය අධ්‍යාපන ක්‍රමයට, මෙම ප්‍රජා අධ්‍යාපන ක්‍රමය සමඟ සම්බන්ධතාවක් ඇති කරගැනීමට කාලය විසින් මඟ පාදනු ඇත.

විශ්ව විද්‍යාල මහාචාර්යවරු, උගත් භික්ෂූන් වහන්සේ සහ සෙසු ආගමික නායකයෝ, සමාජ සේවකයෝ සහ අධ්‍යාපනඥයෝ මෙවැනි ප්‍රජා අධ්‍යාපන ක්‍රමයක් පිළිබඳ ව සිතීමට පමණක් නොව වහාම සංවිධානය වී ක්‍රියාවට නැගීමට පුරෝගාමී විය යුත්තෝ ය.

## ධර්ම චක්‍රය

විෂම චක්‍රය දුර්වල කොට ධර්ම චක්‍රය ප්‍රවර්තනය කිරීම අපේ අභිලාෂයයි. මේ කාර්යයෙහිලා පුද්ගලයන් හැඩ ගැසීමට අවශ්‍ය පරිසරයක් අපි නිර්මාණය කරමු. එ වැනි පුද්ගලයන් හා කණ්ඩායම් තුළින් ධර්ම චක්‍රය ප්‍රවර්තනය වීමට අවශ්‍ය බල ශක්තිය, ක්‍රම විද්‍යාවන් හා ව්‍යුහයන් ද නිර්මාණය කරමු. බල පිරමිඩය විනාශ වීමට ඒ තුළම තිබෙන ප්‍රතිවිරෝධතා ප්‍රමාණවත් ය. ඒ නිසා බුද්ධිමත් දුරදර්ශී ජනතාව විසින් කළ යුත්තේ කඩා වැටෙන පිරිමිඩය මුක්කු ගසන්නට යෑම හෝ විනාශය ඉක්මන් කිරීමට තවත් ශක්තිය නාස්ති කිරීම හෝ නො වේ. අපේ මුළු වැර යෙදිය යුත්තේ නව නිර්මාණයක් ගොඩනැංවීමට ය. ධර්ම චක්‍රය නැවත ප්‍රවර්තනය කිරී ය. ඒ සඳහා සර්වෝදය අත්දැකීම්වලින් මා තුළ හටගත් අදහස් සමූහයකි. මේ පොතෙන් ඉදිරිපත් කළේ, වාග් සරඹවල යෙදෙන අයට කෙසේ වෙතත් යම් වැඩක් කරන්නට කැප වන අයට ඒ අදහස් ප්‍රයෝජනවත් වේ යැයි හඟිමි.

# පසුවදන

රටේ පවතින තත්ත්වය පිළිබඳ අපි කුමක් කරමු ද? යන ප්‍රශ්ණය දිනපතාම වාගේ බොහෝ දෙකනුගේ මුවෙන් නැගෙන ප්‍රශ්ණයකි. ප්‍රශ්ණය විසඳීමට වෙනත් පාර්ශ්වයකට පැවරීමත් හැර, මේ ප්‍රශ්ණ නගන අයටත් කුමක් හෝ කළ හැකි යයි ප්‍රකාශ වන්නේ කලාතුරකිනි.

හදිසියේ ලියා ප්‍රකාශයට පත් කළත්, මේ පොතෙන් ප්‍රශ්ණය තේරුම් ගැනීමටත් විසඳුම් ගැන කල්පනා කිරිමටත් සෑහෙන කරුණු ඉදිරිපත් කර ඇතැයි සිතමි. සුළු වශයෙන් හෝ සර්වෝදයෙන් ඉදිරිපත් කරන විසඳුම පියවරෙන් පියවර තිස් වසරක් තිස්සේ ක්‍රියාත්මක කල ශිල්පීය ක්‍රමයන්, සංවිධාන ව්‍යුහයන් සහ ක්‍රියාමාර්ග පිළිබඳව ද ඉගියක් දුනෙමි. ඒවා පිළිබඳ සවිස්තර දැනගැනීමට අවශ්‍ය පාඨකයන් අපේ මූලස්ථානයට හෝ දිවයින් පුරා තිබෙන සර්වෝදය මධ්‍යස්ථානවලට හෝ පැමිණීමෙන් ඒවා ලබාගත හැකිය. අවශ්‍ය නම්, විවිධ වැඩ සටහන් ව්‍යාපෘති නැරඹිය හැකිය. වෙනත් වචන වලින් කිවහොත් ප්‍රශ්ණය විසඳිමට උපකාරී විය හැකි යම් ක්‍රියාවක ලොකු කුඩා අප හැමට යෙදිය හැකිය.

මේ පොත පිළිබඳව සංවාදයක යෙදීමට හෝ ප්‍රායෝගිකව අප හා එකතුව අලුත් දෙයක් ගොඩනැංවීමට හෝ කැමැති අයට මේ පොත අවසානයේ තිබෙන පෝරමය පුරවා එවීමට මම ආරාධනා කරමි.

අර්බුදය උග්‍ර වූ තරමට විසඳුම් නිර්මාණාත්මක අදහස් හා ක්‍රියාමාර්ග ද වඩා ශක්තිමත්ව මතුවීම අධිෂ්ඨාන පූර්වක මිනිස් ජන කොට්ඨාශ වලට උරුම වී ඇති ස්වභාවික සම්පතකි.

කුඩා සිත් පුද්ගලයන් ගැන කතා කරයි.
සාමාන්‍ය සිත් සිද්ධීන් ගැන කතා කරයි.
ශ්‍රේෂ්ඨ සිත් සිතිවිලි ගැන කතා කරයි.

ඒ.ටී. ආරියරත්න මහතා
විශ්ව සමාධි,
සර්වෝදය මූලස්ථානය,
මොරටුව.

## පෝරමය

1. බල පිරමිඩය ද ධර්ම චක්‍රය ද යන පොත කියවීමි. ඒ පිළිබඳ මගේ අදහස් මේ සමඟ දන්වා එවමි.

2. එයින් මතු කරන සමාජ ක්‍රමයක් ගොඩනැංවීම සඳහා මම ද හවුල්වීමට කැමැත්තෙමි. මගේ විස්තර පහත සඳහන් කරමි.

3. 1. සම්පූර්ණ නම ඃ

.....................................................................................................

.....................................................................................................

2. කාර්යාලීය ලිපිනය ඃ

.....................................................................................................

.....................................................................................................

.....................................................................................

දුරකතන අංකය ඃ .............................................

පෞද්ගලික ලිපිනය ඃ

.............................................................................................

.....................................................................................................

.....................................................................................

දුරකතන අංකය ඃ .............................................

3. වයස ඃ .............................................

4. ප්‍රවීණතාව දක්වන අංශ ඃ

.....................................................................................................

.....................................................................................................

.....................................................................................................

.............................................

දිනය ඃ ................................

# 9
# පවතින විෂම චක්‍රය

මෙ තෙක් මේ පොත කියා වූ පාඨකයාට අපේ රට-දැය-සමය අසු ව තිබෙන විෂම චක්‍රය පිළිබඳ අවබෝධයක් ලැබෙන්නට ඇත. මේ විෂම චක්‍රය විනාශ කොට ඒ වෙනුවට රට-දැය සමය නංවාලිය හැකි ධර්ම චක්‍රය නැවත පෙරළීම මේ යුගයේ ජීවත් වන බුද්ධිමත් ලොකු කුඩා හැම ගේ ම වගකීම විය යුතු ය.

වත්මන් සමාජ අර්බුදය ගැන විමැසීමේ දී ඒකහේතුක විග්‍රහයන්හි යෙදීම නිෂ්ඵල ක්‍රියාවක් බව මගේ හැඟීම යි. අනුමාන කළහැකි සෑම හේතුවක් ගැන ම සොයා බලා විෂම චක්‍රයකට බල ශක්තිය දෙන හේතුන් අප විසින් දුර්වල කොට ධර්ම චක්‍රයකට බල ශක්තීන් දෙන හේතුන් අප විසින් ශක්තිමත් කළ යුතු ය.

පුද්ගලයෙක් ගැන සිතමු. ඔහු ගේ හෝ ඇය ගේ හෝ පෞරුෂය වනාහි අප සඳහන් කළ ජෛවීය , පාරිසාරික, කර්මික සහ චිත්ත සාධකයන් විසින් සපයනු ලැබූ බල ශක්තීන් යම් අවස්ථාවක දී සමබර වී තිබෙන තත්වයකි. ඊළඟ මොහොතේ දී මේ තත්ත්වය වෙනත් තත්ත්වයකට හැරීමට පිළිවන. මේ හේතුන් පිළිබඳ ආත්මාවබෝධයක් තිබෙන තැනැත්තා චිත්ත සාධකය සහ පරිසර සාධකය ඉස්මතු කරගෙන තමාට අභිමත දෙසකට තමා ගේ පෞරුෂය හැරවීමට අනිත් සාධකවල බලය දුර්වල කරයි. අප විසින් සමාජ විෂම චක්‍රය දෙස බැලිය යුත්තේ ද මේ අන්දමිනි.

පවතින විෂම චක්‍රය බිඳැලීම පමණක් නොවේ. ඒ වෙනුවට ධර්ම චක්‍රය පෙරැලීම ද එක වර ම සිදුවිය යුතුය. විනාශ කළ යුතු දේ විනාශ කිරීමත්, ගොඩනැංවිය යුතු දේ ගොඩනැංවීමත් එක වර ම කිරීමට සිදු ව තිබේ. මෙය පහසු කටයුත්තක් නො වේ. අසත්‍යය, හිංසාව සහ ආත්මාර්ථකාමිත්වය මුල් කොට කළ හැක්කක් ද නොවේ. ඒවා මුල් වුවහොත් සිදු වන්නේ තත්ත්වය තවත් විෂ වීම යි. අප සොයාගන්නා මාර්ගය සත්‍යයෙන් අසත්‍යයට මුහුණු දීමටත්, අහිංසාවෙන් හිංසාවට මුහුණ දීමටත්, ආත්මහරණයෙන් ආත්මාර්ථකාමිත්වයට මුහුණ දීමටත් පුළුවන් මාර්ගයක් විය යුතුය. බොහෝ දෙනෙක් මේ විෂම චක්‍රය වෙනස් කිරීමට දේශපාලන බලය අල්ලාගැනීම පමණක් ප්‍රමාණවත් යැ යි සිතති. විශාල බලාපොරොත්තු ඇති ව සර්වජන ඡන්ද බලය පාවිච්චි කිරීමෙන් එක් පක්ෂයක් පරාජය කොට වෙනත් පක්ෂයකට බලය ලබාදීමේ කාර්යය කිහිප වරක්ම මහජනයා විසින් බුද්ධිමත් ව සිදුකර තිබේ. එහෙත් දශක හතරකට පසු ආපසු හැරී බලන කෙනෙකුට පෙනෙන්නේ මේ හැම බල තට්ටු මාරුවක් සමග ම පාලන තන්ත්‍රය බලවත් වූ අතර, ප්‍රජාතන්ත්‍රය දුර්වල වූ බව යි. පාලන තන්ත්‍රය සතු ව දණ්ඩ බලයක් තිබේ. පොලීසිය, හමුදා, අධිකරණ, සිරගෙවල් ආදිය මේ දණ්ඩ බලය ක්‍රියාවට නංවන ආයතන යි. පාලන තන්ත්‍රය පාලනය කරන ටික දෙනා මෙ ම ආයතන සියල්ල ම ඔවුනට ඕනෑ හැටියට පාලනය කරති. ඔවුන්ගේ ක්‍රියාවලට නීතිය හරස් වුවහොත් නීතිය ද අවශ්‍ය අන්දමට වෙනස් කැරගනිති.

ප්‍රජාතන්ත්‍රය ජන ශක්තිය මත පිහිටා තිබේ. ජන ශක්තිය ප්‍රකාශ වන්නේ අදහස් පළ කිරීම, නිදහසේ රැස්වීම් තැබීම, ලිවීම, සාමකාමීව විරෝධය දැක්වීම, අධිකරණය ඉදිරියේ අයිතිවාසිකම් තහවුරු කිරීමේ මාර්ග ආදී ක්‍රම උඩ යි. ආපසු හැරී බලන විට දණ්ඩ ශක්තිය බලවත් කරමින් ජන ශක්තිය දුර්වල කිරීමට බලයේ සිටි සෑම පක්ෂයක් ම ක්‍රියාකර තිබෙන බව පිළිගත යුතු ය.

අප බොහෝ විට මේ තත්ත්වය, ළිඳක ජලය පනිට්ටුවකින් ගැනීමට සමාන කර තිබේ. එක් පනිට්ටුවකින් ජලය නොඑන විට පනිට්ටුව මාරු කර ජලය ලබා ගැනීමට අපි තැත් කරමු. කිහිප වරක් ම පනිට්ටු මාරු කළත්, පනිට්ටුව ළිඳට දමා ආපසු ගන්නා විට ජලය නො ලැබේ. මේ නිසා පනිට්ටුව මාරු කරනු වෙනුවට "ළිඳේ ජලය ඇත් දැ යි" බලනු වටී. 'රට-දැය-සමය' නැමැති ළිඳට ජලය ගලා එන ආධ්‍යාත්මික, සදාචාර, සංස්කෘතික, සාමාජීක, ආර්ථික සහ දේශපාලනික උල්පත් සියල්ල ම සිඳී තිබෙද්දී පනිට්ටු මාරු කිරීම හෝ ඒවා එකිනෙකට හැප්පීමේ තේරුමක් ඇතැ යි මට නො සිතේ. කළ යුත්තේ පනිට්ටු සියල්ල ම අයිනකට දමා ඒවා හසුරුවන්නන් සහ මහජනතාව ද සමස්තයක් හැටියට සංවිධානය වී උල්පත් පෑදීමට සූදානම් වීම යි. අද අපේ රටට අවශ්‍ය ව තිබෙන්නේ මෙ ම උල්පත් පෑදීමේ ව්‍යායාමය පටන් ගැනීම ය.

පළමුව ආධ්‍යාත්මික උල්පත දෙස බලමු. මේ උල්පත වසා තිබෙන්නේ මොනවායින් ද? ඒ පාදාගන්නේ කෙසේ ද? අධ්‍යාත්මයෙන් මතු වන්නේ පුදුම විදියේ ශක්තියෙකි. ලෝභය, තරහව සහ මුළාව එකිනෙකට සම්බන්ධ වී විෂම චක්‍රයක් හැටියට ක්‍රියා කරන විට මිනිසුන් ගේ සිත් වලින් මතු වන්නේ ආධ්‍යාත්මයෙන් පිටවන ශක්තියක් නො වේ. මානසික මට්ටමින් විෂ දුමක් මෙන් පිට වන ලෝභයේ, තරහවේ සහ මුළාවේ හෙවත් අවිද්‍යාවේ ශක්තිය. චිත්තාභ්‍යාවකාශය මෙම විෂම ශක්තියෙන් අපිරිසිදු වූ විට මිනිසා මෘර්ගයකුටත් අන්ත අන්දමට ක්‍රියා කිරීමට පටන් ගනී. ඉවක් බවක් නැතිව අහිංසක මිනිසුන්, ගැහැණුන්, දරුවන් වද හිංසාවලට යටත් කොට ඔවුන් ගේ සිරුරු පවා විකෘති කොට තිරශ්චීන අන්දමට මරා දමා මළමිනී පවා විනාශ කරන තත්ත්වයෙන් මිනිසුන් හැසිරෙන්නේ මේ විෂම වූ චිත්ත්‍යාවකාශය ඔවුන් ගේ මනස කෙරෙහි බලපා ඇති නිසා ය. වරක් මෙවැනි දරුණු ක්‍රියාවක යෙදුනු තැනැත්තා තමන්ගේ මනස තවත් දූෂණය කරගෙන එම වරද ම වැඩි ප්‍රමාණයෙන් යුතුව නැවත නැවත කරයි. දරුණු විෂම චක්‍රයට ඔහු අසු ව තිබෙන බව ඔහුට නො තේරේ.

චිත්ත්‍යාවකාශයට බලපාන මේ විෂම ශක්තීන් වෙනුවට ධර්ම ශක්තීන් මුදා හරින්නේ කෙ සේ දැයි ඊළඟ පරිච්ඡේදයෙන් අපි විග්‍රහ කරන්නෙමු.

දෙ වැනි ව සලකා බැලිය යුත්තේ සදාචාර මට්ටමේ හෙවත් අන්තර පුද්ගල සම්බන්ධතා මට්ටම ගැන යි. වත්මන් සමාජයෙහි සදාචාර ජීවිතය ද විෂම

චක්‍රයකට අසු ව තිබේ. පෞද්ගලික ජීවිතයේ දී මෙන් ම සදාචාර ජීවිතයේ දී අප ව්‍යවහාර කරන වචන සහ කරන ක්‍රියාවන් දෙස විමසා බැලුවහොත් ආධ්‍යාත්මික පිරිහීම නිසා අප සදාචාර පිරිහීමකට අසුව තිබෙන බවත්, එම සදාචාර පිරිහීම නිසා තව දුරටත් ආධ්‍යාත්මික පිරිහීම වැඩි වන බවත් පෙනේ. මේ අංශ දෙක විෂම චක්‍රයක් හැටියට අප කෙරෙහි බලපාන අන්දම අපට අවබෝධ විය යුතු ය.

විෂ කෘමිනාශක ද්‍රව්‍ය කූට මාර්ගවලින් ගොවියාට විකුණන ව්‍යාපාරිකයා ආධ්‍යාත්මික ව පිරිහුණු තැනැත්තෙකි. ඔහු කරන්නේ ආහාර විෂ කිරීම තුළින්, බලවත් සදාචාර විරෝධී ක්‍රියාවකි. එයින් ඔවුන් ගේ ලාභාංශ වැඩි වන නිසා ඔවුහු තව තවත් එ වැනි සමාජ විරෝධී නිෂ්පාදන හා වෙළහෙළඳාම්වල යෙදෙති. මත්ද්‍රව්‍ය, මත්පැන්, සූදු ආදී නීත්‍යානුකූල හෝ නීති විරෝධී ව්‍යාපාරයන් ගැන කිව යුත්තේ ද මෙය ම ය. මෙ සේ වැරදි මාර්ගවලින් උපයාගන්නා ධනය සාධාරණ මාර්ග වලින් උපයාගන්නා ධනයට වඩා ඉක්මන් වැඩි ධනයක් නිසා ඔවුන් ගේ ජීවන රටාව ද සුඛෝපභෝගී වේ. මේ තත්ත්වය රැකගැනීමට ඔවුන් තව තවත් මුදල් ඉපයිය යුතු ය. ඒ සඳහා දේශපාලනයේ, පරිපාලනයේ, පොලීසි, හමුදාවල බලවතුන් හැකි පමණ දුරට ඔවුන් විසින් අවනත කර ගත යුතු ය. එයට තිබෙන මාර්ගය අල්ලස්, දූෂණ, වංචා ක්‍රම මගින් ඔවුන් දිනා ගැනීම යි. ඔවුහු ද සාධාරණව උපයා ගන්නා ආදායමට වඩා වැඩි වියදමකට පුරුදු වන නිසා මේ විෂම චක්‍රයේ කොටස් කරුවෝ වෙති.

අධ්‍යාපන ක්ෂේත්‍රය ගැන සිතමු. උසස් පාසැලකට දරුවෙකු ඇතුළු කිරීමට මුදලින් හෝ වෙනත් ක්‍රමවලින් හෝ බලපෑම් කළ හැකි බොහෝ දෙමව්පියන් එ සේ දරුවන් ඇතුලු කරන්නේ දරුවන්ට තිබෙන ආදරය නිසා ය. සමහර විට පාසැලට නුදුරු නිවසක බොරු ලිපිනයක් යෙදූ සැටි කුඩා දරුවා ද දැනගනී. ජීවිතය සාර්ථක කර ගැනීමට නම්, රැවටීම අවශ්‍ය ගුණයක් බව දරුවා ගේ යටි හිතට වැටහේ. ඉන්පසු බොරු කියන්න හෝ යමකු රවටන්න හෝ ඔහු පැකිලෙන්නේ නැත. වරප්‍රසාද ලත් අයගේ අනුග්‍රහය ඇති වන නිසා මෙ ම පාසල්වලට විශාල වශයෙන් රජයේ සහ පිටස්තර ආයෝජන ලැබේ. මේ අතර මෙ ම පාසැල්වල ශිෂ්‍ය සංඛ්‍යාව දහස් ගණනින් ඉහළ යයි. කුඩා පාසැල් සාපේක්ෂ ව අඩු පහසුකම් ලබා අධ්‍යාපන මට්ටම ද දුර්වල කරගනී. විශාල පාසැල්වල ද විනය තත්ත්වය සහ අධ්‍යාපන තත්ත්වය ප්‍රමාණාත්මක බව නිසා ම දුර්වල වේ. උසස් අධ්‍යාපනයේ යෙදී සිටින ශිෂ්‍යයෝ සමාජ සාධාරණත්වය යන මිම්මෙන් සමාජ ප්‍රශ්න දෙස බලා කලකිරීමකට පත් වෙති. අධ්‍යාපනය සාර්ථක ව නිම කොට, රැකියා ලබා ගැනීමට යෑමේ දී ද මෙ වැනි ම බලපෑම් අවශ්‍ය නිසා ඔවුන් ගෙන් වැඩි දෙනෙක් පවතින ක්‍රමයට විරුද්ධ වෙති. ගොඩ නැංවිය යුත්තේ කිමෙක් දැ යි නොදන්නා අතර තිබෙන දේ විනාශ කිරීමට ඔවුහු සැරසෙති. බලධාරීහු මෙය වැළැක්වීමට විවිධ බලතල පාවිච්චි කරති. නොවැලැක්විය හැකි ගැටුම් ඇති වී විෂම චක්‍රය තවත් භයානක වෙති.

ආර්ථික ක්ෂේත්‍රයේ සිදු වන දේ දේශපාලන ක්ෂේත්‍රයටත්, දේශපාලන ක්ෂේත්‍රයේ සිදුවන දේ සෞඛ්‍ය ක්ෂේත්‍රයටත් අධ්‍යාපන ක්ෂේත්‍රයටත් , අධ්‍යාපන ක්ෂේත්‍රයේ සිදුවන දේ සෞඛ්‍ය ක්ෂේත්‍රයේ සිදුවන දේ වෛද්‍ය ක්ෂේත්‍රයටත් ආදී වශයෙන් ශරීරයේ හැම තැන ම පැතිරෙන පිළිකාවක් මෙන් මුළු ජාතික දේහයම මේ විෂම චක්‍රයට අසු වී විනාශ වේ.

මෙයින් පැහැදිලිව ම පෙනෙන්නේ එක් හේතුවක් උඩ අර්බුදය දෙස නො බලා තිබෙන සංකීර්ණ වූත්, එකිනෙකට බලපාන්නා වූත් සමස්ත විෂම ස්වභාවය දෙස බලා පූර්ණ විසඳුමක් සෙවීමට අප උනන්දු විය යුතු බව ය. ආධ්‍යාත්මික, සදාචාර, සංස්කෘතික, සාමාජික, ආර්ථික සහ දේශපාලනික යන ළිඳේ උල්පත් හයම අපට නැවත පෑදීමට සිදුව තිබේ. 'රට-දැය-සමය' යන ළිඳ නැවත වරක් පිරිසිදු ජලයෙන් පිරෙන්නේ එ විට ය. ළිඳ පිරුණු පසු කුමන පතිට්ටුවක් දමා ලබා ගත්තත් කම් නැත.

# 10
# ධර්ම චක්‍රය නැවත පෙරළීම සහ එහි නියමුවෝ

මේ පරිච්ඡේදයෙන් අප අදහස් දක්වන්නේ පවතින විෂම චක්‍රය අභිබවා ධර්ම චක්‍රය නැවත පෙරළීම සම්බන්ධවයි. විෂම චක්‍රය පෙරළීමට බල ශක්තිය සපයන විෂම චින්තනය, විෂම සංකල්පනා, විෂම භාෂා රටාව, විෂම ක්‍රියාමාර්ග සහ විෂම ජීවන රටාවන් පිළිබඳව අදහස් රැසක් ම මෙතෙක් කියවූ කොටස්වල සඳහන් කර ඇත. මෙම විෂම චක්‍රයෙන් ආත්ම සිද්ධිය ඉටු කරගන්නා පුද්ගලයින් සහ සංවිධාන ගැන ද ඔවුන් උපයෝගී කැරගන්නා තාක්ෂණය හා ව්‍යුහයන් ගැන ද සාමාන්‍යයෙන් සඳහන් විය.

ධර්ම චක්‍රය පෙරළීමට අවශ්‍ය දේශීය චින්තනයත්, සම්‍යක් සංකල්පනාවත්, භාෂා ශෛලිය, අර්ථ චර්යාත්මක ක්‍රියාමාර්ග සහ ජීවන රටාවන් පිළිබඳ ව ද සඳහන් කළෙමු. සර්වෝදය සංසදය තුළින් විෂම චක්‍රයට එරෙහි ව මෙ තෙක් මුදාහළ ශිල්පීය ක්‍රම හා ව්‍යුහයන් පිළිබඳ ව ද සැකෙවින් සඳහන් කළෙමු. මීළඟට අවශ්‍ය වන්නේ සමස්තයක් වශයෙන් විෂම චක්‍රයට එරෙහි ව ධර්ම චක්‍රයට පක්ෂපාතී ව පොදු ජනතා මට්ටමේ සිට ජාතික, ජාත්‍යන්තර මට්ටම දක්වා ක්‍රියා කළ යුතු ආකාර ය යි.

ශ්‍රී ලංකා සමාජයේ යථාර්ථය අනුව මේ ධර්ම චක්‍රය පෙරළිය යුත්තේ සංස්කෘතිය, ආර්ථිකය සහ දේශපාලන යන අංශ තුන ඇතුළත් වන පරිද්දෙනි. සංස්කෘතික අංශයේ නායකත්වය, ධර්ම ශක්තිය විසින් මෙහෙයවනු ලැබූ පොදු මහජනයාට ම හිමි වේ. දේශපාලන හා ආර්ථික විප්ලවයේ නායකත්වය සම්මුතිවාදී දේශපාලන ක්‍රමයකට රට-දැය යොමු කළ හැකි,පොදු ජනතාව තුළින් ම පැන නගින, පොදු ජනයා තුළින් ම මතුකර ගත හැකි නව නායකත්වයකට හිමි විය යුතු ය. මේ ගැන ටිකක් සවිස්තර ව සොයා බලමු.

"රට-දැය-සමය" පුනරුදය සඳහා වගකීම ඉසිලිය යුත්තේ කා විසින් ද? ධර්ම චක්‍රය නැවත පෙරළීමේ වගකීමට පුරෝගාමී විය යුතු නියමුවෝ කවුරු ද? යන අමාරු ප්‍රශ්නයට අප විසින් මේ අවස්ථාවේ දී මුහුණ දිය යුතු ය. 'නියමුවෝ කවුරුද' යි තීරණය කිරීමේ දී වැදගත් වන්නෝ පවතින සමාජයේ විවිධ සම්ප්‍රදායික වරප්‍රසාද හිමිවූවනට වඩා අප අරමුණු කර ගත් ජාතික පරමාර්ථ ඉටු කැරගැනීමට ඉදිරිපත් විය හැකි කාර්යබද්ධ නායකයෝ ය. කාර්යබද්ධ නායකයන් ගැන කතා කළ හැක්කේ ඔවුන් විසින් වහා ම ඉටු කළයුතු කාර්යයන් මොනවා ද යි සොයා බැලීමෙනි.

## ශ්‍රී ලාංකික අනන්‍යතාව

"මම ශ්‍රී ලාංකිකයෙක්මි. මගේ මව් බස සිංහල යි. මගේ මාතෘ භූමිය ශ්‍රී ලංකාවයි." යනුවෙන් කතා කරන සිංහලයෙක් ශ්‍රී ලාංකික ජාතික අනන්‍යතාවක් ගොඩනැංවීමට හවුල් වෙන්නෙකි. ඔහු ගේ සිංහල කමට කිසි දු හානියක් එයින් ඇති නො වේ.

"මම ශ්‍රී ලාංකිකයෙක්මි. මගේ මව් බස දෙමළ භාෂාව යි. මගේ ජන්ම භූමිය ශ්‍රී ලංකාවයි" යනුවෙන් කතා කරන ද්‍රවිඩයෙක් ශ්‍රී ලංකික ජාතික අනන්‍යතාවක් ගොඩනැංවීමට හවුල් වෙන්නකි. ඔහු ගේ දෙමළ කමට කිසිදු හානියක් එයින් ඇති නො වේ

ශ්‍රී ලංකාව සිංහලේ යනුවෙන් හැඳින්වූ කාලයට වඩා වත්මන් යුගය වෙනස් බව යථාර්ථවාදී ව අපි පිළිගත යුතු වෙමු. අප ඉදිරියේ තිබෙන ප්‍රධාන ප්‍රශ්නය මෙ ම රට දෙ කඩ වීමෙන් වළක්වාගැනීමයි. ඒ වැනි දෙකඩ වීමකින් සිංහලයනට හෝ දමිලයනට හෝ කිසිම සෙතක් සිදු නොවනු ඇත. එයින් ජීවන තත්ත්වයත්, සංස්කෘතියත් නඟා සිටුවීමට වැය කළ යුතු කාලය, ශ්‍රමය සහ සම්පත් සියල්ල ම දේශ සීමාවන් වල ආරක්ෂාවටත්, උනුනුන් වනසාගැනීමේ යුද්ධවලටත් යොමු වනු ඇත. එ පමණක් ද නොව මේ තත්ත්වයෙන් ප්‍රයෝජන ගැනීමට මාන බලමින් සිටින විදේශික බලවේගවලට ද එයින් අපේ රට තවත් අවුල් කොට විනාශ කිරීමට මඟක් පෑදෙනු ඇත. එවිට, සමස්තයක් වශයෙන් සිංහල, දෙමළ දෙවර්ගයාට ම සිදු වන්නේ විදේශික බලවේගවලට යටත්වීමට ය. දැනට මත් පසු ගිය දශක කීහිපය තුළ සිංහල, දෙමළ යන දෙවර්ගයා විසින් ම වර්ගය වෙනුවට ජාතිය යන්න යොදා ගැනීම නිසා සිංහල ජාතිය සහ දෙමළ ජාතිය යනුවෙන් බෙදී සිදුකර ගත් විනාශය ප්‍රමාණවත් ය.

සිංහල සහ දෙමළ පමණක් නො ව මුස්ලිම් ආදී වෙනත් වර්ගයනටත් මෙම කරුණ මෙසේ ම සැබෑ වේ. ජාතිය හෙවත් දැය ශ්‍රී ලාංකික හැටියටත්, ගෝත්‍රය වර්ගය හෝ භාෂාව සිංහල, දෙමළ හෝ වෙනත් එකක් හැටියටත් සැලකුවාට කමෙක් නැත. එ විට තමන් ගේ භාෂාව, සාහිත්‍යය, කලාව ආදිය දියුණු කර ගැනීම තුළින් ඒ ඒ වර්ගවලට පොදුවේ ජාතියේ භාෂා සාහිත්‍ය කලා දියුණුවට සමස්තයක් වශයෙන් හවුල් විය හැකිය. මෙයින් හැම දෙනා ට ම සෙතක් සිදු වනු මිස කිසිවෙකුටත් පාඩුවක් සිදු නො වේ.

පසු ගිය දශක කිහිපයේ දී අපේ රටේ මේ ජාතික අනන්‍යතාව පිළිබඳ ප්‍රශ්නය විසඳා නොගත් නිසා විශ්ව සාහිත්‍යයට හෝ විශ්ව කලාවට හෝ විශ්ව දර්ශනයට හෝ විශ්ව තාක්ෂණයට හෝ ජාතියක් වශයෙන් අපට සෑහෙන දෙයක් එකතු කිරීමට හැකි වූයේ යැ යි අවංක ව කිව හැකි ද? නැතිනම් කලින් විශ්ව සමාජයට ශ්‍රී ලාංකික ජාතියක් හැටියට අප විසින් එකතු කොට තිබූ යමක් ඇත්නම් එය ද විනාශ නො කළේ ද?

දෙමළ වර්ගයා ගේ අංශයෙන් බැලුවහොත් මුළු ජනගහනයෙන් අඩකට වඩා ජීවත් වන්නේ උතුරු නැගෙනහිර පළාත්වල නොව සෙසු සිංහල යැයි ගැනෙන පළාත්වල ය. ඒ නිසා දෙමළ ජාතිය යනුවෙන් භාවිතා කිරීම වෙනුවට ශ්‍රී ලාංකික ජාතිය යනුවෙන් ව්‍යවහාර කිරීමෙන් ඔවුන්ට වැඩක් මිස අවැඩක් සිදු නො වේ. සිංහලයන් ගේ බිය තිබෙන්නේ හය කෝටියක් දෙමළ ජනතාව දකුණු ඉන්දියාවේ වාසය කිරීම යි. ශ්‍රී ලංකාවේ වෙසෙන දෙමළ වර්ගයා ශ්‍රී ලාංකික අනන්‍යතාව පිළිගතහොත් සිංහලයනට මෙසේ බියවීමට හේතුවක් නැතිවේ.

ශ්‍රී ලංකාවට වඩා දකුණු ඉන්දියාවට පක්ෂපාත කමක් දක්වතැ යි යන පුහු මතය ම සිංහලයින් විසින් ඉවත් කරගත යුතු ය. භාෂාව දඩමීමා කරගෙන පටු දේශපාලන අරමුණු ඉටු කරගැනීමට ගොස් සමහර සිංහල සහ දෙමළ නායකයන් විසින් ඇති කළ මේ අවුල ලිහීමට (දෑය) ජාතිය ශ්‍රී ලාකිංක වශයෙන් පොදුවේ පිළිගැනීම අත්‍යවශ්‍ය බව මගේ පිළිගැනීම යි. ශ්‍රී ලාංකික ජාතිය අමතක කොට සිංහල වර්ගයා, සිංහල ජාතිය යනුවෙන් හඳුන්වා ගන්නට යෑමෙන් සිදු වන්නේ පළාත් කීපයකට පමණක් ඔවුන් කොන්වී, ජාතිය පමණක් නොව වර්ගයා ද පාරම්පරික ව මේ රටේ තිබූ උරුමය නැතිකර ගැනීමයි. ඒ නිසා රට සමස්තයක් වශයෙන් සලකා "දෑය" ද සමස්තයක් වශයෙන් සැලකීම සිංහල වර්ගයා ගේ ආරක්ෂාවට සහ ජාතියේ ඒකීයභාවයට පමණක් නො ව ජාතික අනන්‍යතාවක් ඇති කරගැනීමට ද එකම මගයි.

මේ ජාතික අනන්‍යතාව ඇති කර ගැනීමට පුරෝගාමිත්වය දිය හැකි වන්නේ වාර්ගික හෝ ගෝත්‍රිය නායකයනට නොව ජාතික නායකයනට ය. එයින් ගෝත්‍රිය වශයෙන් ඔවුන්ගේ භාෂාවට, කලාවට, සාහිත්‍යයට, සංස්කෘතියට ඔවුන් විසින් කළ හැකි සේවය සීමා නොවන අතර, ඒවායේ අගය ජාතික වශයෙන් උද්දීපනය වීමක් ද සිදු වේ. සිංහලයිනට සිංහලකම අත් හරින්නට හෝ දෙමළ අයට දෙමළකම අත් හරින්නට හෝ මේ නිසා සිදු නො වේ. වත්මන් ශ්‍රී ලංකාවට ජාතික නායකයන් ගේ විරල බවක් සිදු ව ඇත්තේ වාර්ගික හෝ  ගෝත්‍රිය වශයෙන් හෝ නායකත්වය දෙනවුන් බොහෝ දෙනෙක් සැබැවින් ම එම වාර්ගික හෝ සංස්කෘතියට අයිති නැති තුප්පහි සංස්කෘතියක් පිළිගෙන ඊනියා ශාස්ත්‍රීය ලිවීමෙන් හෝ කතාවෙන් හෝ පමණක් ජාතිකවාදී වන්නට හැදීම නිසා ය. සිංහල භාෂාව හෝ සාහිත්‍ය හෝ ඉතිහාසය හරිහැටි නො දන ජාතික අනන්‍යතාවක් ගැන කතා කරන්නවුන් ගැන හෝ දෙමළ භාෂාව හෝ සාහිත්‍යය හෝ ඉතිහාසය ගැන නොදන ජාතික අනන්‍යතාවක් ගැන කතා කරන්න වුන් ගැන හෝ මගේ අබමල් රේණුවක විශ්වාසයක් නැත. තමන් ගේ ම  සංස්කෘතියක් ගැන නො දන අනුන්ගේ භාෂාවෙන් සිතා, ලියා, කියා බහුජාතිකත්වය ගැන කතා කරන්නෝ ආත්ම වංචනයක යෙදෙන්නෝය. ඔවුන් වනාහි පරාධීන යුගවල දී ස්වදේශිකත්වය අමතක කොට විදේශිකයන් ගේ භාෂාව හා සංස්කෘතිය වැලැඳගෙන, බහුජාතික කතාවක් තුළින්, විජාතික නොවූ සිංහල, දෙමළ බහුතරය තමන් වැටී සිටින තුප්පහි වලට ඇද දමන්නට මහන්සි ගන්නා අයය. බහුජාතික කතාව පදනමක් නැති බහුබූත කතාවකි. "සිංහල දෙමළ සමගිය ඉංගිරිසි භාෂාව තුළින් ඇති කළ යුතුයැ" යි මුර දෙන්නෝ ද මොවුහු ය. රටක වර්ග කිහිපයක් හෝ ගෝත්‍ර කිහිපයක් හෝ තිබෙන්නට පුළුවන. එහෙත්, එකම රටක තිබිය හැක්කේ එකම ජාතියකි. එකම ජාතිය තුළ උනුනුන්ට ගරු කරන, සමානත්වයෙන් සලකන, විවිධ ගෝත්‍රයන් හෝ වර්ගයන් හෝ භාෂාවන් හෝ තිබිය හැකිය. අපේ රට ශ්‍රී ලංකාවයි. එහි සිංහල, දෙමළ, බර්ගර්, මැලේ ආදී වාර්ගිකයෝ ජීවත් වෙති.

## ආගම තුළින් සමය

පුද්ගලයා ගේත්, සමාජයේත් ප්‍රගතියට තුඩුදෙන සාරධර්ම හෙවත් පුරුෂාර්ථ, සමය යනුවෙන් අපි හැඳින්වීමු. එදා බුදු සමයේ සහ හින්දු ධර්මයෙන් මෙ ම සාරධර්ම ජන ජීවිතයට ඇතුළු කර තිබිණි. ඉස්ලාම් ධර්මයෙන් සහ ක්‍රිස්තු ධර්මයෙන් ද පසු කලෙක මේවා තවත් පෝෂණය විය. දානය, සීලය, පරිත්‍යාගය,ඍජුකම, මධ්‍යස්ථ භාවය, නිවුණු ගතිය, ක්‍රෝධ නැති ගතිය, අවිහිංසාව, සමාවදීම, ඉවසීම, පළිනොගැනීම ආදී ගුණ දශරාජ ධර්මය යන නමින් අපි හඳුන්වමු. මෙම සාරධර්මවලට බෞද්ධ, ක්‍රිස්තු, හින්දු, ඉස්ලාම් ආදී විශේෂණ පද අවශ්‍ය නැත. ක්‍රිස්තියානි ප්‍රේමයක් ගැන හෝ බෞද්ධ මෛත්‍රියක් ගැන හෝ හින්දු අවිහිංසාවක් ගැන හෝ කතා කිරීම එම ධර්මයන්හි හරය අමතක කිරීමකි. මෛත්‍රිය මෛත්‍රය ම යි. කරුණාව කරුණාව ම යි. අහිංසාව අහිංසාව ම යි. ඒවාට බෞද්ධ, හින්දු, ඉස්ලාම්, ක්‍රිස්තියානි ආදී වශයෙන් විශේෂණ පද යෙදූ විගසම ඒවායේ අර්ථය ශුන්‍ය වේ. ආධ්‍යාත්මික ගුණය වනසා ගෙන ආගමික ලේබලයක් රැක ගැනීම පමණක් එයින් සිදුවේ. "සමය" යන උතුම් සංකල්පය විනාශ වේ. සමය විනාශ වූ විට ආගම මිනිසාට යහපතක් සිදු කරනු වෙනුවට මිනිසාගෙන් ඈත් කරන බෙදීමේ හිංසක බලවේග බවට පත් වේ. සත්‍යය ආයතනීකරණය කළ නොහැකිය. අහිංසාව ආයතනීකරණය කළ නොහැකි ය. සත්‍යය සහ අහිංසාව විශ්වමය ධර්මයෝ ය.

සමය රැකුණොත් පමණකි, විවිධ ආගමික සංවිධානවලින් මනුෂ්‍ය සමාජයට යහපතක් වන්නේ සර්ව සාධාරණ ආධ්‍යාත්මික නීති උල්ලංඝණය කොට බෞද්ධ හෝ හින්දු හෝ ඉස්ලාමීය හෝ ක්‍රිස්තියානි හෝ ආගම්වල නාමයෙන් ඒවා අදහන්නවුන්ගේ අයිතිවාසිකම් රැක ගැනීමට හෝ සංඛ්‍යාව පුළුල් කර ගැනීමට හෝ යෑම සමය විරෝධී ක්‍රියාවකි. විවෘත ආර්ථිකයේ තිබෙන අල්ලස්, දූෂණ, වංචා, මිනීමැරුම් ආදිය අඩංගු බෙලි කපන වෙලඳපොළේ තරඟයකට සමාන තත්ත්වයකට සමහර ආගම් ඇත්තේ මේ නිසාය. හාමතෙන් පෙළෙන්නකුගේ අසරණබාවය ප්‍රයෝජනයට ගෙන ආහාර ටිකක් දී, රෝගයකින් පෙළෙන කෙනෙකුට බෙහෙත් ටිකක් පරිත්‍යාග කොට ආදී වශයෙන් උපකාරයක් කර මිනිසුන් එක් ආගමක සිට තවත් ආගමකට හැරවීම සමය විනාශ කිරීමකි. කළයුතු හරි දෙය නම්, තිබෙන ආගමික සංවිධාන ප්‍රයෝජනයට ගෙන මිනිසුන් ගේ ලේබල් ගැන නො තකා එක් අතකින් මිනිසුනට උදව්වීමත්, අනෙක් අතින් මිනිසුන් ගේ ආධ්‍යාත්මික ගුණ වගාව දියුණු කිරීමත් ය. එවැනි ක්‍රියාමාර්ගයකින් පමණකි, මිනිසකු තවත් මිනිසකුට ගරු කරන, උදව් කරන, අනුකම්පා කරන, සමානාත්මතාවාදීව සලකන තත්ත්වයක් ඇතිකර ගත හැක්කේ. රට සහ දැය ගැන සමස්තයක් වශයෙන් සිතන ආකාරයෙන් ම සමය ගැන ද සමස්තයක් වශයෙන් සිතිය හැක්කේ මෙ වැනි මඟකට පිළිපන්න හොත් පමණකි.

මේ සංකල්පනාව අනුව කටයුතු කළහොත් බුද්ධ ශාසනයේ පිබිදීමක් ඇති වනු ඇත. හින්දු ආගමේ ඉමහත් ප්‍රගතියක් ඇතිවනු ඇත. ක්‍රිස්තියානි සහ මුස්ලිම් බැතිමතුන්ගේ ද ඉමහත් ආගමික ප්‍රබෝධයක් ඇති වනු ඇත. සමස්තයක් වශයෙන් මුළු ශ්‍රී ලංකාවේ ම ආධ්‍යාත්මික ප්‍රගතියක් ඇති වී වත්මනෙහි පවත්නා හිංසාව,

අසමගිය සහ අසාධාරණකම් අඩු වී තුරන් වී යනු ඇත.

ශ්‍රී ලාංකික ජනතාවගේ ආධ්‍යාත්මික ජීවිතය සංවර්ධනය කිරීමට අවශ්‍ය වන්නෝ මෙවැනි මඟක ගමන් කරන කාර්යබද්ධ නියමුවෝ ය. ඔවුන් කුමන ආගමික පසුබිමකින් මතු වුවත් කමෙක් නැත. අවශ්‍ය වන්නේ මුළු වර්ගයා කෙරෙහි ම, සත්ත්ව වර්ගයා කෙරෙහි ම, උපේක්ෂාවෙන් ඔවුන් ආධ්‍යාත්මික වශයෙන් උසස් තත්ත්වයට නංවාලීමට නායකත්වය දීමට හැකි වීම පමණකි.

## සම්මුති දේශපාලනය

පක්ෂ සහ බලකාමී දේශපාලකයෝ ඕනෑවටත් වඩා මෙ රටේ සිටිති. ඔවුනට පව් සිදු වන්නට මෙ රට මෝඩයන් ගේ පාරාදීසයක් බවටත්, සාමාන්‍ය ජනතාවගේ නරකාදියක් බවටත් අප රට පත්ව තිබේ. සෑම පක්ෂයක ම හොඳ මිනිසුන් මෙන්ම නරක මිනිස්සු ද සිටිති. ප්‍රශ්නය ඔවුහු නොවෙති. මිනිසා මිනිසාට හතුරකු කරන පක්ෂ ක්‍රමය යි. අපට අවශ්‍ය වන්නේ පක්ෂ ක්‍රමය පිටු දකින පක්ෂවලින් තොර දේශපාලන ක්‍රමයක් ගොඩනගන්නට සමත් දේශපාලන නායකයින් පිරිසකි. අප සම්මුතිවාදය යන්නෙන් නම් කළ විදියේ දේශපාලන ක්‍රමයක් මෙ රටට ගොඩනගන්නට සමත් ආත්ම ත්‍යාගී බුද්ධිමත් පිරිසකි. තමනට බලය ගැනීමට නො ව මහජනතාවට අහිමි වූ මානුෂික අයිතීන් දේශපාලන බලය නැවත මහජනතාව අතරට පත් කිරීමට කැප වන පිරිසකි.

උදාහරණයක් ගෙන බලමු. සිවිල් යුද්ධයක් මෙන් ක්‍රියාත්මක වන පක්ෂ දේශපාලන බල තරඟ වල දී ලජ්ජා බය තිබෙන සාමකාමී, නීතිගරුක මිනිසුනට ලැබෙන්නේ දෙවැනි තැනකි. මැරවරකම් කරන, චන්ඩිකම් කරන, කලකෝලාහල කරන සුළු පිරිසකට පවතින ක්‍රමයේ ප්‍රධාන තැනක් දේශපාලන පක්ෂවලින් දී තිබේ. පක්ෂ ක්‍රමයට අසු වූ විට මිනිස්සු රකුසන් මෙන් හැසිරෙති. මිනිසුන්, මිනිසුන් හැටියට දේශපාලනය කළහැකි ක්‍රමයක් නැද්ද? සමහර විට සම්මුති දේශපාලන සංසදය (ස.දේ.ස) වැනි නමකින් පක්ෂ ක්‍රමයට අකැමැති සියලු දෙනාම සංවිධානය කළ හැකි වේ. ස.දේ.ස විසින් පක්ෂ ක්‍රමයේ සිට සම්මුති ක්‍රමයකට සමාජය පරිවර්තනය වන තුරු ජනතාවට ක්‍රියාත්මක කළ හැකි දේශපාලන ක්‍රියා මාර්ගයක් සැකැසීමට පුළුවන් විය යුතු ය. මෙ තෙක් මේ පොතේ අප දැක්වූ කරුණු අනුව යමින් එම සම්මුති දේශපාලනයේ මූලධර්ම, ප්‍රතිපත්ති, පරමාර්ථ සහ ක්‍රියා මාර්ග සකසා ගැනීමේ අපහසුවක් නැත. එම සංවිධානය මගින් බිහිසුණු තත්ත්වයකට පත් ව ඇති අධර්මිෂ්ඨ, අවිනීත, සාපරාධී පක්ෂ දේශපාලන ක්‍රමයෙන් රට-දය-සමය මුදාගෙන ශ්‍රී ලංකා ඉතිහාසයට නව පරිච්ඡේදයක් එකතු කිරීමට ශක්තිය ලැබෙනවා නො අනුමාන ය.

පවතින ක්‍රමය අනුව යම් අවස්ථාවක දී බලය අල්ලාගෙන සිටින්නෝ එය අත්හල විට ලැබෙන ප්‍රතික්‍රියාවලට බියෙන් බලය අත්හැරීමට බිය වෙති. ඔවුන් බලයේ සිටින අවස්ථාවල දී විවෘතව දේශපාලනය කළහොත් දඬුවම් ලැබෙතැයි බියෙන්

තවත් සමහරෙක් සැඟැවී පවතිනබල ව්‍යුහයට පහර දෙති. මෙය විෂම චක්‍රයක් මෙන් ඔවුනොවුන් ගේ සැකය සහ බිය වැඩි කරමින් එයට මැදි වූ ජනතාව ත්‍රස්තවාදයට අසු කර ඇත්තේ ය. මේ දෙපක්ෂයේ ම බිය සැක හැරීමට තිබෙන එක ම මඟ, අප ඉදිරිපත් කළ විග්‍රහය අනුව, මේ දෙපක්ෂයට ම වඩා වැඩි සංඛ්‍යාවක් සිටින අපක්ෂපාතී සාධාරණ ජනතාවට ප්‍රතික්‍රියා තුළින් නො ව දේශීය චින්තනයක් සහ අර්ථ චර්යාත්මක ක්‍රියාවක් තුළින් එක් වීමට තුන්වැනි මඟක් සාදාදීම යි. වර්තමානයේ සිදු වන ජීවිත විනාශයත්, ආර්ථික පරිහානියත්, අසහනයත්, යුද්ධකරණයත් වැළැක්විය හැක්කේ මෙවැනි නවතම සම්මුති දේශපාලන ක්‍රමයක් තුළින් බව අපේ විශ්වාසය යි. එයට නායකත්වය දෙන්නේ. දේශීය සාරධර්ම පිළිගත් ජනතා පරමාධිපත්‍යය ගරු කරන රට-දැය-සමයට පමණක් පක්ෂපාතී පිරිසකි.

මෙම කර්තව්‍යය සඳහා කාර්ය බද්ධ නියමුවන් පිරිසක් පොදු ජන සමාජය තුළින් මතුවිය යුතු ය. අපක්ෂපාතී ප්‍රජා නායකයන්, ආධ්‍යාත්මික නායකයන්, සමාජ නායකයන්, වෛද්‍ය, නීතිඥ, විද්‍යා, පරිපාලන, තාක්ෂණ ආදී අංශයන් හි නියුතු විවිධ සූරීන් මෙම තීරණාත්මක යුගයේ දී සම්මුති දේශපාලන සංවිධානයක් තුළින් පූර්ණ අහිංසාවාදී දේශපාලන විප්ලවයක් සඳහා ඉදිරිපත් විය යුතු ය. දැනට නීත්‍යානුකූලව හෝ නීති විරෝධී හෝ පක්ෂ සහ බලකාමී දේශපාලන තරඟයෙහි යෙදී සිටින වුන් ද උපේක්ෂා සහගතව බේරාගත හැක්කේ මෙවැනි දේශපාලන සංවිධානයක් තුළින්. මේ ගැන සිතීමට නොව වහාම ක්‍රියාත්මක වීමට දැන් කාලය පැමිණ තිබේ.

අපේ මුඛ්‍ය අරමුණ වූ දහම් දිවයිනක් ධාන්‍යාගාරයක් බවට අප රට පරිවර්තනය කිරීමට නම් දේශපාලන ව්‍යුහයේ විප්ලවීය  වෙනසක් සිදු විය යුතුය. එය අහිංසාවාදීව සිදුකළ හැකි මගකි, සම්මුති දේශපාලන ක්‍රමය. හිංසාවෙන් මෙය සිදුවන්නට ඉඩ තැබීම කබලෙන් ළිපට වැටීමක් ද විය හැකිය. ඒ නිසා බුද්ධිමත් දෑ හිතැතියන්ගේ විශේෂ අවධානය සඳහා මගේ සිතට මේ පිළිබඳ පැනනැඟුණු අදහස් කීපයක් විස්තර කරමි. මෙය සාකච්ඡාවකට තුඩුදීම සඳහා ලියැවුනක් මිස අවසාන නිගමනයක් ඉදිරිපත් කරන්නක් නොවේ.

දේශපාලනය යන වචනය අපේ කටටත් කනටත් හොඳට හුරු වචනයකි. මේ වචනය ඇසෙන විට ම අපේ හිතට නැගෙන්නේ දේශපාලන පක්ෂ ක්‍රමය සහ බල තරඟය පිළිබඳ කල්පනාව ය. ඒ සමඟ ම ආත්මාර්ථකාමිත්වය, තරහව, වෛරය, බිය, බලලෝභය, පළිගැනීම, අල්ලස්, දූෂණ, වංචා, අපරාධ, වදහිංසා, මිනීමැරුම් ආදිය ද අපේ හිතට නැගේ. මේ නිසා ම සාමය සහ සාධාරණත්වයට කැමති බහුතර ජනතාව තුළ දේශපාලනය යන වචනය ඇසෙන විට විශාල පිළිකුලක් ද ඇති වේ.

මේ අදහස් සහ හැඟීම්වලට වහල් නො වී ටිකක් ගැඹුරට කල්පනා කළහොත් අප ඇත්ත වශයෙන්ම මේ අදහස් සහ හැඟීම් උපදවා ගෙන තිබෙන්නේ දේශපාලනය ගැන නොව පක්ෂ සහ බලකාමී දේශපාලනය ගැන බව අවබෝධ වේ. ඇත්ත වශයෙන් ම පක්ෂ සහ බලකාමී දේශපාලනය සැබෑ දේශපාලනයක් නොව දේශනාශනයකි. ඒ බව අවබෝධ කර ගැනීමට නිදහසින් පසුගිය අවුරුදු 40 දෙස ආපසු හැරී බැලීම පමණක් ප්‍රමාණවත් ය. මෙම පක්ෂ සහ බලකාමී දේශනාශනය 1988 ලබන විට ස්වකීය විනාශකාරී දූත මෙහෙවර සම්පූර්ණ කර ඇතැයි අපට හැඟේ. පොදු මහජනතාව විසින් වත්මන් දේශනාශන ක්‍රමයේ ආදීනව දැන්වත් තේරුම්ගෙන වෙනත් විකල්පීය සැබෑ දේශපාලන ක්‍රමයකට ඔවුන් ගේ සිත් යොමු කරනු ඇතැයි යන අපේක්ෂාවෙන් මෙම පොත් පිංච ලීවීමට අදහස් කළෙමු.

ඉදිරිපත් කරන විකල්පීය ක්‍රමයට සුදුසු ම නාමය "සම්මුති දේශපාලනය" යැ යි කීමට අදහස් කළෙමු. ප්‍රජාතන්ත්‍රවාදය නැමැති බටහිර සංකල්පය අපේ දේශීය ව්‍යවහාරයෙහි පැවතුණ බව අපි සැම දනිමු. පක්ෂවල බෙදී කරන දේශනාශනය වෙනුවට ජන එකතුවෙන් කළ හැකි දේශසාධනයක් අරමුණු කොට ක්‍රියා කිරීමට කාලය පැමිණ ඇතැ යි අපි කල්පනා කරමු. මෙම දේශපාලන ක්‍රමයට සම්මුති දේශපාලනය යැ යි නම් කරමු.

වත්මන් පක්ෂ සහ බලකාමී දේශපාලන ක්‍රමයේ සිට විකල්පීය ජන සහභාගිත්වක සම්මුති දේශපාලනයකට සමාජය පරිවර්තනය විය හැක්කේ කෙසේ දැයි පැහැදිළිව අපි නො දනිමු. එහෙත් පවතින ක්‍රමයේ නිස්සාර විනාශකාරී බව අවබෝධ කර ගැනීම වාගේම ඵලදායී විකල්පීය දේශපාලන ක්‍රමයක් පිළිබඳව පැහැදිලි සංකල්පයක් නිර්මාණය කර ගැනීම ද වැදගත්වේ. අපේ ව්‍යායාමය සම්මුති දේශපාලන ක්‍රමයක් නිර්මාණය කිරීම සඳහා බුද්ධිමත් පොදු ජනතාව ගේ අවධානය යොමු කිරීම ය. පවතින ක්‍රමයෙන් නිර්මාණය කරන ක්‍රමයට පරිවර්තනය වීමේ උප ක්‍රමයක් ද එවිට යථා කාලයේ දී පොදු ජන සහභාගිත්වයෙන් ම නිර්මාණය වනු ඇත.

වර්තමානයෙහි ශ්‍රී ලංකාවෙහි බලපවත්වන පක්ෂ හා බලකාමී දේශපාලන ක්‍රමයෙහි ලක්ෂණ කිහිපයක් ගැන සොයා බැලීමෙන් අප බලාපොරොත්තු වන විකල්පීය ක්‍රමය වූ සම්මුති දේශපාලනයෙහි වැදගත් බව සහ සාපේක්ෂව එහි ඇති උසස් බව අපට අවබෝධවේ. පක්ෂ දේශපාලනයෙහි මූලික අරමුණ දේශපාලන පක්ෂ විසින් බලය ලබාගැනීම සහ එම ලබාගත් බලය කෙසේ හෝ ආරක්ෂා කර ගැනීමට මුල් තැන දීම යි. පක්ෂ විසින් විවිධ කොටස්වලට බෙදනු ලබයි. තමන්ට වාසිදායක ප්‍රතිචාරවලට මුල්තැන දී ආත්ම වර්ණනයක යෙදෙන අතර තමා ගේ ප්‍රතිමල්ලවයනට දෝෂාරෝපණය කිරීමට හෙවත් අවාසිදායක ලෙස ප්‍රචාරයන්හි යෙදීමට සැම ප්‍රයත්නයක් ම දරයි. අන් සියලුම ශිෂ්ට රීති වලට ඉහළින් පක්ෂ විනයට යටත්වේ. නායකත්වය මධ්‍යගත ඉහළ තැනක සිට ජනතාව මත පටවනු ලබයි. සුදුසු නොසුදුසු කම් ගැන නො බලා පක්ෂයේ අනුගාමිකයන් ගෙන් වගකිවයුතු තනතුරු පුරවයි.

විදේශීය ජීවන රටාවන්ට හා ද්‍රව්‍යවාදී වටිනාකම්වලට වඩා නැඹුරු වෙයි. බල කේන්ද්‍රය එන්නට එන්නට ම මහජනතාවගෙන් ඈත් වන නිසා දූෂණ, වංචා, අසාධාරණකම්, අපරාධ හා හිංසා වැඩිවේ. පක්ෂ හා බලකාමී දේශපාලනය බොහෝ විට ආත්මලාභී ටික දෙනෙකු ගේ ජීවන වෘත්තියක් බවට පත් වී පොදු ජනතාව අසරණ තත්ත්වයට පත් කරයි. බුදු දහමේ දැක්වෙන ඡන්දය, ද්වේශය, භය සහ මෝහය යන සතර අගතීන්ට අනුබල ලැබී මුළු සමාජය ම පූර්ණ සමාජ පරිහානියකට පත් කරනු ලබයි. ප්‍රජාතන්ත්‍රවාදය වචනයට සීමා වී බොහෝ විට ක්‍රියාවෙන් පක්ෂ තන්ත්‍රවාදයක් බවට පත් වෙයි. නීති බලය, රාජ්‍ය සේවය, ත්‍රිවිධ හමුදාවන් ආදී ජනතාව ගේ ස්වාධිපත්‍යය සහ නිදහස ආරක්ෂා කෙරෙන පොදු මහජන ආයතන පවා පක්ෂවල පටු පරමාර්ථ ඉටු කරගැනීමට විවිධ ආකාරයෙන් යොදාගනු ලබයි.

සම්මුති දේශපාලන ක්‍රමය යනුවෙන් අප අදහස් කරන්නේ ඉහත සඳහන් ලක්ෂණවලට හාත්පසින් ම වෙනස් වූ දේශපාලන ක්‍රමයකි. මෙහි මුඛ්‍ය ලක්ෂණය වන්නේ ජනතා සේවය යි. ඒ සඳහා සෑම සම්මුති දේශපාලන සංස්ථාවක් ම සංවිධානය වන්නේ එකමුතු කිරීමට යි. ප්‍රචාරවලට නො ව සත්‍යයට සහ ප්‍රජා අධ්‍යාපනයට මෙහි මුල් තැනක් ලැබේ. ආධ්‍යාත්මික සහ සදාචාර විනයට අන් සෑම දේශපාලන රීතියක් ම යටත්වේ. අවශ්‍ය නායකත්වය විශේෂයෙන් ගැමි ජනතා මට්ටමෙන් විමධ්‍යගත ව මතු වේ. කිසි දු පක්ෂපාතිත්වයකින් තොරව හුදෙක් සුදුසුකම් උඩ ම සුදුස්සාට සුදුසු තැන ලැබේ. දේශීය ජනතා අභිප්‍රායන් සහ සාරධර්ම පදනම් කොට ජීවන රටාවක් ඉදිරිපත් කරයි. බලකේන්ද්‍රය, ඍජු සහභාගිත්වය තුළින් මහජනතාවට ළං ව තිබෙන නිසා අල්ලස්, දූෂණ, වංචා, අසාධාරණකම් ආදිය අඩු වේ. සමස්ත මහජනතාව ම තමන් ගේ ජීවනෝපායන්හි යෙදෙන අතර තම දක්ෂතාවන් සහ හැකියාවන් අනුව උපරිම වශයෙන් තීරණ ගැනීම සඳහා සෑම මට්ටමකදීම ඔවුන් ඍජු ව සහභාගී වන අතර වෘත්තීය දේශපාලක පංතිය අහෝසි වේ. ජන සහභාගිත්වක සැබෑ ප්‍රජාත්‍රන්තවාදී සහභාගිත්වක දේශපාලනයක් ගොඩනැගේ. දානය, සංවිභාගය හෙවත් සාධාරණ ව බෙදාගැනීම, ප්‍රිය වචනය, අර්ථචර්යාව සහ සමානාත්මතාව යන සතර සංග්‍රහ වස්තූන් උඩ සමාජය සකස් වී සමාජයේ පූර්ණ ප්‍රගතියක් ඇති කිරීමට සමස්ත ජනතාව ම බලාපොරොත්තු වේ.

ඒ සඳහන් කළේ සම්මුති දේශපාලන ක්‍රමයක් මාර්ගයෙන් වත්මන් පක්ෂ හා බල දේශපාලන ක්‍රමය වෙනස් වන ආකාරය යි. යථෝක්ත ලක්ෂණ 12 ට අමතරව තවත් ලක්ෂණ රැසක් ඉදිරිපත් කළ හැකි ය. එහෙත් බුද්ධිමත් ලාංකික ජනතාව විසින් ම තමන් ගේ මනස වෙහෙසා මේ කරුණු දොළස ගැන පමණක් කල්පනා කළත් විකල්පීය ක්‍රමයක අවශ්‍යතාව තේරුම් ගැනීමට ඒවා ප්‍රමාණවත් ය.

පක්ෂ සහ බලකාමී දේශපාලන ක්‍රමය යටතේ රටේ සංවර්ධනයට විශාල වශයෙන් හවුල් විය හැකි අවංක බුද්ධිමත් දේශ ප්‍රේමී ගිහි පැවිදි විශාල පිරිසක ගේ බුද්ධිය දැනීම සහ විවිධ දක්ෂකම් අද ජාතියේ සංවර්ධනය සඳහා අහිමි වී තිබේ. වත්මන් සමාජය මුහුණ දෙන මූලික ආර්ථික සහ සාමාජික ප්‍රශ්නවලට ජන සහභාගිත්වයෙන් විසඳුම් සොයා වඩා සහනදායී සාධාරණ සමාජයක් ගොඩනැංවීමට නම් සම්මුති දේශපාලන ක්‍රමයක් වඩා ඵලදායි වනු ඇත.

දේශපාලන පක්ෂ විසින් දැනට ජනතාව සංවිධානය කරන්නේ කණ්ඩායම්වලට බෙදී තරඟ කිරීමට ය. මේ වෙනුවට සැම දෙනා ම එකතු වී අරමුණක් ඉටු කරගැනීමට කණ්ඩායම්වලට නොබෙදී සම්මුතිවාදීව සංවිධානය විය නොහැකි ද? අපේ කල්පනාව එසේ සංවිධානය විය හැකි බව යි. බෙදී සටන් කරනු වෙනුවට එකතු වී සහයෝගී ව කටයුතු කිරීමට වත්මන් දේශපාලන ක්‍රමය හැඩගැසී නොතිබීම මෙයට ඇති ප්‍රධාන ම බාධකය බව යි.

වත්මන් දේශපාලන ක්‍රමයේ මුල කිමෙක්ද? එය අපේ ආණ්ඩු ක්‍රම ව්‍යවස්ථාව යි. ඩොනමෝර් ආණ්ඩු ක්‍රමය සහ සෝල්බරි ව්‍යවස්ථාව බ්‍රිතාන්‍යයන් විසින් අප වෙනුවෙන් සකස් කළ ව්‍යවස්ථාවන් වන අතර 1972 සහ 1978 සම්මත කරගත් ව්‍යවස්ථාවන් ඒ අනුව යමින් අපම හදාගත් ව්‍යවස්ථාවෝ ය. ඩොනමෝර් ව්‍යවස්ථාව හැර අන් සැම ව්‍යවස්ථාවක් ම ජන සම්මුතියට වඩා ජන භේදයකට තුඩු දුන්නේ ය. මෙ ම ව්‍යවස්ථා සියල්ලක් ම බටහිර සාරධර්ම, අවශ්‍යතාවන් සහ දේශපාලන විධි අනුව සංවිධානය වූ ඒවා ය. මේ නිසා පළමුවෙන් ම කළ යුත්තේ අපේ දේශීය සාරධර්ම දේශීය අවශ්‍යතාවන් හෝ අපේක්ෂාවන් සහ දේශීය දේශපාලන ක්‍රම අනුව සකස් කරගත් ආණ්ඩු ක්‍රම ව්‍යවස්ථාවක් සකස් කර ගැනීම ය. මෙයට සම්මුති දේශපාලනය පදනම් වූ ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාවක් යැයි කියමු.

**ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාවඃ**

සම්මුති දේශපාලන ක්‍රමයකට සුදුසු වන සේ ශ්‍රී ලංකා ආණ්ඩු ක්‍රම ව්‍යවස්ථාව වෙනස් විය යුතු බව අපේ අදහස යි. අප යෝජනා කරන ආණ්ඩු ක්‍රම ව්‍යවස්ථාව පහත සඳහන් අරමුණු ද ඉටු කර ගැනීමට සමත් විය යුතු බව අපේ හැඟීම යි.

1. එහි දේශපාලන පක්ෂ ක්‍රමයට නීතියෙන් ඉඩක් නො තිබිය යුතු ය.

2. වෘත්තීය වශයෙන් දේශපාලනයෙහි යෙදෙන පිරිස් ඇතිවීමට තිබෙන ඉඩකඩ ව්‍යවස්ථාවෙන් ඇහිරිය යුතු ය.

3. ජනතාව විසින් ප්‍රජාතාන්ත්‍රික තීරණ ගැනීම්වලට මැදිහත්වීම වක්‍ර ව නො ව සෘජු ව සිදු විය යුතු ය.

4. සැම මට්ටමකම තෝරාගනු ලබන නියෝජිතයින් ඕනෑම අවස්ථාවක දී ජනතාවගේ විශ්වාසය කඩ වුවහොත් වෙනත් නීතිවලට බාහිරව වුව ද ආපසු කැඳවීමේ බලය මහජනයා වෙත ම තිබිය යුතු ය.

5. ජාතික මට්ටමේ නියෝජිත මණ්ඩලය අත්‍යාවශ්‍ය විෂයයන් උඩ සැම නියෝජිතවරයකු ම යම් කමිටුවකට ඇතුළත් වන සේ කමිටු ගණනකට බෙදිය යුතු ය. වසරින් වසර වෙනස් වන සේ මේ කමිටු වලින් තෝරාගනු

ලබන කමිටු සභාපතිවරයා හෙවත් ඇමතිවරයා වෙනස් විය යුතුය. එම කමිටුවලට සමාන්තරව එම කමිටුවලට උපදෙස්දීම සඳහා නියෝජිත මණ්ඩලයෙන් බාහිර ව උපදේශක මණ්ඩල එක් එක් විෂයට පත් කළ යුතු ය.

6. අගමැතිවරයා මුළු නියෝජිත මණ්ඩලයේ ම වැඩි ඡන්දයෙන් තෝරාගත යුතු අතර ඔහුගේ / ඇයගේ එක දිගට වගකීම උසුලන කාලසීමාව අවුරුද්දකට නිශ්චිත විය යුතු ය.

7. අධිකරණයේ ස්වාධීනත්වය ජාතික නියෝජිත මණ්ඩලයට වගකියන අධිකරණ කොමිෂන් සභාවක් මාර්ගයෙන් සහතික විය යුතු ය.

8. මහ බැංකුවේ ස්වාධීනත්වය ජාතික නියෝජිත මණ්ඩලයට වගකියන මුදල් කොමිෂන් සභාවක් මගින් සහතික විය යුතු ය.

9. ත්‍රිවිධ හමුදාවේ සහ පොලිසියේ ස්වාධීනත්වය ජාතික නියෝජිත මණ්ඩලයට වග කියන ජාතික ආරක්ෂක මණ්ඩලයක් මගින් සහතික විය යුතු ය.

10. රාජ්‍ය පරිපාලනයේ ස්වාධිනත්වය ජාතික නියෝජිත මණ්ඩලය වගකියන රාජ්‍ය පරිපාලන කොමිෂන් සභාවත් තුළින් සහතික විය යුතු ය.

11. මැතිවරණ කොමසාරිස්වරයා ගේ ස්වාධීනත්වය ජාතික නියෝජිත මණ්ඩලයට වගකියන මැතිවරණ කොමිෂන් සභාවක් තුළින් සහතික විය යුතු ය.

12. ජාතික විගණකාධිපතිවරයා ගේ ස්වාධිනත්වය ජාතික නියෝජිත මණ්ඩලයට වගකියන විගනක කොමිෂන් සභාවක් තුළින් සහතික විය යුතු ය.

**ඍජු ඡන්ද ක්‍රමයක්:**

වත්මන් වක්‍ර ඡන්ද ක්‍රමය වෙනුවට ඍජු ඡන්ද ක්‍රමයක් නිර්මාණය කර ගැනිම වැදගත් ය. උදාහරණයක් වශයෙන් මේ සඳහා අනුගමනය කළ හැකි ක්‍රමයක ලක්ෂණ කිහිපයක් පහත දක්වමු.

1. අවුරුදු 18 ට ඉහළ සෑම රට වැසියෙක් ම සර්වජන ඡන්දයට හිමිකරු වෙකි. වයස 18 පිරුණු සෑම රට වැසියෙක් ම අනිවාර්යයෙන් ම ජාතික ඡන්දදායක ලයිස්තුවට ඇතුළත් වේ.

2. සෑම ඡන්ද දායකයින් 200 ක්ම ප්‍රාථමික මැතිවරණ කොට්ඨාශයක් හැටියට සැලකේ. මේ අනුව රටේ සිටින මුළු ඡන්ද දායක සංඛ්‍යාව මිලියන අටක් නම් මුළු රටපුරාම ප්‍රාථමික මැතිවරණ කොට්ඨාශ 40,000 ක් වේ. මෙය අඩු වැඩි වන ජනගහනය අනුව වෙනස් විය හැකිය.

3. ප්‍රාථමික මැතිවරණ කොට්ඨාශ 200 ක් එක් ද්විතීයික මැතිවණ කොට්ඨාශයක් හැටියට සැලකේ. මේ අනුව එක් ද්විතීයික මැතිවරණ කොට්ඨාශයකට ඡන්ද දායකයින් 40,000 ක් අයත් වේ. මුළු රටේම ද්විතීයික මැතිවරණ කොට්ඨාශ 200 කි. මෙය ද අඩු වැඩි වන ජනගහනය අනුව වෙනස් වේ.

4. ඡන්ද දායකයෝ 200 ක් එකතු ව සෘජු ඡන්දයෙන් එක් ප්‍රාථමික නියෝජිතයකු තෝරා ගනිති. ඔහුගේ කාලසීමාව අවුරුදු 5 ක් වේ. එහෙත් ඡන්ද දායකයන්ගෙන් 50 දෙනෙකු එකතු ව ඔහු කෙරෙහි විශ්වාසය නොමැති බව ලිඛිත ව මැතිවරණ කොමසාරිස්වරයාට දැන්වීමෙන් ඔහු ගේ ප්‍රාථමික නියෝජිත බව අවලංගු වී වෙන කෙනෙක් එ තැනට පත් කරගත හැකි ය.

5. ප්‍රාථමික නියෝජිතයන් 200 ක් එක් ව සෘජු ඡන්දයෙන් එක් ද්විතීයික නියෝජිතයෙක් වසර 5 ක කාලයකට තෝරාපත්කරගනු ලබයි. එහෙත් ප්‍රාථමික නියෝජිතයන් 50 දෙනෙක් එක්ව ලිඛිතව මැතිවරණ කොමසාරිස්වරයාට දැන්වීමෙන් ඔහුගේ නියෝජිත බව නැති කර වෙනත් කෙනෙක් ඒ වෙනුවට පත්කර ගත හැකි ය.

6. ජාතික රාජ්‍ය සභාව හෙවත් පාර්ලිමේන්තුව සමන්විත වන්නේ මේ ද්විතීයික නියෝජිතයන් 200 ක් දෙනා ගෙන් ය. ඔවුන්ගේ කාලසීමාව (ආපසු කැඳනොවූවොත් ) වසර 5 ක් වනු ඇත. මෙම නියෝජිතයින් 200 දෙනා විසින් අග්‍රාමාත්‍යවරයෙක්, ජාතික රාජ්‍ය සභාවේ සභාපතිවරයෙක් ආදීන් තෝරාගනු ඇත. නියෝජිතයින් 200 දෙනා පහත සඳහන් මණ්ඩල 10 ට බෙදනු ඇත. එක් එක් මණ්ඩලය විසින් වසරක කාල සීමාවක් සඳහා එක් අයකු සභාපතිවරයා හෙවත් ඇමතිවරයා වශයෙන් පත්කර ගනු ඇත.

7. මෙම සභාව විසින් එක් එක් මණ්ඩලයට නියෝජිත මණ්ඩලයෙන් බාහිරව ඒ ඒ විෂයයන් සඳහා ප්‍රවීනත්වයක් ඇති විශේෂඥ උපදේශක සභාවක් ද බැගින් පත් කරනු ඇත.

8. මෙම මණ්ඩල හෙවත් අමාත්‍යාංශ 10කට වැඩි නො විය යුතුය. නීතිය සහ අධිකරණය, අධ්‍යාපනය සහ සංස්කෘතිය, ආර්ථිකය සහ සංවර්ධනය, විද්‍යාව සහ තාක්ෂණය, සෞඛ්‍ය සහ පරිසරය, ගමනා ගමනය සහ ප්‍රවාහනය, විදේශ සම්බන්ධතා, ආරක්ෂක කටයුතු, තැපැල් සහ සන්නිවේදනය, උදාහරණ වශයෙන් දිය හැකි ය.

9. ජනාධිපතිවරයකු සහ උප ජනාධිපතිවරයකු ජාතික රාජ්‍ය සභාවේ යෝජනා ස්ථිරත්වයෙන් තෝරාගෙන ඒ නම් අනුමැතිය සඳහා ප්‍රාථමික නියෝජිතයන් 40,000 වෙත ඉදිරිපත් කළ යුතුය.

10. ජාතික රාජ්‍ය සභාව විසින් සම්මත කරන නීති ක්‍රියාත්මක කරන්නේ ජනාධිපතිතුමාගේ විධායක අණසක යටතේ ය.

11. ප්‍රාථමික ඡන්ද ජනවාරියේ දී ද, ද්විතීයික ඡන්ද පෙබරවාරියේ දී ද,ජාතික රාජ්‍ය සභාව පිහිටුවීම, මාර්තුවේ දී ද සහ ජනාධිපතිතුමා තේරීම අප්‍රේල් මාසයේ දී ද පස් වසරකට වරක් කළ හැකි ය. අවශ්‍ය නම් ජනාධිපතිවරයා අවුරුදු හයකට තෝරාගෙන නව ජනාධිපති වරයා තේරීම ඊළඟ වසරේ ද කළ හැකි ය. ජනාධිපතිවරයා වෙනස් කිරීම ද ජාතික රාජ්‍ය සභාවේ සිය දෙනෙකු ගේ ඡන්දයෙන් කළ හැකිය.

12. පරිගනක යන්ත්‍ර 200 ක මාර්ගයෙන් මැතිවරණ කොමසාරිස් වරයාට මේ විකල්පීය සෘජු මැතිවරණ ක්‍රමය ක්‍රියාක්මක කළ හැකි ය.

**ප්‍රතිපත්ති**: පොදු රාජ්‍ය ප්‍රතිපත්තීන් මාලාවක් ද ව්‍යවස්ථාවට ඇතුළත් විය යුතු අතර පහත සඳහන් ප්‍රතිපත්තීන්ට විශේෂ තැනක් ලැබිය යුතු ය.

1. ආධ්‍යාත්මික ප්‍රබෝධයකට හා සදාචාර සංරක්ෂණයට සියලු ම අවස්ථාවල දී මුල්තැන දී කටයුතු කිරීම.

2. සරල චාම් ජීවන රටාවක් තුළ සියලුම මනුෂ්‍යයන් ගේ මූලික මානුෂික අවශ්‍යතා සැපිරීමට ආර්ථික සංවර්ධනයේ පූර්වතා දීම.

3. ප්‍රාදේශීය භෞතික සහ මානව සම්පත්වලට සහ යෝග්‍ය තාක්ෂණයට මුල් තැන දීම.

4. මුදලින් මණින යටත් විජිතවාදී ආර්ථික මිණුම්දඬු වෙනුවට ස්වභාව සම්පත් සංරක්ෂණය වන, බලශක්ති පරිභෝජනය කාර්යක්‍ෂමව සිදුවන, මිනිස් සම්පත් වර්ධනය කෙරෙන, මිණුම්දඬු
ෙ ත ා ් ර ා ග ැ න ී ම .

5. පාරිසාරික, සාමාජික සදාචාර සංරක්ෂණය සිදුවන පරිදි ආර්ථික ව්‍යාපෘති කුඩා පරිමාණ වශයෙන් සංවිධානය කිරීම.

6. මූලික මානුෂික අවශ්‍යතා සැපිරීම සම්බන්ධයෙන් වූ ස්වයංපෝෂිත

7. මහා පරිභෝජන ජීවන රටාවන් ධෛර්යවත් නො කොට කෘෂි නිෂ්පාදන සහ කෘෂිකාර්මික ජීවන රටාව පදනම් වූ දේශීය සංස්කෘතිය ධෛර්යවත් කිරීම.

8. දේශීය වෛද්‍ය ක්‍රම, දේශීය කලා ශිල්ප, දේශීය සාහිත්‍යය, දේශීය කෘෂි හා කාර්මික නිෂ්පාදන, ප්‍රාදේශීය අර්ථ ක්‍රමය හා සම්බන්ධ කිරීම.

9. මත්පැන්, මත්ද්‍රව්‍ය, සත්ත්ව ඝාතනය, විෂ රසායනික ද්‍රව්‍ය නිෂ්පාදනය හා භාවිතය ආදී ක්‍රමවලින් ආර්ථිකය නඟාලීමේ ප්‍රතිපත්තිය ප්‍රතික්ෂේප කිරීම සහ

10. සිංහල දෙමළ භාෂාවලට රාජ්‍ය භාෂා තත්ත්වය දී සෑම රට වැසියකුට ම භාෂා දෙක ම ඉගෙනීමට අවශ්‍ය පහසුකම් ලබාදීම.

## යුද්ධකරණය වෙනුවට ශාන්තීකරණය

උතුරේ සහ නැගෙනහිර පැනනැගුණු සටන්කාමී තරුණ පිරිස්වල ක්‍රියාකාරිත්වය හේතු කොටගෙන ඒවා මැඩ පැවැත්වීම සඳහා රාජ්‍ය සතු ත්‍රිවිධ හමුදා සහ පොලීසිය පෙර නොවූවිරූ අන්දමට පසු ගිය පස් වසර තුළ දී නවීකරණය කරනු ලැබීය. ඒ අතර ම විවිධ බලධාරීන් යටතේ විශේෂ සන්නද්ධ සේනාංක ද සංවිධානය කරනු ලැබී ය. ඉන්දු-ලංකා සාම සම්මුතියෙන් පසු උතුරු නැගෙනහිර පළාත්වල සටන්කාමීන් මර්දනය කිරීම ඉන්දියානු හමුදාව වෙත පැවැරුණු නිසාත්, සෙසු පළාත්වල ඇති වූ ආණ්ඩු විරෝධී සන්නද්ධ ක්‍රියා නිසාත්, ශ්‍රී ලංකා රජයේ හමුදා සෙසු පළාත්වලට යවනු ලැබී ය. මේ අතර දේශපාලකයන්ගේ සහ වෙනත් පෞද්ගලික ආරක්ෂාව අපේක්ෂා කළවුන් ගේ ආරක්ෂාව සඳහා ද අවි ආයුධ නීත්‍යනුකූලව සපයා ඇති බව නොරහසකි. මේ අතර පෙර නොතිබුණු විවිධ පුද්ගලයන් සතුව නීති විරෝධී ලෙස ගිනි අවි තිබෙන බව පෙනේ. මේ ගැන පොදුවේ සලකන විට නීත්‍යනුකූල වත්, නීතිවිරෝධී වත්, යුද්ධකරණයක් රට තුළ සිදුවන බව අප පිළිගත යුතු වෙමු.

යුද්ධකරණයක් වීම යනුවෙන් අදහස් කරන්නේ ජනතාවක් තුළ අහිංසාවාදී ව, සාමකාමී ව ප්‍රශ්න විසඳාගැනීමට තිබෙන හැකියාව දුර්වල බව යි. මෙය පොදුවේ සෑම පුරවැසියකු ම කල්පනාකාරී විය යුතු තත්ත්වයකි. විෂම චක්‍රයකට අසු ව වඩ වඩාත් විනාශකාරී තත්ත්වයකට පත්වන බවට පූර්ව දර්ශනයකි.

මෙ වැනි තත්ත්වයක් යටතේ පළමු වන වගකීම තිබෙන්නේ නීත්‍යානුකූල ව අවි අතට ගත් හමුදා සහ පොලීසි කෙරෙහි ය. පොදු මහජනතාව මෙම නීත්‍යානුකූලව සාමය රැකීම සඳහා ජනතාව වෙනුවෙන් අවි අතට ගත්තවුන් ගෙන් ඉහළ ම මට්ටමේ ආදර්ශමත් සේවයක් මේ අවස්ථා වේ දී බලාපොරොත්තු වේ.

සමාජයේ ජීවත් වන සියලු දෙනා ම සාධාරණ සාමකාමී මිනිස්සු නො වෙති. විවිධ හේතූන් නිසා අසාධාරණ හිංසාවාදී මගකට පිවිස සමාජ සාමය නැති කරන අය ද බොහෝ අවස්ථාවල දී සෑම රටක ම පාහේ සිටිති. මේ හේතුවෙන් නිදහස් ස්වෛරී ප්‍රජාතාන්ත්‍රික සමාජවල පැවැත්ම සඳහා ස්වභාව නීතිය, ජන නීතිය, ධර්ම නීතිය සහ රාජ්‍ය නීතිය පමණක් ප්‍රමාණවත් නො වේ. මේ නීතීන් යටතේ, විශේෂයෙන් රාජ්‍ය නීතිය යටතේ, දණ්ඩ නීතිය ක්‍රියාත්මක වන විශේෂ අංශ ද පිහිටුවා තිබේ. මේවා පොලීසිය, පාබළ හමුදා, ගුවන් හමුදා සහ නාවික හමුදා වශයෙන් සංවිධානය කොට රජයේ ප්‍රධානියා යටතේ අවශ්‍ය අවස්ථාවල දී ක්‍රියාත්මක වේ.

සාමාන්‍ය රාජ්‍ය පරිපාලනය යටතේ මහජනතාව ගේ ප්‍රශ්නයක්, පරිපාලන රීති හෝ අධිකරණය මාර්ගයෙන් හෝ බලය නො යොදා විසඳා ගැනීමට නොහැකි වූ විට පොලීසියේ සහාය රජයට ලබාගැනීමට සිදුවේ. පිළිගත් ශිෂ්ට නීති යටතේ පොලීසිය ක්‍රියාත්මක වී අධිකරණයේ නියෝග පරිදි සිර දඬුවම් ඇතුළු ක්‍රමවලින් යුක්තිය පසිඳවනු ලබයි. රටේ අභ්‍යන්තරික සාමයට හෝ රටේ ස්වාධීනත්වයට හෝ බැරෑරුම් තර්ජනයක් පැමිණි විට විශේෂ රාජ්‍ය නීති යටතේ, අවශ්‍ය නම් යුද්ධ නීතිය යටතේ, ඒ තත්ත්වයෙන් රටත් ජනතාවත් ආරක්ෂා කිරීමට සන්නද්ධ හමුදා ද උපයෝගී කරගැනීමට රජයකට සිදු වේ. ප්‍රජාතන්ත්‍රවාදී රටක ඒ සියල්ල සිදු වන්නේ නීති පද්ධතියක් ඇතුළත පොදු මහජනතාවගේ ම ආරක්ෂාව සහ සුභ සිද්ධිය පිණිස මිස යම් කණ්ඩායමකගේ පටු අභිමතාර්ථ ඉටු කරගැනීම පිණිස නො වේ.

රටක රජයක් විසින් දණ්ඩ බලය පාවිච්චි කරන්නේ මෙ වැනි ප්‍රතිපත්ති වලට යටත් ව ය. පරමාදර්ශී වශයෙන් සලකන විට එය අසීරු අවස්ථා වකට මුහුණ දෙන ශිෂ්ට ක්‍රමයකි. රටවල් අතර පවතින යුද්ධයක දී පවා ශිෂ්ට මනුෂ්‍යයන් මෙන් සටන් කිරීමට ජිනීවා සම්මුතිය වැනි ජාත්‍යන්තර නීති ශිෂ්ට ලෝකය විසින් පිළිගෙන තිබේ.

අද ශ්‍රී ලංකාව ගැන හිතන විට එතෙක් දුරට දණ්ඩ බලය උපයෝගී කැර ගැනීම මේ නීතිවලට අනුකූල ව කර තිබේ දැ යි යන ප්‍රශ්නයට උත්තර දීමට අපි බලාපොරෙත්තු නො වෙමු. මෙහි දී යුද්ධකරණය යනුවෙන් මා අදහස් කරන්නේ රාජ්‍ය නීතිය සහ රාජ්‍ය අනුග්‍රහය අනුව විශාල වශයෙන් ඉතාමත් බලවත් අවි ආයුධ

අද රාජ්‍ය සේනාංක අතට පත්වීම පමණක් නො වේ. උතුරු නැගෙනහිර පමණක් නො ව දකුණේ ද නීති විරෝධී කණ්ඩායම් විසිනුත් පුද්ගලයන් විසිනුත් අවි ආයුධ හසුරුවනු ලැබේ. දිනපතා ම කොතැන හෝ කා විසින් හෝ මෙ ම ආයුධ මෙහෙයවා මිනිස් ජීවිත වනසන හැටි වාර්තාවේ. මේ අතර උතුරේ සහ නැගෙනහිර ප්‍රශ්නයට සාමකාමී විසඳුමක් සෙවීමට පැමිණි ඉන්දීය හමුදා ද දස දහස් ගණනකි. ඒ සියල්ල ම සමස්තයක් වශයෙන් ගත්විට සාමකාමී වාතාවරණයක් වෙනුවට රටපුරා ම යුද්ධකාමී තත්ත්වයක් ඇති වී තිබීම ශෝචනීය තත්ත්වයකි. මේ සියල්ලට ම මැදි වුණ නිරායුධ අහිංසක පොදු ජනතාව වශයෙන් අප කළ යුත්තේ කිමෙක් ද? නීත්‍යානුකූල සන්නද්ධ හමුදා විසින් පොදු ජන අභිවෘද්ධිය උදෙසා කෙසේ ක්‍රියා කළ යුතු ද? මේ ප්‍රශ්න දෙකට ම අප පිළිතුරු සෙවිය යුතු ය.

පළමුවෙන් ම පොදු ජනතාව පැත්තෙන් සිතමු. පොදු ජනතාවට පාලනය කළ හැකි ශක්තීන් ද පාලනය නොකළ හැකි ශක්තීන් ද තිබේ. ජන කොට්ඨාශයක් තුළ සාධාරණත්වය සහ සාමය ස්ථිර කරන අන්දමට ඔවුන් ධර්ම නීතිය සහ ජන නීතිය ඇතුළත ජීවත් වන්නේ නම් විශාල ජන ශක්තියක් ඔවුනට ජනිත කළ හැකි ය. මේ ජන ශක්තිය ධර්මානුකූල අහිංසාවාදී ජන ශක්තියක් වූ ප්‍රමාණයට, අන්තිම ම්ලේච්ඡ දණ්ඩ ශක්තියක් හැර, සාමාන්‍ය රාජ්‍ය හමුදා විසින් හෝ දේශපාලන හේතුන් උඩ අවිගත් පිරිස්වලින් හෝ ඔවුනට කරදරයක් සිදු වන්නේ නැත. පොදු මහජනතාව ධර්ම ශක්තියෙන් හීන වුවහොත් ජන ශක්තියෙන් ද දුර්වල වේ. ඒ විට ඔවුන් ගේ දුර්වලකම නිසාම රාජ්‍ය දණ්ඩ ශක්තිය හෝ රාජ්‍ය විරෝධී දණ්ඩ ශක්තිය පාලනය කරගැනීමට නොහැකි ව ඔවුන් ගේ ගොදුරු බවට මහජනතාව පත් වේ. ගැමි හෝ නාගරික ජන කොට්ඨාශ ජීවත් වන ප්‍රදේශ කුඩා යුදපිටි බවට පත් වේ. උතුරු සහ නැගෙනහිර පළාත්වලට ඉන්දීය හමුදා ගෙන්වීමට තරම් දරුණු තත්ත්වයක් ඇති වූයේ මේ නිසා ය.

තමන් ගේ ගම් පෙදෙස් සාමකාමී ව තබාගැනීම ඉබේ ම සිදු වන්නක් නො වේ. කුමන අන්දමේ බාධක තිබුණත් යම්කිසි පැහැදිලි ස්ව සංවර්ධන මගකට යොමු වීමෙන් පමණක් ය. එ වැනි තත්ත්වයකට අවශ්‍ය පසුබිම සාදාගත හැක්කේ. වෙනත් වචනවලින් කිවහොත් අවට කුමන අන්දමේ අවුල් සහගත තත්ත්වයක් තිබුණත් තමන් ගේ ගම් තුළ ඒ තත්ත්වය මගහැර ගත හැක්කේ එම ගම්වාසීන් පිළිගත් සමාජ ක්‍රමයක් ගම ඇතුළේ ගොඩනැංවීම සඳහා ඔවුන් සංවිධානාත්මක ව කටයුතු කරගෙන ගියහොත් පමණකි.

සර්වෝදය ව්‍යාපාරයෙන් ජන සහභාගිත්වය ඇති කිරීම, ජනතාව සංවිධානාත්මක මට්ටමකට ගැනීම, සිඟිති, ළමා, යොවුන්, වැඩිහිටි ආදී සෑම කණ්ඩායමක් ම හවුල් වශයෙන් සංවිධානය කිරීම, ඔවුනොවුනට බලපාන මූලික මානුෂික අවශ්‍යතා හඳුනා ගෙන ඒවා සැපිරීමට ස්ව ශක්තිය සහ සාමූහිකත්වය මුල් වූ වැඩ සටහන් ක්‍රියාත්මක කිරීම, ඔවුන් ගේ නිෂ්පාදන සහ පරිභෝජන කටයුතුවලට යෝග්‍ය වූ තාක්ෂණික පුහුණුව ලබාදීම, ශාන්තිසේනා, නීතිසහන සේවා, ආධ්‍යාත්මික කටයුතු, සංස්කෘතික ක්‍රියාමාර්ග ආදී ක්‍රමවලින් ඔවුනට ඔවුන්ගේ අනාගතය පිළිබඳ වගකීම බාර ගැනීමට උදව් වේ.

වත්මන් යුගයෙහි පොදු ජනතාව මුහුණ දී තිබෙන්නේ නීතිය කෙරෙහි සම්පූර්ණ විශ්වාසයක් ඇති කරගැනීමට බැරි තත්ත්වයකට ය. මෙයට ප්‍රධානම හේතුව පසුගිය දශක දෙක තුන ඇතුළත දී විවිධ දේශපාලන මැදිහත්වීම් තුළින් පොලීසිය සහ රාජ්‍ය තන්ත්‍රයේ අපක්ෂපාතිත්වය පිළිබඳ විශ්වාසය මහජනයා තුළ අඩු වීම ය. මෙය රාජ්‍ය පාලන ක්‍රමය පිළිබඳ ඕනෑම සමාජයක පදනම දෙදරා යෑමකි. මේ පිළිබඳ සම්පූර්ණ වගකීම දේශපාලන පක්ෂ විසින් බාර ගත යුතු ය. ත්‍රස්තවාදයන් උත්පාදනය වීමටත්, වැඩිවීමටත් බෙහෝ දුරට උදව් වන්නේ නීතිය සහ සාධාරණය හරි හැටි ක්‍රියාත්මක නොවීම යි.

දැනට සිදුවී ගෙන යන පොදුවේ අවි ආයුධ පරිහරණය වීම හෙවත් යුද්ධ කරණය රට-දැය-සමයේ යහපත් අනාගතයකට හොඳ ලකුණු නො වේ. පොදු මහජනතාව මෙන් ම රාජ්‍ය හමුදාවල, සන්නද්ධ පිරිස් ද මේ තත්ත්වය මග හැරලීමට ක්‍රියා කිරීම අතිශයින්ම වැදගත් වේ. පවුලක යම් සාමාජිකයෙක් නීති විරෝධීව කටයුතු කළ විට එම පවුලේ හැම දෙනාට ම දඬුවම් දීමත්, පවුලක් වරදක් කළ විට මුළු ගමකට ම දඬුවම් දීමත් සාධාරණ නො වේ. හැරත් එයින් වන්නේ ත්‍රස්තවාදීන් යනුවෙන් හඳුන්වන නීති විරෝධී පිරිස් සංඛ්‍යාව වැඩි කිරීම ය. සාමාන්‍ය තත්ත්වය යටතේ අධිකරණයකට හිමිවන දඬුවම් දීමේ බලය හිංසාවාදී පරිසරයක දී අවිගත් ඕනෑම නිලධාරියකුට නීතියෙන් නොවුනත් අවස්ථාව අනුව පැවරේ. මේ නිසා ජනතාවගේ ජීවිත ආරක්ෂා කිරීම කෙරෙහි විශාල මානුෂික වගකීමක් පොලීසිය හා සන්නද්ධ හමුදා කෙරෙහි රැඳී තිබේ. ඒවායේ නායකයන් හැටියට අණ දෙන්නවුන් විසින් ධර්ම නීතියත්, රාජ්‍ය නීතියත් දෙක ම ආරක්ෂා කර ගෙන ජන විශ්වාසය දිනා ගැනීම අතිශයින් ම වැදගත් ය.

තමන් හරි යැයි පිළිගත් හිංසාවාදී ක්‍රම වලින් සාධාරණත්වය ලබාගැනීමට යන අවිගත් පිරිස්වලට ද මෙහි දී වචනයක් කිව යුතු ය. හිංසාවෙන් කිසි දු ප්‍රශ්නයක් විසඳිය හැකි යැ යි අපි විශ්වාස නො කරමු. එහෙත් හිංසාව පාවිච්චි කරන්නේ පොදු ජනතාවට සාධාරණත්වය ඉටුකර දීමට නම් පොදු ජනතාවට තිබෙන ආරක්ෂාව විනාශ කොට සාධාරණත්වය ලබා ගැනීමට යෑම යුක්තිසහගත නො වේ. අද බොහෝ ප්‍රදේශවල දුක් විඳින්නේ මේ පොදු ජනතාව ය. ඔවුන් ආරක්ෂා කිරීම හෝ ඔවුන් අනාරක්ෂිත තත්ත්වයකට පත් නොකිරීම හෝ ඔවුන්ගේ වගකීම ද විය යුතු ය.

හිංසාවාදි ක්‍රියාවලින් ජනතාව රැකගැනීම සඳහා නියමුවන් විය යුත්තේ පක්ෂග්‍රාහී නොවන මධ්‍යස්ථ ප්‍රජා නායකයන්, නීතියේ සාධාරණත්වය කඩ නො කොට තම රාජකාරිය ඉටු කරන හමුදා නිලධාරීන් සහ රාජ්‍ය විරෝධී වුවත් පොදු ජනතාවට අවහිරකම් සිදු වන විදියේ දේවලට මැදිහත් නොවන සටන්කාමී නායකයන් බව සඳහන් කරනු කැමැත්තෙමි. මේ තුන් කොටස ම කල්පනාකාරීව ක්‍රියා කොට, ප්‍රජා ජීවිතය තුළින් අසාධාරණත්වය සහ හිංසාව පිටමං වන, අහිංසාව සහ සාධාරණත්වය තහවුරු වන, සංවර්ධන මාර්ගයකට මුළු ප්‍රජාව ම යොමු කිරීමේ ප්‍රයත්නයකට සහයෝගය දුනහොත් පමණකි, ශීඝ්‍රයෙන් යුද්ධකරණය වීම නතර කළ හැක්කේ. භික්ෂූන් වහන්සේ වැනි ප්‍රජා නායකයෝ ය මෙවැනි අවස්ථාවල දී ඉදිරිපත් වී නියමුවන් හැටියට පෙරමුණ ගෙන සෙසු අයට ද නායකත්වය දිය යුත්තෝ. මෙ තරම් භේද භින්නකාරී තත්ත්වයක් තිබිය දී වුවත් සර්වෝදය සංසදයට දීප ව්‍යාප්ත ව අදත් සේවය කරන්නට හැකි වී තිබෙන්නේ මෙවැනි සංවර්ධන මාර්ගයක ගමන් කරණ නිසාය.

අප ජීවත් වන්නේ සන්නිවේදන තාක්ෂණයන් ඉතා ඉහළින් දියුණු වූ යුගයක ය. හඳට ගොඩබසින ගගනගාමියා ගේ රුවත් හඬත් දෙක ම පොළෝ තලයේ සිට අපට දකින්නටත්, අසන්නටත් පුළුවන. කුමන තහංචි පැනවුවත් ලෝකයේ ඕනෑ ම රටක ඕනෑම මුල්ලක සිදු වන දෙයක් ලොව පුරාම ජනතාව ගෙන් වැඩි කල් සඟවා තැබීමට නවීන සන්නිවේදන තාක්ෂණය ඉඩ නො දෙයි.

ලාභ ඉපැයීමේ මුඛ්‍ය පරමාර්ථයෙන් සංවිධානය වූ ජාතික සහ බහු ජාතික කාර්මික වාණිජ්‍ය සංකීර්ණයන් නවීන සන්නිවේදන තාක්ෂණය අසාධාරණ ලෙස අයිති කරගෙන තිබේ. මේ හැරුණු විට මෙ ම සංකීර්ණයේ ම දේශපාලන අංශය වූ ජාතික සහ ජාත්‍යන්තර පක්ෂ සහ බලකාමී දේශපාලන ව්‍යුහයන් විසින්

සන්නිවේදන තාක්ෂණය ඔවුන් ගේ වරප්‍රසාද බලතල රැකගැනීමට සහ විශාල කරගැනීමට උපයෝගී කරගනු ලැබේ. ඡන්ද කාලවල දී බහුජාතික සමාගම්වලින් කෝටි ගණන් ධනය ප්‍රචාරක කටයුතු සඳහා දේශපාලන සංවිධානලවල පරිත්‍යාග කිරීමෙන් ම මේ දෙ පක්ෂය අතර තිබෙන කිට්ටු සබැඳියාව පෙනේ. කරන නිසා ය. යුද්ධකරණයට නොව ශාන්තිකරණයට ප්‍රායෝගික මගක් අනුගමනය කරන නිසා ය

යුද්ධායුධ නිපදවීමේ කර්මාන්තයට ලෝකයේ ඉහළ ම විද්‍යාඥයන් සහ තාක්ෂණිකයන් පමණක් නො ව සන්නිවේදකයන් ද විශාල පඩිනඩි ගෙවා යොදාගෙන තිබෙන්නේ සන්නිවේදනයේ බලය ඔවුන් අවබෝධ කරගෙන තිබෙන නිසා ය.

කුඩා ශ්‍රී ලංකාවේ ද සන්නිවේදන විද්‍යාව සහ තාක්ෂණය විශාල වශයෙන් යොදාගෙන තිබෙන්නේ වෙළඳ පොළේ සහ දේශපාලනයේ ප්‍රචාරවලට මිස ජනතාව ගේ දැනීම දියුණු කිරීම සඳහා අධ්‍යාපන මාධ්‍යයක් වශයෙන් නො වේ. මේ නිසා දුප්පත්, පොහොසත් පරතරය තවත් වැඩි වෙනවා පමණක් නො ව සදාචාර සහ සංස්කෘතික පරිහානියක් ද එයින් ඇති වේ. ශ්‍රී ලංකාවේ පළ වන පුවත්පත්, පොත්, සඟරා ආදී ලිඛිත මාධ්‍යයන් ද, ගුවන්විදුලිය, රූපවාහිනිය ද වැඩි වශයෙන් පාවිච්චි වන්නේ ඉහත සඳහන් කළ ව්‍යාපාරිකයන් ගේ සහ දේශපාලකයන් ගේ ප්‍රචාරක මාධ්‍යයන් හැටියට ය.

මුදලට හෝ තනතුරු ලෝභයට හෝ වහල් නො වී මෙ ම මාධ්‍යය රට-දැය-සමය නංවාලීමේ අරමුණින් උපයෝගී කරගන්නා සන්නිවේදන සූරීන්ගේ සංඛ්‍යාව ඉතා අල්ප ය. මාධ්‍යවල අයිතිය හෝ පාලනය හෝ ඔවුනට නැතිවීම මෙ සේ කුලියට වැඩ කොට ජනතාවට ද්‍රෝහී වීමට අවසරයක් නොවන බව මගේ කල්පනාව යි. රට-දැය-සමය විනාශ මුඛයෙන් බේරාගැනීමට නම්, මෙම අගනා ප්‍රජාවබෝධන මාර්ගයන් තම ශක්ති ප්‍රමාණයෙන් රට-දැය-සමය, "රැකුමට-වැඩුමට-නැගුමට" කැප කිරීම සඳහා කැප වුණු සන්නිවේදන නියමුවන් සහ සංස්කෘතික ප්‍රබෝධයන් අපට අවශ්‍ය වේ.

සංවර්ධනය පිළිබඳ මිත්‍යා අදහස්, විවිධ වාර්ගිකයන් අතර තිබෙන සැක සහ බිය, මානව අයිතිවාසිකම් උල්ලංඝණය කිරීම පිළිබඳ සැබෑ තත්ත්වයන්, නීතිය සහ සාධාරණත්වය පිළිබඳ ව යථාවබෝධය, හිංසක සහ අහිංසක මාර්ගවල අයහපත් සහ යහපත් ආදීනව පිළිබඳ ව යථාවබෝධය මහජනතාවට ලබාදිය හැක්කේ සන්නිවේදන තාක්ෂණ ප්‍රචාරක කටයුතු සඳහා නො ව අධ්‍යාපන කටයුතු සඳහා යොදාගැනීමෙන් බව මෙහි දී අවධාරණය කළ යුතු ය.

මෙම සංස්කෘතික සන්නිවේදන විප්ලවය සඳහා පුරෝගාමීන් විය යුත්තේ ලේඛකයන්, පුවත්පත්වේදීන්, කලාකරුවන් සහ ඒ අංශවලට විද්‍යා තාක්ෂණය සපයන ශිල්පීන් හා සූරීන් විසින් ය.

ශ්‍රී ලංකාවේ භාවිතා වන සිංහල සහ දෙමළ භාෂාවන් මිනිසුන් අතර පවතින ප්‍රශ්නයක් හැටියට නොව පොහොසත් සාහිත්‍ය දෙකකින් ලැබෙන සම්පතක් හැටියට පරිවර්තනය කළ හැක්කේත් සන්නිවේදන තාක්ෂණය තුළින් ය. සිංහල සහ දෙමළ භාෂාවන් සඳහා පොදුවේ ප්‍රයෝජන ගතහැකි යතුරු ලියනයන් හා පරිඝනක යන්ත්‍රයන් දැනට මත් ශ්‍රී ලංකාවේ පාවිච්චියට ගැනේ. භාෂා වෙනස්කම් ජනතාව ගේ බෙදීමකට හෝ ගැටුමකට හෝ තව දුරටත් තුඩුදීමට අවශ්‍ය නැත. භාෂා ප්‍රශ්නය සන්නිවේදන තාක්ෂණයෙන් විසඳා තිබේ. අවශ්‍ය වන්නේ භේද සහ ගැටුම් අමතක කොට එම සන්නිවේදන තාක්ෂණය ප්‍රගුණ කොට ප්‍රයෝජනයට ගැනීම යි. නියමුවන් අවශ්‍ය වන්නේ මේ කාර්යය සඳහා යි.

## නව අධ්‍යාපන විප්ලවයක්

විධිමත් අධ්‍යාපන ක්ෂෙත්‍රයේ තිබෙන අර්බුදය තව දුරටත් තාවකාලික ප්‍රතිකාර තුළින් විසඳිය නොහැකි ය. පැලැස්තර ඇලවීමෙන් අවසානය කල් දමනවාට වඩා රෝග නිදානය ඉවත් කිරීමට ශල්‍යකර්මයක් කිරීමේ කාලය දැන් පැමිණ තිබේ.

පවතින විධිමත් රාජ්‍ය අධ්‍යාපන ක්‍රමයට සමාන්තර ව ප්‍රජාවේ මට්ටමින් විධිමත් ප්‍රජා අධ්‍යාපන ක්‍රමයක් වහා ම සංවිධානය කළ යුතු ය. ඒ සඳහා නීතියෙන් තිබෙන බාධක ඉවත් කිරීමෙන්, සමාන පිළිගැනීමක් ලබාදීම රජය විසින් කළ යුතු ය. මෙයින් අදහස් කරන්නේ වරප්‍රසාද ලත් පන්තියක දරුවන් සඳහා පෞද්ගලික අධ්‍යාපන ආයතන වෙළඳාමක් ඇරඹීම නො වේ. පවතින රාජ්‍ය අධ්‍යාපන ක්‍රමයෙන් විසඳිය නොහැකි වූ සමාජ ප්‍රශ්නවලට සමාන්තර ව මුහුණදිය හැකි වූ ප්‍රජා අධ්‍යාපන ක්‍රමයක් ඇති කිරීමේ අවශ්‍යතාව යි.

ප්‍රධාන වශයෙන් මෙ ම අධ්‍යාපන සේවා මට්ටම් දෙකකින් සංවිධානය විය යුතු ය. පළමු වැන්න, ද්විතියික අධ්‍යාපන ක්‍රමය, ප්‍රාථමික අධ්‍යාපන ක්‍රමය සහ පූර්ව ප්‍රාථමික අධ්‍යාපන ක්‍රමය ඇතුළත් වන පොදු ප්‍රජා අධ්‍යාපන සේවය යි. දෙ වැන්න, විශ්ව විද්‍යාල සහ සාමාන්‍යයෙන් තෘතීයික අධ්‍යාපනය යනුවෙන් හැඳින්වෙන උසස් ප්‍රජා අධ්‍යාපන සේවය යි.

පොදු ප්‍රජා අධ්‍යාපන සේවයේ පරමාර්ථය වන්නේ සෑම මනුෂ්‍යයකුගේ ම පූර්ණ පෞරුෂෝදයටත්, සෑම පවුලක ම කුටුම්බෝදයකටත්, සෑම ප්‍රජාවක ම ග්‍රාමෝදය

ග්‍රාම-ස්වරාජ්‍යයකටත් අවශ්‍ය වන්නා වූ පෝෂණය, සෞඛ්‍යය, මානසික සහ සාමාජික වැඩීම, භාෂා සාහිත්‍යමය ප්‍රගුණතාව, ඓතිහාසික සහ සංස්කෘතික පසුබිම සහ පරිසරය, මූලික මානුෂික අවශ්‍යතා සපුරාගැනීම සඳහා අවශ්‍ය දාර්ශනික තාක්ෂණික සහ කළමනාකාරිත්ව පුහුණුව ලබාදීම යි

මේ පරමාර්ථ ඉටු කර ගැනීම සඳහා අවශ්‍ය සම්පත් සියල්ල ම ලැබෙන්නේ ඒවායේ පරිපාලනය පැවරෙන්නේ ප්‍රජාව තුළ ම ජීවත් වන නායකයනට ය. මෙම පොදු ප්‍රජා අධ්‍යාපන සේවයෙන් දැනට කිසි දු සහභාගිත්වයකට ඉඩක් නො සැලැසී තිබෙන උගත් භික්ෂූන් වහන්සේ, දේශීය වෛද්‍යවරුන්, කලාකරුවන්, තාක්ෂණිකයින්, භාෂා විශාරදයන් ආදී සැම දෙනාටම හැදෙන වැඩෙන පරපුරේ චරිත සංවර්ධනයට සහ ඔවුන් අර්ථ චර්යාත්මක සමාජානුයෝජනයකට පත් කිරීමට සහභාගී වීමේ අවස්ථාවක් ලැබේ. දැනට ඉඳහිට ප්‍රයෝජනයට ගන්නා විහාරාරාම, පොදු ගොඩනැගිලි ආදිය එදිනෙදා ප්‍රජා ජීවිතයට අවශ්‍ය අධ්‍යාපන කාර්යයන් පමණක් නො ව, ජීවත් වීමට අවශ්‍ය සැම කාර්යයක් සඳහා ම ප්‍රයෝජනයට ගැනෙන තැන් බවට පත් වේ. කෙත්වතු, වනපෙත්, හරකබාන, ජලමාර්ග ආදී සැම ජීව අජීව වස්තුවක් ම අධ්‍යාපන කාර්යයට ඉවහල් කරගත හැකි සම්පත් බවට පත් වේ.

උසස් ප්‍රජා අධ්‍යාපන සේවය වනාහි, පොදු ප්‍රජා අධ්‍යාපන සේවයේ ම අඛණ්ඩ ව අතිනවීන තත්ත්වය දක්වා දැනීම සහ ප්‍රායෝගය අතින් ඉහළට යෑමට ආශා කරන සැම ශිෂ්‍යයකුට ම ඉඩ සලසන, අධ්‍යාපන ක්‍රියාදාමයකි. එය දේශෝදය සහ විශ්වෝදයකට අවශ්‍ය දර්ශනය, තාක්ෂණය සහ කළමනාකාරිත්ව දොර විවෘත කිරීමකි. මෙය ක්‍රියාවට පරිවර්තනය වන්නේ උසස් ප්‍රජා සහ ග්‍රාමීය විශ්ව විද්‍යාල තුළිනි. මේ ආයතන දෙවර්ගය ම ආරම්භ කිරීමටත්, පවත්වාගෙන යෑමටත් අවශ්‍ය සියලු ම සම්පත් ප්‍රජාවන් තුළ ම තිබේ. අඩුවකට තිබෙන්නේ මුදලක් වේතනයක් බලාපොරොත්තු නොවී තමන් ගේ දැනීම සහ දක්ෂකම් යොදවා දේශභක්තියෙන් මානව දයාවෙන් ඉදිරිපත් වීමට සිටින බුද්ධිමතුන් ගේ අඩුවයි. එහෙත් උසස් ප්‍රජා අධ්‍යාපන ක්‍රමයක් සහ ග්‍රාමීය විශ්ව විද්‍යාල ක්‍රමයක් යම් රට-දැය-සමයට හිතැති පිරිසක් විසින් සංවිධානය කරන්නේ නම් මේ අඩුව ද පිරිමසාගත හැකි බව මගේ විශ්වාසය යි.

මේ අන්දමින් ප්‍රජා අධ්‍යාපන සේවාවක් සංවර්ධන අධ්‍යාපනය නමින් සර්වෝදය විසින් ආරම්භ කොට සාර්ථක ව ලංකාවේ සැම ප්‍රදේශයක ම කරගෙන යනු ලැබේ. ඒ අත්දැකීම උඩ අපට ප්‍රකාශ කළ හැක්කේ සෞඛ්‍ය සම්පන්න පෞරුෂයකින් යුත් ඕනෑම නවීන තාක්ෂණයකට මනස සහ දෑත හුරු කළ හැකි ග්‍රාමීය සිඟිති, යොවුන් පිරිසක් අප ජාතියට උරුම ව තිබෙන බවත්, මෙ වැනි විප්ලවීය ප්‍රජා අධ්‍යාපන ක්‍රමයක් තුළින් අප රටේ නැවත ධර්ම චක්‍රය පෙරළීමට සමත් පිරිසක් ඔවුන් තුළින් මතුකර ගත හැකි බවත් ය.

අධ්‍යාපනයේ බාහිර අරමුණ වශයෙන් ආදායම් ලබා ගැනීමට තරුණ තරුණියන් රැකියාවන් සඳහා පුහුණු කළ යුතුය වන මතය සාවද්‍ය බව අපි ප්‍රකාශ කරමු. ඒ වනාහි මිනිසා ද අජීවී ද්‍රව්‍යයක් හෝ වස්තුවක් ලෙස සලකා මානව සම්පත් දියුණු කිරීම සඳහා අධ්‍යාපනය සහ පුහුණුව ලබාදෙන විෂම චක්‍රයකට අසු වීමකි. රැකියාව සහ ආදායම් ලැබීම ඉලක්ක කරගත් විට නිරායාසයෙන් ම අවශ්‍යතා සපුරා ගැනීමට වඩා ආශාවන් පසුපස සුඛෝපභෝගිත්වය දෙසට යොමු වීමේ ස්වභාවයක් ඇති වේ. මේ වංගගිරි ගමනට අසු වන අය ගෙන් වැඩි දෙනෙක් මංමුළා වෙත්. මේ වෙනුවට අවශ්‍යතාවලට මුල්තැන දී අවශ්‍යතා සපුරාගැනීම තුළින් සම්මා ආජීවයකට නොහොත් යහපත් ජීවන රටාවකට පුද්ගලයා යොමු වන විදියේ ප්‍රජා අධ්‍යාපන ක්‍රමයක් කෙරෙහි අපේ විශ්වාසය තැබිය යුතු ය. එ විට වර්තමානයෙහි මුදල් සහ පරිභෝජන සමාජයකට අසු වී තිබෙන ජනතාව සහනසීලී ගුණාත්මක ජීවන රටාවත් ගොඩනගන ජනතාවක් බවට පත් වේ. දුප්පත්කමත්, සුඛෝපභෝගිත්වයත් දෙක ම ප්‍රතික්ෂේප කළ දැහැමි සමාජයකට අඩිතාලම දැමීමට මේ වැනි ප්‍රජා අධ්‍යාපන ක්‍රමයක් සමත් වෙනු ඇත. මෙහි සාර්ථකත්වය උඩ, පවතින විධිමත් රාජ්‍ය අධ්‍යාපන ක්‍රමයට, මෙම ප්‍රජා අධ්‍යාපන ක්‍රමය සමඟ සම්බන්ධතාවක් ඇති කරගැනීමට කාලය විසින් මඟ පාදනු ඇත.

විශ්ව විද්‍යාල මහාචාර්යවරු, උගත් භික්ෂූන් වහන්සේ සහ සෙසු ආගමික නායකයෝ, සමාජ සේවකයෝ සහ අධ්‍යාපනඥයෝ මෙවැනි ප්‍රජා අධ්‍යාපන ක්‍රමයක් පිළිබඳ ව සිතීමට පමණක් නොව වහාම සංවිධානය වී ක්‍රියාවට නැගීමට පුරෝගාමී විය යුත්තෝ ය.

## ධර්ම චක්‍රය

විෂම චක්‍රය දුර්වල කොට ධර්ම චක්‍රය ප්‍රවර්තනය කිරීම අපේ අභිලාෂයයි. මේ කාර්යයෙහිලා පුද්ගලයන් හැඩ ගැසීමට අවශ්‍ය පරිසරයක් අපි නිර්මාණය කරමු. එ වැනි පුද්ගලයන් හා කණ්ඩායම් තුළින් ධර්ම චක්‍රය ප්‍රවර්තනය වීමට අවශ්‍ය බල ශක්තිය, ක්‍රම විද්‍යාවන් හා ව්‍යුහයන් ද නිර්මාණය කරමු. බල පිරමිඩය විනාශ වීමට ඒ තුළම තිබෙන ප්‍රතිවිරෝධතා ප්‍රමාණවත් ය. ඒ නිසා බුද්ධිමත් දුරදර්ශී ජනතාව විසින් කළ යුත්තේ කඩා වැටෙන පිරමිඩය මුක්කු ගසන්නට යෑම හෝ විනාශය ඉක්මන් කිරීමට තවත් ශක්තිය නාස්ති කිරීම හෝ නො වේ. අපේ මුළු වැර යෙදිය යුත්තේ නව නිර්මාණයක් ගොඩනැංවීමට ය. ධර්ම චක්‍රය නැවත ප්‍රවර්තනය කිරී ය. ඒ සඳහා සර්වෝදය අත්දැකීම්වලින් මා තුළ හටගත් අදහස් සමූහයකි. මේ පොතෙන් ඉදිරිපත් කළේ, වාග් සරඹවල යෙදෙන අයට කෙසේ වෙතත් යම් වැඩක් කරන්නට කැප වන අයට ඒ අදහස් ප්‍රයෝජනවත් වේ යැයි හඟිමි.

## පසුවදන

දශක හයකට ආසන්න කාලයක් පුරාවට විහිදෙන සර්වෝදය ශ්‍රමදාන ව්‍යාපාරයේ ඓතිහාසික විකාශනය ජාතික ජනතා ව්‍යාපාරයක ඉතිහාසයකට වඩා ශ්‍රී ලාංකීය ජාතික ඉතිහාසය පිළිබඳ සාක්ෂි දරන කාලපරාසයක් ලෙස ප්‍රකාශ කිරීම අතිශෝක්තියක් නොවේ. 1958 කනතොළුව දුගී දුප්පත් ගම්මානයෙන් සර්වෝදය ඇරඹූ ජනතා මෙහෙවර මෙම දශක හය තුළ සුවිශේෂී වු කාර්යභාරයන් 06 ක් ඉටුකර ඇත.

### 01. ග්‍රාම සංවර්ධනය තුළින් ජනතාව අවදි කිරීම. (1958 සිට 1972 දක්වා)

අන්ත දිළිඳු භාවයෙන් පෙළුනු සිංහල, ද්‍රවිඩ ගම්මාන සියයක් මුල්කර ගත් ගම් සියයේ යෝජනා ක්‍රමය කේන්ද්‍ර කොට ගෙන මෙම ඓතිහාසික සමාජ පරිවර්තනය ආරම්භ විය. මෙම කාල වකවානුව පශ්චාත් නිදහස් ලංකාවේ දුප්පත් සහ පොහොසත් අය අතර පරතරය අතිශයින් වැඩිවූ යුගයක් විය. එවකට සමාජය වෙළාගත් සමාජ ආර්ථික විෂමතාවන් සහ අසමතාවන් වලට පිළියමක් වශයෙන් සිය දහස් ගණන් ස්වේච්ඡා සේවකයින්, පාසල් ශිෂ්‍ය ශිෂ්‍යාවන් මෙම ගම්මාන වල අසරණ ගැමියන් හා සාමූහිකව ජීවත් වෙමින් ශ්‍රමදාන නම් වු ඉතාමත්ම බලවත් ක්‍රමෝපාය මෙවලම යොදා ගනිමින් ඔවුන්ගේ සමාජ සහ ආර්ථික ජන ජීවිතවල ඉමහත් පරිවර්තනයක් කිරීමට ඉවහල් විය.

මෙම කර්තව්‍යය සඳහා කෘෂිකර්ම, අධ්‍යාපන, ග්‍රාම සංවර්ධන වැනි අමාත්‍යාංශ සහ දෙපාර්තමේන්තු සර්වෝදය සමඟ අත්වැල් බැඳගත් අතර, ග්‍රාමීය සහ නාගරික ජනතා සහභාගිත්වක ග්‍රාම සංවර්ධන ක්‍රියාදාමයක් මල්ඵල ගැන්වුණි. දරිද්‍රතාවයේ සෘජු ප්‍රතිඵලයක් වූ පරාධීන සහ යැපුම් මානසිකත්වයෙන් අසරණ ගැමි ජනතාව මුදාගෙන ප්‍රජාව තුළ ඇති කර ගත හැකි සාමූහික ක්‍රියාකාරිත්වය තුළින් ජනතාව තුළ ස්වශක්තියේ ජීවය ඇති කිරීමට මෙම ක්‍රියාදාමය සමත් විය. මෙම සාමූහික හැඟීම සහ ක්‍රියාකාරිත්වය ගැමියන්ගේ හදවත් සහ චිත්ත සන්තානයන්හි අවදි කිරීමට සිඟිති හවුල්, යොවුන් හවුල්, මව්හවුල්, ගොවි හවුල්, සමුදන් හවුල් මහෝපකාරී විය.

### 02. ප්‍රජානායකත්වය තුළින් ගම ශක්තිමත් කිරීම. (1972 සිට 1982 දක්වා)

ගම් සියයේ සේවා කඳවුරු වලින් ගම් මට්ටමේ, දිස්ත්‍රික්ක මට්ටමේ සහ ජාතික මට්ටමේ ඇති වූ ප්‍රබෝධය වඩාත් ක්‍රමවත්වූත්, ශක්තිමත් වූත් ප්‍රජා නායකත්ව පුහුණුවකට මග පෑදීය. කිසිඳු ආකාරයේ රජයේ හෝ රාජ්‍ය නොවන ආයතනයක කුසලතා වර්ධනය හෝ නායකත්ව පුහුණුවක් ලැබීමට වාසනාවන්ත නොවූ සිය දහස් ගණන් ගැමි තරුණ තරුණියන් සර්වෝදය සංවර්ධන පුහුණු මධ්‍යස්ථාන

හරහා ප්‍රජා නායක්ව, පෙරපාසැල් , ප්‍රජා සෞඛ්‍යය සේවා, කෘෂිකර්මය,මූර්ති කලාව, මැහුම්, අත්කම් සහ කැටයම් කලාව, බතික් කලාව, දැව හා ලෝහ කර්මාන්තය පුහුණුව ආදි වු නානාවිධ ක්ෂේත්‍රවල පුහුණු පාඨමාලාවලට සහභාගි වූහ. ගමේ සංවර්ධනයට යෝධ ශක්තියක් ගෙන දෙන කුසලතා වලින් පිරිපුන් තරුණ ශ්‍රම බලකායක් මෙම ප්‍රජා නායකත්ව පුහුණු තුළින් ගමට දායාද කෙරුණි.

1977 දී හඳුන්වා දුන් විවෘත වෙළඳ ආර්ථික ප්‍රතිපත්තීන්ගෙන් ගැමියන්ගේ ජන ජීවිත වලට ඇති විය හැකිව තිබූ අනිසි ඵලවිපාක අවම කර ගැනීමට මෙම පුහුණු තරුණ බලකාය හේතුවන්නට ඇතැයි අපි සිතමු.

**03. ග්‍රාම සංවර්ධන ව්‍යාපාරය ජාතික ව්‍යාපාරයක් බවට පරිවර්තනය වීම. (1983 සිට 2005 දක්වා)**

දශක දෙකක් පළමුව ගම්මාන සියයක් ද, දෙවනුව ගම්මාන දහසක් ද පාදක කරගෙන ග්‍රාම සංවර්ධන ව්‍යාපාරයක් ලෙස ගම් මට්ටමේ සහ ජාතික මට්ටමේ රටේ දස දිසාවේම ප්‍රචලිතව තිබූ සර්වෝදය ව්‍යාපාරය 1983 අවාසනාවන්ත ජාතිවාදී කෝලාහල වලින් සිදු වූ හානියට පිළියමක් වශයෙන් ආගමික හා වාර්ගික ජන කොට්ඨාශ අතර, සාමය සහ සුහදතාව සහ සහයෝගිතාව වර්ධනය කිරීම සඳහා ජාතික කර්තව්‍යයකට උරදිමට සිදු විය. උතුරු නැගෙනහිර අතිශය භයානක යුද්ධයේ ගිණිහඩ මධ්‍යයයේ සහන සහ පුනරුත්ථාපන සේවා යුද්ධයෙන් විපතට පත් ප්‍රජාවන් සිය දහස් ගණනකට සපයන අතර, අවිහිංසාවාද. ක්‍රමෝපායන් යොදා ගනිමින් සාම පා ගමන් සහ සාම සම්මේලන රටපුරා පවත්වමින් ආගමික හා වාර්ගික සංහිදියාව යළි ජන හදවත් තුළ අවදි කිරීමට දැරූ පරිශ්‍රමය අතිශය අභියෝගාත්මක එකක් විය. මෙම සාම ක්‍රියාදාමයට ආකර්ශනය වූ දැවැන්ත ජනතා ශක්තිය එවකට බලයේ සිටි පාලකයන් තුළ දැඩි බියක් සහ සැකයක් ජනිත කරවීය. විරසක වූ රජයක සමස්ථ පාලන යන්ත්‍රයම යොදවා සර්වෝදය සහ එහි නායකත්වය ජනතාවගේ හදවත් තුළින් තුරන් කිරීමට දැරූ උත්සාහයන්ට උපේක්ෂා සහගත ප්‍රතිචාර දක්වන අතර සර්වෝදය ව්‍යාපාරය ජනතාව වෙනුවෙන් කැපවෙමින් සිදු කළ සේවාව අඛණ්ඩව පවත්වාගෙන යාමට සමත් විය.

සාම ක්‍රියාදාමයට සමගාමීව අසූව සහ අනූව දශකයසමාජ ශක්තිකරණය, ආර්ථික ශක්තිකරණය, ආධ්‍යාත්මික හා සදාචාරාත්මක ශක්තිකරණය සහ දේශපාලන ශක්තිකරණය යන සත්විධ ශක්තිකරණ වැඩසටහන් මව් සංගමය සහ එවකට බිහිව තිබුණ සර්වෝදය ස්වාධීනඅනුබද්ධ සංවිධාන සහ ගම් මට්ටමේ ශ්‍රමදාන සමිති හරහා ඉතාමත්ම ක්‍රමවත්ව සහ සංවිධානාත්මකව දීප ව්‍යාප්ත ලෙස ගම්මාන පහළොස් දහසක් ආවරණය වන පරදි දියත් කරනු ලැබීය.

ජාතික ජනතා ව්‍යාපාරයක් වශයෙන් තමා වෙත පැවරි තිබූ වගකිම කාර්යක්ෂමව සහ ඵලදායි ලෙස ඉටුකරනු වස් දිස්ත්‍රික්ක 24 සහ ප්‍රාදේශීය මට්ටමෙන් එවකට ගොඩනැගී තිබුණ සංවිධාන ව්‍යුහය මිනිසා විසින් සහ ස්වභාව ධර්මය විසින් නිර්මාණය කළවිවිධ ජාතික ආපදා සහ ව්‍යසනයන්හිදී වහා ක්‍රියාත්මක වීමට දැවැන්ත ශක්තියක් ලබාදුනි.

නව සහස්‍රයේ මැද භාගය වන විට මෙතෙක් ජනතා ව්‍යාපාර මගින් ඉතාමත්ම සාර්ථක ලෙස ගම් මට්ටමෙන් ප්‍රජා සහභාගිත්වයෙන් ක්‍රියාත්මක කරගෙන ගිය විවිධ ප්‍රජා සංවර්ධන සේවාවන් ක්‍රම ක්‍රමයෙන් රජය විසින් ඉටුකළ යුතු යැයි පාලකයින් විශ්වාස කළ නිසා රජයේ අනුග්‍රහයෙන් පෙර පාසැල්, දුෂ්කර ගම්මාන වල මංමාවත් තැනීම,ග්‍රාමීය ජල යෝජනා ක්‍රම ආදිය හඳුන්වා දීම ඇරඹුනි.මෙහි අනිටු ඵලවිපාකය වූයේ එතෙක් ජනතා සහභාගිත්වයෙන් සිදුවූ ප්‍රජා සංවර්ධනය ඇනහිටීමත්, සාමුහික හැඟීම සිත් සතන් තුළින් ක්‍රම ක්‍රමයෙන් අතුරුදන් වීමත්ය.

## 04. පශ්චාත් යුද සමයෙන් ඔබ්බට

### 4.1 කොටු වූ සිත් හා හදවත් මුදා හැරීම

යුද්ධයේ අනිටු විපාක පවුලෙන් පවුලටත්, ප්‍රජාවෙන් ප්‍රජාවටත්, ගමෙන් ගමටත්, ප්‍රාදේශීක කොට්ඨාශයෙන් කොට්ඨාශයටත්, දිස්ත්‍රික්කයෙන් දිස්ත්‍රික්කයටත්, පළාතෙන් පළාතටත් වෙනස් විය. එහෙයින් දැනට පුද්ගල මට්ටමෙන් පවුල් මට්ටමෙන් හා ප්‍රජාමට්ටමින් මිනිසුන් මුහුණ පාන ගැටළු හා ප්‍රශ්න සෑහෙන පමණින් විවිධ හා සංකීර්ණ වෙයි.

එල්.ටී.ටී.ඊ සංවිධානය විසින් යටත් කරනු ලැබූ ප්‍රදේශ මුදා ගැනීමෙන් පසු යුද්ධය අවසන් වුවද යුද්ධයෙහි බලපෑම්වලට ගොදුරු වූ ජනතාවගේ සිත් හා හදවත් බලශුන්‍යත්වය, අසරණභාවය, අපේක්ෂා භංගත්වය, කණස්සල යනාදී මානසික වියවුල්වලින් පිරී ඇත. යුද්ධය නිමවූ පසු හදිසි අවස්ථා පරිසරයෙන් මිදී සාමාන්‍ය පරිසරයට හුරුවීම පහසු ගමනක් නොවේ. ඇතැම් අය දශක තුනක කාලයක් පුරා තමා වෙළාගත් මනෝමය බැම්වලින් දිරියෙන් යුතුව මිදෙන්නට සමත් වුවද, තවත් අය අනාගතය දෙස විශ්වාසයෙන් තොරව බලමින් අතීතයෙහි ගැලී සිටිති.

යුද්ධයට මුහුණ දුන් මිනිසුන්ගේ බිඳුණු හදවත් යළි ගොඩ නැගීමේ කාර්යය පාලම් අධිවේගී මාර්ග හා අහස සිඹින ගොඩනැගිලි තැනීමට අවශ්‍ය උත්සාහය හා ක්‍රියාකාරිත්වයට වඩා අතිශය බැරෑරුම් වූ කර්තව්‍යයකි. යුද්ධයේ ප්‍රති විපාකයක් වශයෙන් උතුරු නැගෙනහිර යුද්ධයට මුහුණ දුන්

පවුල් සහ දකුණේ හමුදාවට සම්බන්ධ වූ පවුල් වල සහ මැදපෙරදිග නිල්ල සොයා ගිය ශ්‍රී ලාංකිකයින්ගේ පවුල්වල ඇතිවූ අනේකවිධ සංකීර්ණතා තුළින් විසිරී ගිය ජීවිත සහ පවුල් යළි ගොඩනැගීම පරිගණකයක විසන්ධි වී ගිය විද්‍යුත් පරිපථයක් යළි සන්ධි කිරීමට වඩා සියුම් කාර්යයක් බව මතක් කර දිය යුතුය.

## 4.2 බිඳී වෙන්වී ගිය ප්‍රජාවන් එක්සත්කිරීම

යුද්ධය, විවෘත ආර්ථිකය සහ ගෝලීයකරණය බිඳී වෙන් වූ ග්‍රාමීය ප්‍රජාවන් සමාජයට දායාද කොට ඇත. සාමුහික ප්‍රජා ජීවයක් තුලින් විවිධ තත්ත්වයන්ට අයත් සෑම වයසකම ජනතාව එක්සත් කරමින් ඔවුන් එකාමෙන් වැළඳගත් සංස්කෘතියක් යුද්ධයට, විවෘත ආර්ථිකයට සහ ගෝලීය කරණයට පෙර පැවති බව ඔවුන්ට අමතකව ගොස් ඇත.අපේ රටේ ජනගහනයෙන් සියයට අසූවක් ජීවත්වන 28000 ක් පමණ වන පිටිසර ගම්මාන අපගේ වටිනා සංස්කෘතික උරුමයන්ගේ උල්පත සේ සැලකේ. ගමෙහි ජීවිතය, එකිනෙකාට ගරු කරමින්, තම සම්පත් එකිනෙකා සමග බෙදා හදා ගනිමින්, කාන්තාවන් දරුවන් වැඩිහිටියන් රැක බලා ගනිමින්, සියලු දෙනාටම තම පවුලේ අය ලෙස සලකමින්, ලේ නෑකමක් නොමැති වුවද මුළු ගමම එක පවුලක් ලෙස පිළිගනිමින්, අයියා අක්කා මාමා නැන්දා දුව පුතා වශයෙන් එකිනෙකාට ආමන්ත්‍රණය කරමින් හරවත් වටිනාකම් මත ගොඩ නැගී තිබුණි. ප්‍රජා මූල ජීවන රටාවෙහි සෑම අවස්ථාවකදීම ග්‍රාමීය ප්‍රජාවගේ අන්තර් සම්බන්ධතා සහ එකිනෙකා මත යැපීමේ ස්වභාවය කැපී පෙනුණි.

කෙසේ වුවද යුද්ධ කාලයේදී සිදු වූ බහුවිධ අවතැන් වීම් ප්‍රජාවන් ශාරීරිකව හා මානසිකව දුරස් කර ලීය. කලෙක ඉතා සමීපව බැඳී සිටි ග්‍රාමීය ප්‍රජාවන්ට අනපේක්ෂිත ලෙස සිය ගෙවල් දොරවල් හා ජීවත්වූ ප්‍රදේශයන් අත්හැර දිවි ගලවා ගැනීම සඳහා පලා යාමට සිදු වූ හෙයින් කැබලි වූ නොගැලපෙන කොටස් බවට පත්විය. යුද්ධයෙහි බලපෑම නිසා ගම්මානවල ජනගහන පථය වෙනස් වී පෙර සිටි ග්‍රාමීය ප්‍රජාවන් කැබලි කරමින්, අවතැන් කරමින්, අන්සතු කරමින් අලුතින් ප්‍රතිවාසනය කළ ප්‍රජාවන් බවට පත්විය.

## 4.3 නැතිවූ සංස්කෘතික අනන්‍යය නැවත සොයා ගැනීම.

විවෘත වෙළඳපළ හා බැඳුණු ආර්ථික ප්‍රතිපත්ති හඳුන්වා දීමෙන් පසුව සිදු වු සමාජ පරිහානිය තුල අපේ ජනතාවගේ සිතුම් පැතුම් මානව හිතකාමී මානසිකත්වයෙන් ඈත්ව වඩා ආත්මාර්ථකාමි වූ මුදල් හා බැඳුණු

මානසිකත්වයක් කරා යොමු විය. සරල අසංකීර්ණ චාම් ජීවන රටාවන් වඩා සංකීර්ණ වූ අතර, වටිනාකම් පදනම් කොට ගත් ජීවන රටාවන් මුදල් පදනම් කොට ගොඩ නැගුණු ජීවන රටා බවට පත්විය. ජීවිතයේ පරමාර්ථය ආත්ම කේන්ද්‍රීය වීමෙන් පුද්ගලයන් අත්හැර දැමීමත් පවුල් සම්බන්ධතා බිඳ වැටීම සමග ප්‍රජා මූල ජීවන ක්‍රමය හා සාමූහික ජීව ගුණය නැති වී යාමට මං පෑදිණි. දුප්පත් පොහොසත් පරතරය පුලුල් වූ අතර වාර්ගික හා ආගමික ප්‍රජාවන් අතර අවිශ්වාසය වැඩුණි.

ශ්‍රී ලංකාවේ දකුණු දෙසෙහි ජීවත්වන මිනිසුන්ගේ ජීවිත ගිල දැමූ ගෝලීයකරණයෙහි හා ඩිජිටල් තාක්ෂණයෙහි දුර්විපාකයන්ගෙන් දශක තුනක් යුද්ධයෙන් හානියට පත් උතුර හා නැගෙනහිර ආරක්ෂා වී තිබිණි. අපේ දකුණේ වැසියෝ බියෙන් හා සැකෙන් තොරව අපේ පැරණි සංස්කෘතික උරුමයන්ට නුහුරු වූ ජීවන රටාවක් වැළඳ ගැනීමත් සමග සෑම දෙනා අගනා වටිනාකම් පද්ධතියකින්  ඉවතට ඇද දමමින් සංස්කෘතික හා ආධ්‍යාත්මික වශයෙන් බංකොළොත් බව කරා මං පාදා ගත්හ. 2008 දී නැගෙනහිරද 2009 දී උතුරේද යුද්ධය අවසන් වීමෙන් පසු දකුණෙහි මිලියන සංඛ්‍යාත ජනතාව පාලනය කළ පෙරදිගට හෝ අපරදිගට නෑකම් නොකියන අවුල් වූ සංස්කෘතික අනන්‍යතාවක්  මෙතෙක් හුදකලාව සිටි උතුරේ හා නැගෙනහිර ප්‍රජාවන් තුළට කඩා වැද ඔවුන්ගේ සංස්කෘතික අනන්‍යතාවය දෙදරවාලීය. තල් කොළ වැටෙන් එහා නිවෙස්වල විසුවන්ගේ ජීවිත පෝෂණය කළ අගනා සංස්කෘතික වටනාකම් හා ආචාර විධි නැවත ගොඩ නැංවිය නොහැකි සේ අතුරුදහන්ව ගොස් ඇත. ප්‍රජාවන්ගේ මෙම සංස්කෘතික  කඩා වැටීම වියපත් හා තරුණ පරම්පරාවන් අතර මතවාදී හා පරම්පරාමය පරතරය පුළුල් කොට පවුල් සම්බන්ධතා කෙරෙහි හානිකර ලෙස බල පා ඇත.

### 4.4 සාමූහික ජනවිඥානය

ආචාර්ය ඒ. ටී. ආරියරත්න මහතා ඉතා නිවැරදිව දැක්වූ පරිදි  මනුෂ්‍ය වර්ගයා සභ්‍යත්ව අර්බුදයකට මැදි වී සිටී. අපි සියලු දෙනාම ඊට මැදිවී ඇත. පොහොසත් අයගේ සිට ඉතාමත් බුද්ධිමත් අයගේ සිට දුප්පත් කමින් මිරිකී සිටින ගම්මුන් දක්වා කිසිවෙකු ඉන් බේරී ගොස් නැත. මෙම සභ්‍යත්ව අර්බුදය රටේ අස්සක් මුල්ලක් නැර මාළිගා බඳු නිවාසවල සිට අතු සෙවිලි කළ නිවාස, රජයේ ආයතනවල සිට නවීන  සංස්ථාපිත කාර්යාල සහ ස්වේච්ඡා ආයතන දක්වා පැතිරී ගොස් ඇත. එය එක් පුද්ගලයෙකුගේ, එක පවුලක, එක ප්‍රජාවක, එක ආගමක, එක වර්ගයක, එක ගමක, එක නගරයක හෝ එක රටක පැවැත්ම පිළිබඳ කථාවත්

නොවේ. එය සකල මානව තුරුලතා හා සත්ත්ව ලෝකයන්ගේ පැවැත්ම පිළිබඳ කථාවකි. ඩොලර් කෝටි ගණනක ආයුධාගාරයකින් හෝ නවීන ආයුධවලින් හෝ නිර්භීත සන්නද්ධ හමුදාවන්ට හෝ අප වෙනුවෙන් සටන් කොට අද අප හමුවේ ඇති මෙම අර්බුදයෙන් අප ගලවා ගත නොහැක. පෘථිවිය නමැති කොටසෙහි ජීවත්වන කිසිවෙක් අත නොහැර සෑම සෞරග්‍රහ මණ්ඩලයේ මානවයෙකුටම කුල ඇදහීම් ආගම් හෝ ස්ත්‍රී පුරුෂ භාවය යන මිනිසා විසින් පනවන ලද භේදයන් ඉක්මවා සාමූහික විඥානයක් ගොඩ නැගීම සඳහා සිය යුතුකම් ඉටු කරමින් දායක වීමේ වගකීම පැවරෙයි. අපේ සිත් හා හදවත් සියලු සත්ව හා තුරුලතා ලෝකයන් කෙරෙහි පතුරුවන කරුණාව හා දයාවේ ආයුධ ගබඩාවක් බවට පත්කොට සන්නද්ධ කළ යුතු වෙයි.

අවිහිංසාව යනු - දයා කරුණාවේ සාගරයකි ඉන් අදහස් වනුයේ අන්‍යයන් කෙරෙහි පවතින සියලු විරෝධාකාර හැඟීම් ඉවත ලෑමයි. ඉන් නීච බව හෝ බියගුලු බව හෝ බියෙන් පැන යාම අදහස් නොවේ. ඊට ඉඳුරාම වෙනස්ව ඉන් අදහස් වන්නේ සිතෙහි ශක්තිය හා ධෛර්යයත් තිරසර ජීව ගුණයත්ය. මෙම ගමනේ සෑම පියවරක් පාසාම සත්‍යය අවිහිංසාව හා ආත්ම ප්‍රතිෂේදයේ ගුණාංගයන් පුහුණු කිරීම හා ගොඩනගා ගැනීම පිළිබඳ කල්පනාකාරි විය යුතුය. මම හා මගේ පවුල, මගේ ආගම, මගේ වර්ගය, මගේ ගම හා මගේ රට යන ආත්ම කේන්ද්‍රීය සිතිවිලි රටාවෙන් අපේ විඥානය ඔසවා සියලු දේ වැළඳ ගන්නා විශ්ව විඥානයක් වෙත යොමු කළ යුතුය.

## 4.5 ආර්ථික සෞභාග්‍යය හා සාධාරණ/ශිෂ්ට/යෝග්‍ය දිවි පැවැත්ම

අපේ රට ආර්ථික සංවර්ධනයෙහි හා යටිතල පහසුකම් දියුණු කිරීමෙහි අධි වේගී මාර්ගයකට පිවිස ඇත.රටේ ආර්ථික දියුණුව, පෞද්ගලික මානව සංවර්ධනය හා සමාජීය ශිෂ්ට හැසිරීම් සමග අත්වැල් බැද ගනිමින් සම්පූර්ණ විම වැදගත් වේ. වෙනත් වචන වලින් කිවහොත් අප ආර්ථික හා භෞතික අවශ්‍යතාවන්ගෙන් ඔබ්බට යා යුතුය. අපේ ජනතාවගේ බුද්ධිමය, භාවමය, ආධ්‍යාත්මික, සංස්කෘතික හා සමාජීය අවශ්‍යතාවන්ට සරිලන පරිදි අපේ සමාජය හැඩ ගස්වා ගත යුතුය.

මහල් නිවාස සහ අලුත් දුම්රිය මාර්ග තැනීම වැනි දෘඪාංග වැඩි දියුණු කිරීම සංවර්ධනයේ එක් අංශයකි. නමුත් අන්‍යෝන්‍ය ගෞරවය, දයාව හා කරුණාව දක්ෂතාවයට ගරු කිරීම හා සුපිළිපන් භාවය ආදී ගුණයන් වැනි මෘදුකාංග වැඩි දියුණු කිරීම ඒ හා සමානවම ඉතා වැදගත් වෙයි. සංවර්ධනයේ ප්‍රධාන අරමුණ පොහොසත් හා නූතන

සමාජයක් බවට පත්වීම පමණක් නොව දයාන්විත සමාජයක් ගොඩ නගා ගැනීමයි.

සුළු පිරිසකගේ තණ්හාව පෝෂණය කිරීමට නොව පොදු ජනතාවගේ අවශ්‍යතාවන්ට ගැළපෙන ආර්ථික ප්‍රතිපත්ති අප විසින් සකස් කිරීම අද අවශ්‍යව ඇත. යුද්ධයෙන් හානියට පත් ප්‍රජාවන් දශක තුනක කාලයක් අනුන් ගෙන් ලැබෙන දෙයින් හා පුණ්‍යාධාර මත යැපුණහ. හොඳින් දිවි ගෙවීමට සාධාරණ මුදලක් උපයා ගැනීමට අවශ්‍ය ආර්ථික කටයුත්තක යෙදීමට තරම් නිපුණත්වයක් ලබා ගැනීමට ඔවුන් ජීවත්වූ යුධමය පරිසරය ඔවුන්ට ඉඩ ලබා නොදුන්නේය. අතිශය දුගී පවුල් ජීවත් කරවූ ප්‍රධාන මුදල් උපයන්නන්ගෙන් වැඩි කොටසක් යුද්ධය නිසා පාසල් අධ්‍යාපනයක් නොලැබුවෝය. රටක ආර්ථික සෞභාග්‍යය එහි වැසියන්ට සිය පූර්ණ විභවය තුලින් සාධාරණ දිවි පෙවෙතක් ගෙන යනු සඳහා අවස්ථා සැපයිය යුතුය. රටක බෙලහීන හා අඩු ආදායම් ලබන සමාජ කොට්ඨාශයන්ගේ අවම මූලික අවශ්‍යතා සැපයීමට නොහැකි නම් එම ආර්ථික සංවර්ධනය අර්ථ ශුන්‍ය වෙයි. රටක ආර්ථික ප්‍රගතිය ආර්ථික සංවර්ධනයෙහි හා යටිතල පහසුකම් සංවර්ධනය වැනි දෘඩාංග මෙන්ම පුද්ගල වර්ධනය හා සමාජ වටිනාකම් වැඩි දියුණු කිරීම වැනි හදවත් අංගයන් අතිනත ගෙන ඉදිරියට යායුතු බව සිංගප්පූරු අගමැතිවරුන්ගේ ආවර්ජනයන් මැනවින් විදහා දක්වයි.

එහි භූමිය තුරුලතා සහ සත්ත්වයන්ට ගරු කළ යුතුය. දයාන්විත රටක් ලෙස සාඩම්බරයෙන් ලොවට කියන්නට හැකි වන්නේ එබඳු රටකට පමණි. නීතිය හා විනය සුරැකීමටත්, රටවැසියන්ගේ ජීවිත හා නිදහස් අයිතීන් ආරක්ෂා කිරීමටත් බැඳී සිටින්නවුන්ම අපරාධ කරුවන් බවට පත් වනු දැක දැක සිය ගණනක් ජනතාව අකර්මණ්‍ය ප්‍රේක්ෂකයන් ලෙස සිටින විට අපේ සමාජය දයාන්විත සමාජයක් යයි කෙසේ කිව හැකිද?

## 4.6 දේශපාලනය හා ප්‍රජාතන්ත්‍රවාදය

අපේ රටෙහි පළුදු වූ සමාජ වියමන යළි ගෙත්තම් කිරීමේ කාර්යයේදී දේශපාලනයට හා ප්‍රජාතන්ත්‍රවාදයට කළ හැකි ඉමහත් කාර්යභාරයක් ඇත. දේශපාලනය හා ප්‍රජාතන්ත්‍රවාදය යනු පාලකයන් පත් කර ගැනීම හා පරාජය කිරීම පිළිබඳ ප්‍රශ්නයක් නොව ප්‍රජාතන්ත්‍රවාදී ආයතනයන් පිළිබඳ වගකීම හා බලය දරන්නන් සිය බලය හා අධිකාරය රටෙහි මහ

ජනතාවගේ අයිතීන් හා නිදහස ආරක්ෂා වන ලෙස හා ඔවුන්ට සාධාරණ ජීවන තත්ත්වයක් සහතික කෙරෙන පරිදි වගකීමෙන් හා විනිවිද පෙනෙන ආකාරයෙන් ක්‍රියාත්මක කිරීම සහතික කිරීම පිළිබඳ ප්‍රශ්නයකි. අපේ රටෙහි පළුදු වූ සමාජ වියමන යළි ගෙත්තම් කිරීමේ කාර්යයේදී දේශපාලනය හා ප්‍රජාතන්ත්‍රවාදය නිසි තැනෙහි තැබීමට නම් අපේ පුරවැසියන් පළමුවෙන්ම ශක්තිමත් කළ යුතුය. මේ සඳහා දේශපාලන සංවාදයෙහි අර්ථවත්ව සහභාගි විය හැකි ලෙස දැනට අකර්මණ්‍ය බවට පත් වී ඇති පුරවැසියන් ක්‍රියාකාරී පුරවැසියන් බවට පත් කෙරෙන පරිදි අපේ ජනතාවගේ දේශපාලන සාක්ෂරතාව ඉහළ මට්ටමකට ගෙන ඒම අවශ්‍ය වෙයි.

දේශපාලන බලය අවසානයක් නොව මිනිසුන්ට ජීවිතයේ සෑම අංශයක්ම දියුණු කර ගැනීමට ඉවහල් වන මාර්ගයකි. ප්‍රජාතන්ත්‍රවාදය යනු ශක්තිමත් තැනැත්තාට මෙන්ම දුබලම තැනැත්තාටත් සම අවස්ථා ලබා දීමයි. පුද්ගලයාගේ නිදහස් අයිතීන් පූර්ණ ලෙස භුක්ති විඳිය හැක්කේ අපවිත්‍ර නොවූ අහිංසා රාජ්‍යයක් යටතේ පමණක් යයි මහත්මා ගාන්ධිතුමා විශ්වාස කළේය. ගාන්ධිතුමාගේ විශ්වාසයන්ට අනුව සත්‍ය ප්‍රජාතන්ත්‍රවාදය හෙවත් මහ ජනතාවගේ ස්වරාජ්‍යය ප්‍රචණ්ඩත්වය හා අසත්‍යවාදී මාර්ග මගින් කිසි සේත් ඇති කළ නොහැක. නියම ස්වරාජ්‍යය බිහි වන්නේ ටික දෙනෙකු අතට බලය පැවරීමෙන් නොව බලය අයථා ලෙස පරිහරණය කෙරෙන විට දී එයට එරෙහිව නැගී සිටීමට සියලු දෙනා සවිමත් වීමෙනි. බලය පාලනය කිරීමටත් විධිමත් කිරීමටත් මහජනතාව සතු ශක්තිය අවබෝධ කර ගැනීමට මහ ජනතාවට අධ්‍යාපනය ලබාදීමෙන් ස්වරාජ්‍යය සාර්ථක ලෙස ක්‍රියාත්මක කළ හැකි වේ.

සත්‍ය ප්‍රජාතන්ත්‍රවාදය ලඟා කරගත හැක්කේ සෑම ගමකම වැසියන්ගේ සිට ඉහළට ගමන් කිරීමෙන් මිස මුදුනේ සිටින 20% කින් නොවන බව ගාන්ධි තුමා ගෙන හැර දැක්වීය.

## 4.7 අධ්‍යාපනයේ අරමුණ

පලුදු වූ සමාජ වියමන යළි ගෙත්තම් කිරීමේ කාර්යයේදී අප විසින් දැනුම පමණක් නොව එක්තරා ප්‍රමාණයක ප්‍රඥාව උරුම කොට ගත් පරම්පරාවක් හදා වඩා ගත යුතු වෙයි.

අධ්‍යාපනය යනු කෙටිම කාලයක් තුළදී වැඩිම සුදුසුකම් ප්‍රමාණයක් ලබා ගැනීම නොවේ. අධ්‍යාපනය යනු තමා වෙතත්, තමා අවට තුරුලතා සහ සත්ත්ව ලෝක ඇතුලු සියලු ජීවීන් වෙතත් වගකීමෙන් යුතුව හැසිරෙන හා සිතන යහපත් හා ගරු කටයුතු  මිනිසකු බිහි කිරීමයි. සෑම දෙනාගේම යහපත හා ශුභ සිද්ධිය සිතෙහි හා හදවතෙහි දරමින් අපේ රටෙහි අනාගතය වෙනස් කිරීමට නායකත්වය ගන්නා සමාජ නිර්මාණ ශිල්පීන් බිහි කරන අධ්‍යාපන ක්‍රමයක් අපට අවශ්‍යය. ලියන්නට හා කියවන්නට හැකි පුද්ගලයන් බිහි කිරීමෙන් ඔබ්බට ගිය අධ්‍යාපනයක් අපට අවශ්‍යය. බුද්ධියෙහි නිසි අධ්‍යාපනයක් ලබා ගත හැක්කේ අත් පා, ඇස්, කන්, නාසය ආදී ශාරීරික අවයව නිසි ලෙස අභ්‍යාස කිරීම හා පුහුණු කිරීමෙන් පමණි. දරුවෙකුගේ ශාරීරික අවයව බුද්ධිමත්ව පාවිච්චි කිරීමට හුරු කිරීම ඔහුගේ බුද්ධිය දියුණු කිරීමේ හොඳම හා ඉක්මන්ම මාර්ගය වෙයි. කය හා සිත සංවර්ධනය අතිනත් ගෙන යා යුතු වන අතර ඒ හා දරුවාගේ ආධ්‍යාත්මය සමාන්තරව අවදි කළ යුතුය. දරුවෙකුගේ ශාරීරික හා ආධ්‍යාත්මික ඉන්ද්‍රියයන්ගේ සංවර්ධනය බෙදිය නොහැකි පූර්ණයකි.

අපේ රටෙහි පළුඳු වූ සමාජ වියමන යළි ගෙත්තම් කිරීමේ ක්‍රියාවලිය දින කීපයකදී, සති කීපයකදී, මාස කීපයකදී හෝ වසර කීපයකින් සම්පූර්ණ කළ හැකි දෙයක් නොවේ. මෙරටෙහි සෑම පුද්ගලයෙක්ම මෙම කර්තව්‍යයෙහි ලා දක්වන කැපවීම උද්යෝගය හා කැමැත්ත එහි ඉදිරි ගමන හෝ පසුබෑම තීරණය කරනු ඇත. මෙම රට ගොඩනැගීමේ ක්‍රියාදාමය  ධනවතුන් හා බලවතුන් ගේ අත පමණක් නොරැඳිය යුතුය. මෙම රට ගොඩනැගීමේ ක්‍රියාවලියේදී අප ඉදිරියේ ඇති අභියෝගය වන්නේ රටේ බලය සහ ධනය අහිමි වූ වරප්‍රසාද නොලත් ශ්‍රී ලංකාවේ ගම්මාන 28000 තුළ ජීවත් වන බහුතර ජනතාවගේ සහභාගිත්වය සහතික කරමින් ඔවුන් බලගන්වමින් ඔවුන් එහි කොටස් කරුවන් බවට පත් කිරීමයි. මෙම කර්තව්‍යයකිසිඳු ජාති, කුල, ආගම් භේදයකින් තොරව 58 වසරක අඛණ්ඩ ජනතා මෙහෙවරක නියැලුනු සර්වෝදය” නම් වූ ජාතික ජනතා ව්‍යාපාරය සතු භාරදූර වගකීමකි.

**ආචාර්ය සාමියා චාරිකා මාරසිංහ**

**ඒ. ටී. ආරියරත්න**
''විශ්ව සමාධි''
සර්වෝදය මූලස්ථානය, මොරටුව.

**පෝරමය**

1. බල පිරමිඩය ද ධර්ම චක්‍රය ද යන පොත කියවීමි. ඒ පිළිබඳ මගේ අදහස් මේ සමඟ දන්වා එවමි.
2. එයින් මතු කරන සමාජ ක්‍රමයක් ගොඩනැංවීම සඳහා මම ද හවුල්වීමට කැමැත්තෙමි. මගේ විස්තර පහත සඳහන් කරමි.
3. 1. සම්පූර්ණ නම :

.....................................................................................................

.....................................................................................................

2. කාර්යාලීය ලිපිනය :

.....................................................................................................

.....................................................................................................

දුරකතන අංකය : ................................................

පෞද්ගලික ලිපිනය :

.....................................................................................................

.....................................................................................................

.........................................................................................

දුරකතන අංකය : ................................................

3. වයස : ................................................

4. ප්‍රවීණතාව දක්වන අංශ :

.....................................................................................................

.....................................................................................................

.....................................................................................................

දිනය : ................................ අත්සන : ................................



මේ රටේ ද හෝ පිටරටක දී හෝ
වේවා, සිංහලෙන් හෝ වේවා,
ඉංගිරිසියෙන් හෝ වේවා ඕනෑම
විෂයයක් - ප්‍රශ්නයක් - ගැන
කතාවක් කරන්නට අවශ්‍ය වුවහොත්
කිසිම සූදානමක් නැතිව ඕනෑම තරම්
වේලාවක් කතා කිරීමට
ඒ. ටී. ආරියරත්නට ශක්තියක් ඇත.
කතාවට වාගේ ම ලිවීමට ද
ආරි ගජ සමතෙකි.
ඒ. ටී. ආරියරත්න ලංකාවේ
සිටින සිංහල, ඉංගිරිසි යන භාෂා
දෙකෙන් ම එකසේ දක්ෂ ලෙස ලිවිය
හැකි ලේඛකයෙකි. සර්වෝදය
ව්‍යාපාරයට අවශ්‍ය සියලු පත්‍රිකා, ලිපි,
පොත් පත් ආදිය ඔහු භාෂා දෙකෙන්ම
ලියා ටදයි.
සර්වෝදය ව්‍යාපාරයට
සම්බන්ධ ගීත වලින් වැඩි හරියක්
ආරිගේ ම ප්‍රබන්ධයන් ය.
වැඩ රාජකාරී දහසක් මැද්දේ වුවද
හැඟීමක් ආවොත් කවි ලිවීමට ද ඔහු
පුරුදුව සිටී.
විදේශීය සම්මේලනවලට
සහභාගිවීම පිණිස ගොස්
හෝටල්වල
නතර වී සිටින අවස්ථාවල දී
අතීතය ගැන මෙනෙහි කිරීම
ආරිගේ සිරිතය.
ඔහු එබඳු අවස්ථාවල දී තමා ගේ
අතීතය ගැන රසවත් සටහන්
ලියයි.

ගුණදාස ලියනගේ

බල පිරමිඩය සහ ධර්ම චක්‍රය ඒ. ටී. ආරියරත්න

මිල රු. 400/=

SARVODAYA
VISHVA LEKHA
Printers

සර්වෝදය විශ්වාලේඛා මුද්‍රණයකි